# මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය

## නවම භාගය

අති පූජනීය උඩඊරියගම ධම්මජීව ස්වාමීන්වහන්සේ

# මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය

නවම භාගය

ධර්ම දේශනා 73-83 දක්වා

(ධම්මානුපස්සනා - දුක්ඛසමුදයං අරියසච්චං)

මීතිරිගල නිස්සරණ වනයේ ප්‍රධාන කර්මස්ථානාචාර්ය

**උඩඊරියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ**

නිස්සරණ වනය අරණ්‍ය සේනාසනය

මීතිරිගල

ධර්මදානය පිණිසයි.

ප්‍රථම මුද්‍රණය - 2022

**මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය - නවම භාගය**
**(ධම්මානුපස්සනා - දුක්ඛසමුදයං අරියසච්චං)**

පූජනීය උඩඊරියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ

අයිතිය:

මීතිරිගල නිස්සරණ වනය සංරක්ෂණ මණ්ඩලය
මීතිරිගල, 11742
දුරකථනය: 033 2253295
nissaranavanaya@gmail.com
www.nissarana.lk

ISBN : 978-624-5512-29-4

මුද්‍රණය

කොලිටි ප්‍රින්ටර්ස්
17/2, පැඟිරිවත්ත පාර,
ගංගොඩවිල, නුගේගොඩ.
දුරකථනය: 011 487 0333

# පෙරවදන

**චතුන්නං ඛො ආවුසො, සතිපට්ඨානානං අභාවිතත්තා අබහුලීකතත්තා තථාගතෙ පරිනිබ්බුතෙ සද්ධම්මො න චිරට්ඨිතිකො හොති. චතුන්නඤ්ච ආවුසො, සතිපට්ඨානානං භාවිතත්තා බහුලීකතත්තා තථාගතෙ පරිනිබ්බුතෙ සද්ධම්මො චිරට්ඨිතිකො හොති.**[1]

ඇවැත්නි, සතර සතිපට්ඨානය නොවැඩූ බැවින් නොබහුල කළ බැවින් තථාගතයන් වහන්සේ පිරිනිවි කල්හි සද්ධර්මය චිරස්ථිතික නොවෙයි. ඇවැත්නි, සතර සතිපට්ඨානය වැඩූ බැවින් බහුල කළ බැවින් තථාගතයන් වහන්සේ පිරිනිවි කල්හි සද්ධර්මය චිරස්ථිතික වේ.

මීතිරිගල නිස්සරණ වනය සේනාසනයේ වැඩසිටින මහා සංඝ රත්නය සහ නේවාසික උපාසක පිරිස සම්බන්ධ කරගෙන සතිපතා ධර්ම දේශනාවක් පැවැත්වීම දශක දෙකකට අධික කාලයක් තිස්සේ නිස්සරණ වනයේ පැවතෙන්නා වූ සම්ප්‍රදයකි. මෙම ධර්ම දේශනා බොහෝ විට එක් සූත්‍රයක් මුල් කරගෙන දේශනා මාලාවක් වශයෙන් පැවැත්වෙයි. මෙම පුස්තකය සඳහා පාදක වී ඇත්තේ එලෙස 2006-2008 කාල වකවානුවේදී දේශනා කරන ලද මහා සතිපට්ඨාන සූත්‍රයයි.

වසර 15 කට පමණ පෙර මා විසින් සිදු කරන ලද මේ ධර්ම දේශනා පෙළ මෙසේ මුද්‍රිත මාධ්‍යයටද පත් වීම සතුටට කරුණකි. ඇතැම් යෝගීන් සිය භාවනා අත්දැකීම් විස්තර කරන විට, මෙම පොත් පෙළ

---

[1] සංයුත්ත නිකාය, මහා වග්ගය, ඨිති සූත්‍රය

කියවා තේරුම්ගත් කරුණුද තමන්ගේ භාවනා ජීවිතයට අදාළ කරගනිමින් කියන කමටහන් වාර්තා වර්තමානයේ අසන්නට ලැබේ. එද මේ දේශනා පටිගත කරන ලද්දේ අවම තාක්ෂණයක් යටතේ බව මතකය. කාලය ගත වීම නිසා එම හඬ පටිවල පැහැදිලි බව තවතවත් අඩු වී ඇති සෙයකි. එසේ වුවත් මේ ධර්ම දේශනාවල පවතින දුර්වල ශ්‍රවණ තත්ත්වය නොසලකා නැවත නැවතත් ශ්‍රවණය කරමින් මෙලෙස ග්‍රන්ථාරූඪ කිරීමට ගත් ප්‍රයත්නයේ ප්‍රතිඵල මෙම පොත් පෙළ අවසාන වීමටත් ප්‍රථම මෙසේ ඇසීමට ලැබීම මෙයින් ලද එක් ඵලයකි. එම ප්‍රතිඵල මේ සඳහා සෑම ආකාරයකින්ම දයක වූ සියලුදෙනාගේම සතුටට හේතු වනු ඇත.

ධර්ම දේශනා 107 කින් සමන්විත මේ දේශනා මාලාවේ ධර්ම දේශනා 83 ක් මේ වන විට මුද්‍රණය වී හමාරය. ඉතිරිව ඇත්තේ තවත් ධර්ම දේශනා 24 ක් පමණි. මේ තාක් සිදු කර ඇති කාර්‍යය හා සසඳන විට සිදු කිරීමට ඇත්තේ සුළු කොටසකි.

සද්ධර්මයාගේ චිරස්ථිතිය උදෙසා සතර සතිපට්ඨානය වැඩීමේ අනිවාර්‍ය අවශ්‍යතාව තේරුම්ගනිමින්, එම අවබෝධය අනෙක් සැදැහැති පිරිස්වලටද බෙදදීම මෙහි අරමුණ විය. එලෙස මෙම දේශනා මුද්‍රණය කොට පළ කිරීම සඳහා බොහෝ වෙහෙසුණ සියලුදෙනාටම ඉතිරි දේශනා කිහිපයද පළ කරන්නට අවශ්‍ය ශක්තිය ධෛර්‍යය නොඅඩුවම ලැබේවා.

මෙම පොත් පෙළ සම්පාදනය කරන, පරිශීලනය කරන සියලුදෙනාටම සතර සතිපට්ඨාන ධර්මයන් වඩාගනිමින් මේ ජීවිතයේදීම නිර්වාණ අවබෝධය සඳහා මේ උත්සාහය හේතු වාසනා වේවා.

**සතං සමාගමො හොතු යාව නිබ්බාන පත්තියා...!**
**නිවන් දක්නා තෙක් සත්පුරුෂයන්ගේ සමාගමයම වේවා...!**

උඩර්රියගම ධම්මජීව හිමි
නිස්සරණ වනය අරණ්‍ය සේනාසනය
මීතිරිගල - 11742
2022-10-24

# සම්පාදක සටහන

මීතිරිගල නිස්සරණ වනය ආරණ්‍ය සේනාසනයට සම්බන්ධ වී කලක සිට ධර්ම ග්‍රන්ථ පිළිබඳව කටයුතු කරන්නට මා හට අවස්ථාව ලබා දුන් අති පූජනීය උඩර්රියගම ධම්මජීව නායක ස්වාමීන් වහන්සේට මාගේ ගෞරව පූර්වක ප්‍රණාමය පළමුවෙන්ම පුද කරමි.

මහා සතිපට්ඨාන සූත්‍රය පාදක කරගෙන උන්වහන්සේ විසින් දේශිත ධර්ම දේශනාවලිය ලේඛනගත කිරීමේ කටයුත්ත දැනට සෑහෙන ප්‍රමාණයකට ඉටු වී ඇත. දේශනා සියල්ලම පාහේ අත්පිටපත් කර තිබේ. මේ එම ග්‍රන්ථාවලියේ නවවැනි කාණ්ඩය (ධම්මානුපස්සනාව- චතුරාර්ය සත්‍යය ධර්ම දේශනා 73-83) වේ.

පෙර පරිදිම මෙම කෘතිය සකස් කිරීම සඳහාත් නිස්සරණ වනය ආරණ්‍යවාසී මහා සංඝරත්නය ඉදිරිපත් වූහ. මෙම ධර්ම දේශනා පටිගත කොට ඇත්තේ වසර පහළොවකට පමණ පෙර බැවින් එම හඬපටවල ශ්‍රවණ තත්ත්වය දුර්වල බවත් සමහර තැන්වල ඇතැම් ධර්ම කොට්ඨාශ මැකී ගොස් ඇති බවත් මෙම කටයුත්ත කරගෙන යාමේදී අප හට වැටහිණ. එහෙයින් ඒවා නිවැරදිව අර්ථවත්ව පිටපත් කිරීම ඉතාම දුෂ්කර කාර්යයක් විය. මේ නිසා, මෙම දේශනාවලියේ කිසියම් තැනෙක අඩුපාඩුවක් හෝ නොගැලපීමක් වේ නම්, එය අති පූජ්‍ය දේශකයාණන් වහන්සේගේ පමාවක් නොව දේශනා පිටපත් කළ අප අතින් සිදු වූවක් බව විශේෂයෙන් සඳහන් කරන අතර, එසේ වී ඇත්නම් අපි උන්වහන්සේගෙන් සමාව අයදිමු.

මේ අන්දමේ ඌනතා අවම කරනු සඳහා පූජ්‍ය දෙල්ගමුවේ ධම්මසුභද්ද ස්වාමීන් වහන්සේ අදාල දේශනා ඇතුළත් හඬ පට නැවත නැවතත් අසමින් ටයිප් පිටපත් නිවරද කිරීමේ යෙදුණහ. එම ඉමහත් කැපවීම මේ ග්‍රන්ථාවලිය මුද්‍රණය කිරීමට බෙහෙවින් උපකාරී විය. එහෙයින් උන්වහන්සේට මාගේ ගෞරව පූර්වක ප්‍රණාමය පුද කරමි.

මෙම පොතෙහි මුද්‍රණ ගාස්තු වෙනුවෙන් දයකත්වය දැක්වූයේ ඕස්ට්‍රේලියාවේ පර්ත් නුවර ශ්‍රී ලංකා භාවනා කණ්ඩායම විසිනි. එම කණ්ඩායම විසින් සකසා එවන ලද විශේෂ පින් අනුමෝදනාව මෙම පොතට ඇතුළත් කර ඇත. මාගේ ගෞරව ප්‍රණාමය එම කණ්ඩායමට ද පුද කරමි.

තවද, මෙය සංස්කරණය කිරීමෙන් සහ සෝදුපත් පිරික්සීමෙන් රාණි රාජපක්ෂ මහත්මියත්, අලංකාර ලෙස පිට කවරය නිර්මාණය කොට එහි මුද්‍රණ කටයුතු සම්බන්ධීකරණය කිරීමෙන් අමිල් කුමාර මහතාත්, පින් අනුමෝදනා විස්තර සටහන් සහ දේශනා සැකසීමෙන් භාමනී කුමාරසේන දයිකාවත් මෙහිදී සහාය වූහ. නිස්සරණ වනය සංරක්ෂණ මණ්ඩලයේ හේමන්ත රණවක මහතා මුද්‍රණ කටයුතු සම්බන්ධීකරණයෙන් සහාය විය. ඒ මහත්ම මහත්මීන්ද, කොලිටි ප්‍රින්ටර්ස් මුද්‍රණාලයේ අධිපති ජයසෝම මහතා සහ කාර්ය මණ්ඩලයද මෛත්‍රී පූර්වකව ගෞරවයෙන් සිහිපත් කරමි.

සම්පාදක
2022, වප් මස 22 වන ද.

# පටුන

# හැම දන පරයයි - සදහම් දන සැමද

ඉන්දික ගුණතිලක

රහුල් ගුණතිලක

අනායා ගුණතිලක

දරුවනට පිං පිණිස

SLMRWA බෞද්ධ සමිතියේ

සැදැහැති දයකත්වයෙන්

මෙම සදහම් තිළිණය

බෙද දෙනු ලබන වගයි.

වෙසඟ බු. ව. 2565

# 73 | දුක්ඛ සමුදය සත්‍යය හැඳින්වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමඤ්ච භික්ඛවෙ දුක්ඛසමුදයො අරියසච්චං?**

**යායං තණ්හා පොනොභවිකා නන්දිරාගසහගතා තත්‍රතත්‍රාභිනන්දිනී, සෙය්‍යථීදං : කාමතණ්හා භවතණ්හා විභවතණ්හා.**

ගෞරවනීය මහා සංඝරත්නයෙන් අවසරයි, අපි මේ නේවාසික යෝගාවචර උපාසක මහත්වරුත් සම්බන්ධ කරගෙන සතියක් පාසා පවත්වාගෙන යනු ලබන සතිපට්ඨාන සූත්‍ර ධර්ම දේශනා මාලාවේ අද අපි ආරම්භ කරන්නේ හැත්තෑතුන්වෙනි දේශනාවයි. අපි දැන් සතර සතිපට්ඨානයන්ම ගැන කථා කරලා තියෙනවා. දැන් අපි විස්තර කරගෙන යන්නේ ධම්මානුපස්සනාවයි. ඒ කියන්නේ හතරවෙනි අනුපස්සනාවයි.

අපි මේ වෙනකොට සච්ච පබ්බය, ඒ කියන්නෙ චතුරාර්ය සත්‍යය පිළිබඳව විග්‍රහයක යෙදෙනවා. ඒ අනුව දුකත් දුකට හේතුවත් ගැන අපි කථා කළා. රටේ තොටේ පවතින්නා වූ මේ අලුත් දුක්ඛිත තොරතුරු මධ්‍යයේත් මේ ඉදිරිපත් වෙච්ච මාතෘකාවේ ආවස්ථික වටිනාකමකුත් තියෙනවා වගේ පේන්න තියෙනවා. අපි මේ වටිනා මහා සතිපට්ඨාන සූත්‍රය අනුවයි මේ ධර්ම දේශනාවලිය පවත්වාගෙන එන්නේ, එයින් අද අපි ඉන්නේ 73 වෙනි සතියෙ, ඒ කියන්නේ 73 වෙනි වාරයේ. ඒ නිසා

අපට හිතාගන්න පුළුවන් මේ වගේ හොඳ ඒකායන පිරිසිදු ප්‍රාර්ථනාවක් සහිත පුංචි පිරිසක් නෙවෙයි, සෑහෙන පිරිසක්, මේ වගේ එකම ධර්ම මාතෘකාවක් මත හැටහැත්තෑ වාරයක් එකතු වුණයි කියල කියන්නෙ ලොකු කුසලච්ඡන්දයකින් ලොකු යෙදවුමකින්, සෑහෙන පසුබිමක් ඉතිහාසයක් සහිතව ඉදිරියට යන පිරිසක්. ඒ නිසා අද මේ විස්තර වෙන කොටසට හොඳ පසුබිමක් අතීතයේ ඒ සති ගාන තුළ අපි ගොඩනගාගෙන ඇවිල්ලා තියනවා. මේ සෑම දෙයක්ම බුද්ධ දේශනාව අනුව බලනකොට, මේ ඉදිරියට තබන පියවරක් පාසා ඒ යට ගිය අතීතයේ අපිට විවිධාකාර ක්‍රමවලින් උපනිශ්‍රය වෙනවා. සතර සතිපට්ඨානයේ කවුරුත් දන්නා පරිදි කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා කියන කොටස් අපි මේ වෙනකොට පසු කරගෙන, අද මේ ගත කරන්නේ ධම්මානුපස්සනාව කියන අවසාන කොටසේ.

එයිනුත් පර්ව කීපයක් ගත කරලා සච්ච පර්වය කියන චතුරාර්‍ය සත්‍යය ඉදිරිපත් කරගෙනයි දැන් මේ කාලය ගත වෙන්නේ. එයිනුත් දුක්ඛ සත්‍යය පිළිබඳව අපි සති කීපයක් සාකච්ඡා කළා. අද තියෙන්නෙ ඒ දුකට හේතු වෙන සමුදය සත්‍යය, නැත්නම් දුකේ හේතු හොයාගන්නා සත්‍යය. සර්වඥයන් වහන්සේ විසින්ම ප්‍රශ්නයක් විමසලා, ඒ ප්‍රශ්නයට උත්තර දෙන ස්වරූපයෙන් තමයි සමුදය සත්‍යයට මුල පුරන්නේ.

**කතමඤ්ච භික්ඛවෙ දුක්ඛසමුදයො අරියසච්චං?** මහණෙනි, මේ මොහොතකට කලින් විස්තර කරන්න යෙදුණ දුක්ඛ ආර්ය සත්‍යයට සමුදය වන්නා වූ දුක්ඛ සමුදය සත්‍යය නම් කුමක්ද? **කත්තුකම්‍යතා** ප්‍රශ්නයක් විදියට ඉදිරිපත් කරන මේකෙදි සර්වඥයන් වහන්සේ ශ්‍රාවක පිරිසගෙන් ප්‍රතිචාරයක් බලාපොරොත්තු වෙනවා නෙවෙයි, නොදන්නාකමින් අහනවත් නෙවෙයි. ශ්‍රාවක පිරිසගේ අවධානය හරියටම කාරණාවට යොමු කරවීමේ අදහසින් තමයි මෙවැනි ප්‍රශ්නයක් නගන්නේ. මහණෙනි, දුක පිළිබඳව විස්තර වුණා. ඉතින් දුකට හේතුව කුමක්ද? සර්වඥයන් වහන්සේම උත්තර දෙනවා.

**යායං තණ්හා පොනොභවිකා නන්දිරාගසහගතා තත්‍ර තත්‍රාභිනන්දිනී, සෙය්‍යථීදං - කාමතණ්හා භවතණ්හා විභවතණ්හා.** මේ

පාඨය සිංහල බෞද්ධයන් අතර, ථෙරවාදී බෞද්ධයන් අතර බොහොම ගම්භීර ධර්ම කොට්ඨාශයක් වශයෙන් අහලා තියන ඇත්තො ඉන්නවා. කටපාඩම් කරපු ඇත්තො ඉන්නවා. වචනාර්ථ දන්න ඇත්තොත් හුඟක් විට ඉන්නවා. කොහොම නමුත් **කතමඤ්ච භික්ඛවෙ දුක්ඛසමුදයො අරියසච්චං** කියල කියන්නේ මහණෙනි, දුක්ඛසමුදය ආර්ය සත්‍යය කියන්නෙ මොකක්ද කියන ප්‍රශ්නයයි. ඊට පස්සෙ **යායං තණ්හා** කියන එකෙන් යම් වූ තණ්හාවක්. එච්චරයි ඒකට උත්තරේ. ඒ තණ්හාව කියන එකට විශේෂණ පද තමයි ඊගාවට සඳහන් කරන්නේ **යායං තණ්හා පොනොභවිකා** පුනර්භවයක් ඇති කර ලීමට තරම් විභවයක් ඇති, ශක්තියක් ඇති, හැකියාවක් ඇති යම් වූ තණ්හාවක්. **නන්දිරාගසහගතා** නන්දිරාගයක් ඇති කිරීමට හැකියාවක්, ශක්තියක්, විභවයක්, ඇති ඒ තණ්හාව.

**යායං තණ්හා පොනොභවිකා නන්දිරාගසහගතා තත්‍රතත්‍රාභිනන්දිනී** - පුනර්භවයක් කියන මත්තට කොනක්, මත්තට ඇදී යන තත්ත්වයක් ඇති කර දෙනවා විතරක් නෙවෙයි, වර්තමානයේත් නන්දි රාගයක් ඇති කරනවා. **තත්‍රතත්‍රාභිනන්දිනී** තමන් දැන් ඉන්නේ අපායේ නිරිසතෙක් වශයෙන් වෙන්න පුළුවන්, තිරිසන් ලෝකයේ ගොම කුරුමිණියෙක් වශයෙන් වෙන්න පුළුවන්, මනුෂ්‍ය ලෝකයේ දුර්භාග්‍ය සම්පන්න මනුෂ්‍යයෙක් වෙන්න පුළුවන්, සෞභාග්‍ය සම්පන්න මනුෂ්‍යයෙක් වෙන්න පුළුවන්, ඊශ්වරයෙක් වෙන්න පුළුවන්, දෙවියෙක් වෙන්න පුළුවන්, බ්‍රහ්මයෙක් වෙන්න පුළුවන්. ඒ කියන්නේ භවයේ ඕනෑම තැනක ඉන්න පුළුවන්, ඒ හිටපු තැන අල්ලනවා. හිටපු තැන අභිනන්දනය කරනවා. නිරිසතා ඒ නිරිනරකයේ දිගට ඉන්න කැමතියි. අසූචියේ හටගත්තා වූ අසූචි පණුවා මැරෙනවට අකමැතියි. එයා අසූචියේ ඉන්න කැමතියි. ගොම කුරුමිණියා ඒ ගොම අනුභව කරමින් තමන්ගේ ගොම කුරුමිණි ආත්මයට මනාප ගන්නවා. ස්ත්‍රිය ස්ත්‍රී ආත්මයට මනාප ගන්නවා, පුරුෂයා පුරුෂ ආත්මයට මනාප ගන්නවා, දුර්භාග්‍ය සම්පන්න මනුෂ්‍යයා, දුර්භාග්‍ය සම්පන්න ආත්මයට ආශා කරනවා. හරියට හිඟන්නා, හිඟමන් ලැබෙන නිසා තමන්ගේ තුවාලයට ආදරය කරන්නා සේ. ඒක සනීප වුණොත් හිඟමන් නැහැ. ඒ වාගේ තමයි තමන්ගේ **තත්‍රතත්‍රාභිනන්දිනී**.

අපි අරගත්තත්, පැවිදි ඇත්තො ඉස්සර ගිහි ආත්ම ගත කරන කාලේ ඒක බොහොම ජයට ඒකට ආසා කරමින් සිටිය. ඔන්න ඊට පස්සෙ පැවිද්දට පත් වුණා. ඊට පස්සෙ ඒකට ආසා කරනවා. ඊට පස්සෙ සාමණේර බව, උපසම්පද බව ආදී වශයෙන් ඒ එක එක දේවල් එතන එතන අභිනන්දනය කරන ගතියක් ඇති කරල දෙන තණ්හාවක් තියෙනවා නම් ඒක තමා සර්වඥයන් වහන්සේ මෙතන උලුප්පලා දක්වන්නෙ. මතු කරලා පෙන්වන්නෙ.

**යායං තණ්හා පොනොභවිකා නන්දිරාගසහගතා තත්‍රතත්‍රාභිනන්දිනී, සෙය්‍යථීදං.** මොකක්ද මේ, කාම තණ්හාව භව තණ්හාව විභව තණ්හාව. **යායං තණ්හා** කියන වචනෙට විශේෂණ පද තමයි මේ පෙන්නලා දීල තියෙන්නෙ. යම් තණ්හාවක් පුනර්භවයක් ඇති කරනසුලුද, යම් තණ්හාවක් නන්දි රාගය ඇති කරනවද, යම් තණ්හාවකින් ඒ ඒ තැන ඇලීමක්, ඒ ඒ තැන බැඳීමක් ඇති කරනවද, අන්න එවැනි වූ කාම තණ්හාවක් වෙයිද, භව තණ්හාවක් වෙයිද විභව තණ්හාවක් වෙයිද අන්න ඒක තමයි මම අර කලින් අහපු ප්‍රශ්නෙට උත්තරේ. මේ දුකට හේතුව.

ඒ නිසා මේ වචන ටිකේ ශාස්ත්‍රීය වටිනාකමක් බොහොම ගැඹුරට තියනවා. හුඟදෙනෙක් අභාග්‍යයකට වගේ දකින්නේ ඔය ශාස්ත්‍රීය වටිනාකම පමණයි. කිසි සේත්ම මේ තෘෂ්ණාව මේ දැන් මෙතන, මෙහෙම දැන් ක්‍රියාත්මක වෙන බවක් දකින්න පැකිළෙනවා, මේ පැකිළීම නිසා ඒ ඇත්තන්ට දුක පිළිබඳවත් තියෙන්නෙ මිථ්‍යාවට බර අදහසක්. දුක නැති කිරීම පිළිබඳවත් තියෙන්නෙ කාලත්‍රයට බෙදු ගත්ත බොහෝම විචිකිච්ඡා අදහසක්. ඒ නිසා මෙතනම පටලැවිල්ලක් ඇති වෙනවා. ශාස්ත්‍රීය දැනුමක් අනවශ්‍යයි කියන එක නෙවෙයි මේ කියන්නෙ. ශාස්ත්‍රීය දැනුම අවශ්‍යයි. නමුත් ඒක එදිනෙදා ජීවිතයට "දැන් මෙතන" මේ අපි ගත කරන්නෙත් කාම තණ්හාව, භව තණ්හාව නැත්නම් විභව තණ්හාව කියන තුනින් එකකට යට වෙලා කියල දැකගැනීම අකුසලයක් පාපයක් කියල හිතන මට්ටමකුත් පේන්න ඉඩ තියනවා. ඒක තමයි මේ යෝග ජීවිතයත් සාමාන්‍ය එදිනෙදා ජීවිතයත් අතර වෙනස. සාමාන්‍ය ජීවිතයේදී කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා තෙම්පරාදු කරලා අරන් තියාගෙන ටික ටික වළඳන්නයි තියෙන්නෙ. ඒකෙ තියෙන්නා වූ **තත්‍ර**

**තත්‍රාභි නන්‍දන** ගතියත් පුනර්භවය ඇති කරන ගතියත් නන්දිරාගය ඇති කරන ගතියත් ඒ ඇත්තො දකින්නේ යම් කිසි මිහිරියාවක් විදියට. සාහිත්‍ය රසයක් විදියට.

වෙන විදියකට කියනවා නම් ඒකේදී මොකද කරන්නේ? "ඇත්ත, ඒක එහෙම තමයි, ඒක නැති කරන්න බෑ, ඒක නැති කරන්න තරම් අපිට හැකියාවක් නෑ, ශක්තියක් නෑ" ආන්න ඒ විදියට තමන් විසින්ම ඍණ ආකල්පයක් නොහැකි සංඥවක් ඇති කරගෙන, මේ නන්දි රාගය කියන එක මහා බලවත්, නැත්නම් වෙන ආගමක කියන සර්වබලධාරි දෙවියන් වහන්සේ වාගේ, මැවුම්කාරයා වාගේ මතු කරගෙන කතා කරනවා. ඒ මොකද, වර්තමානයේ තියෙන්නා වූ ලාමකව ටික ටික ටික ටික මෝදු වන තෘෂ්ණාව දකගන්නට උනන්දුවක් නැති නිසා. ඒක නිසා අපට නන්දි රාගය දනවන තෘෂ්ණාව පිළිබඳව වර්තමාන වශයෙන්, පච්චුප්පන්න වශයෙන් තේරුම්ගැනීමට වෙලා ගන්න වෙනවා. ඒක සඳහා තමයි කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා ආදී වශයෙන් ඒ ඒ කොටස් මුල් මුල් කොටස් මේකට පදනම් කරන්න ඕනැයි කියල, නිශ්‍රය කරගන්න ඕනැයි කියල අපි කලින් කියන්න යෙදුණේ.

තෘෂ්ණාවේ අපි මේ ඉදිරිපත් කරගත්ත වාක්‍යය, කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කියන මේ තුන විස්තර කරන්න ගත්තොත් මේ දන් මෙතන මේ මොහොතේ අපි වශයෙන් අපේ අත්දකින කොටසට මුල් තැන දීලා - වෙන විදියකට කියනවා නම් විපස්සනාමය ආකල්පයකින් - කාම තණ්හාව බැලුවොත්, අපිට කාම භවයේ විවිධාකාර සැප සම්පත් වර්තමාන වශයෙන් හෝ අනාගත වශයෙන් ලබා දීමට හේතු වෙන දේවල් කාම තණ්හා වශයෙන් අපි ගණන්ගන්නවා. ඒකට කවුරුත් මූලධර්ම වශයෙන් විරුද්ධත්වයක් නෑ. කවුරුත් ඒක එහෙමයි කියල භාරගන්නවා.

ඒ විතරක් නෙවෙයි ඒක සාධාරණීකරණය කරනවා. කාම තණ්හාව තිබිය යුතුයි. එහෙම නැත්නම් ජීවිතයේ ප්‍රගතියක් අභිවෘද්ධියක් සුඛෝපභෝගී තත්ත්වයක් තිබිය යුතුයි. අනාගතය පිළිබඳවත් එහෙම දෙයක් නැත්නම්, ඒක රටක් වශයෙන් ජාතියක් වශයෙන් සමූහයක් වශයෙන් අපි කොහොමද කටයුතු කරන්නෙ. අනිවාර්යයෙන්ම

බලාපොරොත්තුවක් තැබිය යුතුයි. ඒ බලාපොරොත්තුවට ඉතින් කාම තණ්හාව කියල නම් කියන්න එපා. නමුත් වෙන හොඳ හුරු පුරුදු වචනයක්, "අයිස් ක්‍රීම් කියල හරි චොක්ලට්" කියල හරි නමක් දාගෙන ඒකට ආසා කෙරුවට කමක් නෑ. එහෙම දෙයක් නැත්නම් කොහොමද අපි මේ යමක් හිතන්නෙ, අපි කොහොමද විෂයක් ඉගෙනගන්නෙ, අපි කොහොමද මේ ලෝකෙ ජීවත් වෙන්නෙ ආදී වශයෙන් කාම තණ්හාව පුදුම විධියට තෙම්පරාදු කරලා තියාගන්න ගතියක් ලෝකයාගේ තියනවා.

ආගමක නෑ කියල හිතන්න එපා මේක. සෑම ආගමකම තියනවා. ඒ නිසා කිසිම ආගමක් මේකෙන් නොකෙලෙසිලා නෑ. මේ නිසාමදෝ සමහර ඇත්තො බුද්ධාගම ආගමක් නෙවෙයි කියල කියනවා. බුද්ධාගම කියනකොට ඉතින් ආගම කියන නම පටබැඳිලා හමාරයි. ඒ නිසා කියනවා මේක ධර්මයක් කියල. මේ ධර්මතාව සංවිධානයක් තුළ කෙලෙසෙනවයි කියනකොට ඔන්න හොඳටම තේරුම් අරගන්න ඕනෑ කිසිම සංවිධානයකින් මේක ඉදිරිපත් කරගන්න හදනව නම්, ආරක්ෂා කරන්න හදනව නම් මේකෙ අභිවෘද්ධිය සලකනවා නම් ඒ ඇත්තො කාම තණ්හාවට තමයි දසකම් කරන්නෙ.

අපේ ජීවිතයේ වුණත් අතීත අනාගත වර්තමාන වශයෙන් සංවිධානයක් එනකොට වර්තමාන වශයෙන් හෝ අපට වෙලා තියන සම්පත්ති විෂයෙහි අපි ප්‍රක්ෂේපණ කරලා ප්‍රස්තාර ඇඳලා සංවිධානයක් කරනකොට පැහැදිලිවම තියෙන්නේ කාම තණ්හාවේ බලපෑම. මේ නිසා අද ලෝකායත විෂයවල ඉතාමත්ම දක්ෂ වෙනකොට අපි අපෙන් අමතක වෙලා ඒ කාල මාත්‍රයට අහු වෙලා විශාල සැලසුම් හදන පිරිසක් බවට පත් වෙලා තියනවා. අද මේ ඉන්න පිරිසත් එක්ක අපේ සම්බන්ධතා සලකා බලමින් අපි මෙහි ගත කරනකොට කොට අපි ඉබ්බෙම ඒ වැදගත්ම ප්‍රශ්නයෙන් පැනල යන ගතියක් තියනවා. ඉතින් මෙහෙම තියාගනත් අපි කුඩු බොන මත්පැන් බොන ඇත්තන්ට දෙසුත් කියනවා මේ ඇත්තො මත් ද්‍රව්‍ය පාවිච්චි කරනවයි කියල. ආගම වශයෙන් මේ කරන මත් ද්‍රව්‍ය විතර මතක් වෙන ලෝකෙ ඇත්තෙ නෑ.

ඒ නිසා මේ සංවිධානය තුළ පවතින්නා වූ තෘෂ්ණාව, කාම තණ්හාව හොඳට තේරුම්ගන්න නම්, **අරඤ්ඤගතො වා රුක්ඛමූලගතො**

**වා සුඤ්ඤාගාරගතො වා නිසීදති පල්ලඞ්කං ආභුජිත්වා උජුං කායං පණිධාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා සො සතොව අස්සසති සතොව පස්සසති.** මුලින්ම කපලා, පුද්ගලයාව හිර කරලා වර්තමානෙට ගෙනල්ලා ආනපානෙට හිත තියනවා. එහෙම නැත්නම් වෙන සංස්කාර කොටසකට හිත තිබ්බහම ඔන්න ඔය සංවිධානය හැළීමම හුඟදෙනෙකුට උණ ගන්නාසුලුයි. වෙහෙස එළවනසුලුයි. දරාගන්න බැරි තත්ත්වයකට පත් වෙනවා. ඒකයි මේ අභිනිෂ්ක්‍රමණයෙ තියන විශාල වටිනාකම. ඒත් මේ අභිනිෂ්ක්‍රමණය වෙලා තියෙන්නෙ හුදු කාය විවේකය සඳහා පමණයි. ඊගාවට චිත්ත විවේකය ඇති වුණාට පස්සෙ ලොකු වෙනසක් තියනවා. නමුත් ඔය චිත්ත විවේකය සර්වඥයන් වහන්සේ පහළ වීමට ඉස්සර වෙලා ලෝකෙ පහළ වෙලා තිබුණා මිථ්‍යාදෘෂ්ටිය තුළිනුත්. සර්වඥයන් වහන්සේගේ තියෙන විශේෂත්වය තමයි ඒ උපධි විවේකය කියන එක. මේ කාම තණ්හාව පිළිබඳව බලන්න පුළුවන් අඩියටම බැහැල අනුසය වශයෙන් බලන එක. ඔන්න ඕකයි අද හුඟාක් ආගම්කාරයෝ කියන්නේ අද කරන්න බෑ, දැන් කරන්න බෑ, අපිට කරන්න බෑ කියල ඒක අති ශ්‍රේෂ්ඨ තැනකට පත් කරවලා දේව භක්තිකයන් දෙවියන් වහන්සේ ගැන හිතුව වගේ මේක අපේ විෂය ක්ෂේත්‍රයෙන් අයින් කරන්න උත්සාහ කරනවා. එතකොට ආවඩන්නේ කාම තණ්හාවටය, එහෙම නැත්නම් පොනොභවික පුනර්භවයටය, නන්දි රාගයටය, **තත්‍රතත්‍රාභිනන්දනයටය** කියල හිතාගන්නට නම් දෙන්නෙක් කරට අත දාගෙන කරන්න බෑ. මේ තමයි මේක විස්තර කරන්න පුළුවන් උත්කෘෂ්ටම ක්‍රමය. ඉතින් මේකට හුඟදෙනෙක් කියනවා අන්තවාදී කියල. මේ විස්තර ක්‍රමයේ අන්තවාදී බවක්, මේක තුළ කිසීම සාමූහික වැඩ පිළිවෙළක්, කාලය දිගට යන වැඩ පිළිවෙළක් ගැන කථා කරන්න බැරි නිසා මේක පිළිබඳව චෝදනා කරනවා. මීට වැඩිය කන්න පුළුවන් තාලෙට ළමා තාලෙට බොළඳ තාලෙට මොකක් හෝ කියමින් පිරිසත් එක්ක කාලයත් එක්ක ගත කරන්න වෙනව නම් බොහොම ජයට ආගම පැතිරෙනවා. නමුත් ධර්මය යට යනව.

කාම තණ්හාවේ ඇත්තා වූ මේ භයානක ස්වරූපය අපි තෙම්පරාදු කරලා තියාගත්ත නිසා ඒක වෙස්මූණු ගන්නල තියාගන්න නිසා අපට ඒක ඒ තාලෙන් දැකගන්න බැරි වෙනවා, එතකොට

ආනාපානය කෙරුවට හරියන්නෙ නෑ. අර යට තියන දෘෂ්ටිය, යට තියන මානය, සම්පූර්ණයෙන් නොමග යවනවා. ඒක නිසා මේ අභිනිෂ්ක්‍රමණය ක්‍රමක්‍රමයෙන්ම යන්ඩ ඕනෑ. කාය විවේක, චිත්ත විවේක, උපධි විවේක වශයෙන් ටිකෙන් ටික ටිකෙන් ටික යනකොට කොහොම කළත් මේ කාම තණ්හාව වගේ දේවල් පිළිබඳව සම්‍යක් දෘෂ්ටිය අත්‍යවශ්‍ය වෙනවා. ඒකෙන් තොරව මොන සීලයක් ඇති කරගත්තත් මොන සමාධියක් ඇති කරගත්තත් ඒක මිථ්‍යා සීල මිථ්‍යා සමාධිවලට වැටෙන්නට අවස්ථාව කොච්චරද තියනවා.

ඒක නිසා කාම රාගය, එහෙම නැතිනම් කාම තණ්හාව, නන්දි රාගය පිළිබඳව වර්තමානයේ අපේ චින්තන රටාව තුළ කොච්චරක් බැහැගෙන තියනවද, ව්‍යාකරණය තුළ කොච්චරක් බැහැගෙන තියනවද, වචන තුළ, භාෂාව තුළ කොච්චරක් බැහැගෙන තියෙනවද, මේ සංස්කෘතිය තුළ කොච්චරක් බැහැගෙන තියෙනවද කියන එක ගැන නිතරෝම සැලකිලිමත් වෙන්න ඕනෑ. හැබැයි එතකොට බලන්නෙ සමාජ මට්ටමෙන් නෙවෙයි, සංස්කෘතික මට්ටමෙන් නෙවෙයි, තමන්ගේ මට්ටමෙන්. අජ්ඣත්ත මට්ටමෙන්. හැම වෙලාවෙම තමන්ගේ ක්‍රියාත්මක දම තුළ.

මේක හොඳටම පැහැදිලියි සතිපට්ඨානය අහපු නැති, ආගම ධර්මයක නොයෙදිච්ච මනුෂ්‍යයින්ගේ කථා විලාශය තුළ; ඊගාවට සතිපට්ඨානය ඇහුවට පස්සෙ. මේ කථා විලාශ අපි කොච්චරක් වහල් භාවයට, වධ බන්ධනයට බන්දනවද කියන එක දැනගත්තට පස්සෙ. ඊළඟට අපි යෝග ජීවිතයට බැස්සට පස්සෙ, ඊළඟට සාමණේර ජීවිතයට බැස්සට පස්සෙ, ඊළඟට උපසම්පදා ජීවිතයට බැස්සට පස්සෙ, යම් ආකාරයකට ඊළඟට සෝවාන් වුණාට පස්සෙ, සකෘදගාමි වුණාට පස්සෙ වශයෙන් තේරෙන්න පටන් අරගන්නවා. මේ තුළ අපි පුදුමාකාර යුතුකම් ඉෂ්ට කිරීමක් කරනවා. කාටද මේ දසකම් කරන්නේ? කාම තණ්හාවට තමයි. අර රට්ඨපාල කුමාරයා වහවහා වස්තු අත ඇරලා දල කාම තණ්හාවෙන් ගැලවිලා, පස්සෙ ඒ රටට ආපු වෙලාවෙදි ඒ රටේ රජ්ජුරුවො ඉදිරිපිට කිව්ව වගේ, මේ මුළු ලෝකෙම **අතිත්තො ලොකො තණ්හා දසො** මේක ලෝකෙ කවදාක්වත් තෘප්තියට පත් වෙන්නෙ නෑ. කාම දස, තණ්හා දස භාවයක් තියෙන්නෙ. **ඌනො ලොකො අතිත්තො**

**තණ්හා දසො** මේ දසකත්වය හැම චිත්තක්ෂණයකම තියනවා කියල දැනගත්තොත් විතරක් අපිට හැම චිත්තක්ෂණයම සතිමත් වීමේ අවශ්‍යතාව වැටහෙනවා. **සතොව අස්සසති, සතොව පස්සසති.**

එහෙම නැතුව අපි හිතනවා නම් අපි දැනට මේකෙන් වෙන් වෙලා ඉන්නේ, එහෙම නැත්නම් අපි මේක සුද්ද කරගෙන ඉන්නේ කියල, එතකොට අපි ශුද්ධවන්තයො වශයෙන් හිතන්න පටන් ගන්නවා. ඒක නිසා කාම තණ්හාව කියන්නෙ හතිකොන පැතිරිච්ච ජාලයක්. අපි ඒකෙ ඉන්නවා, අපිට දැන් කාමයත් තියනවා, එහෙම නැත්නම් අපි මේ වාගේ රෝගයකින් පෙළෙනවා, මේ ඌන භාවය, අතිත්ත භාවය, දස භාවය කියන එකෙන් අපි පෙළෙනවා කියල ගණන්ගත්තොත් තමයි අපි බුද්ධ ශ්‍රාවකයෝ බවට පත් වෙන්නෙ. එතකොට අපි විසින් කළ යුතු යමක් තියනව. අපි දන්නවා, දැනටමත් අපි තුළ වරද යටිපහු වෙලා ඉවරයි. ඒ නිසා මත්තට හෝ එන එන මොහොතේ හුස්ම වාරයක් පාසා, සක්මන් කරන පියවරක් පාසා, එදිනෙදා දේවල්වල ගත කරන පියවරක් පාසා තණ්හාවට, කාම තණ්හාවට අපි කොහොම කොහොම පොහොර වට්ටනවද, කබරගොයා කියල හෝ තලගොයා කියල හෝ මොන නම කියල හරි හෝ මේක අපි කෑමක් බවට පත් කරගන්නවද කියල බැලුවොත් අපට තේරෙන්න පටන් අරගන්නවා මෙන්න මේ පර්යේෂණය විෂයෙහි මනුෂ්‍ය ආත්ම භාවයේ තියන උතුම් කම. කවමදාකවත් මේක තිරිසන් ආත්මයක කරන්න බෑ. කවමදාකවත් මේක තිරිසනෙක් වශයෙන් යක්ෂයෙක් වශයෙන් ප්‍රේතයෙක් වශයෙන් කරන්න බෑ. දුක පිළිබඳ එච්චර ප්‍රකට භාවයක් නැති දිව්‍යලෝකෙදි මේක කෙරෙන්නේ නෑ. බ්‍රහම ලෝකෙදි මේක කෙරෙන්නෙ නෑ. දිව්‍ය බ්‍රහ්ම ලෝකවලදි කෙරෙන්න නම් මෙහෙන් පුරුද්ද ගෙනියන්න ඕනැ. සක්විති රජ වෙන්න නම් මනුෂ්‍ය ලෝකෙ උපදින්න ඕනැ. බුද්ධත්වය ලබන්න නම් මනුෂ්‍ය ලෝකෙ උපදින්න ඕනැ.

අන්න එවැනි තත්ත්වයක් ඇත්තා වූ මේ මනුෂ්‍ය ආත්ම භාවයෙහිත් අපි සම්‍යක් දෘෂ්ටිකයි කියන වෙලාවෙ, සම්‍යක් දෘෂ්ටික වෙන්න උත්සාහ කරමින් සීල සමාධි ප්‍රඥා පුරන වෙලාවෙ සෑම චිත්තක්ෂණයකම කාම තණ්හාව භව තණ්හාව විභව තණ්හාව වැඩ කරනව. ඒක අල්ලගන්න එකයි මට මේ මනුෂ්‍යත්වයෙ තියන

උත්කෘෂ්ටම දේ. බුද්ධෝත්පාද කාලෙක තියන උත්කෘෂ්ටම දේ. මනුෂ්‍ය ආත්ම භාවයෙ තියන උත්කෘෂ්ටම දේ. ක්‍ෂණ සම්පත්තිය කියන්නෙ ඕකටයි. සද්ධර්ම ශ්‍රවණය කියන්නෙ ඕකටයි. සත්පුරුෂ ආශ්‍රය කියන්නෙ ඕකටයි. පැවිද්ද කියන්නෙ ඕකටයි. ඒ දුර්ලභ වස්තු හයටම අවශ්‍ය විභව ශක්තිය, පෝෂණය, පින, මනුෂ්‍යයා සතුයි. අපි කොයි අවස්ථාවකද මේ උත්කෘෂ්ටම මට්ටමේ මනුෂ්‍යත්වය ක්‍රියාවත් කරන්නෙ? එහෙම නැත්නම් සාමාන්‍ය මනුෂ්‍යයන් සේ කමින් බොමින් අනෙකුත් ලාමක දේවල්වලට ගත කරන්නේ කොහොමද කියල හැම චිත්තක්ෂණයම ගත කළ යුතුයි. එහෙම නොකළොත් හුඟාක් වෙලාවට වැරදි නිගමනවලට එනවා.

ඊගාවට තමයි භව තණ්හාව. අපි හිතනවා භව තණ්හාව තියෙන්නෙ ශාස්වත දෘෂ්ටිකයන්ට කියල. අපිත් ශාස්වත තමයි හුඟක් වෙලාවලට. අපි උච්ඡේද දිට්ඨියට වැටෙන්නෙ නැති හැම වෙලාවකම ශාස්වත දිට්ඨියෙයි ඉන්නෙ. හැම වෙලාවේදීම අපි කටයුතු කරනකොට මේ දේ කළොත් මෙහෙම වෙනවා, මේ දේ කළොත් මෙහෙම වෙනවා ආදී වශයෙන් පැවැත්ම පිළිබඳව ලොකු බරක් දීල තමයි වර්තමාන මොහොතේ නඩු විසඳන්නෙ. මේ මොහොතේ ඇති වෙන දේ මේ මොහොතට ක්‍රියාත්මක වීම වගේ දෙයක් ගත්තොත් ඒක අන්තවාදයක් විදියට අපි සලකනවා. භවයකට හෝ කර්මානුරූපව ඉදිරියට පස්සට යන දේවල් ප්‍රතික්ෂේප කරන්න කියනවයි කියන එක නෙවෙයි මේකෙන් කියන්නෙ. නමුත් අපි තේරුම්ගන්න ඕනෑ මෙවැනි දේවල් අපේ වර්තමාන තෘෂ්ණාව සංතෘප්ත කිරීම පිළිබඳ දඩ මීමා කරගන්න හැම චිත්තක්ෂණයකම අපි ශාස්වත දෘෂ්ටිය තමයි ඉල්ලා සිටින්නෙ. එහෙම නැත්නම්, භව තණ්හාව කිව්වහම ආත්මයක් පවතිනවා දිගට යන දෙයක් තියනවා ආදී වශයෙන් භවය පිළිබඳ ලොකු පදනම් කිරීමේ ශක්තියක් තියනවා. එහෙම නැත්නම් උච්ඡේද දිට්ඨියට වැටෙනවා. ඒකට විභව තණ්හාව කියනවා. භවය පිළිබඳව රූප අරූප ලෝක භව පිළිබඳව ඇති ආශාව කාම තණ්හාව කියල අපේ සම්ප්‍රදනුකූල පොත්වල සඳහන් කරලා තියනවා. විභව තණ්හාව කියල කියන්නෙ ඒකෙ නැති භාවය.

මෙතනදී මේකෙ තියන මායාකාරී ස්වරූපය නැති කරන්න නම් ශාස්වත දෘෂ්ටිය කෙරෙහි ඇති ඇලීම භව තණ්හාව වශයෙනුත් උච්ඡේද දෘෂ්ටිය කෙරෙහි ඇත්තා වූ තණ්හාව විභව තණ්හාව වශයෙනුත් ගන්න

පුළුවන්. අපි සාමාන්‍ය සිංහලට හරව ගත්ත පාඨයක් තියනව, මේක බොහොම ඉස්සර ආපු සංස්කෘත පාඨයක්. ඒ සංස්කෘත පාඨයේ සඳහන් කරන්නේ **ඍණං කෘත්වා ඍතං පිබෙත්** කියල. ණය වෙලා හරි කමක් නෑ බොනව නම් පාවිච්චි කරනවා නම් ගිතෙල් පාවිච්චි කරන්න කියල. ණය ගෙවන්න අපි ඉන්නෙ නෑ. අපි ඒකට බැඳීමක් නෑ. ඒ නිසා කාගේ හරි කමක් නෑ හොඳින් හෝ නරකින්, සාධාරණයෙන් හෝ අසාධාරණයෙන් උපරිම සැප විඳින්න. ඒක තමා උච්ඡේද දිට්ඨියේ සඳහන් කරන්නෙ. මරණින් මත්තෙ අපිට මේවයේ ණය ගෙවන්න වෙන්නෙ නෑ. කර්මය සහ කර්ම ඵලයක් ඇත්තෙ නෑ. ඒ නිසා ඒක ප්‍රශ්නයක් නෑ. අපි සිංහලට ඒක දල තියනව, "කාපල්ලා බීපල්ලා ජොලි කරපල්ලා" කියල එහෙම වචනයක් හදගෙන තියෙනව. ඒ වාගේ අපිට ඉදිරියට ඉදිරිපත් වෙච්ච දෙයක් අපි තනි භුක්තියට තනි අයිතියට සින්න කරගෙන අපි ඒ වෙලාවෙ උජාරු උදූර ලීලාවෙන් පාවිච්චි කරනකොට අපිට මේ උච්ඡේද දිට්ඨිය ලොකු පිටිවහලක් වෙනවා අපේ කල්පනා ක්‍රමයට. ඒ වෙලාවට අපි ඒක හේත්තු කරගන්නවා. යම් ආකාරයකට අපි හොඳ දෙයක් හෝ නරක දෙයක් පිළිබඳව මත්තට එහි ඇත්තා වූ ඵල විපාක ගැන කථා කරනකොට ඕනැවට වැඩිය ශාස්වත දිට්ඨිය කිට්ටු කරගන්නවා.

ඒක නිසා කාම තණ්හාවට සාපේක්ෂකව භව තණ්හා විභව තණ්හා කියල දෙකක් තියනවා. මේ දෙක හොඳටෝම පැහැදිලියි අපි ලෝකායත විෂය පිළිබඳව කථා කරනකොට. අපි එක එක පැති ගැනීමෙන් තමයි වාදෙ ඉතුරු ටික යන්නෙ. දුර දිග යනකොට දෙපැත්තක් හැදෙන්න නම් කෙනෙක් ශාස්වත දිට්ඨිය ගැන කථා කරනවා. කෙනෙක් උච්ඡේද දිට්ඨිය ගැන කථා කරනවා. ශාස්වත දිට්ඨිය ගත්ත කෙනා උච්ඡේද දිට්ඨිය ගත්ත කෙනාට බනිනවා, දෙස් කියනවා උඹ පරමාර්ථ පැත්තට ගන්නවා වැඩියි, යථාර්තය ගන්නෙ නෑ, එහෙම නැත්නම් ප්‍රඥප්ති ගන්නෙ නෑ කියල. උච්ඡේද දිට්ඨිය ගත්ත කෙනා කථා කරනවා, ශාස්වත දිට්ඨිය ගත්ත එකකෙනාට උඹ නිතරෝම ප්‍රඥප්තිය පැත්තට අල්ලනවා වැඩියි, යථාර්ථය තේරෙන්නේ නෑ, යථාර්ථය මේකයි. ඉතින් මේ සටන ඕනෑ කාලයක් යන්න පුළුවන්. මොකද, ලෝකෙ පුරාම පැතිරිලා තියනවා කාම තණ්හාව භව තණ්හාව විභව තණ්හාව.

ඒ නිසා මේ ප්‍රශ්නය කොච්චර උග්‍රද, මේ ප්‍රශ්නය නිවැරදිව තේරුම්ගැනීමෙන් කොච්චර වහා යථාර්ථය එළි කරවනවද, ඥානය පහළ කරවනවද කියනවා නම්, එද අස්සජි ස්වාමීන් වහන්සේ දකපු උපතිස්ස පරිබ්‍රාජකයට කිව්වෙ **යෙ ධම්මා හෙතුප්පභවා තෙසං හෙතුං තථාගතො ආහ** යම් ධර්මයක් හේතුවකින් පැන නැගුණාද, ඒ හේතුව සර්වඥයන් වහන්සේට අහු වෙලා. ඒක සර්වඥයන් වහන්සේ ප්‍රකාශ කරලා තියනවා. සර්වඥයන් වහන්සේ ඒක දේශනා කරනවා කියනකොටම ඒ පමණින්ම, **යං කිංචි සමුදය ධම්මං සබ්බං තං නිරොධ ධම්මං** කියන විදියට ලෝකයේ යම් තාක් ඇති වෙනසුලු ධර්ම තියනව නම් ඒ සියල්ලම නැති කරන්න පුළුවන්ය කියන ප්‍රඥව පහළ වුණා ඒ පරිබ්‍රාජකයට.

නමුත් අස්සජි ස්වාමීන් වහන්සේ ගාථාව සම්පූර්ණ කළේ **තෙසං ච යො නිරොධො එවං වාදී මහාසමණො** කියල. යම් කිසි දෙයකට හේතුවක් තියනවයි කියල නතර වෙනවා විතරක් නෙවෙයි. ඇත්තටම ඒ ප්‍රමාණෙන්ම සෑහීමකට පත් වෙනවා උපතිස්ස පරිබ්‍රාජකයට තමන්ගේ මූලික සංයෝජන ධර්ම නසාලන්ට. නමුත් අස්සජි ස්වාමීන් වහන්සේ දිගටම දේශනා කළා ඒ හේතුව නිරෝධ කිරීමයි, අන්න ඒකයි සර්වඥයන් වහන්සේගෙන් ලෝකෙට ඇති වූ ඵලය කියලා. ඒක නිසා යම් කෙනෙක්, අද කාලෙ මේක හොඳට විස්තර කරනවා භාවනා කරනකොට **නාම රූප පරිච්ඡේද ඥානය** ඇති කරගත්තා, එතෙන්දි ඔහුට දෘෂ්ටිය පිළිබඳව පැහැදීමක් ඇති වුණා. මොකක්ද? මේ වර්තමානෙදීම ප්‍රශ්නය දැකගන්න පුළුවන්. වර්තමානෙදීම ඉදිරිපත් වෙන තාක් දේවල් නාමරූප පමණමයි.

නමුත් අපේ හිතේ තියනව ස්වභාවයක් - යම් කිසි දෙයක් හොඳට විසඳව දැකල හිත එතන ඉස්පාසු වුණා නම්, හිත ඒ අනුව අනුමාන ඥාන ඇති කරනවා. තර්ක ඥාන ඇති කරනවා. එකක් තමයි එහෙනම් කොහොමද මේක ඊයෙ වෙන්න ඇත්තෙ? එහෙනම් කොහොමද මේක හෙටට වෙන්නෙ? මේක කොහොමද අනුන්ට සිද්ධ වෙන්නෙ, මේක මෙහෙම මට වෙනව නම් ආදී වශයෙන් ඒ අනුමාන ඥාන යටතෙදි නාමරූප පරිච්ඡේද ඥානය මේරීමත් සමග හිත ඒකාන්තයෙන්ම ප්‍රත්‍ය හෙවීමේ පැත්තකට යනවා. පච්චයපරිග්ගහ ඥානයට වැටෙනව. **පච්චයපරිග්ගහ ඥානයට** යන්න ඉස්සර වෙලා හිතෙන්නෙ මේ නාමරූප කවුරුහරි ඇති කරලා දීල තියනවා. ඒක දැන් මට හොඳට පේනවා, ඒකෙ

නම් නෑ සතෙක් ආත්මයක් පුද්ගලයෙක්, ඒ නිසා දෘෂ්ටිය පිළිබඳ ප්‍රශ්නයක් නෑ.

පච්චය පරිග්ගහයට ගියාට පස්සෙ අලුත් ප්‍රශ්නයක් මතු වෙනවා කොහෙන්ද මේක ඇති වුණේ? නාමරූප දෙකෙන් පරිබාහිර වූ යම් කිසි වෙන දේකින් ඇති වුණාද? එහෙම නම් මට දකින්න ලැබේවා! කොච්චර හෙව්වත් පච්චයපරිග්ගහ ඥානයේදී නාමරූප දෙකෙන් තොරව වෙන ප්‍රත්‍යයක් ලැබෙන්නේ නෑ. බොහෝ වේලා බලා ඉන්නකොට තේරෙනවා මේ නාම ධර්ම නිසාමත් ඊගාව චිත්තක්ෂණයේ රූප ධර්ම පහළ වෙනවා. නාම ධර්ම නිසාමත් ඊගාව චිත්තක්ෂණයේ නාම ධර්මම පහළ කරනවා. රූප ධර්ම නිසාත් නාම ධර්ම පහළ කරනවා. රූප ධර්ම නිසා රූප ධර්මත් පහළ කරනවා. එතකොට ප්‍රත්‍යය පරිග්‍රහයේදී අපි හොඳට තේරුම්ගන්නවා නාමරූප දෙක ඇති කරන්නෙ නාමරූප දෙකමයි. නාමරූප දෙකට ප්‍රත්‍ය වෙන්නෙ නාමරූපමයි.

මෙන්න මේ විදියට ප්‍රත්‍යය දැනගත්තට පස්සෙ ඒක නැති කරන්න උත්සාහ කළේ නැත්නම්, මේ ප්‍රත්‍යය නැති කිරීමේ මාර්ගයෙන් වර්තමානයෙහි ඇත්තා වූ නාමරූප නිරෝධ කළ යුතුයි, ඒ නිසා ප්‍රත්‍යයක් සහිතවම නාමරූපයන්ගේ නිරෝධය දැකීමේ පළවෙනි පියවර තමයි සම්මස්සන ඥානයෙදි සිදු වෙන්නේ. මේ නාම ගත්තත් රූප ගත්තත් හේතු ගත්තත් ඵල ගත්තත් ඔක්කෝම අනිත්‍යයි, දුක්ඛයි, අනාත්මයි. හේතු ඵල දෙකම අනිත්‍යයි දුක්ඛයි අනාත්මයි. ඒ නිසා දුක්ඛ සත්‍යය අවබෝධ කිරීමෙන් දුක්ඛ සත්‍යය මතු කර දීමෙන් සර්වඥයන් වහන්සේ බලාපොරොත්තු වෙනවා, ජාති ජරා ව්‍යාධි මරණ ශෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස කියන බොහෝමත්ම ප්‍රකට, ලෝකයා ඉස අත බැඳගෙන අඬමින් බේත් හොයන රෝගය. නමුත් ඒ රෝගය දැනගෙන බුදුහාමුදුරුවො වාගේ තුන්කල් දන්නා ඥනයක් ලබන්න හෝ ලැබුවට පස්සෙ හෝ ඒ රෝගය සනීප කිරීමට එච්චර එළවන්නේ නෑ. අනිවාර්යයෙන්ම සිංහ ප්‍රතිපදාව අනුව රෝගයට මුල, දුක්ඛ සමුදය හොයනකොට පේන්නේ තෘෂ්ණාව. හරි සතුටක් ඇති වෙනව. කොච්චරද කියනව නම් උපතිස්ස පරිබ්‍රාජකයට සෝවාන් වෙන්න තරම් ඒ ප්‍රීතිය ප්‍රමාණවත් වුණා. මුල හොයන කෙනෙක් ලෝකෙ පහළ වෙලා. මේ ඔක්කෝමලා ඉතාමත් දැඩි සේ රෝග සුව කිරීමට දඟලනවා. සර්වඥ

කෙනෙක් පහළ වෙලා ඉන්නවා. උන්වහන්සේ රෝගයට හේතුව කියනවා. මනුෂ්‍ය පරිණාමයේ කොච්චර ලොකු ප්‍රකට ප්‍රබල අවස්ථාවක්ද කියනකොට ඒ සතුට තුළින්ම එතුමට පුළුවන් වුණා සෝවාන් මාර්ග ඥානය ලබාගන්න.

නමුත් අස්සජි ස්වාමීන් වහන්සේ එතනින් නතර උනේ නෑ. උන්වහන්සේ නිරෝධය ගැන කියනවා. හේතුවේ ඵලය කියන්නෙ දුක. හේතුව කියල කියන්නෙ තණ්හාව. තණ්හාවේ නිරෝධය, **තෙසං ච යො නිරොධො එවං වාදී මහාසමණො** කියනකොට ඒ සෝවාන් වෙච්ච උත්තමයාගේ වචනය අහපු කෝලිත පරිබ්‍රාජකයටත් සත්‍යය අවබෝධ කරගන්න පුළුවන් වුණා. ඒ නිසා තෘෂ්ණාව පිළිබඳ අවබෝධයේදී මේක යට ගැහුවොත්, අපිට තෘෂ්ණාව නෑ තෘෂ්ණාව දැනගැනීම හොඳ නෑ තෘෂ්ණාව ගැන දැනගැනීම කුණු එළියට දැමීමක් ආදී වශයෙන් කරන්න පටන්ගත්තොත්, මේ දුක පිළිබඳව දැවෙනසුලු වුණාට, දුක ගැන උත්තර හොයල විසඳන්න බැරි ප්‍රශ්නෙ අපිට කවමදකවත් සංසිඳවන්න බෑ තෘෂ්ණාව පිළිබඳ යථා අවබෝධයක් මනා ආලෝකයක් ලබා දෙනකල්.

ඒක කුෂ්ට රෝගියාට ලස්සන ඇඳුම් ආයිත්තම් ඇඳලා අන්දවලා සනීප කරන්න හදනව වගේ. කුෂ්ට රෝගියාට ආයිත්තම ඉතාම අප්‍රලක් වෙනව. කරදරයක් වෙනව. ඉස්සර වෙලා කුෂ්ටය සනීප කරගෙන ඉන්න ඕනෑ. ඒ වගේ තමයි දුක ගැනත්. දුකට හේතුව වන තෘෂ්ණාව අවබෝධ කරගන්න ඕනෑ. අපේ සිත්වලට තෘෂ්ණාව විවිධ ආකාරයෙන් එනවා, ඒක නිතරම මෝදු වෙනවා. කාම තණ්හාවක් දැන් තියනව, භව තණ්හාවක් දැන් තියනව, විභව තණ්හාවක් දැන් තියනව ආදී වශයෙන් තෘෂ්ණාව පිළිබඳව හොඳ පැහැදිලි අවබෝධයක් ඇති කරගත්තොත් ඒක පොඩි වැඩක් නෙවෙයි. ඒක දුක්ඛ සත්‍යයට වඩා ගැඹුරෙන් තියන දෙයක්. නමුත් ඒක අවබෝධ කරගත්තොත් මෙන්න මේකටයි තට්ටු කරන්න ඕනැ, මේකටයි පිළියම් යොදන්න ඕනැ. බාහිරේ තියන මේ කුෂ්ටයට ආභරණ ප්‍රශ්නය වාගේ නෙවෙයි කුෂ්ටය සනීප කරන්න ඕනෑ වගේ, තෘෂ්ණාව සනීප කරන්න ඕනැ.

නමුත් අපේ ථෙරවාද බෞද්ධ ක්‍රමයේදී වඩාම ප්‍රකට වඩාම ආසන්න හේතුව වශයෙන් තෘෂ්ණාව දක්වලා තිබුණට තෘෂ්ණාවට ඇතින්

තව හේතුවක් තියනවා. සාමාන්‍යයෙන් පටිච්ච සමුප්පාදය අනුව ගත්ත නම් තෘෂ්ණාවටත් ආසන්න හේතුවකුත් තියනව, ඈත හේතුවකුත් තියනවා. තෘෂ්ණාවට ආසන්න හේතුව වේදනාව. **වෙදනා පච්චයා තණ්හා** තෘෂ්ණාවට වේදනාවට තණ්හාවට මූල හේතුව වෙන්නෙ අවිද්‍යාව. අවිද්‍යා වේදනා තණ්හා මේ සෑම දේටම මුල් වෙන්නෙ ආශ්‍රව ධර්ම. ඒක නිසා අපට මේ ඉතාමත් ප්‍රකට, නැත්නම් ප්‍රකටව දැනගත යුතු තණ්හාවවත් ඇත්තක් වශයෙන් ඇති හැටියක් වශයෙන් දකගන්නට බැරි නම්, ඒකට හේතු වන්නා වූ වේදනාව අපෙන් තවත් දුරස්තර වෙනව. ඊටත් ඈතින් තියෙන්නා වූ අවිද්‍යාව අපි සමහර වෙලාවට විද්‍යාවක් වශයෙන් ගන්න පුළුවන්. **අසාරෙ සාරමතිනො** ආදී වශයෙන් කියනකොට අසාරය සාරයක් විදියට ගන්න ඉඩ තියනවා. **සාරෙ චාසාරදස්සිනො** අසාරයේ සාරය දකින, සාරයේ අසාරය දකින මට්ටමට යන්න පුළුවන්.

ඒක නිසා මේ දුක හොඳටෝම ප්‍රකටව ඇස්පනාපිට පෙන්නන දේ නෙ. අද ලෝකෙ අද ලංකාවේ වර්තමානයේ ඉතාමත්ම ප්‍රකටයි. මේ ප්‍රකට දේට මූලික හේතුව තණ්හාව කියල හිතනව නම් අනේ මේ අද කරන බහුශෘත දේශනා සාකච්ජා පවත්තන ඇත්තන්ගෙ කාලෙ කොච්චර නාස්ති වෙනවද? මේ ඇත්තො හරියට උත්සාහ කරනවා මේක නැවත යළි ගොඩ නගන්න. ආයෙ නොඑන තත්ත්වයට පත් කරන්න. ඒ මොකද හේතුව? මනුෂ්‍ය මරණ නැති කරන්න පුළුවන්කම තිබුණා. මේ නොදැනුවත්කම නිසා පැරදුණා. ලබන සැරේ නම් ගිලෙන්නේ නෑ. නමුත් ඔය වෙලාවේදී රළ නිසා කොච්චර මාළුවො බේරුණාද? උන් පිළිබඳ හරිම කනගාටුවක් තියෙන්නෙ. අපේ ධීවර කර්මාන්තය කඩා වැටුණා. හරිම ශෝකයි. දැන් කට්ටිය ලෑස්ති වෙන්නෙ මොකකටද? ඉතිරි වන මනුස්සයො දැල ධීවර කර්මාන්තය නගා සිටුවන්න. එතකොට මොකද වැඩේ? මාළුන්ගේ පැත්තෙන් බැලුවොත් මොකද වෙන්නෙ? එතකොට මාළු කෑමට තියන ආශාව තෘෂ්ණාව භව තණ්හාව පිළිබඳව මේ ශිෂ්ට සම්පන්න ලෝකෙ, මේ ආගමානුකූල රටේ මේ කරන ව්‍යාපාර ඇයි දකින්න බැරි මනුෂ්‍යයාට? කාම තණ්හාව යට කෙරුවට පස්සෙ දුක මතු වෙන්න ඉඩ තියනව නෙ.

ඒ නිසා මනුෂ්‍යයින් මැරීම පිළිබඳව අපි ඉතාමත්ම ශෝක වෙනව. ඒ මොකද, අපිට වගේ ඒ මැරිච්ච ඇත්තන්ටත් ඇහැ කට දිව නාසය ශරීරය වගේ ස්වරූප තිබුණා. ඒ නිසා මනුෂ්‍යයෙක් මැරුණම මනුෂ්‍යාට ඉතාම තදින් දුක දැනෙනව. සත්තු මැරුණට? ඒක කල්පනා කරන්නේ මනුස්සයො ගණන් කෙරුවට පස්සෙ. ඒත් දැන් කියනවා සමහර සත්තු බේරිලා තියනවා මනුෂ්‍යයාට බේරෙන්න බැරි තරම්. ඊටත් පස්සෙ දැන් කියනව දැන් අපරාදෙ ධීවර කර්මාන්තය හොඳටෝම වැටිල. දැන් කට්ටියම එකතු වෙලා වහාම ධීවර කර්මාන්තය නගා සිටුවන්න ඕනැ, ආයෙ අර පුරුදු තාලෙට කාම තණ්හාව, භව තණ්හාව, විභව තණ්හාව වඩන්න. ඉතින් මෙහෙව් දේක නිෂ්ටාවක් කෙළවරක් කවදක්වත් හොයන්න පුළුවන් වෙයි කියල හිතනවද සාමූහික වශයෙන්, රටක් වශයෙන්, ප්‍රතිපත්තියක් වශයෙන්, නැත්නම් සංස්කෘතියක් වශයෙන්? ඒ ඇත්තො කරන දේ බොරුයි කියන්න පුළුවන්ද අපට? ඒක තමයි යථාර්ථය. ඒක තමයි ලෝක ප්‍රජාවගෙ වැඩේ.

නමුත් සතිපට්ඨානය තේරුම්ගන්න උත්සාහ කරන පිරිසක් වශයෙන් අපි එක පැත්තකින් තෘෂ්ණාව වඩන ගමන් මත්තට මෙහෙම ව්‍යසන අපට නොවේවා, ජාති දුකක් නොවේවා, ජරා දුකක් නොවේවා, ව්‍යාධි දුකක් නොවේවා, මරණ දුකක් නොවේවා, ශෝක පරිදේව දුක්ඛ දෝමනස්ස නොවේවා කියල ප්‍රාර්ථනා කරන්න පුළුවන් ශක්තියක් අපට තියනව. මේ සෙල්ලම තමයි හැමදාම අපේ ජීවිතයේ සිද්ධ වෙන්නෙ. ඒ නිසා මේක හතීකොන අයින් කරගන මේකට සුදුසු පරිසරයක් ඇති කරගන්න තමයි **අරඤ්ඤගතො වා රුක්ඛමූලගතො වා සුඤ්ඤාගාරගතො වා** කියන්නෙ. ඒකට විශාරද බොහෝදෙනා කියන්නෙ 'ඕක ඔක්කෝටම කරන්න බෑ'. ඒ නිසා අපි කොහෝම හරි මේ කබරගොයා තලගොයා කරගන්න ඕනෑ කන්න. ඒ නිසා එදිනෙදා ජීවිතයේ කටයුතු කරන ගමන් බුද්ධාගමේ ගැඹුරු ධර්ම තේරුම්ගන්න උත්සාහ කරන විධියට තෙම්පරාදු කරලා ඔප කරලා ගන්න දේශකයන් වහන්සේලා හරීයට උත්සාහ කරනව. මේක නිසා තමයි අපවත් වෙච්ච පණ්ඩිත ස්වාමීන්වහන්සේ කිව්වේ බණ වගේ මොනවද කියනව - බණ වගේ. විශේෂයෙන්ම දුක්ඛ සත්‍යය අවබෝධ කිරීමේදි සමුදයට කිට්ටු කථාවක් තමයි තියෙන්නෙ, ජාති ජරා ව්‍යාධි මරණ. ඒක තමයි සමහර වෙලාවට සත්‍යය විස්තර

කරනකොට පෙන්වන්නෙ ජාති ව්‍යාධි මරණ පමණයි. නැත්නම් ජාති ජරා මරණ පමණයි. ජාති ව්‍යාධි දෙක එකට දල තියනව.

ජරා ව්‍යාධි මරණ තුනකට දල ගත්තත් ජරා මරණ දෙක දෙකට දල ගත්තත්, නැත්නම් ජරා මරණ වශයෙන් ගත්තත් ව්‍යාධි මරණ වශයෙන් ගත්තත් මේ දෙකටම හේතුව වශයෙන් සමුදය වශයෙන් පෙන්වන්නෙ ජාති. මේක තේරුම් අරගන්න ඉතාමත් අමාරුයි මනුෂ්‍යයින්ට. මනුෂ්‍යයා කියන සතා හැමදම ජාතියට කැමතියි ජරා මරණවලට කැමති නෑ. ඒ වගේ තමයි දුක්ඛ සත්‍යයට කැමති නෑ සමුදය සත්‍යයට කැමතියි, නැත්නම් තෘෂ්ණාවට කැමතියි. තෘෂ්ණාව තමයි ප්‍රගතිය වෙලා තියෙන්නෙ. තෘෂ්ණාවෙන් තමයි ඉදිරි ගමනට ජවය ලැබෙන්නෙ. ඒ නිසා ප්‍රගතිශීලී වෙන්න ඕනෑ. ඔය කියන ආරණ්‍යගතව රුක්ඛමූලගතව ශූන්‍යාගාරගතව ආනාපාන බුද්ධාගමේ ගැඹුරු ධර්ම සති භාවනා කරන ඇත්තො පුදුමාකර විදියට ආත්මාර්ථකාමී වැඩ පිළිවෙළක් කරන්නෙ. ඒ ඇත්තන්ට මේ ප්‍රගතිය තේරෙන්නෙ නෑ. ඒ ඇත්තන්ට මේ මහා කරුණාව නෑ, අනිත් අයට තියන අනුකම්පාව නෑ, කියල ඒක තාලෙකට තෙම්පරාදු කරගන්න හදන ගතිය අද කාලෙ ඉතාම ප්‍රකටයි.

නමුත් හොඳක් හෝ වේවා නරකක් හෝ වේවා තරුණ පිරිසක් අද ඉන්නවා මෙන්න මේ තත්ත්වය හොඳට තේරුම් අරගෙන අම්මා තාත්තා මේක කිව්වත් ප්‍රතික්ෂේප කරල සත්‍යය දකින්න කැමතියි. හොඳ දක්ෂ යයි නම්බු නාම ලබාගත්තු ගුරුවරු මේක කිව්වත් මේකෙ තියන පුස්ස දකිනව. ඒකට හේතුව මොකද, සතිපට්ඨානයෙ මේ නියම ධර්මය තාම තියනවා. ඒකෙ පෙන්නලා දීල තියනවා තෘෂ්ණාව පිළිබඳ යථාවබෝධයක් අවශ්‍යයි. තෘෂ්ණාව වුණත් මිථ්‍යා දෘෂ්ටියකට වට්ටගෙන බොහෝම සීලවන්ත ජීවිතයක් ගත කරගන්න පුළුවන්. සීල ව්‍රත සමාදන වුණාට පස්සෙ දැඩි ව්‍රතවලට ලෝකයා දහයට නමයක් නතු වෙනවා. ඒත් සම්පූර්ණ ප්‍රශ්නය උග්‍ර වෙනවා මිසක්ක ගැලවෙන්නෙ නෑ. ඒ වාගේම තමයි මිථ්‍යා දෘෂ්ටියක් තියාගෙන ඔය කියන විධියෙ සමාධියක් ඇති කරගන්නත් පුළුවන්. ඒත් කාම තණ්හා භව තණ්හා විභව තණ්හාවෙ තුනී වීමක් නොවී තියෙන්නත් පුළුවන්.

ඒක නිසා මේ මත්තට විස්තර කරන කාම තණ්හා භව තණ්හා කියන මේ දේවල්වල උත්පත්තිය මේකෙ පැවැත්ම ගැන කථා කරනකොට සර්වඥයන් වහන්සේ පෙන්නන්නෙ **පියරූපං සාතරූපං** කියල. අවසාන අපේ ථෙරවාද ගැඹුරු විග්‍රහයෙ තියනවා පිය රූප සාත රූප කියල කිව්වහම කාම තණ්හාව ඇති කරන්න පුළුවන් ලෝකෙ තියන සෑම නාමරූපම මේකට ගැනෙනව. ලෞකික වශයෙන් තියෙන්නා වූ සෑම නාමරූපයක්මත්. ඉතින් ඕකට ශුද්ධාෂ්ටකය කියාගන ඒක හොඳයි කියන්න පටන්ගන්නව නම් හිතන්න ඕනෑ ආරම්භයට මේක හොඳයි. නමුත් ඔය ශුද්ධාෂ්ටකයත් අතඅරින්න වෙනවා. එහෙම නැත්නම් සමාධියත් අතඅරින්න වෙනවා. එතෙන්ට ගියාට පස්සෙ තමයි අපිට කාම තණ්හා භව තණ්හා විභව තණ්හා පිළිබඳව අපේම කියන අවබෝධ ඥනයක් ඇති වෙන්නෙ. ඉතින් මේකට භය වෙලා කාම තණ්හාව සම්පූර්ණයෙන්ම දුරු කෙරුවොත් අපි නන්නත්තාර වෙයි, අපිට තේමාවක් නැති වෙයි, අපි තනි වෙයි, අපි කොටු වෙයි කියන අදහස හොල්මනක් වශයෙන් හිතේ තියනව නම් ඕකෙන් කවදාවත් මං හිතන්නෙ නෑ පිරිසිදු සීලයක් රකින්න පුළුවන් වෙයි කියල. පිරිසිදු සමාධියක් ගන්න පුළුවන් වෙයි කියල.

මේ නිසයි, මේ ඥන විභාගයේදී විපස්සනා ඥනවල උදයබ්බය ඥනය හොඳටෝම බලවතරව පහළ වුණාට පස්සෙ භංග, භය, ආදීනව. ඊගාවට නිබ්බිද ඥනය. නිබ්බිද ඥනයේදී ඔක්කාර ගතිය එනවා. යෝගාවචරයා කොච්චර වසංගන්න හැදුවත් කාම තණ්හා භව තණ්හා විභව තණ්හාවේ අපි මෙතෙක් කල් අල්ලගෙන රහසෙ පච් කරන ගතිය, නැතිනම් රහසෙන් භවයට කැමති ගතිය, රහසෙන් උච්ඡේද දෘෂ්ටියට කැමති ගතිය ඔක්කාර වෙනවා. විශාල වෙහෙසකට පත් වෙන්න වෙනව. නමුත් ඒ වෙහෙස බොහෝමත්ම සාධාරණයි. හොඳයි. ඒක පින්වත් දරුවෙක් ප්‍රසූතිය පිණිස ඇති කරන්නා වූ ප්‍රසව වේදනාව වගේ එකක්. එතෙන්ට ගියාම ගුරුවරයෙකුගේ නිසි මග පෙන්වීමක් අවබෝධයක් නැත්නම් මේ යෝගාවචරයා පැහැදිලි ප්‍රකාශන කරන්න පුළුවන්, අවංක යෝගාවචරයෙක් නම්, මේ වැඩ පිළිවෙළ දුක නැති කරන එකක් නෙවෙයි දුක වඩන එකක් කියල. ඒ තරමටම භාවනාව හොඳට යනකොට පුදුම විදියට එපා වෙන ගතියක් එන්න පටන්ගන්නවා. සමහර

වෙලාවට භාවනා කරන ගුරුවරයත් එපා වෙනව. භාවනා ක්‍රමයත් එපා වෙනව. ස්ථානෙත් එපා වෙනව, ආහාරත් එපා වෙනව, ඍතුවත් එපා වෙනව, සබ්‍රහමචාරීන් වහන්සේලත් එපා වෙනව. මොනම දෙයක්වත් එපා කරන තත්ත්වෙට එනවා. ඒ මොකද, එතනින් එහාට ඥාණය මෝරන්න නම් දුක්ඛ සත්‍යය විතරක් මදි. දුකට හේතු වෙන්නා වූ සමුදය පිළිබඳ යථාවබෝධයක් අවශ්‍ය වෙනවා.

ඒ නිසා සමුදය සත්‍යය පිළිබඳව යථාවබෝධය මෙතෙක් කල් වහන්න බාධා කරන්න හේතු වුණේ අපි සමුදය සත්‍යය දිහා බැලුවෙ තරහෙන් ක්‍රෝධයෙන් වීමයි. ඒ එපා වෙන ගතිය නීරස ගතිය ඒකාකාර ගතිය පාළු ගතිය එනකොට මේක පිළිබඳව අපි ළඟ තිබුණේ ද්වේෂය පදනම් කරගත්ත, මේක ඉක්මනට පිහල අරින්න පුළුවන් ක්‍රමයක් හොයන ගතියක්. නමුත් සර්වඥයන් වහන්සේ හෝ උන්වහන්සේගේ උපදෙස් දෙන්නා වූ අනෙකුත් ඇත්තෝ කියනවා මේ වෙලාවේ මේ එපා කරන ගතිය, නිබ්බිදුව විෂයෙහි ප්‍රඥාවෙන් බලන්න, නිබ්බිදුව නිබ්බිදුව වශයෙන් මෙනෙහි කරන්න. අන්න එතකොට අපට තේරෙන්න පටන්ගන්නවා කාම තණ්හා භව තණ්හා විභව තණ්හාව කියන මේ තුන තමන් ප්‍රත්‍යක්ෂ කරගන්න නම් ලොකු ඥාන ශක්තියක් අවශ්‍ය වෙනව. මෙතැනදී එපා වෙන ගතිය කම්මැලි ගතිය නීරස ගතිය එනවමයි. එතැනදී ඒක හොඳ පූර්ව සකැසීමකින් යුක්තව දැනගෙන දැකගෙන ප්‍රඥාවෙන් බැලුවොත් මේක ඥානයක් බවට පත් වෙනව. ඒකට කියනවා නිබ්බිදා ඥාන කියල.

මේ නිසා පටිච්චසමුප්පාදය දෙළොස් ආකාරයට බෙදනකොට වැදගත් පුරුකක් විධියට පෙන්වන්නෙ **වෙදනා පච්චයා තණ්හා**. මේ **වෙදනා පච්චයා තණ්හා** ඇති වෙන වෙලාවෙදි තණ්හාව අපට ඕනෑ තාලෙට හිටියෙ නැත්නම්, හරස් වෙන සෑම දේකටම වෛර කරන එක තමා අපේ හිත කරන්නෙ. නුරුස්නා ගති එපා ගති නිදිමත ගති එනව. නමුත් **වෙදනා පච්චයා තණ්හා** කියන එක අනිවාර්යයෙන්ම මතු වෙන බව හොඳ අවබෝධයකින් යුක්තව බලාගෙන සිටියොත් ද්වේෂය වෙනුවට නුරුස්නා ගතිය වෙනුවට ඒ වෙලාවට ප්‍රඥාව පහළ වෙනව. එතකොට **වෙදනා පච්චයා පඤ්ඤා.** ඊට පස්සෙ අවිද්‍යාවේ සිට වේදනාව

දක්වා පහළ වන සෑම සිතුවිල්ලක්ම සෑම සිද්ධියක්ම මොන තරම් ජවයකින් සිද්ධ වුණත් ඒ හැම දෙයක්ම ප්‍රඥුව පිණිස හිටිනව. තණ්හාව පිණිස නෙවෙයි.

මෙන්න මේ වෙනස ඉස්සෙල්ලාම සිදු වීම තමයි මේ අපි සඳහන් කළ නිබ්බිද ඥානයෙදි සිද්ධ වෙන්නෙ. නිබ්බිද ඥානයෙදි පටන්ගන්න හැමදම හැම වෙලාවෙම හරිම වෙහෙසයි. හරිම නුරුස්නාසුලු ගති පහළ කරනවා. නමුත් මේ නුරුස්නාසුලු ගතිය සතියෙන් සම්පජඤ්ඤයෙන් යුක්තව අවබෝධ කළ යුතුයි, මෙනෙහි කිරීමෙන් යටපත් කළ යුතුයි කියල දවසක ඒක යටපත් කෙරුවට පස්සෙ ඒක නිබ්බිද ඥානයක් බවට පත් වුණාට පස්සෙ තේරෙන්න පටන් අරගන්නව අපි මෙතෙක් කල් හොඳයි කියල හිතාගෙන හිටපු දේවල් හොඳම නෙවෙයි. නරකයි කියල හිතපු දේවල් නරකම නෙමෙයි. ඒව පිළිබඳවත් සතියෙන් සම්පජඤ්ඤයෙන් බලනකොට විශේෂ ඥානයක් පහළ වෙනව. ඒ නිසා කාම තණ්හා භව තණ්හා විභව තණ්හා පිළිබඳ යථාවබෝධය සුතමය වශයෙන් හෝ චින්තාමය වශයෙන් හෝ, එහෙම නැත්නම් ඥාන අවස්ථාවෙදි පහළ වෙන පච්චත්ත වශයෙන් ලැබෙන දේ විශාල වෙනසක් අපේ ජීවිතේ ඇති කරනව.

භාවනාවෙ ඉහළට යනකොට යනකොට, විශේෂයෙන් මම සඳහන් කරන්නෙ ඒ මාර්ග ඥානවල ඉහළට යන කෙනාට කාම තණ්හා භව තණ්හා විභව තණ්හා කියන මේ තුන ඇති, ඒ වගේම ඒවා පෝෂණය කරමින් ශුද්ධවන්තයො වශයෙන් ජීවත් වෙන්න නිදහසට කරුණු දක්වන, නැත්නම් උත්සාහ කරන අය වේවා පැහැදිලිවම පේන්න පටන්ගන්නව. මේ පුද්ගලයා කාම තණ්හාව භව තණ්හාව තියාගනත් එක්කො නෑ කියන්න උත්සාහ කරනවා. නැත්නම් ඒකට එහෙන් මෙහෙන් පැනල කරුණු ඉදිරිපත් කරන්න හදන ගතිය ඉතාමත්ම ප්‍රකටයි. ඒක නිසා මේ භවයේදීම නිවන් පිණිස කටයුතු කරනවද නැත්නම් මේ ආගම මතු භවයේ සැප පිණිස, හොඳ භවයක් පිණිස කටයුතු කරනවද කියන එක, පැත්තකට වෙලා කථා නොකර බලා ඉන්න ගියාම හොඳටම පැහැදිලියි. ඒකෙ වැඩි වාසනාවක් හම්බ වෙන්නෙ සම්‍යක් දෘෂ්ටික ඇත්තන්ට. ලොකු වුණත් පොඩි වුණත් හම්බ වෙනවා.

වඩාත් මේක කරුණු සහිතව පෙන්නන්න පුළුවන් වෙන්නෙ අනාගාමී ඥානය ආවට පස්සෙ. කාම රාග පටිඝ දුරු කළාට පස්සෙ ඕනෑම කෙනෙක් අහන ප්‍රශ්නයක් තුළ ඒ පුද්ගලයට උත්තරේ ප්‍රශ්නයෙම තියනව. ඒ නිසා ඒ ප්‍රශ්නය විග්‍රහ කර දීමෙන් ඔහුට පෙන්නල දෙන්න පුළුවන් මෙන්න මෙතනයි ඔබ යට කරගෙන තියෙන්නෙ, හංගගන තියෙන්නෙ, පාගගන තියෙන්නෙ. තමන් ඉන්නේ තමන්ගේ වලිගෙ උඩමයි. පොඩ්ඩක් නැගිටලා වාඩි වෙච්චහම වලිගෙ රිදිල්ල අඩු වෙනවා. ඒක නිසා එතෙන්ට එන තෙක්, එතෙන්ට ආවත් තව වැඩ ඉවර නෑ. අනාගාමී වුණත් තව වැඩ ඉවර නෑ. ඊට පස්සෙත් තියනව රූප රාග, අරූප රාග. නමුත් ඒ රූප රාග අරූප රාග, අර කාම රාග පටිඝ වාගේ තදබල ගොරෝසු විහිළු කරන්නෙ නෑ. ගොරෝසු ලෝකෙට හිනා කවන්නෙ නෑ, තමන්ට තමන් හිනස්සන්න වෙන්නෙ නෑ. ඒවා හිමිහිට හිමිහිට අඩු කරගෙන යන්න පුළුවන්. ඒක නිසා ලෝකෙ දිහා බලනකොට, සර්වඥයන් වහන්සේ ඉස්සර වෙලාම බුද්ධත්වය ලැබුවට පස්සෙ මේ බණ කියල ඇති වැඩක් නෑ කියල හෝ පසුබානවයි කියන එක මහා ලොකු දෙයක් නෙවෙයි.

එහෙම නැත්නම් පසු කාලෙදි සර්වඥයන් වහන්සේගේ රූප අඹනකොට තියන මඳ සිනාව ලොකු බණක් කියනව. උන්වහන්සේට මේ මුළු ලෝකෙම පේන්නෙ අසූචි මල මූත්‍ර අඳුරන්නෙ නැති පොඩි දරුවො ඒකෙ තියන රස්නෙට ඒක අතගගා ඒකෙම ගැලීගන ඉන්නව වගේ. නමුත් වැඩිමහලු වෙච්ච ඇත්තො නම් ඒවාට අසූචි කියල කියනව, මල කියනව, මූත්‍ර කියනව. එතකොට ඒව අතගාන්නෙ නෑ. නමුත් පොඩි කාලේ මේ අතගාන අතගෑවිල්ල කාම තණ්හා භව තණ්හා විභව තණ්හා විෂයේ නම් ඉතාමත්ම ප්‍රකටයි. මොකද හේතුව, මේ ලෝකේ වේදිකාවේ නටන්නෙ දුක්ඛ සත්‍යය. වේදිකාව පිටිපස්සේ තියෙන්නේ සමුදය සත්‍යය. සමුදය සත්‍යයෙ විස්තරේ තමයි කාම තණ්හා භව තණ්හා විභව තණ්හා.

ඉතින් ඒක නිසා අනාගමික හෝ මිථ්‍යාදෘෂ්ටික ඇත්තො කාම තණ්හා භව තණ්හා සහිත දෙවියන් වහන්සේ කෙනෙක් ගැන ප්‍රාර්ථනා කළාට අපි එච්චරම සැලෙන්න දෙයක් නෑ. ඒ දෙවියන් වහන්සේ පැහැදිලිවම ප්‍රකාශ කරනව මම ඊර්ෂ්‍යාවන්ත දෙවි කෙනෙක්. මටත්

පේන්න බැරි දේ තමා තව කාට හරි වඳිනව හෝ තව කාට හරි පූජා කරනව දකින එක. එතකොට ඔවුන්ට මාගේ සාපය වේවා. ඒක කාටවක්වත් මගඅරින්න බෑ බයිබලයෙන් හරි කුරානයෙන් හරි ඒක පැහැදිලි ප්‍රකාශනයක්. ඒ ඇත්තො ඔක්කොමල ඒ ඒ දෙවියන් වහන්සේගෙ මැවුම්කාරයො. අපේ බුදුරජාණන් වහන්සේ කියල තියෙන්නෙ ඒකත් දකින්න කියල. එහෙම නම් ඒක දේව වෙන්න බෑ, සර්වබලධාරී වෙන්න බෑ, මහා කරුණාව වෙන්න බෑ තව කෙනෙකුට ඊර්ෂ්‍යා කරනව නම්. මේ ගතිය අපේ දේවත්වය තුළත් තියනව. ඒ මොකද, අපේ භවය මවන්නෙ අපිමයි. ඒ භවය මැවීමට අපිට හේතු වෙන්නෙ දැන හෝ නොදැන ප්‍රසිද්ධියෙ හෝ අප්‍රසිද්ධියෙ විඳින්ට පත් වෙලා තියන කාම තණ්හා භව තණ්හා විභව තණ්හා. ඒක නිසා **පියරූපං සාතරූපං** කියල ගත්තට පස්සෙ ලෞකික වශයෙන් තියන සෑම ධර්මයක්ම ඒකට යටයි.

ඒක නිසා අපට ඒ ධර්මවලින් එගොඩට යන්න පරමාර්ථ වශයෙන්, නැත්නම් උත්කෘෂ්ට වශයෙන් ගත්තහම ධර්මයත් අත අරින්න වෙනව. ඒ නිසා අපේ පොතේ සඳහන් කරනව අපි මේ වගේ ස්ථානවල නිතර කථා කරන සතිය, ඉතාමත්ම ආයාසයෙන් ආදරයෙන් පුහුණු කළ යුතු සතියත් දුක්ඛ සත්‍යයටයි වැටෙන්නෙ. මේකත් අතඅරින්න වෙනව. මේක අතඇරිය නැත්නම් එයින් දුකක් ඇති වෙනව. නමුත් ඒක විශාල උත්ප්‍රේරකයක් සේ ගමනට හුඟාක් උදව් කරනව. උදව් කරලා අවශ්‍ය වෙලාවට එයා පැත්තකට වෙනව. හොඳටෝම කෘත්‍යය ඉවර වුණාට පස්සෙ පැත්තකට වෙනව. පැත්තකට වුණාට පස්සෙ උපේක්ෂාවෙන් හෝ ගොත්‍රභූ ඥානයෙන් ඉතුරු වැඩ කොටස කරනව. ඒ නිසා සතිය නැත්නම් සද්ධර්මය, මේ සෑම දෙයක්ම අත ඇරිය යුතු දේවල්. මේ සේරම ලෞකික වශයෙන් දේශනා කරන ලද දේවල්. ඒ නිසා අපි හොඳට තේරුම් අරගන්න ඕනැ විශේෂයෙන් මේ වගේ දෙයක් ගැන කියන්න වෙන්නෙ දුක්ඛ සත්‍යය විස්තර කරනකොට නෙවෙයි දුකට හේතු වෙන්නා වූ සමුදය ගැන කථා කරනකොටයි.

ඒ නිසා කාම තණ්හා භව තණ්හා විභව තණ්හා තමා තමා වශයෙන් බලනකොට හිතන්න මේක දැනට මේ මට තියෙන්නෙ. මා ළඟ

මේක තියනවා. ඒක නිසයි මේ භවය ගත කරන්නෙ. ඒකයි මට මේ දුක. ඒ නිසා මම ක්‍රියාවක් කරනකොට කථාවක් කරනකොට සිතුවිල්ලක් ඇති කරනකොට නිතරෝම සැලකිලිමත් වෙන්න ඕනැ අනිත් අය සමග ඇති වන ස්පර්ශයේදී ගැටීමේදි මොකක්ද මා තුළින් මේ ක්‍රියාත්මක වන කාම තණ්හාව? මොකක්ද මා තුළින් ක්‍රියාත්මක වෙන එක්කො භව එක්කො විභව තණ්හාව? අන්න ඒක දැක්ක නම් ඊට වැඩිය වටිනා ධර්මයක් ඇත්තෙ නෑ ඒ චිත්තක්ෂණයේ. ඒක නොදකින්න කරන්නා වූ මේ මවා පෑම සත්‍යත්වය හේතුවෙන් හෝ මොකක් හෝ වේවා එහෙම නම් සිද්ධ වෙන්නෙ, තවත් සංසාරයක් ජීවත් වෙන්න ඕනැ ඔය චිත්තක්ෂණය ආයෙත් ඇවිල්ල තේරුම්ගන්න. ඒ නිසා කාම තණ්හාව මතු වෙන්නෙ භව තණ්හාව මතු වෙන්නෙ විභව තණ්හාව මතු වෙන්නෙ පවේදී විතරයි කියල හෝ පිනේදී විතරයි කියල හෝ කවදාවත් කියන්න බෑ. පව් පින් දෙක තියන තාක් කල් මේක ඇති වෙනව. චේතනාව පවතින තාක් කල් මේක තියනව. කර්මය පවතින තාක් කල් මේක තියනව. මනෝ සංචේතනාව පවතින තාක් කල් මේක තියනව.

ඒ නිසා අපට සිද්ධ වෙනවා මේ දෙකෙන් අකුසල් චේතනාව මාර්ගයෙන් ඇති වන අකුසල් චේතනාව කුසල චේතනාව මාර්ගයෙන් ප්‍රතික්ෂේප කරන්න. නැත්නම් අකුසල කර්ම කුසල කර්ම මාර්ගයෙන් ප්‍රතිෂ්ඨාපනය කරන්න. ඊට පස්සෙ ඒ කුසල කර්ම එන්ඩ එන්ඩ එන්ඩ සියුම් සියුම් කුසල කර්මවලින් ගොරෝසු කුසල කර්ම අයින් කරමින් අයින් කරමින් අයින් කරමින් ගිහිල්ල අවසානයේ ක්‍රියා සිතකින් අර කුසල චිත්තය ප්‍රතිෂ්ඨාපනය කරන්න. එතකොට පටිච්ච සමුප්පාදයක් ක්‍රියාත්මක වෙනවා. **ඉදං නිස්සාය ඉදං පජහති** - කුසල කර්ම හේතු කරගෙන අකුසල කර්ම පිහල හරිනවා. කුසල කර්මවලත් ගොරෝසු ගොරෝසු කුසල කර්ම සියුම් සියුම් කුසල කර්මවලින් ප්‍රතිෂ්ඨාපනය කරමින් කරමින් ගිහිල්ල අක්‍රිය හිතකින්, නැතිනම් අපි කියනව ක්‍රියා හිත කියල, නැත්නම් තද බල උපේක්ෂා හිතකින් අර සම්පූර්ණ චේතනා කර්ම, **චෙතනාහං භික්ඛවෙ කම්මං වදාමි** කියල සර්වඥයන් වහන්සේ සඳහන් කරලා තියෙන විදිහට, මේ තණ්හා ඔක්කෝම අයින් කරන්න ඕනැ. ඉතින් මේකෙදි උත්කෘෂ්ටම දේ මතු කරල ගන්න ගියාම කුසල චේතනාවත් කුසල කර්මයත් ක්‍රියා හිතකින් අයින් කරන්න ගියාම

ඇත්තටම සමහරෙකුට රිදෙනව. කරන්න දෙයක් ඇත්තෙ නෑ. නමුත් මේක අපේ සමීකරණයේ අනිවාර්ය අංගයක් මිස මේක පස්සෙ සාකච්ඡා කරන්නම් කියල පැත්තකට තිබ්බොත් නම් මේක උඩුයටිකුරු වෙනව.

සර්වඥ දේශනාවෙදි උත්කෘෂ්ටම දේ, උසස්ම දේ ඉහළින් තබාගැනීමට කටයුතු කරන ඒ උත්කෘෂ්ට ක්‍රමයට යනකොට ඒ පුරුක ඒ වැදගත් සන්ධිස්ථානය හැම වෙලාවේම මතක තියාගන්න ඕනෑ. ඒක විශේෂයෙන්ම අවශ්‍ය වෙන්නෙ යමක සමුදය හොයනකොට. යමක මතු වෙලා තියන දුක්ඛ සත්‍යය, දුක්ඛ සත්‍යය වශයෙන් බලනකොට අපට එච්චර ඒකෙ ගැඹුරක් ඕනැ නෑ. මොකද, දුක්ඛ සත්‍යය බොහොම ප්‍රකාශිත දෙයක් ලෝකයෙ. නමුත් මනුෂ්‍යයාගෙ ශක්තියක් තියනවා, හැකියාවක් තියනවා ආගමානුකූල ඇත්තන්ගෙ ගතියක් තියනවා, ඒකට හේතු හොයන්න. හේතු හොයන්න ගියාම නම් සර්වඥයන් වහන්සේ අවසාන වශයෙන් උත්කෘෂ්ට වශයෙන් දීල තියෙන්නෙ විපස්සනා දැක්ම මේ ප්‍රතිෂ්ඨාපනය අනිවාර්යයෙන්ම අවශ්‍යයි.

දවසක් සර්වඥයන් වහන්සේ මල්ල ජනපදයේ ගත කරනකොට එතෙන්ට පැමිණෙනවා **භද්‍රක** කියලා ගම්පතියෙක්. ජ්‍යෙෂ්ඨ ගම්පතියෙක්. ගාමිණී කියල වචනෙත් යොදගෙන **භද්‍රක ගාමිණී** කියල තමයි නම සඳහන් වෙන්නෙ. ගාමිණී කියන්නෙ පට්ටම් නාමය. නැත්නම් ඔහුට ලැබිච්ච ගම් දෙටු කියන නම. මේ පුද්ගලයා ඇවිල්ල සර්වඥයන් වහන්සේට කියනවා, අවසරයි ස්වාමීන් වහන්ස මට දුකේ සමුදයත් නිරෝධයත් ගැන පොඩ්ඩක් කියල දෙන්න කියල. **සමුදයං ච නිරොධං ච**, වෙන විධියට කියනවා නම්, අස්සජි ස්වාමින් වහන්සේ දේශනා කරපු ගාථාවෙ පසු කොටස මට විස්තර කරල දෙන්න කියවා වගේ. **යෙ ධම්මා හෙතුප්පභවා තෙසං හෙතුං තථාගතො ආහ, තෙසං ච යො නිරොධො.** දුකත් දුකට හේතු වන තෘෂ්ණාවත් තෘෂ්ණාවේ සමුදයත් කියන මුල් ආර්ය සත්‍ය තුනේ දුක ගැන ඇත්ත අහන්නේ නෑ මෙතන. කියනව දුක්ඛ සමුදයත් නිරොධයත් මට කියල දෙන්න කියල. එතකොට සර්වඥයින් වහන්සේ කියනවා මම උඹට දුකේ සමුදය මෙහෙම වුණා. මේක අතීතෙදි වුණේ මෙහෙමයි කියල කිව්වොත් උඹ සමහර වෙලාවට සැක කරන්න ඉඩ තියනව, උඹට දැන් සිතුවිලි විතක්ක ප්‍රශ්න පහළ වෙන්න ඉඩ තියනව,

අතීතයෙ මෙහෙම වුණාට වර්තමාන වශයෙන් කොහොමද කියල. යම් ආකාරයකින් මම උඹට කිව්වොත් සමුදය ඇති වෙන්නෙ අනාගතයේදී මෙන්න මෙහෙමයි කියල, සැක සිතිවිලි නිසා උඹට ඒක පැහැදිලිව අවබෝධ කරගන්න බෑ. මතක තියාගනින් මම දැන් මෙතන ඉඳගෙන ඉන්නවා, උඹ ඔතන ඉඳගෙන ඉන්නවා මම දැන් කියල දෙන්නම් මේක දැන් ඇති වෙන හැටි කියල වර්තමාන වශයෙන් මම උඹට සමුදයත් නිරොධයත් මතු කරලා දෙන්නම් කියනව.

එහෙම කියල අහනවා මේ ජනපදයේ යම් කිසි කෙනෙකුට දුකක් කරදරයක් පීඩාවක් හිංසාවකට පත් වුණාම උඹට දුක හිතෙන ජාතියෙ මනුෂ්‍යයො මේ ජනපදයේ ජීවත් වෙනවද කියල. එතකොට ඒ පුද්ගලයා කියනවා, ඒකාන්තයෙන් ස්වාමීන් වහන්ස, මගේ සමහර පිරිස් ඉන්නවා ඒ ඇත්තන්ට දුකක් කරදරයක් කනගාටුවක් හිංසාවක් ඇති වුණාම මට පීඩාවක් ඇති වෙනව. ඒ වාගේම අහනවා මේ ජනපදයේ ඉන්නවද යම් කිසි කෙනෙක් ඒ ඇත්තන්ට දුකක් පීඩාවක් කරදරයක් හිංසාවක් පත් වුණාම උඹට ගානක් නෑ, ඒ පිළිබඳව දුකක් නැති. එහෙමයි ස්වාමීන් වහන්ස එහෙමත් තියනව. මේ ජනපදයේ ඒ ඇත්තන්ට මොන දුකක් කරදරයක් ආවත් පීඩාවක් වෙහෙසක් ආවත් ඒවට එච්චර මට ගානක් නෑ. අන්න උඹට තේරුණා. අන්න උඹට තේරුණා. මොකද යම්ම හේතුවකින් මේ ජනපදයේ කෙනෙකුට දුකක් කරදරයක් පීඩාවක් හිංසාවක් ඇති වෙච්චහම ඇයි ඒ රිදෙන්නෙ ඇයි ඒ වෙහෙසක් දුකක් ඇති වෙන්නෙ?

ස්වාමීන් වහන්ස ඡන්දරාගය නිසා. මං ඒ ඇත්තන් කෙරෙහි ඇත්තා වූ මගේ කියන බැඳීම නිසා. අන්න ඕක තමයි වර්තමාන වශයෙන්ම බලපන්, දුක ඇති වෙන්නෙ ඡන්දරාගය නිසා. යම් හේතුවක් නිසා, යම් පුද්ගලයො වගයක් ඉන්නව ඒ ඇත්තන්ට දුකක් කරදරයක් පත් වුණා, වෙහෙසක් හෝ දණ්ඩනයකට පත් වුණා. නමුත් උඹට ඒකෙන් වෙහෙසක් නෑ. දුකක් නෑ. එහෙම පුද්ගලයකුට දුකක් කරදරයක් ආවත් දුකක් නැත්තෙ මොකද? මට ඒ ඇත්තො කෙරෙහි ගානක් නෑ, මට ඒ ඇත්තො කෙරෙහි ඡන්දරාගයක් නෑ. අන්න උඹට තේරුණා. වර්තමාන වශයෙන්ම දැනගනින් දුකක් ඇති වෙන්න නම් ඡන්දරාගය තියෙන්න ඕනෑ. දුකක් නැති වෙන්න නම් ඡන්දරාගය නැති වෙන්න ඕනෑ. ඡන්දරාගය නැති වුණාම දුකක් නෑ. ඕන්න දැන් පටන්ගනින්, මෙන්න

මේක තමයි වර්තමානයේ ඡන්දරාගය දුක ඇති කරන හැටි. වර්තමාන වශයෙන් ඡන්දරාගය නැති වෙනකොට දුක නැති වෙන හැටි.

මෙන්න මේකම තමයි අතීතය. අතීතෙටත් යම් තාක් දුකක් ඇති වුණා නම් ඒ සේරම ඇති වුණේ ඡන්දරාගය නිසයි. යම් තාක් ඡන්දරාගයෙන් අතීතය මිදී හිටියා නම්, ඒ තාක් කල් උඹ නිරෝධයක් ලබනව. ඔය වගේම මතක තියාගන්න අනාගතයේ ඔබට යම් තාක් දුක් කඳක් එනවා නම් ඒ සියල්ලම එන්නේ ඡන්ද රාගය නිසයි. අනාගතයේ හෝ යම් තාක් දේවල් විෂයයෙහි ඡන්ද රාගයෙන් දුරුව ගත කළා නම් ඒ තාක් උඹට දුක නෑ. එතකොට ඒ පුද්ගලයා කියනවා, ස්වාමීන් වහන්ස මට ඉන්නව පුතෙක් චිරවාස කියල. මොකක් හරි අධ්‍යාපන කටයුත්තකට වෙන්න ඇති ඒ පුද්ගලයා පුරයෙන් එළියට ගිහිල්ල තියෙන්නෙ. ඉතින් මම නිතරෝම පණිවිඩකාරයො අරිනවා ඒ දරුවා සුව සේ ඉන්නවද කියල බලන්න. යම් හේතුවකින් ඒ දරුවා පිළිබඳ පණිවිඩකාරයා එන්න පමා වුණොත් මගේ හිත ශෝක කරනවා. මගේ හිත පරිදේව කරනව, අනේ මේ දරුවට කිසිම කරදරයක් නොවේවා මේ දරුවා නැති වුණොත් ඉතින් මගේ ජීවිතේවත් මට විශ්වාස නෑ. ඒ නිසා මේ දරුවාට දුකක් කරදරයක් නැති වේවා කියල. එතකොට බුදු හාමුදුරුවෝ අහනවා මොකද ඒ පණිවිඩකාරයාගේ පමාව පවා දරා ගන්න බැරි වෙන්න හේතුව. ස්වාමීන් වහන්ස ඒ දරුවා කෙරෙහි ඇත්තා වූ ඡන්දරාගය. අන්න අන්න ගාමිණි භද්‍රක ඔන්න ඕකෙන් තේරුම් අරගන්න උඹට ඒ දරුවා කෙරෙහි දුක ඇති වෙලා තියෙන්නෙ ඒ දරුවා කෙරෙහි ඇත්තා වූ ඡන්දරාගය නිසයි. ඒක නිසා ඡන්දරාගය යම් තාක් බලවත්ද ඒ තාක් කල් දුකයි.

එතකොට බුදු හාමුදුරුවෝ අහනවා ලස්සණ ප්‍රශ්නයක්. උඹ ඒ චිරවාසීගෙ අම්ම දැකල නැත්නම්, අහල නැත්නම් ආශ්‍රය කරලා නැත්නම්, ඒ අම්මණ්ඩි ඇති වුණා හෝ නැති වුණා හෝ දුකක් හෝ කරදරයක් වුණා හෝ දඬුවමකට පත් වුණයි කියල උඹට කරදරයක් දුකක් ඇති වෙයිද? ඒ කියන්නෙ මේ අම්මණ්ඩි බැන්දේ නැත්නම්, කසාද බැන්දේ නැත්නම්, ප්‍රේම කළේ නැත්නම් අහල බලපු නැති කෙනෙක් නම්, දුකක් ඇති වෙයිද කියල. එතකොට ඒ මනුෂ්‍යය කියනව නෑ මට ඒ මනුෂ්‍යයා දැකල අහල තිබුණෙ නැත්නම් ඒ මනුෂ්‍යයා කෙරෙහි දුකක් කරදරයක් මට ඇති වෙන්නෙ නෑ. ඒ මොකද ඒ? මේ ජීවිතේ මම ඒ ඉස්තිරියාව

දැකල නෑ. ඡන්දරාගයක් ඇති කරන්න මට විදියක් නෑ. ඒ නිසා ඡන්දරාගය නිසා තමයි ඇති වෙච්ච ඡන්දරාගය නිසා තමයි පවුල් සංස්ථාවක් ඇති වුණේ, ඒ පවුල් සංස්ථාව ඇති වුණාට පස්සෙ මගේ බිරිඳ, මගේ ප්‍රේමවන්තිය කියල හොස්ස ළඟින් මැස්ස යන්න කනගාටුයි දුක ඇති වෙනව. ඒ ප්‍රේම සම්බන්ධය නිසා ඇති වෙච්චි චිරවාසිට මොනව වුණත් දුක ඇති වෙනව.

ඒ නිසා සර්වඥයන් වහන්සේ දේශනා කරනවා තෘෂ්ණාව ඡන්දරාගය යම් තාක්ද ඒ තාක් කල් දුකයි. ඕක කවදාක්වත් අතීත ධර්ම හේත්තු කරලා තේරුම් අරගත්තට සැකයෙන් තොරව නම් අවබෝධ වෙන්නෙ නෑ. අනාගතය පිළිබඳ කොච්චර හිතල බලල ඕක අවබෝධ කළත් කවදාක්වත් ඒකෙන් සැක නුමුසුව මේ දුක අවබෝධ කරන්න බෑ. අතීතයෙන් අවබෝධ කරන්න බෑ. වර්තමානයෙන්ම අවබෝධ කරන්න ඕනැ. වර්තමානයෙන් අවබෝධ කරනකොට අනිවාර්යයෙන්ම සෞඛ්‍ය සම්පන්න හිත ඒක අතීතෙට යොදවල, අතීතයෙ යම් තාක් දුකක් ආව නම් ඒ ඡන්දරාගය නිසයි, අනාගතයෙ යම් තාක් දුකක් එනඩ තියනව නම් ඒකත් ඡන්දරාගය නිසයි කියල මේ කාරණා තේරුම්ගන්නව. ඒ නිසා වර්තමාන වශයෙන්ම තේරුම්ගන්න කියලයි ඒ භද්‍රක ගාමිණී කියන ගම් දෙටුවාට දේශනා කරලා තියෙන්නෙ.

මේ අනුව තේරුම් අරගන්න ඕනැ අද විශාල ඛේදවාචකයක් රටකට නෙමෙයි, මුළු ලෝකෙටම සිද්ධ වෙලා තියනව. තාමත් ඒකෙන් ගොඩ ඒම පිළිබඳව පැහැදිලි සමීකරණයක් දෙන්න ලෝකෙට බැරි වෙලා තියනවා. ඒ තරම්ම සැලිච්ච වෙලාවක්. ඉතින් ඒකෙදි සමහර යෝගාවචාරයො ඇවිල්ල කියනව ස්වාමීන් වහන්ස මට මේක පිළිබඳ කිසි සේත්ම දුකකුත් නෑ, හිතෙන්නෙත් නෑ, නමුත් මට හිතෙනව මගේ මොළේ නරක් වෙලාද කියල. මොකද ඒ දුක හිතෙන්නෙ නැති එක ගැන ලෝකයා බනිනවා. මේ ඔක්කෝටම වේදනාව තියනව දුක තියනව උඹට විතරක් නැත්තෙ මොකද කියල. ඒ මොකද ඇත්තටම බලනකොට ලෝකයාගේ පැත්තෙන් බලනකොට ඒ මනුස්සයට පිස්සු, ඒ මනුෂ්‍යයට කිසිම හිතක් පපුවක් නැති තත්ත්වයක් තියෙන්නෙ. නමුත් ඒ මනුෂ්‍යයා සේරම වැඩ කරගෙන කියනවා මට හොඳට කන්න පුළුවන් නාන්න පුළුවන් බුදියගන්න පුළුවන් කිසි ප්‍රශ්නයක් නෑ.

නමුත් මේ රෝගය අපට බෝ වීම අත්‍යවශ්‍යද මේ සමාජ රෝගෙ. ඔක්කෝමල අඬන නිසා අපිත් අඬන්න ඕනැ ඇඬිය යුතුද කියල. හුඟාක් වෙලා විස්තර කරලා දෙන්න සිද්ධ වුණා මේව පිළිබඳව කලින්ම හිතින් අයින් කරල තිබුණා නම් කවුරු මැරුණත් කාට දුකක් ආවත් ඒ පුද්ගලයට දුක් වෙන්න අනිවාර්යකමක් නෑ. හැබැයි ලෝකයා දුක් වෙනකොට කැක්කුමට අඬන්න දෙඩන්න ඉඩ තියනවා, නමුත් විය යුතුම නෑ. එහෙම විය යුතු නම් එහෙනම් බුදුරජාණන් වහන්සේ දේශනා කරන වර්තමාන වශයෙන් තෘෂ්ණාව අවබෝධ කිරීම වැඩකුත් නෑ. නමුත් ඒවා කියා පාන්න යන්න ඕනැ නෑ. තමන් ඒක දැනගන්න ඕනෑ. යම් තාක් දුකක් ඇති වෙනවා නම් ඒ තාක් ඡන්දරාගය නිසයි, යම් තාක් දුකින් මිදීමක් තියනව නම් ඒ ඡන්ද රාගය පහ කිරීම නිසයි. ඒ නිසා කාම තණ්හා භව තණ්හා විභව තණ්හා පිළිබඳව වර්තමානව අවබෝධ කිරීමේ වටිනාකම හොඳට තේරුම්ගන්න. එහෙම නොවුණොත් කොහොම අවබෝධ කළත් ඒකෙ තව සැක මුසු තැන් ඉතුරු වීම නිසා පූර්ණ අවබෝධයකින් ලැබෙන්න පුළුවන් ආනිශංස නැති වෙනවා.

මං හිතන්නෙ අපට මේ ප්‍රශ්නය, තෘෂ්ණාව පිළිබඳව සම්පූර්ණයෙන් කථා කිරීමට වෙලා මදි, අපේ වෙලාව සීමා වෙලා තියන නිසා. ඒ හින්ද අපි බලාපොරොත්තු වෙමු අද මේ කරුණු ටික පදනම් කරගෙන, පෙර ධර්ම දේශනාවලින් ලැබුණා වූ සාරය තහවුරු කරගෙන, ඉදිරියට ඇත්තා වූ සතිපට්ඨාන විකාශය අනුවත් මේ මතු කරගත්ත මාතෘකාව අනුවත් කාම තණ්හා භව තණ්හා විභව තණ්හා පිළිබඳව විස්තරයක් ඉදිරියේදී ලබාගන්න.

මෙතුවාක් අහන ලද ධර්මය සහ භාවනා කිරීමෙන් ලැබුණු අත්දැකීම් නිසා කාමරාගය පිළිබඳව මනා අවබෝධයක් වර්තමාන වශයෙන් තමා වශයෙන් මෙතන වශයෙන් අවබෝධය ලැබීමෙන් අපි තුළ ඇති කෙලෙස් අඩු කරගෙන, අවසානයේදී ඒවා මුළුමනින් ප්‍රහාණය කිරීමේ පූර්ණ අවබෝධයට පැමිණීමට මේ ධර්ම දේශනාවත් යම් පමණකින් හේතු වේවා! සියලුදෙනාටම සැනසීම උදා වේවා!

# 74 | අධ්‍යාත්මික ආයතන මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති:**

**යං ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අපි මේ වෙලාවට උපාසක භවතුනුත් එක් කරගෙන සතිපට්ඨාන සූත්‍රය ඉස්සරහින් තියාගෙන ඒ අනුව පවත්වාගෙන යන ධර්ම දේශනා මාලාවේ අද 74 වෙනි වතාවටයි අපි මේ රැස් වෙන්නේ. මේ වෙනකොට සතිපට්ඨාන සූත්‍රයෙන් සියයට හැත්තෑපහක් විතර වගේ දැන් හමාර වෙලා තියන බව සහභාගි වී සිටින සියලුදෙනා දන්න කාරණාවක්. අද මේ ඉදිරිපත් කරගත්ත මාතෘකාව යෙදෙන්නේ ඒ අනුව ධම්මානුපස්සනා කොටසටයි. සච්චපබ්බයටයි. එයිනුත් දෙවැනි සත්‍යය හෙවත් සමුදය සත්‍යය කොටසටයි අයිති වෙන්නේ. අපි ගිය සතියේ 73 වෙනි වතාවට රැස් වෙච්ච වෙලාවෙදි සමුදය සත්‍යය පිළිබඳව මාතෘකාවට මුල පිරුවා.

**කතමඤ්ච භික්ඛවෙ, දුක්ඛසමුදයො අරියසච්චං: යායං තණ්හා පොනොභවිකා නන්දිරාගසහගතා තත්‍රතත්‍රාභිනන්දිනී, සෙය්‍යථීදං - කාමතණ්හා භවතණ්හා විභවතණ්හා.** කියලා සමුදය සත්‍යය පිළිබඳව

විවරණයක් ඉදිරිපත් කරගත්ත. මේ සත්‍ය හතරම මුල් කරගත්තා වූ දුක්ඛ සත්‍යය මුල් පදනම කරගෙනයි යන්නේ. පළවෙනියෙන්ම දුක්ඛ සත්‍යය ඉදිරිපත් කරලා, දැන් ඒ දුක්ඛ සමුදය, දුකට හේතුවයි මේ ඉදිරිපත් කරගන්නේ. දුකට හේතුව කුමක්ද කියන ප්‍රශ්නය තමන්වහන්සේ විසින්ම නගාගන්නා වූ සර්වඥයන් වහන්සේ, පුනර්භවය ඇති කරවනසුලු නන්දිරාගයෙන් යුක්ත වූ තණ්හාව මේකට මූල හේතුව, නැත්නම් එකම හේතුව වශයෙන් හේතු ලැයිස්තුවේ මුලටම තියෙන වැදගත්ම ආසන්නතම හේතුව වශයෙන් පෙන්නනවා. ඒක කාම තණ්හාව, භව තණ්හාව, විභව තණ්හාව වශයෙන් කඩා විස්තර කරල දක්වනවා. ඒ දුකට හේතුව තෘෂ්ණාව බවත් ඒක තුන් ආකාරයකින් සන්තානයක ක්‍රියාත්මක වන බවත් දැනගත්තා වූ කෙනාට (යෝගාවචරයාට) ඊළඟට ඒ පිළිබඳව තවත් විස්තර සැපයීමේ අර්ථයෙන් තව තවත් ඒක විග්‍රහ කරනවා. විභජනය කරනවා. විස්තර කරල පෙන්නනවා.

**සා ඛො පනෙසා භික්ඛවෙ තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති.**

ඒ මේ තෘෂ්ණාව මහණෙනි, කොතනක උපදින්නේද? කොතනක ලැගගන්නේද? නැත්නම් කොතනක වසන්නේද? කියන ප්‍රශ්නය. මේකත් අර වගේම බණ අහන ශ්‍රාවක පිරිසගෙන් උත්තර බලාපොරොත්තුවෙන් නගන ප්‍රශ්නයක් නෙවෙයි. තමන් වහන්සේ විසින්ම ඒ දේශනාව තමන්ට අවශ්‍ය දිහාවට විකාශය කිරීම සඳහාම ඒ විකාශය පිළිබඳව අසන්නාගේ, ශ්‍රාවක පිරිසගේ අවධානය යොමු කරවීම සඳහාම නගන ප්‍රශ්නයක්, කරන ප්‍රයත්නයක්, කරන ප්‍රයෝගයක්. ඒ නිසා තෘෂ්ණාව කොතනක නම් උපදින්නේද තෘෂ්ණාව කොතනක නම් ලැගගන්නේද නැත්තම් නතර වෙන්නේද, වසන්නේද, වාසය කරන්නේද කියන ප්‍රශ්නයයි. එතෙන්දි සර්වඥයන් වහන්සේ සඳහන් කරන්නේ,

**යං ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.**

මේ ලෝකයේ යම් වූ ප්‍රියරූපී දෙයක්, සාතරූපී දෙයක් වෙනව නම්, ප්‍රිය භාවයක්, මිහිරි භාවයක් වෙනව නම් **එත්ථ** අන්න එතන **එසා තණ්හා** ඒ තණ්හාව **උප්පජ්ජමානා උප්පජ්ජති**. අන්න එතන තමයි මේ

ලෝකයේ, නැත්නම් මේ අපේ සන්තානය ලෝකයක් කරලා ගත්තොත් තණ්හාව උපදින්නේ. **එත්ථ නිවිසමානා නිවිසති.** එතන තමයි මේක ලැගගන්නේ. මේක මුල් බැසගන්නේ. ඒ නිසා අපි එක එක්කෙනෙක් වශයෙන් ගත්තොත්, වර්තමාන වශයෙන් ගත්තොත්, මෙතන වශයෙන් ගත්තොත් යම් වූ ප්‍රිය මනාප භාවයක් මිහිරි භාවයක් ඇත්නම් එතන තෘෂ්ණාව හටගන්න තැන, එතන තෘෂ්ණාව ලැගගන්න තැන. ඒ නිසා අර දුක්ඛ සත්‍යයටම, නැත්නම් දුක්ඛ සත්‍යය නිකං පිටින් අතගාලා ඒ වෙලාවට ඒ දුක තාවකාලිකව දුරු කිරීමේ අදහසකින් නොවේ, සම්පූර්ණයෙන්ම ඒක නැත්තටම නැති කරන අදහසින්, ඉතාමත්ම අභීතව, එහෙම නැත්නම් ප්‍රශ්නය සාකල්‍යයෙන්ම සම්පූර්ණයෙන්ම දකල දෙන්න පුළුවන් උත්තරයක් තමයි මේ - ප්‍රිය භාවය ඇති තැන්වල මිහිරි භාවය ඇති තැන්වල තෘෂ්ණාව උපදිනවා. ප්‍රිය භාවය ඇති තැන්වල මිහිරි භාවය ඇති තැන්වල තෘෂ්ණාව ලැගගන්නවා, පමා වෙනවා, නතර වෙනවා, වැඩවාසය කරනවා.

ඉතින් එතෙන්ට යනකොට මමය, මගේ සන්තානයේය, මේ චිත්තක්ෂණයේය, මේ ස්ථානයේය, නැත්නම් මම දැන් මෙතන කියන තුනට කොටු වුණොත් ඒ දැක්ම බොහොම නිවැරදියි. නමුත් අපි පොදුවේ සඳහන් කළොත්, යම් තැනක මිහිරියාවක් ප්‍රිය භාවයක් ඇත්ද, ඒ මිහිරි භාවය තුළ ප්‍රිය භාවය තුළ තෘෂ්ණාව හටගන්නවාය, තෘෂ්ණාව පැලපදියම් වෙනවාය කියලා, මම දැන් මෙතන කියන සංකල්ප තුනෙන් පිට පැන්නොත් බොහෝ විට වැරදි නිගමනයකට පත් වෙන්න ඉඩ තියෙනවා. ඒ නිසා සර්වඥයන් වහන්සේට මෙතෙන්ට එනකල් විග්‍රහ විස්තර සහිතව ගෙනාපු එක ඉන් ඉදිරියටත් නිරවද්‍යව, නැත්නම් තැනකට උත්තරේකට යොමු කරවසුලු භාවයකට යන්න මෙතනිනුත් නතර කරන්න බැරි වෙනවා. මේක තමයි ථෙරවාදී ක්‍රමයේ, විභජ්ජවාදී ක්‍රමයේ තියෙන විශිෂ්ටත්වය. ඉස්සෙල්ලම මතු කරල දෙන්නේ දුක්ඛ සත්‍යය. ඒක කාටත් පේන බොහොම ගොරෝසු කවුරුත් පිළියම් හොයන වැදගත් කාරණාවක්. ඒක කවුරුවක්වත් නොවැදගත් කියලා කියන්නෙත් නෑ.

මොකද මුළු ජීවිතේ පුරාම ඒකෙන් යම් කිසි බලපෑමක් කෙනෙකුට තියෙනවා. නමුත් ඒ දුක හේතු සහිතව, නැත්නම් හේතුව

දැනගැනීමෙන් දුරු කිරීමට පෙළඹෙන්නෙ බොහෝම සුළු පිරිසක්. ඒ හුඟදෙනෙක් උත්සාහ කරන්නේ අර මතු උනා වූ දුකේ රෝග ලක්ෂණ දුරු කරලා, සැපවත් බවට පත් කරගන්න. නමුත් ශාස්තෘන් වහන්සේ නමක් විදිහට සර්වඥයන් වහන්සේ ඒ දුක නිකං අතගාල, පිටින් අතගාල, තාවකාලිකව උත්තර දීලා, නිර්වින්දය කරලා නතර කිරීමක් පිළිබඳව, නැත්නම් ඒ මට්ටමින් නතර වීමක් බලාපොරොත්තු වෙන්නේ නෑ. ඉන් එහාට ඉන් ඔබ්බට යාම සඳහා තමයි මුල පෙන්නලා දෙන්නේ සමුදය වශයෙන්. ඒක තෘෂ්ණාව කියල අපි ගිය සතියේ පෙන්නලා දුන්නා; ආසන්නම කාරණය තමයි තෘෂ්ණාව. නමුත් අවිද්‍යාව, උපාදාන වගේ ඒකට පිරිවර ධර්ම රාශියක් තියනවා. අන්න ඒ පිරිවර ධර්මත් නැතුව තනිකර තෘෂ්ණාවෙන් පමණක්ම මේක කරන්න ගියත් නොමග යන්න, පැටලෙන්න අවස්ථාව තියනවා. නමුත් විස්තර විග්‍රහ වශයෙන් ආසන්නම කාරණාව විදිහට තෘෂ්ණාව පෙන්වනවා.

ඊට පස්සේ තෘෂ්ණාව කොහොමද උපදින්නේ කියනකොට ඉතාම වැදගත් තැනකට අපි ගේනවා, වර්තමානයේම යි. තෘෂ්ණාව කියන එක, නැත්නම් දුකක් බවට පත් කරන්න පුළුවන් තෘෂ්ණාව, වර්තමාන තෘෂ්ණාවයි. ඒ නිසා ඒක කොතනද උපදින්නේ, කොතනද නතර වෙලා ඉන්නේ කියන එක වැදගත්. මොකද අපි හිතනව නම් තෘෂ්ණාව කියලා වෙනමම ලෝකේ දෙයක් තියනවා, අපි හිටියත් තියනවා, නැතත් තියනවා, අතීතයේත් තියනවා, අනාගතයේත් තියනවා, වර්තමානයේත් තියනවා, මෙතනත් තියනවා, එතනත් තියනවා කියලා, ඒක උපදින තැනක් සහ එහි පවතින තැනක් පිළිබඳ ප්‍රශ්නය එච්චරම වැදගත් වෙන්නේ නෑ. නමුත් සර්වඥයන් වහන්සේගේ විභජ්ජවාදී ක්‍රමයට අනුව හරියට තැනට යොමු කරවීමට ගොරෝසුවට, දන්න තාලෙට, කාටත් වැටහෙන තැනකින් පටන්ගන්නවා. පටන් අරගෙන යනකොට ඒ දුක සම්බන්ධව කතා කරනකොට නම්, සියලු ලෝක සත්ත්වයෝම සර්වඥයන් වහන්සේට අත ඔසවා කැමැත්ත, ඡන්දය ප්‍රකාශ කරාවි.

නමුත් ඒ දුකේ හේතුව තෘෂ්ණාවයි කියනකොට බර ගානක්, වැඩි පිරිසක්, ඒ වගේ ගැඹුරකින් දුක නිවීම සඳහා තෘෂ්ණාව දැනගෙන තෘෂ්ණාව ක්ෂය කිරීම කියනකොට බොහෝ විට පැකිළෙනවා. මොකද?

ඒ ඇත්තන්ට අවශ්‍ය කරල තියෙන්නේ වහාම දුක නැති කිරීම. දුක නැති කරලා ඊගාවට ඇත්තා වූ සැපයෙහි නිමග්න වීම ආස්වාද පක්ෂයේ. නමුත් යම් කිසි කෙනෙක් තේරුම්ගන්නව නම් මේකට ස්ථිරසාර පිළියමක් අවශ්‍යයි, ඒක නිසා මුල හොයාගන්න ඕනැයි කියලා, ඒ ඇත්තෝ තේරුම් අරගන්නවා බොහෝ ශාස්තෘවරු දුක තාවකාලිකව නතර කරලා ආස්වාද පක්ෂයට යොමු කළාට එවැනි ධර්ම, එවැනි ශාස්තෘවරු ලෝකයේ බොහෝ කල් පැවතුණේ නැහැ. ඒ නිසා සර්වඥයන් වහන්සේගේ පවතින සර්වඥතා ඥනය නිසා තෘෂ්ණාවට යොමු කරලා, ඊගාවට තෘෂ්ණාව කියනකොට අර අනෙකුත් පිරිවර ධර්මත් බාරගන්න වෙනවා.

ඊගාවට ඒ තෘෂ්ණාව කොතනක හටගන්නේද? හුඟක් වෙලාවට අනෙකුත් ධර්ම බාහිර හේතුවක් හෙව්වා, මේ දුක සැප මේ මනුස්ස බව මොන දේට හෝ හේතුවක් තියෙනවයි කියලා - ඒක ඇති කරන, ඒක පවත්වන, ඒකට දුක සැප විනිශ්චය කරන හේතුවක්. ඒකට ඊශ්වර නිර්මාණවාදය කියලා කියනවා. මේක අපි වර්තමාන වශයෙන් කරන්නේ පුද්ගලයෙක් වශයෙන් ජීව ආත්මය සැපවත් කිරීම. ජීව ආත්මයේ තියෙනවා සැප හොයන ගතියක්. ඒ සැප හොයන ගතිය පරමාත්මයෙන් අපට ලැබිච්ච කොටහක්. ඒ පරම ආත්මය වෙනමම ජීව ආත්මයන්ගේ එකතුව වශයෙන් වෙනමම තියනවය, එයින් ආපු කොටසක්ය මේ ජීව ආත්මය කියන්නේ. මේ ජීව ආත්මයේ තියෙන්නේ ආස්වාද පක්ෂයයි. දිගටෝම මේ ලෝකය මවල දීලා තියෙනවා. ඒක නිසා මේකේ රසාස්වාදය විඳීමයි කියලා හිතුවා. එතකොට හේතුව හොයන්න පරමාර්ථය පැත්තටයි යන්නේ. මේ මැවුම්කාරයාගේ මූලික මැවුමයි. ඒ මැවුම ප්‍රශ්න කිරීමට තහනම් කරපු ප්‍රදේශයක් බවට පත් කරල තියෙනවා. අනෙකුත් සැම ආගමකම ඒ මැවුම්කාරයාගෙන් කිසි වෙලාවක ප්‍රශ්න අහන්න බෑ. ඒක විශාලතම බලවත්ම අපරාධයක්. ඒ නිසා, තියෙන්නේ ජීව ආත්මයට හැකි ආකාරයකින් පරම ආත්මයාගේ නැත්නම් මහෝත්තමයාගේ ආදරය අනුකම්පාව ලබා ගෙන සැප සේ ජීවත් වෙන්නයි.

නමුත් සර්වඥයන් වහන්සේගේ විග්‍රහයට අනුව එහෙම කාලත්‍රයටම අහු වෙන, හැම තැනම තියන, සදකාලිකවම තියන, වෙනමම තියන එහෙම මූල හේතුවක් නැහැ. ඒ නිසායි මේ ප්‍රශ්නයෙදි

අහන්නෙ **කත්‍ථ උප්පජ්ජමානා උප්පජ්ජති, කත්‍ථ නිවිසමානා නිවිසති** කොතනද තෘෂ්ණාව උපදින්නේ? එතකොට පෙනෙනවා තෘෂ්ණාව උපදින්න ඉස්සෙල්ලා චිත්තක්ෂණයක් තියෙනවා. ඊගාවට තෘෂ්ණාව උපදින චිත්තක්ෂණයක් තියෙනවා. ඊගාවට තෘෂ්ණාව ලැගගැනීමක් තියෙනවා. ඊගාවට තෘෂ්ණාව නැති වෙලා යනවා. එතකොට අපට පෙනෙනවා මේකෙ මුල මැද අග සොයාගන්න පුළුවන් නම්, මේ ගණන හරියට දැනගන්න පුළුවන් නම් උත්තරය සොයාගන්න පුළුවන්. අපි කියනවා නම් මේ තෘෂ්ණාවේ, නැත්නම් මේ ලෝකයේ මැවුම, උත්පත්තිය සොයන එක අපට අදාළ නැහැ, ප්‍රශ්න කිරීමේ අයිතියක් අපට නැහැ, ඒක ප්‍රශ්න කෙරුවොත් අපි සදාකාලිකව අපාගත වෙනවා ආදී වශයෙන්, මූල හේතුව පිළිබඳව ප්‍රශ්න කිරීමේ අයිතියක් අපට නැතිනම් කවමදාකවත් ප්‍රශ්නය දැනගැනීම හෝ පිළිතුර හෙවීම පිළිබඳ වගකීමක් අපට ලැබෙන්නෙ නැහැ. එහෙම නම් පිළිතුරක් බලාපොරොත්තු වෙන්න බැහැ.

ඒ නිසා **කත්‍ථ උප්පජ්ජමානා උප්පජ්ජති** කියන එක සර්වඥයන් වහන්සේ **කිංකුසලගවෙසීව** ඇවිදිනකොට තමන්ගෙන්ම අහගත්ත ප්‍රශ්නයක්. දුක, දුකට හේතුව කොතනද උපදින්නෙ? මේක අභීත ප්‍රශ්නයක් අඩුම වශයෙන්. මොකද හුඟදෙනෙක් - හුඟදෙනෙක් කියපුහම සර්වඥයන් වහන්සේගේ සර්වඥතා ඥානයට ඉස්සෙල්ල ලෝකෙම සියලු සත්ත්වයෝම හිතුවේ, මේ ප්‍රශ්නය ඇසීමේ අයිතියක් අපට නැහැ, ඒක තියෙන්නේ සර්ව බලධාරී මැවුම්කරුවාට පමණයි, ඒ සර්වබලධාරීන් අපට කියලා තියෙනවා මෙවැනි ප්‍රශ්න අහන්න එන්න එපා. ඒක ඒ ඇත්තන්ගේ තියෙන උත්තරීතර භාවයට නිග්‍රහයක්. ඒ නිසා ඔය තියෙන ටික ආස්වාද කරගෙන ඉන්නෙයි කියලා. මෙතන කිසිම පැකිළීමකින් තොරව අහනවා ඔය දුකට හේතු වන්නා වූ තෘෂ්ණාව උපදිනවා නම් උපදින්නෙ කොතනද? පවතිනවා නම් පවතින්නෙ කොතනද?

දුකට හේතුව ප්‍රිය භාවය සහ මිහිරි භාවයයි කිව්වොත් ඒක ඊටත් වඩා ලොකු විප්ලවීය උත්තරයක් බවට පත් වෙනවා. ඒ මොකද, දුක නැති කරලා යම් මොහොතක දුක නැති උනා නම් අපි හෙව්වේ ඒ ස්ථාවරය තුළ ප්‍රිය භාවයත් මිහිරි භාවයත්. ආස්වාදය කියල කියන්නේ ඒකයි. ඒක නිසා අපි දුක නැති කරන්න උත්සාහ කළා නම් උත්සාහ කළේ මේ ප්‍රිය භාවය, මිහිරි භාවය ලබාගැනීමයි. නමුත් මේ ප්‍රිය භාවය,

මිහිරි භාවය ඒ නැති කරපු දූකේ තාත්තා, ඒ නැති කරපු දූකේ දෙමව්පියෝ බවට පත් වෙනව නම්, අපි තේරුම් අරගන්නවා දූක අයින් කරලා නැවතත් දූකක්ම පතන බව. එතකොට අර හින්දු උගැන්වීම් පරිදි පරමාත්ම ජීවාත්ම කියන සංකල්පයටත් විශාල වශයෙන් උත්තරත් මෙතනදී ලැබෙනවා. ඒ සංකල්පය පිළිබඳව තියන දුර්වල තර්කයත් බොහොම හොඳට මෙතන විග්‍රහ වෙනවා. මේ නිසා තොගයක් වශයෙන්ම පොදුවේ මේ උත්තරයයි ප්‍රශ්නයයි දෙකම බැහැර කළාට පුදුම වෙන්න නම් එපා. ඒක තමයි ලෝකයාගේ සාමාන්‍ය ස්වරූපය. එතකොට ඒ කියන්නේ ලෝකයා ඉතාමත්ම කැමතියි ප්‍රිය රූපවලට සාත රූපවලට. හොඳ බවට මිහිරි බවට කැමති වීම පාශයක් බව තේරුම්ගැනීම, ඒක ලෝකයාට හරි වෙහෙසකරයි.

ඒ නිසා ලෝකයාට අවශ්‍ය වෙලා තියෙන්නේ ඒ ප්‍රිය භාවය, මිහිරි භාවය වැඩි කරගැනීම සඳහායි. දුක්ඛ සත්‍යයෙන් දූකෙන් අපි අයින් වෙන්න උත්සාහ කරන්නේ ඒ නිසයි. එහෙම නම් බහුතරය සර්වඥයන් වහන්සේගේ ධර්මය පිළිගනීවි. නමුත් සර්වඥයන් වහන්සේ පැහැදිලිවම පෙන්වනවා දුක්ඛ සත්‍යය තුළමයි සමුදය තියෙන්නේ. දුක්ඛ සත්‍යය තුළමයි ඒ ප්‍රිය භාවය මිහිරි භාවය තියෙන්නේ. ඒක නිසා ප්‍රිය භාවය මිහිරි භාවය තියාගෙන දුක්ඛ සත්‍යය අයින් කරනවය කියන එකත් හිතාගන්න පුළුවන් දෙයක් නෙවෙයි. මෙතන **පිය රූපං** කිව්වට මේ රූප ශබ්දය මෙතන අරගන්නේ නාම රූප දෙකේ දක්වන රූප පෙන්නන්න නෙවෙයි. ප්‍රිය භාවය කියන්නයි. ඒ මොකද නාම ධර්මවලටත් මේකෙදි ප්‍රිය රූප කියලා සඳහන් කරනවා. නාම ධර්මත් තියනවා ප්‍රිය භාවයේ, මිහිරි භාවයේ. රූප ධර්මත් තියනවා ප්‍රිය භාවයේ, මිහිරි භාවයේ. ඒ නිසා මෙතන ප්‍රිය රූප කියලා කියන්නේ ඉන්ද්‍රිය ධර්ම, නැත්නම් පඨවි, ආපෝ, තේජෝ වාගේ රූප නෙවෙයි. භාවය ගැන සඳහන් කරන වචනයක්. ඒ නිසා ප්‍රිය භාවය සහ මිහිරි භාවය තුළයි තෘෂ්ණාව කියන දුක්ඛ සත්‍යයේ මුල. දුක්ඛ සත්‍යයේ හටගැන්ම, සමුදය පවතින්නේ මෙතනයි. එතකොට මේ මිහිරි භාවය සහ ප්‍රිය භාවයත් අපි යම් ආකාරයකට ඊශ්වරයාගේ මනාපයක්, නැත්නම් ඊශ්වර නිර්මාණයේ කොටසක් කියලා ගන්නවා නම්, ඒ තියෙද්දීත් අපි ඊශ්වර ධර්මය සාධාරණීකරණය කරමින් ඊශ්වර

ධර්මය ඇත්තයි කියලා පිළිගන්නව නම් අපිට හිතන්න බෑ කවමදකවත් තෘෂ්ණාව නැති කරන්න හෝ දුක නැති කරන්න.

ඒ නිසා තවත් ප්‍රශ්නයක් මතු වෙනවා. **කිඤ්චලොකෙ පියරූපං සාතරූපං?** මොකක්ද මේ ලෝකේ අපි මේ හොයාගත්ත ප්‍රිය භාවය, සාත භාවය කියලා කියන්නේ? අපි නැවත නැවතත් මේ ප්‍රශ්නයට සාවධානව ඇහුම්කන්දීගෙන ඉන්න ශ්‍රාවක පිරිසගේ ප්‍රශ්නය මුලට මුලට බැහැගෙන බැහැගෙන යනවා. බහින්ඩ බහින්ඩ බහින්ඩ, බාහිරේ හෝ වෙන චිත්තක්‍ෂණයක හෝ නෙවෙයි මේ ප්‍රශ්නයත් උත්තරයත් දෙකම පවතින්නේ - මා තුළමයි. මේ චිත්තක්ෂණයෙමයි, මෙතනමයි. එතෙන්ටයි මේ ක්‍රමක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන් අඬගහගෙන යන්නේ.

කොහේද මේ ප්‍රිය රූප සාත රූප තියෙන්නේ? **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.** සර්වඥයන් වහන්සේගේ උත්තරයේ තියෙන්නේ මේ ඇහේ. ඇහැ ප්‍රිය භාවය දනවනවා, මිහිරි භාවය දනවනවා, **එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති.** තණ්හාව උපදිනවා නම් උපදින්නේ අන්න ඒ ප්‍රිය භාවය, මිහිරි භාවය ඇති කරගන්නා වූ ඇහේ. **එත්ථ නිවිසමානා නිවිසති.** ඉපදුණා වූ තෘෂ්ණාව ලැගගන්නේ බැසගන්නේ පවතින්නේ මේ ප්‍රිය භාවය ඇත්තා වූ මිහිරි භාව ගෙනදෙන්නා වූ ඇහේ. එතකොට "මම දූන් මෙතන" කියන තත්ත්වෙට පැහැදිලිවම ගෙනල්ල කිට්ටු කරනවා. වෙන විදිහකට කියනව නම්, බාහිරයේ ඉන්න මැවුම්කාර ඇත්තන්ගේ, සර්ව බලධාරී කෙනෙකුගේ වෑයමකින් හෝ ප්‍රයත්නයකින් ප්‍රිය භාව, මනාප භාව, මිහිරි භාව අනිවාර්යයෙන්ම අපිට එනවා. ඒ නිසා අනිවාර්යයෙන්ම අපට යම් කිසි ප්‍රදේශයක දුක ඇති වෙනවා. ඒ නිසා ඒක අපිට ගලවන්න බෑ. ඒක ඒ මැවුම්කාර ඇත්තගෙම වැඩක් කියලා සඳහන් කරන ධර්මයට ඉතාමත්ම තාර්කිකව, එහෙම නැත්නම් දූන් මේ මොහොතේ තමා වශයෙන් අත්දැකගන්න පුළුවන් විදිහට ප්‍රත්‍යක්ෂයට යට වෙන විදියට සියුම් තාලෙට උත්තරය, ප්‍රශ්න දෙක කිට්ටු කරලා පෙන්නනවා.

ඒ නිසා චක්ෂුසය, නැත්නම් ඇහැ - මෙතැන ඇහැ කියලා ගත්තහම අපිට ගැඹුරෙන් සලකනව නම් චක්ඛු ප්‍රසාදය - ඇහේ පැහැදිලි

ගතිය, ඇහේ ඔපවත් ගතිය, ඕනෑම කෙනෙකුට බොහෝම ප්‍රිය එලවනසුලුයි. බොහෝම මිහිරියාවක් එලවනසුලුයි. ඒ මොකද, අපිට ඉතාම වටින වස්තුවක් ලෝකේ තියෙනකොට අපි කියන්නේ ඒක ඇහැ වගේ රකිනවයි කියලා. ඇහේ බබා වගෙයි කියලා. ඒ තරම්ම අපිට ඉතාම ළෙන්ගතු දෙයක්. මොහොතකටවත් වෙන් කරන්න බැරි දෙයක්. හිතාගන්න බැරි තරමට ප්‍රිය මනාප දේකට කියන්නේ අපි ඇහැ වාගෙ කියලා. ඒක නිසා ඇහැ පෙන්නනවා ඉස්ඉස්සෙල්ලාම. ඒක සාමාන්‍ය ලෝකේ කවුරුවත් ප්‍රතික්ෂේප කරන ධර්මයක් නෙවෙයි. නමුත් එහෙම ප්‍රියමනාප කරන ඇහේ, එහෙව් මිහිරියාවක් දනවන ඇහේ මේ දුකේ හේතුව පවතිනවා. හේතුව උපදිනව නම් උපදින්නේ ඒකේ. හේතුව ලැගගන්නව නම්, නතර වෙනව නම්, පැලපදියම් වෙනව නම් පැලපදියම් වෙන්නේ ඒකෙයි කියන එකයි මෙතන යෝගාවචරයින් වශයෙන් අපට සර්වඥයන් වහන්සේ ප්‍රායෝගිකව පෙන්වා දෙන්න උත්සාහ කරන කාරණාව. ඒක නිසා මෙතන ඇහේ දුක උපදිනවාමයි කියන කතාවක් මේකේ නෑ. උපදිනව නම් උපදින්නේ ඇහේ **උප්පජ්ජමානා උප්පජ්ජති** එහෙම නැතිව ඇහැ අනිවාර්යයෙන්ම සාකල්‍යයෙන්ම දුක උපදවනවා කියන කතාවක් මෙතන කිව්වොත් ඒක තද අත්ථකිලමථානුයෝගයකට වැටෙනවා. ඇස් ඇති සියල්ලෝම දුක් ඇත්තෝය කියන ප්‍රශ්නයකට වැටෙනවා. එතකොට සර්වඥයන් වහන්සේටවත් බේරෙන්න වෙන්නේ නෑ.

එම නිසා මෙතෙනදි අදහස් කරන්නේ ප්‍රතිපදාවට ඉඩ තියලා. දුකක්, නැත්නම් දුකට හේතු වන තෘෂ්ණාවක් උපදිනව නම් උපදින්නේ ඇහේ. පවතිනව නම් පවතින්නේ ඇහේ. ඒක නිසා මෙතන තියනවා පුංචි ඉඩක්. තෘෂ්ණාව උපද්දවමින් දුක උපද්දවමින් සංසාරේ මේ තාක් කල් ආපු යම් කිසි බුද්ධිමත් කෙනෙකුට මේ විග්‍රහ ක්‍රමය, මේ විවරණ ක්‍රමය පෙන්නුවාට පස්සේ ඉඩක් ඉතුරු වෙනවා. එහෙම නම් ඇහේ තියනවද ප්‍රිය රූප නොවන, සාත රූප නොවන බැල්මක්, දැක්මක්, දෘෂ්ටියක්? ඇහැ විෂයෙහිම ප්‍රිය භාවයක්, අනිවාර්යයෙන්ම තණ්හාවක්, අනිවාර්යයෙන්ම ලාටු භාවයක්, ඇලෙන භාවයක් නූපදවන, මිහිරි භාවයක් නූපදවන ගතියක් ඇහෙන් ලබන්න පුළුවන්ද ඇහැකුත් තියාගෙන? එහෙම නැත්නම් ඇහැ අන්ධ කරගන්න ඕනෑ.

ඒ නිසා ඉන්ද්‍රිය සංවරයට ගියාම ඉන්ද්‍රිය භාවනා සූත්‍රයේ සර්වඥයන් වහන්සේ කියනවා - අපි කලිනුත් වතාවක් මතක් කරගත්තා වගේ - සම්පූර්ණ ඉන්ද්‍රිය සංවරය කියල කියන්නේ රූප නොබලා සිටීමක්වත් ඇස් දෙක වසාගෙන සිටීමක්වත් නෙවෙයි. එහෙනම් අන්ධයෝ මෙලහකටත් දූනටමත් සංවරය අතින් අග තැන් පත් වෙලා. නමුත් එහෙම එකක් නෙවෙයි තියෙන්නේ. ඇහේ තියනවා යම් කිසි ස්වරූපයක් - ඒ අනුව බොහෝදෙනාට, නොදන්නා කෙනාට, ප්‍රයත්න නොකරන කෙනාට, පුහුණුවක් නැති කෙනාට ඒකාන්තයෙන්ම වාගේ ප්‍රිය භාවයක් මිහිරි භාවයක් උපදිනවා. ඇහැ වාගේ රකිනවා. නමුත් ප්‍රතිපදාව තියෙන්නේ සංවරය තියෙන්නේ භාවනාව තියෙන්නේ ඇහේ මේ ප්‍රිය භාව මිහිරි භාව නූපදවමින් ඇහැ නඩත්තු කිරීමේ ශක්තිය තුළ. එතන මනුස්ස ලෝකෙට, මනුස්සයාට, ඇහැ තියන කෙනාට, ප්‍රතිපදාව දන්න කෙනාට, සර්වඥයන් වහන්සේ ධර්මය සංඝයා කියන මේ ත්‍රිවිධ රත්නය අනුගමනය කරන කෙනාට පුහුණුවක් තියනවා. ඇස් ඇත්තේ නමුත් අන්ධයකු සේ ක්‍රියා කරන්න කියලා මේක ඉතාම ඍජුව කෙටිව සඳහන් කරනවා. නමුත් ඒක ආර්ය වෝහාරයක්. ආර්යයන් වහන්සේලාට නම් තේරෙන නමුත් බොහෝ පෘථග්ජනයින්ට ප්‍රහේලිකා ස්වරූපයක් තියෙන්නේ.

අපි එදා තෘෂ්ණාව හඳුන්වාදීම සම්බන්ධයෙන් නිදර්ශනයක් වශයෙන් භද්‍රක ගාමිණී සූත්‍රය ඉදිරිපත් කරගත්තා. ඒ භද්‍රක ගාමිණී කියන පුද්ගලයා සර්වඥයන් වහන්සේ උරුවේලකප්ප ගමේ වැඩවාසය කරන අවස්ථාවේ ඇවිල්ලා වැඳ නමස්කාර කරල අහනවා, ස්වාමීන් වහන්ස මේ දුකත් දුකට හේතුවත් එය නැති කිරීමත් මට අනුකම්පා කරලා කියාදෙන්නෙයි කියලා. ගාමිණී කියලා කියන්නේ ගාම නායකයා කියන අදහසයි. එතකොට සර්වඥයන් වහන්සේ දේශනා කරනවා "භද්‍රක ගාමිණිය, මේ තෘෂ්ණාව අතීතයේදී තිබුණා. අතීතයේදී මෙහෙම නැති උනේ, අතීතයේදී නැති කළ යුතු වුණේ මෙහෙමයි ආදී වශයෙන් ඔබට යම් ආකාරයකට කිව්වොත් ඔබ සැක උපදවන්න ඉඩ තියනවා. ඒ වාගේම අනාගතයේ මත්තට දුක නැති කරන්නේ මෙහෙමයි ඇති වෙන්නේ මෙහෙමයි නැති වෙන්නේ මෙහෙමයි කිව්වොත්, ඒත් ඔබට සැක උපදින්න ඉඩ තියනවා. මම මේ හිටගෙන, දැන්; ඔබ ඔතන ඉඳගෙන

ඉන්නවා. මෙතනදීම දුකෙහි හේතුව මම හෙළි කරලා දෙන්නම්. එතකොට සැක උපදවන්න දෙයක් නෑ" කියලා.

අන්න ඒ වගේ ඉතාමත්ම ගුණාත්මක, කිසි කෙනෙකුගේ විවේචනයට ලක් වෙන්නේ නැති හොඳ නිෂ්පාදනයක් විකුණන වෙළෙන්දෙක් වාගේ සර්වඥයන් වහන්සේ පටන්ගන්නකොටම මේ වගේ වාක්‍යයක් දේශනා කරනවා. දේශනා කරලා භද්‍රකගෙන් අහනවා මේ උරුවේල කප්ප ග්‍රාමයේ යම් කිසි පුද්ගලයෙකුට මරණ දඬුවමක් වධ බන්ධනයක් දුකක් පැමිණෙනවා. නමුත් එයින් ඔබට ශෝකයක්, කනගාටුවක් නූපදින තත්ත්වයක් තියෙනව නම් අන්න එවැනි පුද්ගලයො මේ උරුවෙල කප්ප ග්‍රාමයේ ඉන්නවද? ඔව් ස්වාමීන් වහන්ස එවැනි පුද්ගලයො ඉන්නවා. ඒ ඇත්තන්ට මරණ දඬුවමක් ආවත් දුකක් වධයක් බන්ධනයක් ආවත් මට එච්චර ලොකු ගානක් නෑ.

මොකද ඒ?

ඒකට හේතුව ස්වාමීන් වහන්ස මම ඒ ඇත්තන් කෙරෙහි ඡන්ද රාගයක් නෑ.

හා හොඳයි. උඹට පේනව නේද ඡන්ද රාගයක් නැත්නම් එතැන දුකක් ශෝකයක් නෑ. ඒ නිසා දුකට ශෝකයට හේතු වන්නේ ඡන්දරාගයයි. හොඳයි උරුවෙල කප්ප ග්‍රාමයේ යම් කිසි කෙනෙක් ඉන්නවද එයාට මරණ දඬුවමක්, බන්ධනයක්, දුකක් පැමිණුනොත් ඔබටත් ඒකෙන් ශෝකයක් පරිදේවයක් දෝමනස්සයක් පහළ වෙනවා.

එහෙමයි ස්වාමීන් වහන්ස. එහෙම ඇත්තෝ ඉන්නවා මේකේ.

ඒ මොකද ඒ?

ඒ මොකද, ඒ ඇත්තෝ මගෙ කිට්ටුවන්තයෝ. ඒ ඇත්තෝ මගේ ඥාති සාලෝහිත, ලේ නෑයෝ, නැත්නම් වෙනත් ආකාරයකින් බන්ධන ඇති ඇත්තෝ. එතකොට පේනවා නේද භද්‍රක ඔබට යම් කිසි දුකක් ඇති වෙනව නම් ඇති වෙන්නේ ඒ පුද්ගලයා කෙරෙහි පවත්නා වූ ඡන්දරාගය නිසා. ඒ දෙක කියනකොටම ඒ භද්‍රක ගාමිණී කියන පුද්ගලයාට හොඳටෝම කාරණාව තේරෙනවා.

මේ දුකේමයි හේතුව තියෙන්නේ. ඒ නිසා අපි දුකමයි විග්‍රහ කොට බැලිය යුත්තේ. දුක අයින් කරලා දුක මකලා ඊට පස්සේ සැපක් හොයනවයි කියන එක කවදාකවත් හේතුවත් එක්කම අයින් කිරීමේ ඥානවන්ත ක්‍රියාවකට වැටෙන්නේ නෑ. රෝග මූලය තියාගෙනයි අපි එතකොට දිගටම වැඩ කරන්නේ. නැත්නම් රෝග මූලය ආරක්ෂා කරමිනුයි, රෝග මූලය පෝෂණය කරමිනුයි අපි වැඩ කරන්නේ. ඒ නිසා දුක විග්‍රහ කළ යුත්තේ ඒ තුළම දුකට හේතුව තියනවයි කියන අදහසින්. මෙන්න මේකේ දෙවෙනි කොටසෙත් සර්වඥයන් වහන්සේ බොහෝම ලස්සනට පෙන්නනවා. අර පුද්ගලයා දැන් කාරණාව වටහාගත්තා. වටහාගෙන සර්වඥයන් වහන්සේට ස්තුති කරනවා, ස්වාමීන් වහන්ස හොඳට වැටහෙනවා, ඒ මනුස්සයා පිළිබඳව මොන දුකක් ආවත් මට ඒක දුකක් වෙන්නේ මට ඒ ඇත්තන් කෙරෙහි ඇති කැක්කුම නිසා. ඡන්දරාගය නිසයි කියලා.

ඊට පස්සේ ඒ පුද්ගලයා සර්වඥයන් වහන්සේට තමන්ගේ පුද්ගලික ජීවිතයේ පොඩි කාරණාවක් කියල කියනවා ස්වාමීන් වහන්ස මට චිරවාසී කියලා පුතෙක් ඉන්නවා. ඒ පුතා මේ නගරයේ නෙවෙයි ඉන්නේ. ඈත. ඒ නිසා නැවත නැවත මං පණිවිඩකාරයා අරිනවා පුතාගේ සැප දුක් බලන්න. යම්කිසි විදිහකින් ඒ පණිවිඩකාරයා පමා උනොත් මට හරි දුකක් ඇති වෙනවා. මට හරි වෙහෙසක් ඇති වෙනවා.

ආ ඒකත් පාවිච්චි කරනවා සර්වඥයන් වහන්සේ, එතකොට මොකද භද්‍රකය ඒ දරුවා පිළිබඳ පණිවිඩය නොඒමෙන්, පමාවෙන් ඔබට දුක ඇති වෙන්නේ? ස්වාමීනී මට දරුවා කෙරෙහි ඇත්තා වූ ඡන්දරාගය නිසා. ආන්න දැන් පේනවා නේද ඡන්දරාගය තමයි මේ දුකට හේතුව. ඊට පස්සේ සර්වඥයන් වහන්සේ මේ තත්ත්වය යටතේදී බොහොම ලස්සන විග්‍රහයක් කරනවා. සර්වඥයන් වහන්සේ කියනවා භද්‍රකය උඹ ඒ චිරවාසිගේ මව කවදාකවත් දැකලා තිබුණේ නැත්නම්, කවදාකවත් දැනගෙන හිටියේ නැත්නම් උඹට ඒ චිරවාසීගේ මව පිළිබඳව ප්‍රේමයක්, ඡන්දරාගයක් උපදීද කියලා. එතකොට කියනවා, නැහැ, එහෙම වෙන්න විදියක් නැහැ. ඒ නිසා, උඹ දැක්ක නිසා, උඹ ආශ්‍රය කරපු නිසා, චිරවාසීගේ මව කෙරෙහි ප්‍රේමය ඉපදුණා. ඊට පස්සෙ එහි ප්‍රතිඵලයක් විදියට තමයි චිරවාසී ඉපදිලා තියෙන්නේ. ඒක නිසා උඹේ ඇස් දෙක

නොතිබුණා නම්, නැත්නම් ඇස් දෙක චිරවාසීගේ මව දිහාට නොගියා නම් අද මේක අදාළ මාතෘකාවක් නෙවෙයි. දුකක් දනවන එකක් නෙවෙයි. ඒක නිසා ඇහැ තමයි, මේ සාත රූප ප්‍රිය රූප උපදවන්නේ, ඇහැ තමයි තෘෂ්ණාවට හේතු වෙන්නේ.

ඉතින් ඒක නිසා විපස්සනා වශයෙන් භාවනා කරලා, **යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරොධධම්මං** කියන විදියට මේ සියල්ලේම නිරෝධය දකින්න උත්සාහ කරන කෙනෙකුට නම් ආයාසයෙන් දෙපාර්ශ්වයේ සමවායෙන් පෙන්නුම් කරල දෙන්න පුළුවන්, මේ ප්‍රාර්ථනා කරල ලබපු ඇස් දෙක මේ තරම්ම භයානක විදිහට තෘෂ්ණාවට දයක වෙනවා, දුකට දයක වෙනවා. ඇහැ නැතුව අන්ධ වුණා නම් අපි අභව්‍ය පුද්ගලයන් බවට පත් වෙනවා. බුදුන් දකින්න, බණ අහන්න, සංඝයා වහන්සේ නමක් වෙන්ඩ හෝ ඒ තත්ත්වෙට පත් වීගන්න බැරි වෙනවා. එතකොට අපි මේ ධර්මයට අදාළ නැති වෙන කෙනෙක් බවට පත් වෙනවා. යම් ආකාරයකට ලැබුවා වූ ඇහැ මනා සේ අපි ආස්වාද කරන්න ඕනෑ, භුක්ති විඳින්න ඕනෑ කියලා කිව්වොත් අපි ඒකාන්තයෙන්ම ඒ තුළින් දිගින් දිගට දිගින් දිගට තෘෂ්ණාව ඇති කරන නිසා ප්‍රිය රූපයක් වශයෙන්, විඳින රූපයක් වශයෙන් ඇති කරගන්න නිසා අපිට කවම කවදාවත් ලැබෙන්නේ නෑ සංසාරයෙන් එගොඩක් තියෙනවා කියලා හිතන්න. එතෙරක් තියෙනවා හිතන්න. එතකොට අපි ඊශ්වර නිර්මාණවාදය වගේ, මේ ඇහැ පෙර පිනක් නිසා ලබපු එකක් කියල හිතනවා.

වැදගත්ම කාරණාව තමයි උපදින තාක් මේ තෘෂ්ණාව උපදින්නේ ඇහේ බවත් ලගින තාක් කල්, පැලපදියම් වෙන තාක් කල් මේ තෘෂ්ණාව පැලපදියම් වෙන්නේ ඇහේ බවත් ප්‍රථමයෙන්ම දැනගන්න එක. එතකොට අපිට පැහැදිලි පැලඉරක්, මේ විශාල ගලේ පැහැදිලි පැලඉරක් ඇති කරගන්න පුළුවන්. මේ ඇහැ ගැන හොඳ සැලකිල්ලෙන් හිටියොත් මේක උපදින හැටි පිළිබඳව ලේස මාත්‍රයකින් හෝ අපට දැනගන්න පුළුවන්. මෙහි ඇලී ගැලී, ලැගගෙන තෘෂ්ණාව පවතින හැටි අපට දැනගන්න පුළුවන්. ඒ නිසා එවැනි මහා ගලක් වගේ බිඳින්න බැරි තරමට පවතින ගලේ මේ කියන්නා වූ පැලඉර ප්‍රථම බිඳීම සිද්ධ වෙන්නේ වර්තමාන චිත්තක්ෂණයේමයි. තමන් තුළ පමණමයි. මෙතනදීමයි.

ඒ නිසයි තෘෂ්ණාව පිළිබඳව කතා කරනකොට මොකක්ද තෘෂ්ණාව කියන්නේ? කොහොමද ඒක උපදින්නේ? කොතනද ඒක ලැග ඉන්නේ? ඒකට ලැගගන්න හේතු වෙන්නා වූ කාරණාව මොකක්ද ආදී වශයෙන් පියවර තුනහතරකින් අරගෙන එනකොට පේනවා තෘෂ්ණාව උපදින තාක් කල් උපදින්නේ ඇහේ. ඇහැ කියල කියන්නේ පච්චුප්පන්න ධර්මයක්. හිතල පහළ වෙච්ච එකක් නෙවෙයි. ඒ ඒ තැනට අවශ්‍ය හේතු ලැබීම නිසා ඒ ඒ තැන පහළ වෙන දෙයක්. ඒ නිසා, ඒ වගේම තෘෂ්ණාව කියලා කියන්නේ ඉතාමත්ම යුහුසුලුව ඒ ඒ චිත්තක්ෂණයේ පහළ වෙන දෙයක් නම් අපට පුංචි බලාපොරොත්තුවක් ඇති කරගන්න පුළුවන් මේක ඇති නොවීම සඳහා කටයුතු කරන්න පුළුවන් කියලා. ඇති වෙච්ච දෙයක් ස්ථිරව පවතිනව නම්, එහෙම නැත්නම් අතරක් නැර එක දිගට පවතිනව නම්, අපට කිසිම බලාපොරාත්තුවක් ඇති කරගන්න බෑ තෘෂ්ණාව පිළිබඳව ප්‍රමාණ කිරීමක්. තෘෂ්ණාව කිසිම විදිහකින් ප්‍රමාණ කිරීමකින් තොරව දුක්ඛ සත්‍යය පිළිබඳව කෙළවරක් හිතන්න බෑ. ඒ අනුව මේ විග්‍රහයෙදිත් හොඳට පැහැදිලි කරල පෙන්නනවා, තෘෂ්ණාව පිළිබඳව වැඩ කටයුත්ත අනිවාර්යයෙන්ම ක්‍රියාත්මක වෙන්න ඕනැ වර්තමාන මොහොතේ. වර්තමාන මොහොතේ ක්‍රියාත්මක වෙනව නම්, ඒ සඳහා ක්‍රියාත්මක වීමට පවා මෙන්න මේක වර්තමාන මොහොත තුළ සිදු වෙනවා කියන දේ හොඳ සම්‍යක් දෘෂ්ටියෙන් යුක්තව අහල හොඳට තේරුම්ගන්න ඕනැ.

තෘෂ්ණාවේ ඉපදීම සහ තෘෂ්ණාවේ පැලපදියම් වීම සම්බන්ධයෙන් ඇහැ ඉතාමත්ම යුහුසුලුව පෙන්නලා දෙන්න පුළුවන් ඉතාමත්ම විචිත්‍ර උත්තරයක් සැපයුවාට ඇහැ පමණක්ම නොවෙයි, නැත්නම් ඇහින් පමණක්ම නොවෙයි තෘෂ්ණාව පහළ වෙන්නේ. ඒක නිසා **කිඤ්ච ලොකෙ පියරූපං සාතරූපං** කියන වචනයට උත්තර ලැයිස්තුවක් තියෙනවා. උත්තර 06 ක් තියෙනවා. ඉස්සෙල්ලම පර්වයේ තියෙන්නේ පළවෙනි උත්තරය ඉස්සෙල්ලම තියෙන්නේ **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං** ඒක තමයි වැඩියක්ම තෘෂ්ණාව ඇති කරන්නේ. ඉතාම විචිත්‍රව ඇති කරන්නේ.

ඊගාවට **සොතං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.** ඇහැ ගාවට

වැඩියක්ම ලෝකයේ තෘෂ්ණාව පුද්ගලයෙකුට ඇති කරන්නේ සෝතං - කන. ඊගාවට නාසය, දිව, කය. මේ ආකාරයට පහක් පෙන්නනවා. මේ විදියට **චක්ඛු, සොත, ඝාන, ජිව්හා, කාය.** මේවා අපි සාමාන්‍යයෙන් රූප ධර්මවලට වට්ටනවා, රූප ධර්ම යටතේ තමයි අපි සංග්‍රහ කරන්නේ. ආන්න ඒ රූප ධර්මවලින් වැඩියෙන්ම විචිත්‍රව තේරුම් කරදීම සඳහා නම් පහසුම වෙන්නේ ඇහැ. ඒ මොකද, අපි අර චිරවාසී පිළිබඳව භද්‍රක ගාමිණිගෙන් අහන ප්‍රශ්නයේ චිරවාසීගේ මව ඔබට හමු වෙලා නැත්නම්, ඒ ස්ත්‍රියාව පිළිබඳ ඡන්දරාගයක් ඇති වෙන්නේ නෑ. ඒක නිසා අපි කියන්නේ නෑ, ඇස් නැති ඇත්තෝ විවාහ නොවී ඉන්නවා කියලා. නමුත් වැඩියක්ම ලෝකේ අපිට රසඳුනක් වෙන්නේ ඇහැම තමයි. ඒ නිසා ඇහැ තමයි ගොඩක් තෘෂ්ණාව ඇති කරවීමට කටයුතු කරන්නේ. ඒ නිසා අපි වැඩියක්ම දස භාවය දක්වන්නේ ඇහැට. වැඩියක්ම සංසාරෙට බැඳෙන්නේ ඇහෙන්.

ඊගාවට ඒක නැත්නම්, ක්‍රියාත්මක වෙන්නේ නැති අවස්ථාවල වැඩ කරන්නට ඉතුරු බළ හමුදාව වශයෙන් කන, නාසය, දිව, කය ආදී වශයෙන් ධර්ම ක්‍රියාත්මක වෙනවා. ඇහැ, කන, නැහැය, දිව, කය, කියන මේ පහෙන් තෘෂ්ණාව ඇති කිරීමේ වැඩපිළිවෙළ බොහොමත්ම හෙමිහිට සිදු වන්නේ කායද්වාරයේ. ඒක අපි මීට කලින් කීපවතාවක්ම මතක් කරගත්තා. ඒ නිසා ප්‍රශ්නය විචිත්‍රව විග්‍රහ කිරීමේදී ඇහැ ඉස්සෙල්ලා කතා කරලා, ඇහැ මතු කරලා පෙන්නුවාට සෝත, ඝාණ, ජිව්හා, කාය කියනකොට, නොදන්නා කෙනෙකුට කෙලෙස් හරිත වුණත් මේක ඉවරයක් කරගන්ට ඕනෑ කියලා ලොකු කුසලච්ඡන්දයක් ඇති කෙනකුට කය තමයි ලේසි. ඒක නිසා කයේ යම් වූ වේවා වේදනාවක් ඇති වෙනකොටම දැනගන්න පුළුවන් නම්, දැනගන්න පහසුම කය තමයි. ඒ නිසා සතිපට්ඨාන සූත්‍රයේ ඉස්සෙල්ලාම කායානුපස්සනාවට යොමු කරල තියෙනවා. ඒ නිසා කායානුපස්සනාවේදී යම් ආකාරයකට මේ යන්තරේ කොහොමද මේ කය අපිට ප්‍රිය වෙන්නේ, මිහිරි වෙන්නේ, ඒ මිහිරියාව තුළ, ඒ ප්‍රිය භාවය තුළ කොහොමද සුඛ වේදනා, දුක්ඛ වේදනා, අදුක්ඛමසුඛ වේදනා පහළ වෙලා මේ සියල්ල විෂයෙහි අපි ප්‍රියමනාප භාවය ඇති කරගන්නේ කියන පාඩම ඉගෙනගන්න කය තමයි ඉස්සරහින් තියාගන්නේ. ඒක විපස්සනා මූලධර්මයක් අනුවයි

**යථාපාකටං විපස්සනාභිනිවෙසො** කියන විදිහට, යමක් ප්‍රකටද එතනින් ප්‍රවේශය ලබාගන්න කියන මේ ගුරු අදහස අනුවයි ඒ ක්‍රියාත්මක වෙන්නේ. ඒ අදහස ඒ වචනෙන්ම නොකියවුණත් සර්වඥයන් වහන්සේ භාවනා වැඩ පිළිවෙළක් කතා කරන අවස්ථාවේදී, දේශනා කරන අවස්ථාවේදී මුලින්ම කායද්වාරය විස්තර කරනවා.

නමුත් තණ්හාව ඇති වන අවස්ථාව විචිත්‍රව විග්‍රහ කරනකොට රූපය ඉස්සර කරලා විස්තර කරනවා. ඒක නිසා මූලධර්ම වශයෙන් ආරම්භය එක ආකාරයක්. ප්‍රායෝගික භාවනාවේ ආරම්භය තව ආකාරයක්. ඒ දෙක එකිනෙකට වෙනස්. පරස්පර විරෝධී නෙවෙයි. ඒ ප්‍රයෝජනය සලකලා ඉදිරිපත් කරගන්න හැටි. ඒක නිසා යම් කිසි කෙනෙක් ඇහැ පිළිබඳව **අජානං අපස්සං යථාභූතං** ආදී වශයෙන් අපි මේ ළඟදි අහපු මහා සළායතන සූත්‍රයේ සඳහන් කරන විදිහට ඇහැ පිළිබඳව යථාභූත ඥානය, යථාභූත දර්ශනය නැතිව ඇහැ පිළිබඳව ආස්වාද පක්ෂයේ අපි නිතරෝම ගත කරනවා නම්, මේ ඇහැ හොඳයි, ඇහැ පෙර පිනක ප්‍රතිඵලයක්, මම අනුන්ගෙන් වෙන් වෙලා තියෙන්නේ, අනුන් නොදක්ක තරම් දේවල් මම දැකලා තියෙනවා, මට පේනවා, මගේ ඇහැ බොහොම පිරිසිදුයි, ඒ වගේම මම නා නා ප්‍රකාර දේවල් දැකලා තියෙනවා ආදී වශයෙන් ඇහැ පිළිබඳව කතා කරන්න පටන් අරගත්තොත් එතන නන්දිරාග දනවන, පුනර්භවය ඇති කරන තෘෂ්ණාව ඇති වෙනවා.

යම් ආකාරයකට සීල සමාධි ප්‍රඥා කියන ප්‍රතිපදා මාර්ගයට බැහැලා සර්වඥ දේශනාව අහලා, මේ ඇහැ මේ විදියට නිදහස් රස වින්දනයකට වැටුණොත් ඒ වින්දනය කරන හැම මොහොතකම දුක උපදිනවා; ඒක නිසා ඇහැ ලැබුණට, ඒක පෙර පිනකින් ලැබුණට, ඒකෙ හොඳ පිරිසිදු දර්ශනයක් තිබුණට ඒක නිවන් මාර්ගයටත් යොදාගන්න පුළුවන්ය; ඒ සඳහා ඇහැ හික්මවිය යුතුය ආදී වශයෙන් කටයුතු කරන කෙනෙකුට නම්, සර්වඥයන් වහන්සේ දුක දැනගෙන දුකට හේතුව දැනගෙන මේ දේශනා කරන මාර්ගයේ තියෙන ඒ ඉතාමත්ම ඥානවන්ත ස්වරූපය හොඳට වැටහෙනවා. එහෙම නැත්නම් මේ ඇහැ මාර්ගයෙන් ඇහැ හික්මීම මාර්ගයෙන් එයින් උපදින්නා වූ තෘෂ්ණාව දුරු කරන්න ගන්න උත්සාහය ගැන හුඟදෙනෙක් හිතන්න ඉඩ තියෙනවා මේ **දුක්ඛක්ඛය,** නැත්නම් දුක්ඛ නිරෝධ ගාමිණී ප්‍රතිපදාවක් නෙමෙයි, දුක

වඩවන වැඩපිළිවෙළක් කියලා. ඒ මොකද, මෙච්චර පින් කරලා ලබාගත්ත ඇහැට ඉබේ ලැබෙන රූප රසාස්වාදය ලබාගැනීම පිළිබඳව වෙනස් විදිහකට සලකන්න අපට සර්වඥයන් උගන්නන්න හදනවා කියලා ගත්තොත්, ඒ පුද්ගලයා තාමත් ඇහැ විෂයෙහි කය විෂයෙහි තමා විෂයෙහි විශේෂ නිත්‍ය සංඥවක, සුබ සංඥවක, සුඛ සංඥවක, අත්ත සංඥවක ගත කරනව නම්, එහෙව් කෙනාට ඉතාමත්ම අමාරුයි මේ වැඩපිළිවෙළ ක්‍රියාත්මක කරන්න.

මේ අනුව යම් අවස්ථාවක යම් කිසි කෙනෙකුට මේක වැටහෙනවා නම්, මේ ඇහැ විෂයෙහි යථාභූත ඥාන දර්ශනය දැකල දැනගත්තට පස්සේ එහි හික්මීම පිණිස විශාල චින්තන විප්ලවයකින් පස්සේ අභිනිෂ්ක්‍රමණයකින් නිස්සරණයකින් පටන්ගත්ත නම්, අන්න ඒ පටන්ගන්ට යම් කිසි දෘෂ්ටියක් තියෙනවා නම්, අන්න ඒකට තමයි සර්වඥයන් වහන්සේ සම්‍යක් දෘෂ්ටිය කියල කියන්නේ. අන්න ඒ සම්‍යක් දෘෂ්ටිය ඍජු කරගන්නේ නැතුව මොනම මොන ප්‍රයත්න කළත් ඒක අර තරම් ප්‍රතිඵල ගෙනත් දෙන්නේ නෑ. ඒ වගේ තමයි සම්‍යක් දෘෂ්ටිය ඍජු වෙන්නෙත් නෑ ආර්ය තත්ත්වයට පත් වෙන්නේ නැතිව. ඒක හරිම ප්‍රහේලිකා ස්වරූපයක තියෙන්නේ. ඒ නිසා යම් කිසි කෙනෙක් කියනව නම් මට දැනට සම්‍යක් දෘෂ්ටිය තියෙනව, ඒ නිසා මම කටයුතු කරගෙන යනවා කියලා, එතකොටත් සලකා බලන්න ඕනැ එච්චරත් සම්‍යක් දෘෂ්ටිය තියෙනව නම් මොකද මේ වෙනස තාම නොවුණේ කියල. මොකද, **එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.** ඒ ඒ තැන්වල තෘෂ්ණාව උපදිනව නම්, ඒ ඒ තැන්වල තෘෂ්ණාව ලැගගන්නව නම් සම්‍යක් දෘෂ්ටිය තියන හිතක තෘෂ්ණාව උපදින්නත් බෑ. ලැගගන්නත් බෑ.

ඒ නිසා අපට හිතාගන්න වෙනවා මේ සම්‍යක් දෘෂ්ටියත් සුතමය මට්ටමක එක මට්ටමකට හිටිනවා. අහනවා. ඉස්සෙල්ලාම අහනවා. මොකක්ද? අපි මේ සැප කියලා හොයන, නැත්නම් දුකේ ප්‍රතිවිරුද්ධ පැත්තේ කියලා හොයන, සැපය තුළම දුක තියනවා. ප්‍රිය රූපය තුළ, සාත රූපය තුළ, ප්‍රියමනාප භාවය තුළ, මිහිරි භාවය තුළම දුක තියනවා. ඒ නිසා ඒ පිළිබඳව හොඳ සැලකිල්ලෙන් අපි ඉන්න ඕනැ. මේකට සර්වඥයන් වහන්සේ ධර්මය දේශනා කරලා තියනවා. අපි ඒ බණ අහන්න ඕනෑ කියලා සුතමය වශයෙන් අහනකොටමත් අපට තේරෙනවා

ඔය වල් බූරු නිදහසට ගිහිල්ලා ආස්වාදය කරනකොට අපි අනිවාර්යයෙන්ම දුක රකිනවා, දුක වවනවා, දුක බෝ කරනවා. ඒ නිසා අපි සැලකිලිමත් වෙන්න ඕනැ.

නමුත් ඒක ඒ ඇහුව පලියට, නැත්නම් සර්වඥයන් වහන්සේ දේශනා කළ පලියට, ශ්‍රාවකයන් වහන්සේ නමක් දේශනා කළ පලියට අපිට ගැළපෙන්නේ නැත්නම්, අපේ චින්තන රටාවත් එක්ක ගැළපෙන්නේ නැත්නම් චින්තාමය වශයෙන්, අනුලෝම වශයෙන් අපිට තේරුමක් එන්නේ නැහැ. ඒ නිසා මේ කතාව හිතට වැටිලා, ජීවිතයත් එක්ක හොඳට කලවම් වෙලා හොඳට තේරුම්ගන්න ඕනෑ ඇත්තද මේ කියන්නේ, මේක මෙහෙම වෙන්න පුළුවන්ද කියලා තර්කානුකූලව අන්වය ඥනානුරූපව කටයුතු කරනකොට යම් කිසි කෙනෙකුට වැටහෙනව නම් මට බැරි උනාට මට තාම කරගන්න බැරි වුණාට මේක තර්කානුකූලයි. මේක මෙහෙම වෙන්න පුළුවන්, මේකෙ ප්‍රායෝගික කොනක් තියෙනවා කියලා චින්තාමය ඥාන මට්ටමට ආවොත් අර සුතමය ඥාන මට්ටමට වඩා බොහෝම සමීපයි. ඊට වැඩිය බොහෝම උත්තරේට කිට්ටුයි.

නමුත් තවත් කොටසක් තියෙනවා එහෙම නම් තමන් වශයෙන්ම ප්‍රත්‍යක්ෂ කරල ලබන්නත් තියනවා. ඒ ප්‍රත්‍යක්ෂ කිරීමෙන් තමයි ඒ දෘෂ්ටිය වඩාත්ම සෘජු වෙන්නේ. නැත්නම් දෘෂ්ටිය සෘජු කිරීමේ මාර්ගයට කෙළින්ම බැසගන්නේ. ඒ නිසා ඒ දෘෂ්ටිය සෘජු කරගැනීම සුතමය වශයෙන්, චින්තාමය වශයෙන්, භාවනාමය වශයෙන් කියලා තුන් ආකාරයකින් සිද්ධ වෙන්න ඕනැ. ඒ සිද්ධ වෙන්න වෙන්න වෙන්න සර්වඥයන් වහන්සේ වචනයෙන් සඳහන් කරපු දේ තමන් හිතා බලා ගත්ත දේ ප්‍රත්‍යක්ෂ කරනකොට ඉතාමත්ම වර්තමාන මොහොතේ ඉන්නවා. අත්‍යන්තව, තමා තුළම, මෙතනදීම වැටහෙනකොට තමයි ධර්මයේ තියෙන අකාලික ගුණය මතු වෙන්නේ. එතකල්ම සුතමය වශයෙන් පවතින කල් කාලාන්තරයක් තියෙනවා. චින්තාමය වශයෙන් හිතනකල්, කාල වෙනසක් තියෙනවා.

භාවනාමය වශයෙන්, නැත්නම් ප්‍රත්‍යක්ෂ වශයෙන් දකින චිත්තක්ෂණයේම ප්‍රියමනාප රූපයක් හෝ වේවා දකින චිත්තක්ෂණයේම දැන් මගේ ඇහැ ක්‍රියාත්මකයි, නැත්නම් මම දකිනවා කියලා මෙනෙහි

කළොත් ඒ පුද්ගලයාට හොඳටෝම වැටහෙන දෙයක් තමයි ඒ රූපය විෂයෙහි අංග ප්‍රත්‍යංග බලන, රූපය විෂයෙහි මත් වෙන, රූපය විෂයෙහි නතු වෙන ගතිය, දකිනවා කියලා මෙනෙහි කරනකොටම කපන්න පුළුවන්, කඩන්න පුළුවන්, වෙනත් මගකට යොමු කරගන්න පුළුවන් බව. අයෝනිසෝමනසිකාරයට යන්න තිබුණ හිතක් යෝනියෝ මනසිකාරයට යොමු කරගන්න පුළුවන් ශක්තියක් තියනවා. නමුත් ඊට ඉස්සෙල්ලා චිත්තක්‍ෂණයෙත් අයෝනිසෝමනසිකාරය වෙන්න පුළුවන්. ඒත් එක්කම එන සිතත් අයෝනිසෝමනසිකාරය වෙන්න පුළුවන්. ඒ නිසා ඒ මැද පහළ වුණා වූ යෝනියෝමනසිකාරය එච්චර බලවත් නෑ.

නමුත් පරීක්ෂණයක් කරලා පෙන්නන්න වාගේ දකිනකොටම දැකීම පිළිබඳව මෙනෙහි කිරීමක්, අවදි වීමක්, එළඹ සිටි සිහියක් ඇති කරගන්න පුළුවන් නම්, ඒ පුද්ගලයාට අනිවාර්යයෙන්ම ලොකු ලාභයක් ලැබෙනවා. වර්තමාන මොහොතෙහි ඒ රූපය විෂයෙහි, නැත්නම් ඒ ඇහැ විෂයෙහි, ඒ දැකීම විෂයෙහි ප්‍රිය රූප සාත රූප පහළ කරන්නේ නැතුව, තෘෂ්ණාව පහළ කරගන්නේ නැති වෙන්ට, එහෙම නැත්නම් තෘෂ්ණාව පහළ කරගන්නේ නැති වෙන බව ඔප්පු කරන්ට පැහැදිලි සාක්ෂියක් තමන් කාය සාක්ෂි කරගෙන ඇති කරගන්න පුළුවන්. එතකොට අර සුතමය වශයෙන් අහපු දේ ඇත්ත නේන්නම්, හැබෑ නේන්නම් කියලා තමන්ට වැටහෙන්න පටන්ගන්නවා. චින්තාමය වශයෙන් යම් තාක් දුරට හිතාගෙන හිටියා නම්, ඒක තවත් සීමා වැට කඩොලු ඉක්මවල විශාල ප්‍රදේශයක පැතිරෙනවා. ප්‍රත්‍යක්ෂ වශයෙන් අයිතියක් ලැබෙනවා.

ඒ ක්‍රියාවලියේදී ඇහැට රූපයක් හමු වීමේදී, හමු වෙලා තෘෂ්ණාව ඉපදීමේදී අපි මේ ඇහැ කියන එක කෙළවරක් අරගෙන විග්‍රහ කළාට අපි ඉස්සරහට සතිපට්ඨානය විස්තර කරනකොට ඇහැ, කන, දිව, නාසය, කය, මන කියන මේ හයට පස්සේ ඒ එක එක ඉන්ද්‍රියවලට ගොදුරු වෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන බාහිර අරමුණුද ප්‍රිය රූප සාත රූප වෙන බවත් ඒ විෂයෙහි සතිමත් වීමෙන් ඇහැ ගැන සතිමත් වුණාම වගේම ඒ ඒ චිත්තක්ෂණයේ උපදින්න තියන තෘෂ්ණාව කපා දැමීමත්, ඉපදුණා වූ තෘෂ්ණාවට ලැගගන්න තැනක් නැතුව බැසගන්න තැනක් නැතුව නැති වෙලා යන හැටිත් අදළ කරල සර්වඥයන් වහන්සේ දේශනා කරලා තියනවා.

ඊගාවට චක්ඛු විඤ්ඤාණ සෝත විඤ්ඤාණ ඝාණ විඤ්ඤාණ ආදී විඤ්ඤාණ හය, ඊගාවට චක්ඛු සම්ඵස්සය සෝත සම්ඵස්සය ආදී ස්පර්ශ හය, ඊට පස්සේ චක්ඛු සම්ඵස්සජ වේදනා සෝත සම්ඵස්සජ වේදනා ආදී වශයෙන් වේදනා හය. එතකොට ඇහැත් රූපයත් චක්ඛු විඤ්ඤාණයත්, ස්පර්ශයත් වේදනාවත් සංචේතනාවත් ආදී වශයෙන් ඒ එක සිද්ධියකදී දුර්වල ගැට, දුර්වල ස්ථාන හයක් පෙන්නලා දීලා තියෙනවා. ඇහැ, කන, දිව, නාසය, කය, මන කියන විදිහට ආයතන හයක. එක ආයතනයක් ආයතනයක් බවට පත් වෙනකොට, ක්‍රියාත්මක වෙනකොට ඒ තුළ අපිට සතිය පිහිටුවාගන්න පුළුවන් වූ ස්ථාන හයයි. ඒ නිසා මේකට කියනවා **ඡ ඡක්ක** කියලා. හයේ ඒවා හයයි.

ඒ නිසා යෝගාවචරයා අර කලින්ම කියපු විදිහට දුකට හේතුව තෘෂ්ණාවය, ඒ තෘෂ්ණාව එතන එතනම උපදිනවය, ඒ උපදින්නේ මෙන්න මේ ඇහේය, එහෙම නැත්නම් මේ රූපයේය, එහෙම නැත්නම් චක්ඛු විඤ්ඤාණයේය, එහෙම නැත්නම් ඒ උපදින්නා වූ ස්පර්ශයේය, වේදනාවේය, චේතනාවේය ආදී වශයෙන් මේ සෑම දෙයක් පිළිබඳව අහල, චින්තාමය වශයෙන් හිතල, සාදර වෙලා, කුසලච්ඡන්දය පහළ කරගෙන දකින චිත්තක්ෂණයේ සතිය පිහිටුවාගත්ත නම් කවමදකවත් මේ හය එක වර අවබෝධ කරගන්න බෑ. ඒ හය හයක්. ඒ නිසා මෙතෙක් දුරට යනකල් යෝගාවචරයෝ හතරපස්දෙනෙක් දැකීම විෂයෙහි අවදියෙන් සිටියත් එක එක යෝගාවචරයා අත්දකින්නේ එකම දේ තමයි. එකම ප්‍රතිඵලය තමයි හය පැත්තකින්. එක් කෙනෙක් සමහර විටක ඇහේ ඇත්තා වූ ප්‍රසාද රූපය දැකලා ඒ ප්‍රසාද රූපයට සතිය පිහිටුවලා ඒ තුළින් **උප්පජ්ජමානා උප්පජ්ජති** කියන්නා වූ තෘෂ්ණාව නූපදින තත්ත්වයට පත් කරගන්න පුළුවන්. උපදිනා වූ තෘෂ්ණාවක් වෙනව නම් ප්‍රහාණය පිණිස ඒ චිත්තක්ෂණය ගත කරන්න පුළුවන්. තව කෙනෙක් ඒ අවස්ථාවේදී ඒ රූපය, ඇහැ කුප්පවූ, ඇහැට ආපාතගත වූ, ඇහැට එල්ල වූ රූපය විෂයෙහි සතිමත් වෙලත් මේ කටයුත්තම කරන්න පුළුවන්. ඒ තවත් කෙනෙක් චක්ඛු විඤ්ඤාණය විෂයෙහි සතිමත් වෙලා ඒ චිත්තක්ෂණයේ චක්ඛු විඤ්ඤාණය තුළින් මේ තත්ත්වයට අවදි භාවයක්, අවබෝධයක්, ප්‍රත්‍යක්ෂයක් ඇති කරගන්නත් පුළුවන්. එහෙම නැත්නම් ස්පර්ශ විෂයෙහි, වේදනා විෂයෙහි, චේතනා විෂයෙහි, මේ ඕනෑම දෙයක්

විෂයෙහි සතිමත් වීම සිද්ධ වෙන්න පුළුවන්. ඒ නිසා එහෙම හයදෙනෙක් එතෙන්ට එනකල්ම සමාන වෙලා ඇවිල්ලා, අදහස් ප්‍රකාශ කරන්න ගත්තත් හයදෙනා හයක් කියන්න ඉඩ තියනවා.

මෙන්න මේ පටලැවිල්ල, වෙන විදියකට කියනව නම් එකම යෝගාවචරයෙක් චිත්තක්ෂණ හයක මේ දැකීම කියන කටයුත්ත විෂයෙහිම සතිමත් උනත් හයපාරට හයක් මාර්ගයෙන් මේ සත්‍යයට එළඹෙන්න පුළුවන්. මේ නිසා එකම යෝගාවචරයෙක් චිත්තක්ෂණ හයක් ඇතුළත වාද කරන්නත් ඉඩ තියෙනවා. යෝගාවචරයෝ හයදෙනෙක් මේ එකම සංසිද්ධිය හය ආකාරයකින් දැකලත් විවිධ මත පළ කරන්නත් ඉඩ තියෙනවා. එහෙම මත පළ කළත් ඒ හයදෙනාම හරි. චිත්තක්ෂණ හයක දැක්කත් යෝගාවචරයා කලකොල උනත් වැඩේ හරි. මෙන්න මේක නැති කරගන්න නම් එකම යෝගාවචරයා ලක්ෂ කෙළකෝටි වාර ගණනක් මේක දකින්න අරින්න ඕනැ. දකිනකොට දකිනකොට පේනවා අරකත් හරි මේකත් හරි, මේකත් හරි, මේකත් හරි, අරය කියන දේත් හරි, මෙයා කියන දේත් හරි, මම කියන දේත් හරි. එහෙම නොවන තාක් කල් සද්ද වැඩියි. කතාව වැඩියි. තර්ක වැඩියි. ඉතින් විතක්ක විචාර පහළ වෙනවා. මේක දෙරවල් හයක් වීම නිසා ලාබෙකුත් මේකෙ තියනවා. හයක් වීම නිසා වාද හයක් වෙන්නත් ඉඩ තියෙනවා.

ඒ නිසා තමන් යම් කිසි දවසක මේක තේරුම් අරගෙන **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං** කියන එක හෝ **රූපා ලොකෙ පියරූපං සාතරූපං** කියන එක හෝ **එත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති** කියන එක ප්‍රත්‍යක්ෂ කරගත්තා වෙන්නත් පුළුවන්. නමුත් තමන් ඉදිරියට පත් වෙන්න පුළුවන් හය ආකාරයක පුද්ගලයො එක එකක් එක එක තාලෙට ඉදිරිපත් කරනවා. එව්වට ඉතාම ඉවසිල්ලෙන් අහගෙන ඉඳලා ඒ පුද්ගලයා මේ ප්‍රශ්නයට පිවිසෙන්නේ මෙතනින් මෙහෙමයි කියලා දැනගන්න නං අර හය ආකාරය පිළිබඳව අඩු ගානේ ප්‍රත්‍යක්ෂයට සාපේක්ෂකව අනුමාන වශයෙන් ඒ හයම පිළිබඳව විදර්ශනා වෙලා තියෙන්න ඕනැ. මේක පිළිබඳව ගොඩක් අද ලෝකෙ විවිධ මත තියෙනවා. විවිධ ගුරුකුල වාද තියෙනවා. මෙයින් වැදගත්ම දේ වෙන්නේ තමන්ට කොයි එකෙන් මේකට බැසගන්න පුළුවන්ද කියන එක ප්‍රත්‍යක්ෂයටම වෙන්න දීමයි. ප්‍රකට දෙයක් සිද්ධ වෙයි. සිද්ධ උනාට

පස්සේ එයින් නතර වෙන්න එපා කවදක්වත්. තමන් අවබෝධ කළ ප්‍රමාණය, වටහාගත්ත ප්‍රමාණය විතරක් හිතාගෙන එයින් නතර උනොත් ඊගාව චිත්තක්ෂණය වෙන ක්‍රමයකට තමන්ට වැටහුණොත් තමන්ගේ අර කලින් අත්දැකීම තමන් විචේනය කරන්න ඉඩ තියනවා. එහෙම නැත්නම් තවත් හරියටම අත්දැකපු යෝගාවචරයෙක් ළඟට ආවත් ඒ කියන දේ බොරුයි කියන්න, සැක කරන්න ඉඩ තියනවා. එහෙම නොවෙන්නට නං ඒ තියෙන්න පුළුවන්, ලබන්න පුළුවන් සෑම දෙයක්ම වගේ ඒ යෝගාවචරයා විඳලා විඳලා, බලල බලලා පුළුවන් තරම් තමන්ගේ ප්‍රත්‍යක්ෂ ඥානය පුළුල් භාවයකට පත් කරන්න උත්සාහ කරන්න ඕනැ.

අපි කලින්ම පටන් අරගත්තා මෙතනට එනකල් එන ගමනත් ඉතාමත්ම පැහැදිලි තැනකට යොමු කරන තීක්ෂණ ගමනක්. ඒ ඇවිල්ලා තමන්ට යම් ආකාරයක ප්‍රත්‍යක්ෂයක් ලැබුණත් ඒක ඒ දැක්ක දෘෂ්ටි කෝණයෙන් පමණක් නතර කරන්ට නරකයි. දිගින් දිගට දිගින් දිගට කරන්න ඕනැ. මෙන්න මේ සංසිද්ධියේදී ඇහැ තමයි අපට වැඩියක්ම සංකීර්ණ ප්‍රශ්නය ඇති කරන්නේ. කන, නාසය, දිව, කය කියල ගත්තහම කයේ අපිට මේක ඉතාම ගොරෝසුවට මතු වෙන නිසා බොහෝමත්ම ඇහැට සාපේක්ෂකව පහසුකමක් තියනවා. ඒ නිසා යෝගාවචරයා කායානුපසස්නා වශයෙන් ඒ දේ අවබෝධ කරන්න උත්සාහ කිරීම අනුකම්පා සහගතව මහා කරුණාවෙන් යුක්තව සර්වඥයන් වහන්සේ විසින් ඉදිරිපත් කරන ලද ක්‍රමයක්.

නමුත් මේකේ මූලධර්ම පැත්තෙන් ගත්තොත් නම් මේ හය ඉන්ද්‍රියේම සිද්ධ වෙන්නේ එකම එක යාන්ත්‍රණයක්. මොනම විදිහකින්වත් ඒ දේවල් අතර මූලධර්මානුකූලව වෙනසක් ඇත්තේ නැහැ. ඒ නිසා මූලධර්මානුකූල පැත්තෙන්, නැත්නම් ධර්මානුකූලව ඇහේ පටන් අරගෙන දිගින් දිගට විස්තර කළත් ප්‍රායෝගික පැත්තෙන්, කය පැත්තෙන් පටන් අරන් ඉදිරියට ඉදිරිපත් කළත් නාම ධර්ම පැත්තෙන් ගත්තත් රූප ධර්ම පැත්තෙන් ගත්තත් සාධාරණකමක් තියනවා. ඒක නිසා අද දර්ශනවාදීන්, එහෙම නැත්නම් බුද්ධාගම ආගමක් වශයෙන් කරගෙන ඒකෙන් ජීවිකා වෘත්තිය සොයන ලෝකායත පැත්තෙ ගත කරන ඇත්තෝ හුඟක් මේක විස්තර කරන්නේ ඇහැ ඉස්සර කරගෙනමයි. මොකද සූත්‍ර පිටකයෙ තියෙන්නේ ඇහැ ඉස්සර කරගෙන. ඉතාමත්

විචිත්‍රයි. නමුත් ප්‍රායෝගික ඇත්තෝ මේක හොඳටෝම දන්නවා, ලේසි තැනකින් පටන්ගන්න මූලධර්මය අනුව කය ඉස්සර කරගෙනයි යන්නේ. ඒ නිසා කතා කරන තාලෙන්ම කියාගන්න පුළුවන්, ඒ ඇත්තෝ මේ ධර්මය තමන්ගේ දුක නැති කිරීම සඳහා ප්‍රයෝජනය සලකලා පාවිච්චි කරනවද, නැත්නම් මේ ධර්මයෙ ඇත්තා වූ දර්ශනය, මේකේ ඇත්තා වූ කරුණු ඒ පැත්ත මේ පැත්ත විග්‍රහ කරමින් තමන්ගේ දැනමුතුකම ඥානය වඩාගන්න උපාධි ලබාගන්න කටයුතු කරනවද කියන එක. කියන දේ අහගෙන ඉන්නකොට හොඳට තේරෙනවා. හැබැයි ඒත් භාවනා කරපු කෙනාට තමයි තේරෙන්නේ.

ඒක නිසා අද වෙනත් අනෙකුත් ආගම් සම්බන්ධයෙන් කටයුතු කරමින් එව්වා පිළිබඳ දේශන පවත්වන්නට යන හුගක් බුද්ධාගමට ලැදිකම් දක්වන හැඟුම්බර ඇත්තෝ මේ ගැඹුරු ධර්මය ඉතාමත් ආදරෙන් සාකච්ඡා කරනවා. සාකච්ඡා කළාට පටන් අරගෙන තියෙන්නේ මේ මූලධර්ම පැත්තෙන්. ඒ නිසා ඒ ඇත්තන්ගේ ජීවිතේ ගුණ විශේෂයක් කවමදක්වත් ඇති වෙන්නේ නෑ. රුචි අරුචිකම්වල වෙනසක් වෙන්නෙත් නෑ. ඊට සාපේක්ෂකව කායානුපස්සනාවෙන් පටන් අරගත්ත ඇත්තෝ අර ඇත්තන්ව ගණන්ගන්නේ නැහැ. මොකද, මේ ඉතාමත්ම ගැඹුරු දේ කරන්නේ නැහැ. බොහොම ලාමක දේකින් පටන්ගත්තයි කියල සමහර විට විවේචනය කරන්න ඉඩ තියෙනවා. නමුත් හිම්හිට හිම්හිට ගිහිල්ලා දන්න තැනින් පටන්ගෙන ක්‍රමයෙන් අර සියුම් තැන්වලට ගිහිල්ල හැම චිත්තක්ෂණයක්ම ක්‍ෂණය පන්නන්නෙ නැතුව දිගට යන්න පුළුවන් ගතියක් තියෙනවා. ඒ නිසා බුද්ධ ශාසනයේ පැවැත්ම තියෙන්නේ අර පහසු තැනින් පටන් අරගෙන ඉදිරියට යන ප්‍රතිපදාව තුළයි. ඒක එක චිත්තක්ෂණයක වෙන වැඩක් නෙවෙයි. ඒකයි ප්‍රතිපදාව යන වචනයෙන් අදහස් කරන්නේ. නැවත නැවත මේ දේ කිරීමෙන් තමයි අපිට සාර්ථකත්වයට යන්න පුළුවන් වෙන්නේ.

ඒ සඳහා පැහැදිලිවම මේ වගේ ධර්ම කොට්ඨාසවල නම් හොඳට පිරිසිදු කරලා අහගන්න දැනගන්නා වූ සුතමය ඥාණය අත්‍යවශ්‍යයි. ඒ වගේම ඒ පිළිබඳව හිතලා ගන්න බුද්ධිමය චින්තාමය ඥාන අවශ්‍යයි. ඊට පස්සේ ඉතාමත්ම වැදගත් වෙන්නේ ප්‍රත්‍යක්ෂයයි. මේක පිළිබඳව කියල දෙන්න නම් වඩාත්ම හොඳම ක්‍රමය වෙන්නේ තමන් ප්‍රත්‍යක්ෂය ඉස්සර

කරගෙන ඊට පස්සේ බුද්ධ දේශනාව විස්තර කිරීමයි. අපේ මේ වැඩපිළිවෙළේදී අපිට කියලා දීම එච්චර වැදගත් දෙයක් නෙවෙයි. අපිට අවශ්‍ය කරලා තියෙන්නේ අපේ දුක නැති කරගන්නයි. ඒ නිසා කායානුපස්සනාව ඉස්සර කරගෙන යනකොට හිතාගන්න ඕනෑ මේ ධර්ම මේ තාලෙටම අපිට නොවැටහුණත්, කියලා දෙන්න බැරි වුණත්, දැකීමක් මෙනෙහි කරන මොහොතක් පාසා, ඇහීමක් මෙනෙහි කරන මොහොතක් පාසා, නාසයෙන් දිවෙන් ශරීරයෙන් එන චිත්තක්ෂණයක් පාසා මෙනෙහි කිරීම පවතිනව නම් අපි ක්‍රම ක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන් තෘෂ්ණාව අවබෝධ කිරීමේ වැඩපිළිවෙළටයි යන්නේ. එතකොට අර දුක නැති කිරීමේ වැඩ පිළිවෙළ දැන හෝ නොදැන ඒකාන්තයෙන්ම සිද්ධ වෙනවා.

ඒ නිසා අපි ඒ කායානුපස්සනා වැඩපිළිවෙළ ඉස්සර කරගෙන යන්නට අධිෂ්ඨාන කරගන්න ඕනෑ. මේ හා සමාන විශාල වැඩපිළිවෙළක් ඒ කටයුත්තෙදි සිදු වෙනවා කියන ශ්‍රද්ධාවෙන් කරගෙන යනකොට, කරගෙන යෑමේදී ගුරු උපදේශ රහිතව ඉස්සරහට මේක පිළිබඳව ඒ විග්‍රහ ඥාන ලබාගන්න පුළුවන්. ඒ නිසා මේ ධම්මානුපස්සනා කොටසේ විස්තර වෙන මේ තෘෂ්ණාව පිළිබඳ දේ භාවනාවට ඉතාම ඇතින් සම්බන්ධ වෙන බවක් පේන්නේ. නමුත් ලිහෙන ගැටේ බරසාරකම, ගම්භීරත්වය දැකගන්න මේක අදාළ වෙනවා. ඒක නිසා එච්චා දන්නේ නෑ කියලා හිත නරක් කරගන්නේ නැතුව, මේවා අවශ්‍ය නෑ කියලා සම්පූර්ණයෙන් ප්‍රතික්ෂේප කරන්නෙත් නැතුව භාවනාවෙන් ප්‍රත්‍යක්ෂයෙන් මේක ලබාගෙන ක්‍රමයෙන් ක්‍රමයෙන් මේක ඉස්සරහට අධිෂ්ඨාන කරගෙන, ඉස්සරහට මේක තහවුරු කරගෙන අනිත් අයත් සමග කටයුතු කරගන්න ලැබෙනව නම්, ඒක තමයි අපි මේ වගේ තැනකින් බලාපොරොත්තු වෙන්න ඕනෑ.

ඉතින් මේ පැය තුළත් දේශනා කළ ඒ ධර්ම කොට්ඨාස තමන් කරගෙන යන වැඩපිළිවෙළට ඒකාන්තයෙන්ම විශද භාවයකට, පිරිසිදු භාවයකට හේතු වේවා! ඒ වගේම කුසලච්ඡන්දය පහළ වීමෙන් ශ්‍රද්ධා, වීර්ය, සති, සමාධි, ප්‍රඥා මේ කරගෙන යන වැඩපිළිවෙළට ලැබීමෙන් තමන් ගත කරන යෝග ජීවිතයට තමන්ගේ අත්දැකීමට මේක ආලෝකයක් වේවා, කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනවා. හැමදෙනාටම සැනසීම ලැබේවා!

# 75 | බාහිර ආයතන මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ තණ්හා කත්‍ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්‍ථ නිවිසමානා නිවිසති:**

**යං ලොකෙ පියරූපං සාතරූපං, එත්‍ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්‍ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංසරත්නයෙන් අවසරයි, අපි ගිය වතාවෙ ඉදිරිපත් කරගත්ත මහා සතිපට්ඨාන සූත්‍රයේ සච්ච පර්වයේ චතුරාර්‍ය සත්‍යයේ දෙවැනි ආර්‍ය සත්‍යයයි මේ වතාවෙත් අපි ඉදිරිපත් කරගන්න බලාපොරොත්තු වෙන්නෙ. ගිය වතාවෙදී අපි දුක්ඛ සත්‍යයට හේතු වෙන්නා වූ තෘෂ්ණාව පිළිබඳව - කොතනද තෘෂ්ණාව පහළ වෙන්නේ? කොතනද තෘෂ්ණාව පවතින්නේ, නතර වෙන්නේ, ලැගගන්නේ? කියලා සර්වඥයන් වහන්සේ දෙන ප්‍රශ්න දෙකට සර්වඥයන් වහන්සේම දෙන උත්තර වශයෙන් දීර්ඝ විවරණයක් ගත්තා. අපි ඒකෙ පළමුවැනි පිවිසුම ගිය පාර ඉදිරිපත් කරගත්තා - **යං ලොකෙ පියරූපං සාතරූපං, එත්‍ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්‍ථ නිවිසමානා නිවිසති.**

පොදු උත්තරයක් වශයෙන් තියෙන්නේ - යම් තැනකද තෘෂ්ණාව පහළ වෙන්නේ, යම් තැනකද තෘෂ්ණාව නතර වෙන්නේ, ලැගගන්නේ, ප්‍රිය ස්වභාවයක් මිහිරි ස්වභාවයක් යම් තැනක පහළ වෙනවද, එතන තමයි තෘෂ්ණාව පහළ වෙන්නේ. ලක්ෂණ වශයෙන් තමා වශයෙන්

මෙතැනදී දැකගත හැකියි මේ ප්‍රිය ස්වභාව, මිහිරි ස්වභාව. මෙතැනදී තමයි ප්‍රශ්නෙ විසඳෙන්නෙ. වෙන විදියකට කියනව නම්, ලෝකේ ඇති ඉතා ප්‍රිය රූප මිහිරි රූප නෙවෙයි, මේ මොහොතේදි තමාට මෙතනදි දැකගත හැකි යම් වූ ප්‍රිය ස්වභාවයක් ප්‍රිය ස්වරූපයක්, මිහිරි ස්වරූපයක් තියෙනවද, එතනදී තමයි ප්‍රශ්නෙ විසඳෙන්නෙ. ඒක තෘෂ්ණාව ගැන කතා කරනකොට විශේෂයෙන් අපි මතක තබාගත යුතු මූලික කාරණාවක්. මෙතෙන්ට යොමු වෙන්නම තමයි මේ ප්‍රශ්න විචාරාත්මක වැඩපිළිවෙළේදී හරියටම එතෙන්ට එල්ල කරන්නෙ, යොමු කරන්නෙ. ඒ නිසා දීර්ඝ මූලික ප්‍රශ්න විචාරාත්මක වැඩ පිළිවෙළකින් තමයි ප්‍රශ්නෙ මායිම් වීම, තෘෂ්ණාව තෘෂ්ණාව වශයෙන් දැකගැනීම, තෘෂ්ණාවෙන් ඇති වෙන මාන්නය දුරු කිරීම, දුරු කිරීමේ වැඩපිළිවෙළට යොමුවක් දෙන්නෙ. ඒ සඳහා කාරණා හතඅටක් හොයල බලන්න ඕනැ.

ඉස්සෙල්ලාම හැත්තෑහතරවෙනි දේශනාවේ ගිය පාර සාකච්ඡා කරපු වෙලාවෙදී තෘෂ්ණාව පිළිබඳව පළමුවෙන්ම යොමු වීමක් වූයේ **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං, සොතං ලොකෙ පියරූපං සාතරූපං, ඝානං ලොකෙ...** - ඒ ඒ විදියට චක්ඛු, සොත, ඝාන, ජිව්හා, කය කියන පහ. මේ පහම ප්‍රිය ස්වභාවය එළවන, මිහිරි ස්වභාවය එළවන රූප. පියරූප සාතරූප කියන තැන දක්වන මේ රූප වචනය, අර **රුප්පතී'ති රූපං** කියන අර්ථකථනය දෙන එකක් නෙවෙයි, ස්වරූප කියන තේරුමයි. ප්‍රිය ස්වරූප මිහිරි ස්වරූප ගෙන දෙන දේවල් තමයි තමන්ට තමන්ගෙ ඇහැ, කන, නාසය, දිව, කය. මෙන්න මේ ප්‍රිය වෙන්නා වූ ඇහැ, කන, නාසය, දිව, කය කියන ටිකෙන් තමයි තෘෂ්ණාව පහළ වෙන්නෙ. තවත් එක පියවරක් ඉදිරියට තැබුවොත් දුක පහළ වෙන්නෙ.

ඒක නිසා ඇහැ වගේ රකින මේ ඇහේ, නැත්නම් ප්‍රසාද රූපයේ, රූපයකට ප්‍රසාද භාවය දක්වන අපි දක්වන ඒ චක්ඛු රූපයේ, චක්ඛු ප්‍රසාදයේ නැත්නම් චක්ඛු ආයතනයෙන් තමයි දුක පහළ කරන්නේ. ඒ නිසා එතනම තියෙනවා ප්‍රහේලිකා ස්වරූපයක්. අද අපි ඉදිරිපත් කරගන්නේ ඒ චක්ෂුසය කුද්දන, රුප්පන, ඒකට ආපාතගත වෙන **රූපං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.** චක්ෂුසය තිබුණට ඇස් ඇත්තා වූ පුද්ගලයා අන්ධකාරෙ ඉන්නව නම්, නැත්නම් ඇස් දෙක බැඳලා තියෙනව නම්,

එහෙම නැත්නම් ඒකට ආපාතගත වීම සඳහා දෙයක් නැත්නම් ඒ ඇහැ ක්‍රියාත්මක වෙන්නේ නැහැ, ඇහෙන් වැඩක් ගැනෙන්නේ නැහැ, ඇහේ ප්‍රිය භාවයක් මනාප භාවයක් පහළ වෙන්න ඉඩක් නැහැ. ඒ ඇහැට රූපයක් ඉදිරිපත් වෙන්න ඕනැ. ඒකට කියන්නේ ආපාතගත වීම කියල. හරියට ඒකත් එක්ක මුහුණට මුහුණ දමල හිටින්න ඕනැ. ආන්න ඒ හිටින රූපයට තියෙනවා අර මුලින් කියාපු ඇහැ සම්බන්ධ ගතිය. ඒක තමයි මිහිරි ස්වභාවය. ප්‍රිය ස්වභාවය තියෙනවා. මේ මිහිරි ස්වභාව, ප්‍රිය ස්වභාව ගෙනදෙන්නා වූ රූප ටික තමයි අපිට තෘෂ්ණාව ඇති කිරීමට හේතුව.

ඉතින් ඒක නිසා මෙතැන මූලිකවම විසඳගත යුතු, තේරුම්ගත යුතු කරුණක් තියෙනවා. මූලිකව ඒ කොටස අහලා තේරුම්ගැනීම ඉතාමත්ම වැදගත්. එයිනුත් අනෙකුත් කාරණාවලට වඩා පටිච්චසමුප්පාදය පැත්තට, චතුරාර්‍ය සත්‍යය පැත්තට, සර්වඥ දේශනාවේ මූලිකම කොටස් පැත්තට එනකොට මේකෙ තියෙන සංකීර්ණ භාවය, මේකෙ තියෙන අවුල් ස්වභාවය බොහෝමයි. ඒකට හේතුව මෙතන මේ පේන එක පුරුක තුළ සම්බන්ධතා දෙකක් තියෙනවා. ඒ නිසා බැලූ බැල්මට මේක හරියට අර රයිගමයයි ගම්පලයයි වාගෙ දෙබිඩි ස්වරූපයක් තියෙනවා. මූලිකව බැලුවොත් මොකක්ද මේ හරස් වෙච්ච ස්වරූපය කියල, අපි මේ ප්‍රියයි මිහිරියි කියල බඳගන්නේ හිතේ හේතු. ඉතින් එහෙම නම් මනුෂ්‍යයාට මූලික වැරැද්දක් තියෙනවා මෙයට මුල් වූ තෘෂ්ණාව නැමති ක්ලේශය නිසා.

අපි හොඳයි, පුණ්‍යවන්තයි, වාසනාවන්තයි, මිහිරියි, සුභයි ආදී වශයෙන් බාරගන්න සෑම දේ තුළම, නැත්නම් මේ දේවල් තුළ අනිවාර්යයෙන්ම තෘෂ්ණාව ගැබ් වෙලා තියෙනවාද? එහෙම නම් මේ ඔක්කොම අන්ධභූතයි. අන්ධභූතයට කවදාකවත් යහපත් උත්තරයක් ලැබෙන්නෙම නැහැ. නමුත් මේ තුළ උත්තරයකුත් තියෙනවා. උත්තරය මේකයි. ඒකාන්තයෙන්ම සෑම තෘෂ්ණාවක්ම සෑම ප්‍රිය රූපයක්ම සෑම මනාප රූපයක්ම තෘෂ්ණාව ඇති කරනවා, සෑම තෘෂ්ණාවක්ම දුක ඇති කරනවා කියල කිව්වොත් අපි ඒකාන්තයෙන්ම කවදාකවත් විසඳන්න බැරි විෂම චක්‍රයකට වැටෙනවා. ඒ නිසා අපිට මෙතන සර්වඥයන් වහන්සේ පෙන්නලා දෙන මේ සනබහල සම්බන්ධතාව, දුකත් සමුදයත් අතර තියන මේ සම්බන්ධතාව තුළ පැලඉරක් තියෙනවා. වැඩ ගන්න පුළුවන්

කඩතොලුවක් තියෙනවා. ඒ කඩතොලුව ප්‍රඥාවෙන් දැකගන්න නම්, ඍජු තනි සම්බන්ධතාවක් වගේ පෙනෙන දේ තුළ නමුත් සම්බන්ධතා දෙකතුනක් තියන බව අඩු වශයෙන් සුතමය වශයෙන් හෝ හොඳට දැනගෙන ඥානය මෙහෙයවන්න ඕනැ. මෙහෙයවල තියෙන්නෙ නැතුව අපි බණ අහන්න කලින් සුතමය ඥානය ලබන්න කලින් හිතාගෙන හිටපු තාලෙට මේ පුරුක දිහා කොච්චර වෙලා බලාගෙන හිටියත්, කොච්චර භාවනා කළත් ඒ පුද්ගලයාගේ චරිතයේ රුචි අරුචිකම්වල කවදකවත් ගුණ විශේෂයක් වෙන්නෙ නැහැ. ඒක නිසා මෙතනදී සුතය අවශ්‍යයි.

එහෙම නැත්නම් අපි මේ කරන්න හදන වැඩේ පිළිබඳව කොහොමද මේ ගැටේ ගැහෙන්නේ කියන එක හොඳට බලන්න ඕනැ, ගැටේ ලිහන්න උත්සාහ කරන්න ඉස්සර වෙලා. කොහොමද මේක වෙන්නේ කියන එක බොහොම වැදගත්, කොහොමද මම මේක ගළපල බලන්නෙ, මොකක්ද මම මේකට කළ යුත්තේ කියන කාරණාව විසඳන්න. ඒ නිසා සුතමය ඥානයේ විශාල වටිනාකමක් තියෙනවා. ඒ නිසා මේ වගේ ධර්ම දේශනා කරනකොට සර්වඥයන් වහන්සේ මූලිකවම සිව්වනක් පිරිස අවධානයට ලක් කරනවා. **සුනාථ සාධුකං මනසිකරොථ** - මහණෙනි මනා කොට අසව්; මනා කොට මෙනෙහි කරව්. **භාසිස්සාමි** - මම දැන් දේශනා කරන්නයි හදන්නේ. ඒ මොකද? මේ සාමාන්‍ය ලෝකයේ පවතින එකින් එකට සම්බන්ධ වෙන ඍජු පුරුක් සම්බන්ධතාවට වඩා මෙතන සංකීර්ණ භාවයක් තියෙනවා. තේරුම්ගත යුතු, වැඩේට බහින්න කලින්ම දැනගත යුතු සමීකරණ වාගේ කොටස් ටිකක් තියෙනවා. අන්න ඒක පිළිබඳව සුතමය වශයෙන් තේරුම් අරගත්තෙ නැතුව අපි කොච්චර මේකට ක්‍රියා කරන්න පටන් අරගත්තත් එන්න එන්න අභ්‍යන්තර වශයෙන් බාහිර වශයෙන් මේ වැඩේ එන්න එන්න එන්න අවුල් වෙනවා, ඝනබහල තත්ත්වයට පත් වෙනවා.

ඒක නිසා තෘෂ්ණාව ගැන කතා කරනකොට කොහොමද තෘෂ්ණා ගැටය වැටෙන්නේ? මේක පැහැරහැරිය නොහැකි විදියට අනිවාර්යයෙන්ම ඍජුව වැටෙන ගැටයක්ද? එහෙම නැත්නම් එතන එතන අපි විසින් මේකෙ ගැට වට්ටගන්නවද? නොදැනුවත්කම නිසා ප්‍රිය රූපය ගැන තෘෂ්ණා ගැටය වැටෙනකොට, මෙතැනදී අපි විසින් මොන වගේ සම්මාදමක්ද වෙන්නේ? අන්න ඒ අපි සම්බන්ධ වෙන හැටි නතර

කිරීම නෙවෙයි, නික්මීම නෙවෙයි වැදගත් වෙන්නේ. කොහොමද මමයා, නැත්නම් මම සංකල්පය, නැත්නම් අපේ මූලික යෙදවුම, මේකට සම්බන්ධ වෙන්නේ? ඒක තමයි මේ අවස්ථාවෙදි සිද්ධ වෙන සිද්ධිය අනුන්ගේ දෙයක් වාගෙ, නැත්නම් සුතමය ඥනයක් වගේ හොඳට අහල බලල දැනගැනීම කරන්නේ. මෙතනදී තෘෂ්ණාව දුක ඇති කිරීමේ ආසන්නම උත්සන්නම කාරණාව බව තමතමාට දැනගන්න අවස්ථාවක් ලැබෙනවා.

අපි කලිනුත් මතක් කළා තෘෂ්ණාව ඇති කිරීම සඳහා ප්‍රිය රූප, සාත රූප ප්‍රමාණවත් වෙනවා. ඒ ප්‍රිය රූප, ප්‍රිය ස්වරූප, මිහිරි ස්වරූප හේතු වෙනවා. ඒ ප්‍රිය ස්වරූප මිහිරි ස්වරූපවලිනුත් උත්සන්නම ආසන්නම කාරණා ටිකක් සර්වඥයන් වහන්සේ පෙන්වා දීල, අවස්ථාව ලබාගන්න යෙදුණා වර්තමාන වශයෙන් උණුඋණුවෙන්ම මේ ප්‍රශ්නය විසඳීම සඳහා. ඒක තමයි ඇහැ, ඇහැට හේතු වෙන ස්වරූපය, මේ නිසා පහළ වෙන චක්ඛු විඤ්ඤාණය, එයින් පහළ වෙන්නා වූ චක්ඛු සම්ඵස්සය, ඊගාවට චක්ඛු සම්ඵස්සජ වේදනාව, චක්ඛු සංචේතනා, චක්ඛු තණ්හා. ඊගාවට විතක්ක විචාර වශයෙන් ඒ චිත්තක්ෂණයේම වහවහා සිද්ධ වෙන දේ උණුඋණුවක්, එහෙම නැත්නම් කියනව ආසන්නයි, උත්සන්නයි. මේවා ගැන තමයි, මේ අවිද්‍යා තණ්හා කියන සංසාර දුකට මූලික වන කාරණා පෙන්නලා, එහි ආසන්නම උත්සන්නම කාරණාව වශයෙන් පෙන්නන්නෙත් තෘෂ්ණාව.

මෙයින් පෙන්වන්නේ මෙයින් අදහස් කරන්නේ අවධාරණය කරන්නේ, ප්‍රශ්නය විසඳීම සඳහා අපි අවධානය යොමු කළ යුත්තේ එක තැනකට. නමුත් සාමාන්‍ය බුද්ධියට අදාළ සිද්ධිය දැනගැනීම සඳහා, එහි ඇත්තා වූ යාන්ත්‍රණය දැනගැනීම සඳහා ඒ උත්සන්න ආසන්න කාරණා විතරක් මදි. මේව ඔක්කෝම පිළිබඳව දැනීමක් තියෙන්න ඕනැ. නමුත් ඒ දැනීම ක්‍රියාවත් කරනකොට, අපි භාවනා ව්‍යාපාරය ක්‍රියාවට නගනකොට අපි හිතන තැනකටයි පහර දෙන්නෙ. නමුත් මුළු පද්ධතිය පිළිබඳවම සුතමය වශයෙන් දැනීමක් තියෙන්න ඕනැ. මෙන්න මෙහෙම මෙහෙමයි මේ චක්‍රය වැඩ කරන්නේ. මම චක්‍රයෙ මේ පුරුකටයි පහර දෙන්නෙ. මේ පුරුකට පහර දෙන වෙලාවෙදි මුළු පද්ධතියම තේරුම්ගන්න අවස්ථාවක් ලැබෙන්නෙත් නැහැ. මොකද අපි පූර්ණකාලීනව ක්‍රියාවත්.

අනිත් එක තමයි පූර්ණ චක්‍රය දන්නෙ නැතුව මේකට පහර දෙන්න යෙදවුමක් වෙන්නෙත් නෑ. ඒකෙදී ඉතාමත්ම පරිස්සම් විය යුතුයි.

මෙතැනදී තෘෂ්ණාවට ඇතින් දුරස්ථව ඉඳගෙන, නැත්නම් අප්‍රකටව ඉඳගෙන, තිරයේ ඉදිරියට එන්නෙ නැතුව තිරයේ පිටුපස්සෙ ඉඳගෙන, ක්‍රියාත්මක වෙන්නා වූ අවිද්‍යාවේ සාමාන්‍යයෙන් මුහුණුවර දෙකක් තියෙනවා. ඒවා ක්‍රියාත්මක වෙන පථ, මාර්ග දෙකයි. ඒව තමයි අප්පටිපත්ති අවිද්‍යාව සහ මිච්ඡාපටිපත්ති අවිද්‍යාව. අප්පටිපත්ති අවිද්‍යාව කියල කියන්නේ මේ යන යාන්ත්‍රණය, මේ යන වැඩපිළිවෙළ කොහොමද කියල කොහොමටවක්වත් දන්නෙත් නැහැ, අහලත් නැහැ, හිතලත් නැහැ. ඒක නිසා ඒ පුද්ගලයාට මේක විසඳන්න පුළුවන්ය කියලවත් හිතන්නෙ නැහැ.

දෙක තමයි ඒ නිසා, හරි වැඩ පිළිවෙළ දන්නෙ නැති නිසා, වැරදි දේක, වැරදි මතයක ඉඳගෙනයි මේ ප්‍රශ්නය දිහා බලන්නේ. තමන් හැම වෙලාවෙම මිථ්‍යාදෘෂ්ටියක් ගන්නවා සම්‍යක් දෘෂ්ටිය නැති තැන. ඒ නිසා අවිද්‍යාව කඩන්න නම් අප්පටිපත්ති අවිද්‍යාව කියන එක, තාම නොදන්නාකම, ගැඹුරින් සුතමය ඥනයෙන් ඉස්සෙල්ලාම විස්තර කරගන්නවා. විස්තර කරල දීගෙන යනකොට තමන්ට හරි දැක්ම, හරි දැනීම, හරි ඥනය පහළ වෙන නිසා මෙතෙක් කල් තමන් මෙන්න මේ විදියට මේ යාන්ත්‍රණය වෙනවයි කියල හිතාගෙන හිටපු මිථ්‍යාව, මිච්ඡාපටිපත්ති අවිද්‍යා දුරු වෙමින් දුරු වෙමින් ඒ වෙනකොට සම්මා දිට්ඨිය පහළ වෙන්න පටන්ගන්නවා.

ඒ නිසා මුලින්ම අවශ්‍යයි මේ ඇහැ - ඇහැ කියන්නේ මොකක්ද, රූපය - රූපය කියන්නේ මොකක්ද? චක්ඛු විඤ්ඤාණය මොකක්ද? කියල සර්වඥයන් වහන්සේ වාගෙ මේක අත්දැකල, අනුන් කෙරෙහි මහා කරුණාවෙන් මහා ප්‍රඥවෙන් දේශනා කරන අවස්ථාවෙදී ඒ යන්ත්‍රය වැඩ කරන්නේ මෙහෙමයි කියල දැනගන්න එක .ඒක අපි ගිය පාරත් සඳහන් කළා. මහාසළායතනික සූත්‍රයේ සඳහන් වෙනවා **චක්ඛුං භික්ඛවෙ, අජානං අපස්සං යථාභූතං**- මහණෙනි, යම් ආකාරයකට භාවනා කරන යෝගාවචරයා. සතිපට්ඨානය ගැන අහපු කෙනා මේ ඇහැ දැක්කේ නැත්නම් ඇති හැටියට - **චක්ඛුස්මිං සාරජ්ජති** - ඇහැ ප්‍රිය වශයෙන්

ගන්නවා, නිමිති වශයෙන් ගන්නවා. ඒ ආව දේ නිමිති වශයෙන් ඒක අරගෙන එහි ඇලෙනවා, එහි බැඳෙනවා, එහි බැසගන්නවා. ඒක නිසා මේ චක්ෂුසය පිළිබඳව මනා දැකීමක්, මනා දැනීමක් නැත්නම් ඒක පිළිබඳව ආදරය උපදවනවායි කියන එක නම් සාමාන්‍ය කෙනෙකුට තේරුම් කරල දෙන්න පුළුවන්. මේ චක්ෂුසය, ඇහැ කියන එක ආගමානුරූපව නැත්නම් පටිච්චසමුප්පාදනුරූපව ගන්නෙ නැත්නම්, ඕනෑම කෙනෙක් ඇහැට බැඳෙනවා, ඇහැට ආදරය කරනවා, ඇහැ වාගෙ රකිනවා.

මෙන්න මේ ඇහැ වාගෙ රකින්නා වූ චක්ෂුසයේ තියෙන මේ ඇලෙන ගතිය සංයෝජන ගතිය නිසා, එහි බැඳීම නිසා එතන මට දිගට මේ වගේ රූප දකින්න වේවා, හොඳට පිරිසිදුව වේවා, මට වර්ණ විග්‍රහය හොඳට සිදු වෙන ඇහේ දර්ශනය පහසු වේවා ආදී වශයෙන් ඇහේ තණ්හාව, පුනර්භවය ගෙන දෙන තෘෂ්ණාව ඇහැ කෙරෙහි පහළ වෙනවා. ඒකට හේතුව මොකක්ද? ඇහැ නියම වශයෙන් පටිච්චසමුප්පන්න දෙයක්ය, මේ චිත්තක්ෂණයෙයි ඇහැ පහළ වුණේ කියන දේ දන්නෙ නෑ. මංස චක්ඛුව කියන මේ මසැස, අපි හිතාගන ඉන්නවා දිගට පවතින ඉන්ද්‍රිය හයෙන් එකක්. ඒක නිසා අපි නිතරොම ඇහැට සුව සත්කාර කරනවා, නඩත්තු කරනවා. මොකද? ඇහැ අපට උදේ ඉඳල හැන්දෑ වෙනකල්ම දිගට උදව් කරන, පෙර ආත්මයක පින නිසා ලැබිච්ච වස්තුවක්. ඒක නිත්‍ය සංඥාවෙන් ගන්නවා, සුඛ සංඥාවෙන් ගන්නවා, සුබ සංඥාවෙන් ගන්නවා, ආත්ම සංඥාවෙන් ගන්නවා.

නමුත් අපට මතක නැති වෙනවා. මේ වාගේම කනත් දිගටෝම තියෙනවායි කියල අපි හිතනවා. හොඳට කන්කලු මිහිරියාවල් අහල දෙන, පුංචි දේ පවා අස්සවන, කනත් ඇහැ වාගෙම දිගටම නඩත්තු වෙනවායි කියල නිත්‍ය සංඥාව ගන්නවා. ඊගාවට නාසය - දවස පුරාම, පැය විසිහතරෙම ගඳ සුවඳ බලනවායි කියල නිත්‍යව, සුඛව, සුබව ආත්මයක් වශයෙන් තියෙනවා කියල හිතනවා. ඊගාවට දිව - දිගටෝම රස බලමින් ඇහැ වාගේම අපිට විශාල තොරතුරු රාශියක් සපයන ද්වාරයක්. ඒක නඩත්තු විය යුතුයි, ඒක හොඳයි, හොඳට රස නහර පිනවන විදියට දිව සංවේදීයි ආදී වශයෙන් අපි ඒක පිළිබඳව මත ගන්නවා. ඒ වාගෙම අපි කයිනුත් දිගටෝම සන්නිවේදනය වෙනවයි කියල හිතාගන ඉන්නවා.

මේක නොඅහපු නොදත්ත කෙනා මේ හයම එක දිගට ඇදෙන ඉරි හයක් වාගෙ, ඒ ඉරි හයෙන් අපිට සංඥ එනවා කියල හිතාගෙන ඉන්නවා. නමුත් සර්වඥයන් වහන්සේගේ ප්‍රධානම දේශනාව තමයි මෙව්වා පටිච්චසමුප්පන්නයි. පටිච්චසමුප්පන්න කියල කියන්නේ ඇහැ ක්‍රියාත්මක වෙන යම් මොහොතක් එනවා නම්, ඒ මොහොතේ කන, නාසය, දිව, කය ක්‍රියාත්මක නෑ. මේක තමා විසින්ම කලින් දැනගෙන බණ අහලා ක්‍රියාවට නගලා දත යුත්තක්.

එහෙම නැත්නම් අපි කලින් ගත්ත සංඥවල ඉන්නේ, අපි හිතාගෙන ඉන්නේ ඇහැ ක්‍රියාත්මක වෙනකොට කනත් ක්‍රියාත්මක වෙනවා, නාසයක් එහෙමයි, දිවත් එහෙමයි, කයත් එහෙමයි. ඒ හයෙන්ම තොරතුරු දෝරෙ ගලනවා. එතකොට තමයි අපි ඒක ධර්මානුකූලව විස්තර කරන්නේ ඇහැත් ස්ථිරව පවතින දෙයක්, කනත් ස්ථිරව පවතින දෙයක්, නාසයත් ස්ථිරව පවතින දෙයක්, දිවත් ස්ථිරව පවතින දෙයක්, කයත් ස්ථිරව පවතින දෙයක් කියලා. ඒ විතරක් නෙවෙයි ඇහෙන් කනෙන් ඇතුළු වෙන සංඥ රාශිය ප්‍රක්ෂේපණ රාශිය නිතරෝම සිද්ධ වෙනවා. කනෙන් ගන්න එක නිතරෝම සිද්ධ වෙනවා, නාසයෙන් දිගටෝම සිද්ධ වෙනවා, දිවෙන් දිගටෝම සිද්ධ වෙනවා, කයෙන් දිගටෝම සිද්ධ වෙනවා කියලා අපි හිතනවා.

නමුත් පටිච්චසමුප්පන්නයි කිවුවහම ඒකෙ සඳහන් කරන්නේ රූප දකින වෙලාවේ පමණමයි ඇහැ පහළ වෙන්නේ, ඇහැ ක්‍රියාත්මක වෙන්නේ අනිත් ඉන්ද්‍රිය හතර එමගින් නිෂේධනය කරල. ඒ වෙලාවෙදි කන, නාසය, දිව, කය සම්පූර්ණ අක්‍රියයි. සර්වඥයන් වහන්සේ අපට දෙන මේ උපකල්පනය මේ යෝජනාව දැනගෙන අපි ඇහැ විෂයෙහි ක්‍රියාත්මක වෙන්න ගත්තොත් - අද මාතෘකාව තියෙන්නෙ රූපය -ඒ රූපය විෂයෙහි ක්‍රියාත්මක වෙන්න ගත්තොත් මත්තට මතු වෙන්නා වූ **චක්ඛු විඤ්ඤාණ, චක්ඛු සම්ඵස්ස, චක්ඛු සම්ඵස්සජ වෙදනා**, ඒවා ගැන **සංචෙතනා, තණ්හා, විතක්ක, විචාර** ආදී සතිපට්ඨාන සූත්‍රයේ කියවෙන මේ මොනම දෙයක් හෝ පිළිබඳව අපි දැනුමක් ඇති කරගන්නව නම්, ඒ වෙලාවේ **සති සම්පජඤ්ඤ** ඇති කරගන්නව නම්, එතැනින් අපිට දැනගත යුතු තව එකක් තියෙනවා, ඒක තමයි මෙව්වා දන්නව නම් කනේ කිසිම වැඩක් නෑ. කන සම්පූර්ණයෙන්ම නෑ. කනේ ක්‍රියාවත් බවක් නෑ.

නාසයේ ක්‍රියාවත් බවක් නෑ, දිවේ ක්‍රියාවත් බවක් නෑ. කයේ ක්‍රියාවත් බවක් නෑ. නමුත් මේ වෙලාවෙ කන මෙහෙම කෙරුවොත් දිව මෙහෙමයි, නාසය මෙහෙමයි, කය මෙහෙමයි කියල අපි සංස්කාර ඇති කරනවා මේ හයම මට ලැබුණා, ලැබෙන්න ඕනෑ කියල. නමුත් එකක් නම් සත්‍යය, එකක් නම් ප්‍රත්‍යක්ෂ, සෙසු හතරම බොරු. සෙසු හතරම මනස විසින් ඇති කරගන්නා වූ ප්‍රක්ෂේපණ.

ඉතින් මේක මේ වගේ පිරිසකට නැවත නැවත නැවත නැවත කියන එකේ අර්ථයක් තියෙනවා. මොකද මේ පිරිස මේව ගැන නැවත සාකච්ඡා කරන්න කැමතියි, නැවත සලකා බලන්න කැමතියි. නමුත් මේ වෙලාවෙදී මුළු පිරිසම විරුද්ධව නැගිලා කෑගැහුවත් පුදුම වෙන්න නම් දෙයක් නෑ. මොකද? මේක තමයි අපිට ඉතිහාසයෙන්, භූගෝලයෙන් ගුරුවර දෙමව්පියො උගන්වපු දේ. අපි ඒක අභියෝග වෙනව දකින්න කැමති නෑ. ඒක නිසා මේ ධර්ම කොට්ඨාස ගැන සඳහන් කරනකොට විශේෂයෙන් කියන්න වෙනවා, **පඤ්ඤවතො අයං ධම්මො නායං ධම්මො දුප්පඤ්ඤස්ස** - ප්‍රඥවන්තයින්ටයි මේ ධර්ම කොට්ඨාශ දුෂ්ප්‍රාඥයින් සඳහා නෙවෙයි. විශේෂයෙන්ම මේක දෙවියන් වහන්සේ විසින් මවන ලද ඇහැ, කන, දිව, නාසය, කියන මෙව්වා දෙවියො මවල තියෙන්න මේවා දිගටම වැඩ ගන්නයි. මොකද? මේවා නිත්‍යයි, මේවා සුබයි, මේවා සුඛයි, මේවා ආත්මයි කියල ගන්න කෙනෙකුට ඇහැ ක්‍රියාත්මක වෙනකොට කන, නාසය, දිව, කය ක්‍රියාත්මක වෙන්නෙ නෑ කියන එකම විශාල හෙණ පහරක්, මහා භයානක දෙයක් බවට පත් වෙනවා.

ඒ නිසා මිච්ඡාපටිපත්ති අවිද්‍යාව සහ අප්පටිපත්ති අවිද්‍යාව කියල අපි මේ බාර අරන් තියෙන නිත්‍ය, සුබ, සුඛ සංඥා කඩන්න නම් අපිට සර්වඥයන් වහන්සේ විසින් දේශනා කරන ලද පටිච්චසමුප්පන්න භාවය දැනගන්න ඕනෑ. ඇහැ ක්‍රියාත්මක වෙනකොට මෙහෙමයි ඇහේ වදින්නේ, ඇහැ ක්‍රියාත්මක වෙනකොට අනිත් දේවල් නතර වෙනවා. අනිත් දේවල් හදනවා කියල අපි හිතාගෙනයි ඉන්නේ. ඒකට තමයි සංස්කාර කියන්නෙ. ඒ නිසා සංස්කාර සංස්කාර වශයෙනුත් ප්‍රත්‍යක්ෂය ප්‍රත්‍යක්ෂය වශයෙනුත් දකින්න නම් අපි ඒක ක්‍රියාත්මක වෙන වෙලාවේදී, අර කියන දැනුමත් එක්ක ඇහැට සතිය සම්පජඤ්ඤය යෙදෙන්න ඕනෑ. මේ ඇහැ ඒ වෙලාවේදී හැදිල ක්‍රියාත්මක වෙන දෙයක.

ඒකට අවශ්‍ය හේතු තියෙනවා. නමුත් මූලිකම දේ චක්ඛු විඤ්ඤාණය. ඔය පහටම තියෙන්නෙ එක විඤ්ඤාණයයි. චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය කියන ඔක්කොටම එකම විඤ්ඤාණයයි තියෙන්නේ. විඤ්ඤාණය ඇහැට යොමු වුණොත් ආයෙ කනට යන්න දෙයක් නෑ ඊට පස්සේ. ඒ විඤ්ඤාණයේ කොටස් කොටස් කැඩිල යන්නෙ නෑ. ඇහැට ගියාට පස්සේ කනේ කොටසක් යනවා, නාසයේ කොටසක් යනවා, එහෙම මොනවක්වත් නෑ.

ඒක නිසා අපිට විශාල දැනුමක් ඇතුව විශාල මූලික සුතමය ඥනයක් ඇතුවමයි දකින වෙලාවෙදී 'දකිනවා' යි කියල මෙනෙහි කිරීම කරන්නේ. මූලිකව පටිච්චසමුප්පාදය පිළිබඳව හැඟීමක් නැතුව දකින වෙලාවේදී 'දකිනවා, දකිනවා' යි කියල මෙනෙහි කළාට ඒකෙන් අවබෝධයක් වෙන්නෙ නෑ. ඉතින් එහෙම භාවනා කරල අපිට බනින ඇත්තො බොරුවට නෙවෙයි බනින්නේ. මේ ඇත්තො දන්නවා දුෂ්ප්‍රාඥව ඉඳගෙන මේ මතය, පටිච්චසමුප්පන්න බව, පිළිගන්නේ නැතුව කොච්චර බැලුවත් ඒ පුද්ගලයාට පටිච්චසමුප්පන්න බව දැනගෙන බලන්නාට තරම් වහා ප්‍රතිඵල දෙන්නේ නැහැ. සමහර වෙලාවට විවේචනය කරන කෙනාත් මේක පිළිගන්නෙ නැතුව ඉන්නෙ පුළුවන්.

එහෙම නැත්නම් මේ පුද්ගලයා පිළිඅරගෙන, ප්‍රත්‍යක්ෂ කරල ඥනයක් නැති වෙන්නත් පුළුවන්. ඒ වාගේම පටිච්චසමුප්පන්න භාවය පිළිගන්නේ නැතුව මෙනෙහි කරමින් මෙනෙහි කරමින්, බරපතළ වචන කථා කරමින් වරද්දගත්ත අයත් කොච්චරදෝ ඉන්නවා. මේ නිසා අපි තේරුම් අරගන්න ඕනැ, තෘෂ්ණාව පිළිබඳ ගැටේ ලිහන්න නම් අවිද්‍යාවේ පැති දෙක තේරුම්ගන්න ඕනැ. එකක් තමයි සාමාන්‍ය නොදැනීම. ඇහැ ක්‍රියාත්මක වෙන වෙලාවේදී කන, නාසය, දිව, කය ආදී දේවල් ක්‍රියාත්මක වෙන්නේ නෑ, ඒකෙ ආයෙ දෙකක් නෑ. ඒ වෙලාවෙදි ඇහැ ඒකාන්තයෙන්ම ආරාධනා පූර්වකව වෙන්නේ රූපෙට පමණයි. සද්දෙටත් නෙවෙයි, ගන්ධයටත් නෙවෙයි, රසයටත් නෙවෙයි, ස්පර්ශයටත් නෙවෙයි.

එහෙම නම් මේ ඇහේ තිබෙන්නා වූ පටිච්චසමුප්පන්න භාවය ඇති කරලා ඇහැ ක්‍රියාවත් වෙන්න නම්, ඒ රූපේම ඇවිල්ලා වදින්න

ඕනෑ. එතකොට අනින්ද්‍රිය පටිබද්ධව තිබුණා වූ විඤ්ඤාණය දැන් ඇහැට සම්බන්ධ වෙනවා. ඇහැ තියෙනවා ප්‍රකෘතිව. ආලෝකය තියෙනවා, බාධාවක් නැහැ. රූපයක් ඉදිරිපත් වෙනවා. එතකොට ඒ ඇති වෙන සංඥාව කනේ මේ වෙලාවෙ වෙන දේට වැඩිය ප්‍රකටයි. නාසයේ දිවේ ශරීරයේ වෙන දේවල් වලට වැඩිය ප්‍රකටයි. ඒ නිසා විඤ්ඤාණය අර ප්‍රකට දේට බැඳෙනවා. එතකොට අපි ඒ විඤ්ඤාණයට නමක් දෙනවා චක්ඛු විඤ්ඤාණය කියල. අන්න ඒ චිත්තක්ෂණයේ විතරයි පෙනීම තියෙන්නෙ. විඤ්ඤාණය චක්ඛු විඤ්ඤාණය බවට පත් වෙන්න ඉස්සර වෙලා ඇහේ මොන දේවල් තිබුණත් ඒක පෙනීම විධියට ක්‍රියාවට නැගෙන්නේ නෑ, පටිච්චසමුප්පන්න වෙලා නෑ, හේතු සම්පාදනය ඇති වෙලා නෑ. නමුත් ඒක එක චිත්තක්ෂණයක යුහුසුලුව සිද්ධ වෙන එකක්.

ඒ නිසා චක්ෂුසයේ මේ පවතින්නා වූ පටිච්චසමුප්පන්න භාවය අපි කල් ඇතුව අවිද්‍යාව තේරුම්ගැනීමේ පියවර දෙකෙන් එකක් විදියට තේරුම් අරගන්න ඕනෑ. අහල තියෙන්න ඕනෑ. ඒ වෙලාවට හදලයි ඇහෙන් වැඩ අරගන්නේ. ඒ වෙලාවට හදලයි කනෙන් ශබ්දය අහන්නේ. ඒ වෙලාවට හදාගෙනයි නාසයෙන් සුවඳ බලන්නේ. ඒ වෙලාවට හදාගෙනයි දිවෙන් රස බලන්නේ. ඒ වෙලාවට හදාගෙනයි කයෙන් පහස විඳින්නේ. ඒ හැදීම අරමුණේ ප්‍රකට භාවයත් අපි ගෙනාපු වෙන සංසාර ගතිත් නිසා හිත නිසි නින්දේ පීලි පනිනවා. ඒක පිළිබඳව අපිට පූර්ණ අයිතියක් නැහැ.

ඒ නිසා අපි තණ්හාවට දාසයි. හැමදාම ඌනයි, හැමදාම අතිත්තයි. ඌනයි කියන්නේ අපි හැමදාම හිඟේ පවතින්නේ. කවමදාවත් තෘප්තිමත් වෙන්නේ නැති තත්ත්වයක පවතින්නේ. අන්න එවැනි වෙලාවක ඇහැ අනෙකුත් ඉන්ද්‍රිය අතර බොහෝ අයුරින් හිත ප්‍රකට කරනවා. ඒ නිසා මේව ගැන දේශනාවෙදි මුලින්ම අපි අරගන්නෙ ඇහැ. ඒ නිසා හුඟාක්ම කෙලෙස් පහළ කරන්නේ ඇහෙන්. හුඟාක්ම සංකීර්ණ ක්‍රියාවලිය වෙන්නෙත් ඇහෙන්. හුඟාක්ම යුහුසුලු ක්‍රියාවලිය සිද්ධ වෙන්නේ ඇහෙන්. නමුත් ක්‍රියාවලිය නම් එකමයි. එකම සමීකරණයෙන් මේක විස්තර කරල දෙන්න පුළුවන්.

දෙක තමයි මේ විදියට නොදැනුවත්කම නිසා, අවිද්‍යාවේ තියෙන නොදැනීම නිසා සිදු වෙන අවිද්‍යාව තියෙනවා. ඊගාවට තියෙනවා

වරදවල වටහාගැනීම නිසා සිදු වෙන අවිද්‍යාවකුත්. ඇහැ දිගටම පවතිනවා, ඇහැ සුබයක්, ඇහැ සුභයක්, ඇහැ ආත්මයක් කියල ගත්තට පස්සේ ඒ පුද්ගලයා අනිවාර්යයෙන්ම මේ ඇහැ මම රැකිය යුතුයි, මේක හොඳයි, මගේ, මම ආදී වශයෙන් නන්දිරාගයක්, පොනොභවික නන්දිරාග සහගත තෘෂ්ණාවක් ඇහැ කෙරෙන් ඇති කරනවා.

මේක ඒ වෙලාවට අහම්බෙන් සිදු වෙන දෙයක් කියලා දන්නවා නම් අපිට ඕකෙ නඩත්තු කරන්න දෙයක් ඇත්තෙ නැහැ. අපි දන්නවා ඒක අවස්ථානුකූලව සිදු වෙයි. ඒක මම කිව්වත් කෙරෙනවා නොකිව්වත් කෙරෙනවා. ඒ නිසා මට ඇහැ කෙරෙහි බැඳීමක්, ආසාවක්, ආලයක්, සතුටු වෙන්න දෙයක් ඇත්තේ නැහැ. කෙසේ වුවත් ඒ වෙලාවේ ඇහේ ක්‍රියාකාරිත්වයත් රූපයේ ක්‍රියාකාරිත්වයත් චක්ඛු විඤ්ඤාණයේ ක්‍රියාකාරිත්වයත් ඇර 'මම ඇහැට විශේෂ ආදරයක් වුණා' යි කියල, ඇහැ මට සලකන්න ඕනැ තත්ත්වයක්, ඇහැ ගාව එහෙම තත්ත්වයක් නැහැ.

ඒක නිසා ඇහැ විෂයෙහි උපදින්න තියන තෘෂ්ණාව වගේ දේවල්, ඒකාන්තයෙන්ම ඇහේ තියෙන පටිච්චසමුප්පන්න භාවය නොදැනීම නිසා 'මම මාගේකම' කරන ඇඟිලිගැහීමක් පමණයි. මම කරන අනවශ්‍ය ඇඟිලිගැහීමක් පමණයි. මේ ඇඟිලිගැසීම නිසා තමයි මම තණ්හාව පහළ කරන්නේ, මම චේතනා පහළ කරන්නේ, මම විතර්ක පහළ කරන්නේ, මම විචාර පහළ කරන්නේ. මේකෙන් තමයි කර්ම රැස් වෙන්නේ, මේකෙන් තමයි පුනර්භවයක් වෙන්නේ, මෙතනින් තමයි ගැටවදින්නෙ.

ඇහේ සිද්ධ වෙන දේ අහම්බයක්. පටිච්චසමුප්පන්නයක්. ඒ පටිච්චසමුප්පන්න භාවය වහවහා සතියෙන් සම්පජඤ්ඤයෙන් දැකගන්නවා නම් මේ වැඩපිළිවෙළ වෙනුවෙන් මමයා පේ වෙයිද? තෘෂ්ණා කරන්න, ආස කරන්න, බැඳෙන්න දෙයක් ඇත්තෙ නැහැ. එන්න ඒ වෙලාවට අහම්බයක් වගේ සිද්ධ වෙනවා. මට තියෙන්නෙ දැකගන්න එක විතරයි. ඒක දැක්ක නම්, විශේෂයෙන්ම මම යෙදිල, සංචේතනා පහළ කරගෙන, ඇහැ විෂයයෙහි තණ්හා පහළ කරන්න, ව්‍යාපාර කරන්න, ආසාව පහළ කරන්න, නන්දිරාග පහළ කරන්න දෙයක් ඇත්තේ නැහැ. මේ වගේ වැරදි දර්ශනයකින් තමයි ඇහැ මනින්නේ කියන එක ක්‍රමයෙන්

දුරු වීම සමහර කෙනෙකුට එක චිත්තක්ෂණයකම සිද්ධ වෙන්න පුළුවන් කාරණාව හරියට වැටහෙනකොට. තව කෙනකුට අවුරුදු හතක් පර්යේෂණ කරන්න වෙනවා. නමුත් අර මූලික කාරණාව හරියට තේරුම්ගත්තෙ නැත්නම්, අවුරුදු හතේ කතාව වලංගු වෙන්නේ නෑ.

ඇහැ ගැන පටිච්චසමුප්පන්න භාවය, ඒක ඒ වෙලාවේ **ඉමස්මිං සති ඉදං හොති, ඉමස්සුප්පාදා ඉදං උප්පජ්ජති**. මේකෙ වැඩපිළිවෙළ රූප ඇති කල්හි ඇහැ වෙයි, ඇහැ ඇති කල්හි රූප වෙයි. රූප ඇති වීමත් එක්කම ඇහැ උපදිනවා, ඇහැ ඉපදීමත් එක්කම රූප උපදිනවා. එහෙම නැතුව දිගට පවතින රූප සහ දිගට පවතින චක්ෂුසයක් නෑ. ඇහැ නැත්නම් රූප නෑ, රූප නැත්නම් ඇහැ නෑ, ඇහැ නිරුද්ධ උනා නම් රූප නිරුද්ධ වෙනවා. රූප නිරුද්ධ උනා නම් ඇහැ නිරුද්ධ වෙනවා. ඔන්න ඕක තමයි පටිච්චසමුප්පාදයේ හරය වෙන්නේ.

පටිච්චසමුප්පාදය අපි දෙළොස් ආකාරයකට පෙන්වන **අවිජ්ජා පච්චයා සඞ්ඛාරා, සඞ්ඛාර පච්චයා විඤ්ඤාණං** කියනකොට අවිද්‍යාව කියන දේ ගත්තම අපි මේ පටිච්චසමුප්පන්න බවක් නොදන, නැත්නම් මේ ඉන්ද්‍රියවල තියන පටිච්චසමුප්පන්න භාවය පිළිගන්නේ නැතුව මේ පටිච්චසමුප්පන්න භාවය කියන යථාභූතය වෙනුවට අපි වෙන භූතයක් හිතාගෙන ඉන්නව නම් මිථ්‍යා දෘෂ්ටියක, අපි දෙපැත්තක ඉන්නවා. අන්න ඒ දෙපැත්තකින් එකක් තමයි අපි සාමාන්‍ය නොදැනීම. දෙක සත්‍යය යැයි බොරුවක් ඉදිරියෙන් තියාගෙන සිටීම. මේ දෙක නිසා සංස්කාර ඇති කරනවා. අපි හිතනවා ඇහැ වැඩ කරනකොට කනත් වැඩ කළා, නාසයත් වැඩ කළා, දිවත් වැඩ කළා, ඒ වාගේම කයත් වැඩ කළා කියල.

ඒ වාගේම අපි පුද්ගලයකුගේ රූපයක් දකිද්දී, දකිනකොට ඒ රූපෙ අපි දකින්නෙ රූපය විතරයි. නමුත් අපි කියනවා, 'නෑ, අපි ඒ පුද්ගලයාගේ හැඟීමත් දැනගත්තා, ඒ පුද්ගලයා විඳින වේදනාවත් අපිට වැටහුණා, එයා හිතන දේත් වැටහුණා, එයා මිථ්‍යා දෘෂ්ටිකයෙක්, එයා රාමඤ්ඤ නිකායේ එක්කෙනෙක්, එයා සියම් නිකායේ එක්කෙනෙක්'. මේ රූපය එක්ක විශාල මත රාශියක් අපි ඇති කරගන්නවා. මේ දේ වැඩි හරියක් සංස්කාර. හුඟක් හරිය අපි විසින් ඇති කරන ලද ප්‍රක්ෂේපණ. පුළුල් කරගන්න දේවල්. ඒ දෙයින් ගොඩක් මිථ්‍යා දෘෂ්ටිය ඇති වෙනවා.

ඒ නිසා අපේ ඇහැ තුළත් අවිද්‍යාව - පෙර කාරණා නොදැනීම කියන අවිද්‍යාවත් ඒ වෙනුවට බොරුව ඇත්ත ලෙස පිළිගන්නා අවිද්‍යාවත් කියන දෙකම - වැඩ කරනව. ඇහැට ගොදුරු වෙන්නා වූ රූපයත් අපි නිත්‍ය සුබ සුබ වශයෙන් ගැනීම නිසා අපි ඒකට මිථ්‍යා මතයෙන් මිථ්‍යා ක්‍රමයෙන් අපි ඒක දකිනවා. ඇත්ත මේකේ රූපයේ රූප්පන භාවයයි කියන එක අපි අමතකත් කරනවා. මේ නිසා සංස්කාර අනිවාර්යයෙන්ම රැස් වෙනවා.

නමුත් යම් වෙලාවක අපි අවිද්‍යාව නිසා සංස්කාර රැස් කිරීම අඩු කිරීමට නම් අනිවාර්යයෙන්ම දකින අවස්ථාවේදී රූපයේ අංග ප්‍රත්‍යංග නෙවෙයි, ඇහැ ක්‍රියාත්මක වෙන වෙලාවක දකිනවා කියන එකට අපේ සතිය, සම්පජඤ්ඤය යොමු වෙන්න ඕනැ. මේක ඒ තරම්ම පච්චුප්පන්න දෙයක් බවත් අඩු ගානේ මත වශයෙන් හෝ පිළිගැනීම් වශයෙන් හෝ මේ වෙලාවේ අහන්නේ නෑ, රස බලන්නේ නෑ, ගඳ බලන්නේ නෑ, පහස ලබන්නේ නෑ කියන එක දැකගන්න පුළුවන් තරමට විවෘතකමකුත් තියෙන්න ඕනැ. එහෙම නම් අවිද්‍යාව නිසා සංස්කාර ඇති වීම වෙනදට වඩා වෙනසක් ඇති වෙනවා. අර තරම්ම සංස්කාර රාශියක් නෑ. අපි මේ ගත්ත චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය කියන රූපය වශයෙන් දකින මේ විෂය රූප ටික ගත්තත් පහෙන් එකක් ඇත්ත, පහෙන් හතරක් බොරු. පහෙන් හතරක් අපි ඇති කරන ලද ප්‍රක්ෂේපණ.

මේක හරියට රේඛා චිත්‍රයක් දැකලා පූර්ණ ස්ත්‍රී රූපයක්, පුරුෂ රූපයක් අපි හිතින් හදගත්තා වගේ. මේක සමහරක් චිත්‍ර කලාවල හොඳට පෙන්නන්න උත්සාහ කරල තියෙනවා, පුංචි රේඛා දෙකතුනක් පෙන්නලා කාමය උලුප්පන අදහසක් ඇති කරනවා. පුංචි රේඛා දෙකතුනක් මතු කරලා ශ්‍රද්ධාව ඇති කරවනවා. පුංචි රූපයක් දෙකක් පෙන්නලා මොනවා හරි විවිධ වර්ණ ඇති කරන්න හදනවා. ඒක හරියට මැජික්කාරයෙක් පුංචි මායාවකින් මුළු සභාවම මැවීම්කාරයෙක් බවට, මවන්න පුළුවන් කෙනෙක් බවට පෙන්වනවා වගේ දෙයක්. අපි කියනවා ඇස්බැන්දුම් කියල. මේ ඇස් බැන්දුම හැම චිත්තක්ෂණයකම ඇහේ සිද්ධ වෙනවා. අන්න ඒ චිත්තක්ෂණය දකින්න නම්, අපි පැහැදිලිවම කලින්ම දැනගෙන තියෙන්න ඕනෑ ඇහේ තියන්නෙ පටිච්චසමුප්පන්න ස්වභාවය. ඒක පහු වුණොත් හුඟාක් විට අපි මත් කරල අතරමං කරල දානව.

ඒ නිසා සිද්ධිය වෙනකොට උණුඋණුවේම දැකීම සිදු වෙනකොටම, ඒකෙ පටිච්චසමුප්පන්න භාවය තේරුම්ගන්නා අදහසින් මෙනෙහි කිරීම සිද්ද වෙන්න ඕනැ. අන්න එහෙම සිදු කළොත් මේ දෙකක් එක වර සිද්ද වෙන බව පේනවා - එකක් තමයි මෙතෙක් අපි හිතාගෙන ඉන්න බොරු රාශිය, නැත්නම් අපි ගත්ත මිථ්‍යාපටිපන්න අවිද්‍යාව, බොරුවක් මායාවක් මුසාවක් මුළාවක් බව හොඳටම තමන්ට තේරෙනවා. දෙක, සර්වඥයන් වහන්සේ කියන පටිච්චසමුප්පන්න භාවය සත්තයි කියලා, අනිත්‍ය භාවය හොඳට වැටහෙනවා.

මේක කෙනෙකුට එකම චිත්තක්ෂණයේ වුණත් සිද්ධ වෙන්න ඉඩ තියෙනවා. තව කෙනෙකුට බොහෝ කල් පුහුණුව තුළින් යෝනිස මනසිකාරය දිගට ක්‍රියාත්මක වෙලත් වෙන්න ඉඩ තියනවා. ඒ නිසා අපි මේකෙ මූලධර්ම කොටස අවිද්‍යාවේ ඇත්තා වූ මුහුණුවර දෙක අනුව මෙහෙම විස්තර කළාට භාවනා උපදෙස් දෙනකොට යෝගාවචරයාට මේක දකින්න අමාරුයි. ඒ මොකද? යෝගාවචරයාට තියෙන්නෙ එච්චර පුහුණු කරපු මනසක් හෝ එච්චරම තීක්ෂණ දැනුමක් නෙවෙයි. ඒ නිසා යෝගාවචරයාට කියන්නේ මූල කර්මස්ථානයක් ගන්න. ඒ මූල කර්මස්ථානය ඇහැ වෙන්න එපා. ඒක චක්ඛු සෝත ඝාණ ජිව්හා කය කියන ඒවායින් කායප්‍රසාදයට සම්බන්ධ කරගත්ත කායගතාසතියට යොදා ගත්තහම ලේසියි. නමුත් කායගතාසතිය අනුව අපි සක්මන් කරන වෙලාවක අපි සක්මනේ ස්ථාන වශයෙන්, පාද වශයෙන්, ඒ ප්‍රකට දේ එතන එතන ඒ පාදයේ ක්‍රියාත්මක වීම අනුව එතන එතන විඤ්ඤාණය පහළ වෙන හැටිත් ඒ පහළ වෙන විඤ්ඤාණයේ ලක්ෂණ, ස්වභාව ලක්ෂණ, ආකාර, ස්වාභාවික ගති, සටහන් ආදී වශයෙන් ඒ තාක් යොදාගෙන ඉන්නකොට අපිට තේරෙනවා අපිව අමතක වෙන ගතියක්. රූකඩයක් විතරක් වැඩ කරන ගතියක්. අපේ ඇහැ, කන, දිව, නාසය පිළිබඳව කිසිම මතකයක් නෑ.

නමුත් මේ සක්මනේ හරි, නැත්නම් පර්යංකයේ අපි ඉරියව්ව පවත්වාගෙන ඉන්නකොට එකපාරටම ඇහැට රූපයක් පේනවා. නැත්නම් හිතට රූපයක් එනවා. ඒ පේන රූපය අපිට පේන්නේ කායගතාසතියට විශාල බාධාවක් වාගෙ. භාවනාව කැඩුණා වාගෙ. ඒ මොකද හේතුව? අපි බලාපොරොත්තු වෙනවා කයට තිබ්බ හිත,

නැත්නම් කය අනුව ගිය සිහිය කය අනුවම පවතීවා, ඒක ස්ථිර වේවා, ඒක නිත්‍ය වේවා කියල අපේ ලොකු කැමැත්තක් තියෙනවා. නමුත් හිටින්නෙ නෑ. ඉතින් ඒක ඇහැ අනුව කැඩෙනවා, නාසය අනුව කැඩෙනවා, දිව අනුව කැඩෙනවා, කන අනුව කැඩෙනවා. ඒ කැඩෙන්නේ රූප, ශබ්ද, ගන්ධ, රස විෂයයෙහි. ඒ කැඩෙනකොටම ඒ චිත්තක්ෂණයේදී කායගතාසතිය යම් ආකාරයකින් සුන්නද්දූලි වෙලා යනවා. ගිහිල්ලා ඇහැට හිත ගියාට පස්සේ අපි භාවනාව කැඩුණා කියල හිතාගන්නවා. චෝදනා කරන තරමට බලාපොරොත්තු සුන් කරගන්න තරමටම අවධානය වෙන පැත්තකට යනවා.

නමුත් මෙතන සිදු වෙන්නේ ඇහැ විෂයයෙහි වැඩ පිළිවෙළ පටන් අරගන්නවා, අර කය විෂයයෙහි ඇති වී තිබුණ වැඩපිළිවෙළ වගේ. නමුත් ආධුනික යෝගාවචරයාට ලොකු බයක් ඇති වෙනවා, දැන් මගේ භාවනාව කැඩුණායි කියල, මගේ සතිය කැඩුණායි කියල, මගේ සමාධිය කැඩුණායි කියල. ඒ නිසා මේ ඇහැ නොවේවා, රූප නොවේවා, මේක මට විශාල අලාබයක් ආදී වශයෙන් ඇහැත් රූපයත් විඤ්ඤාණයත් විෂයයෙහි මහා බයක් චෝදනාවක් පහළ වෙනවා. තරහක් පහළ වෙනවා. නමුත් එතනත් තියෙන්නේ කායගතාසතියෙන් සිද්ධ වෙච්ච වැඩේමයි. ප්‍රශ්නෙ තියෙන්නෙ සංකීර්ණ වැඩියි. කෙලෙස් උපදවන ගතිය වැඩියි.

නමුත් ඒ විෂයෙහි දැකීම කරන බව, කායගතාසතියෙන් හැරිච්ච හිත, සතිය, දැන් රූපයට ගිහිල්ලා නම්, දකිනවායි කියල මෙනෙහි කරනකොට කායගතාසතිය තරම් ඉක්මනින් නම් කරන්න බැහැ. නමුත් බොහෝ කල් කරනකොට ඒ වැඩපිළිවෙළමයි. එහිම තව පියවරක්මයි. තරහ වෙන්න දෙයක් නෑ. ඒක නිසා අපි මූලික වශයෙන් කළ යුත්තේ කායගතාසතියේ, ආනාපානයේ හෝ පිම්බීම හැකිළීමේ හිත යොදනවනවා. යොදනකොටම රූපයක් ශබ්දයක් ගන්ධයක්, රසයක් - මූල කර්මස්ථානයෙන් පිට කයේ සිදු වෙන අනෙකුත් ස්පර්ශයක් ආවොත් අපි දැනගන්නවා මෙන්න මේ තරම් අපේ හිත යුහුසුලුයි. අපි කොච්චර තැනකට යොදවන්න ගියත් ඒක අනිවාර්යයෙන්ම ඒකෙ රුචිකම් අනුව හැසිරෙනවා. නමුත් ඒ තුළ තියෙන්නෙත් සතිපට්ඨානයමයි. දුක්ඛ සත්‍යයමයි. සමුදය සත්‍යයමයි. තේරුම්ගන්න පමාව, නුහුරු බව, කලින් භාවිත මනසක් නැතිකමයි ප්‍රශ්නය. ඒ නිසා අපි ඒකට ද්වේෂ කරනවා.

මිච්ඡාපටිපත්ති අවිද්‍යාව සහ අප්පටිපත්ති අවිද්‍යාව අපි හිතනවා බාධාවක් කියල. නමුත් කවදකවත් මේ ඉඳුරන්ට ගොදුරු වෙන කිසිම දෙයක් සතිපට්ඨානයෙන් පිට නෑ. ආධුනිකයට බැරිකම වෙනම කතාවක්. නමුත් ආධුනිකයා හිතාගන්න වෙනවා, කවද හෝ සතිපට්ඨානය පිළිබඳව පූර්ණ භාවයකට යන්න නම්, කායගතාසතිය කරන ගමන් රූප පෙනේවි, ශබ්ද ඇහේවි, ගඳ සුවඳ වදීවි, දිවට රස දැනේවි, කයට වෙනත් මූල කර්මස්ථානයෙන් පිට දේවල් දැනේවි, වෙන්ඩ පුළුවන්. ඒව වහා ඇවිල්ලා යන දේවල්. ඒ තියෙද්දි අපිට තියෙන්නෙ ඒක අනතුරක්වත් බයක්වත් තරහ වෙන්න කාරණාවක්වත් නෙවෙයි බව දැනගන්නයි.

මවක් තමන්ගෙ කුළුඳුලේ දරුවා නැවත නැවතත් තොටිල්ලෙ නිදි කරල තියන්න වගේ, මූල කර්‍මස්ථානයේම තියාගෙන භාවනා කරගෙන යනකොට තේරෙන්න පටන් අරගන්නවා, ඒ එන දේවල් එන්නේ යන්නයි. ඒවා පටිච්චසමුප්පන්නයි. ඒ පටිච්චසමුප්පන්න දේවල් එතනදි ඒ හේතු කරුණු පැනනැග්ග නිසා පහළ වුණා. හේතු කරුණු බිඳී යාම නිසා බිඳී යනවා. ඒවා දැකගන්න පුළුවන්. මූල කර්‍මස්ථානයේ හිත පවතිද්දී වරින් වර ශබ්ද ඇවිල්ල නැති වෙලා යනවා, රූප පෙනිල නැති වෙලා යනවා, ගඳ වැදිල නැති වෙලා යනවා, රස වැදිල නැති වෙලා යනවා, පහසවල් ඇවිල්ල නැති වෙලා යනවා. ඒ නිසා ඒ විෂයෙහි ඒවා එහෙමම තියෙද්දී තමා පුළුවන් තරම් මූල කර්‍මස්ථානය දිගට කරගෙන යනකොට ක්‍රමක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන් පටිච්චසමුප්පන්න භාවය බාරගන්නාසුලු බවට එනකොට අපේ අවිද්‍යාවෙ මිථ්‍යාපටිපන්න භාවය, වැරදිවට ගත්ත මේ දේ - මේ මූල කර්‍මස්ථානය කියන්නෙ හොඳ දෙයක්, බාහිර කරුණක් මාර්ගයෙන් එන අරමුණු කියන්නෙ වැරදි දෙයක්, ආදී වශයෙන් අනෙකුත් අරමුණු කෙරෙහි බාධක කෙරෙහි තිබුණු අපේ තිබුණ තරහව අඩු වෙලා උපේක්ෂා වෙනවා. උපේක්ෂා වෙන්න වෙන්න වෙන්න අප්පටිපත්ති අවිද්‍යාව - නොදන සිටි දේ, බුදුරජාණන් වහන්සේ කියපු දේ, බුදුහාමුදුරුවෝ කියපු දේ ඇත්තයි, හොඳට භාවනා කරන්න කරන්න මූල කර්මස්ථානය මේ අනිකුත් බාධක මැද වුණත් ගෙනයාගන්න පුළුවන් ශක්තියක් තියනවායි කියල තමා තුළම තමාගේ ගුරුවරයා පහළ වෙන ගතියක්, ඕනෑම තැනක කෙලෙස් අඩු වෙන තාලෙට ඉන්ද්‍රිය සංවරයෙන් භාවනාව පවත්වාගෙන යා යුතුයි, මට දැන්

පුළුවන් ආදී වශයෙන් යෝගාවචරයාට ඉස්සර තරම්ම විශාල පරිසර සාධක නොඉල්ලන ගතියකට පත් වෙනවා.

ඒ නිසා අනිවාර්යයෙන් අවිද්‍යාව නිසා අනිවාර්යයෙන් සංස්කාර පහළ වෙනවා, සංස්කාර නිසා විඤ්ඤාණය පහළ වෙනවා වගේ මේකේ කඩන්න බැරි සම්බන්ධතා තියනවායි කියල කියනවා නම්, අපිට කවදාකවත් භාවනා කරලා මේ ජීවිතයේදී මේක කඩන්න බැහැ. කඩන්න පුළුවන්. මොකද, අපි ඒ සෑම සම්බන්ධතාවකම, විශේෂයෙන්ම තෘෂ්ණාව සහ වේදනාව අතර සම්බන්ධතාවෙදි, නාමරූප සහ විඤ්ඤාණය අතර සම්බන්ධතාව ආදී දේවල්වලදී, විශේෂයෙන්ම ඇඟිලිගැසීම් කරනවා. තෝරන්න යනවා. මේක හොඳයි, මේක නරකයි, මේක විය යුතුයි, මේක නොවිය යුතුයි. අන්න ඒ ඇඟිලි ගැසීම්වලින් තමයි අපි සංසාරෙ දික් කරගන්නෙ.

ඒ දේ වෙන්න ඇරලා, නිසි නින්දේ ආශ්වාස ප්‍රශ්වාසය වෙන්න ඇරලා, නිසි නින්දේ පිම්බීම හැකිළීම වෙන්න ඇරලා, නිසි නින්දේ එන බාධා එන්න ඇරලා, අපිට පොඩ්ඩක් පියවරක් පිටිපස්සට ගිහින් ඒක දිහා බලාගෙන ඉන්න පුළුවන් නම්, මේවා පටිච්චසමුප්පන්න දේවල්, හේතු පැන නඟින නිසා පැන නඟිනවා, නමුත් ඒ කරදරයක් නැති වෙලාවෙ මම පුළුවන් තරම් මූල කර්මස්ථානයේ ගත කරනවා කියන අදහසින්, ගැටුමකින් තොරව දිගට කරගෙන යන්න පුළුවන් නම්, අපි දන්නවා කළ හැකියි. ඒ ඒ චක්ඛු, සොත, ඝාණ, ජිව්හා ආදී අපේ ඉන්ද්‍රිය ධර්ම, ඒ වාගේම රූප, ශබ්ද, ගන්ධ, රස කියන දේවල් අතර සම්බන්ධතාවෙදි පැනනඟින ගිනි පුළිඟුත් ඒ ඒ වෙලාවට දැකගන්න පුළුවන් ශක්තියක් ඇති වෙනවා. මේ දැකගැනීම නිසා ඉස්සෙල්ල ඉතාම ඝනබහලව තිබුණ මිච්ඡාපටිපත්ති අවිද්‍යාව අපේ නිත්‍ය සංඥාව, සුභ සංඥාව, සුඛ සංඥාව, ආත්ම සංඥාව ආදී දේවල් ක්‍රමයෙන් ක්‍රමයෙන් ක්‍රමයෙන් ක්‍රමයෙන් ටික ටික ටික ටික ගැලවීගෙන යන්න පටන් අරගන්නවා.

මෙතැනදී බොහොම සාමාන්‍ය ආගමානුරූප උගැන්වීම්වලට වඩා හුඟාක් වෙනස් විදියකටයි යෝගාවචරයා අත්දකින්නේ. ආගමානුරූප උගැන්වීම්වල බොහෝ විට අපිට කියනවා, මේ වැරදි දෙයින් වෙන් වෙලා සුද්ද වෙන්නත්. නමුත් යෝගාවචරයා මෙතැනදී

දකිනවා, වැරදි දේවල්වල තමයි හොඳට කාරණා වැටහෙන්නේ. ඒ නිසා වැරැද්ද ප්‍රතික්ෂේප කරන්න එපා. ඒ වැරැද්ද සිද්ධ වෙන්නේ හිතල නෙවෙයි. අපි ඉල්ලාගත්ත වැරැද්දක් කරනවා නෙවෙයි. නමුත් කරගෙන යනකොට කොහොමටත් මූල කර්මස්ථානයෙම හිත හිටින්නේ නෑ. රූප පේනවාමයි, සිතුවිලි එනවාමයි, වේදනාව දැනෙනවමයි. ඒ සෑම දෙයක් පිළිබඳවම සාදර ආදර බඳගන්න ගතියක් ඕනැත් නෑ. එහෙම නැත්නම් නොවේවා, නොදකිම්වා කියල තරහක් ගන්න ඕනැත් නෑ. මේ තුළත් ධර්මය තියෙනවා. මේකටත් මට තියෙන්නේ මේ දේ වෙන දිහා බලාගෙන ඉන්න එකයි. ප්‍රකට මොකක්ද, ප්‍රකට දේ දිගේම මම හිත ගෙනියනවා.

ආන්න ඒ විදියට මේ දේවල් එක්ක ගැටීම අඩු කරල, ප්‍රතික්‍රියා කරන ගතිය අඩු කරල, නිවෙන සැනසුණ ගතියෙන් දිගට කරගෙන කරගෙන යනකොට **ඛන්ති පරමං තපො තිතික්ඛා නිබ්බානං පරමං වදන්ති බුද්ධා** කියන විදියට පරම නිබ්බානයට පාර කපන්නේ මේ ශාන්තියමයි. මොනම ක්‍රමයකින් හෝ අපි ප්‍රතික්‍රියා කරන්න ගත්තොත් කර්ම රැස් වෙනවා. චේතනා පහළ වෙනවා. අනාත්ම ස්වරූපය, එහෙම නැත්නම් පටිච්චසමුප්පාදය සම්බන්ධ ස්වරූපය, තමා වශයෙන් භාරගෙන අපිට ගුරුවරයා, නැත්නම් ශාස්තෘන් වහන්සේ දීපු මූල කර්මස්ථානයේ හැකි තාක් ගත කරනවා, ප්‍රමුඛතාව දෙනවා කියන අදහසින් ගියොත් එන්න එන්න එන්න එන්න අපිට මේ දේවල් වෙන වෙන හැටියෙන් ඒ ඒ වෙලාවෙ හැටියට ලබාගන්න පුළුවන් තරම් තොරතුරු - ඇහැ පිළිබඳව, රූප පිළිබඳව, කන පිළිබඳව, ශබ්ද පිළිබඳව, ඒ වගේම නාසයේ වැඩ පිළිවෙළ පිළිබඳව, ගඳ සුවඳ පිළිබඳව, දිවේ වැඩ පිළිවෙළ පිළිබඳව, රස පිළිබඳව, කයේ වැඩපිළිවෙළ පිළිබඳව, එයින් ලැබෙන පහස පිළිබඳව විශාල අධ්‍යයනයක් සිද්ධ වෙනවා. ඉතින් මේ ගැන මම කියන්න උත්සාහ කළේ මේ වැරදි සිද්ධ වෙන කොට තමයි මේක හරියටම හිත් වදිනසුලු, මතක හිටිනසුලු වෙනස්කම් අපේ පෞරුෂත්වයට එන්නෙ. රුචි අරුචිකම්වල වෙනසක් ඇති වෙන්නෙ.

ඒ නිසා යෝගාවචරයා නිතරම හිත අලුත් කරගන්න ඕනැ. මම පාපතරයෙක්, අපට මේ ජීවිතයේ නිවන් දකින්න බැරිය, පාරමිතා මදිය, මේක අඩුයි, අරක අඩුයි කියල කියන්න කියන්න කියන්න වෙන්නෙ මොකක්ද? අපි මේ කෙරෙහි දක්වන ඉදිරිපත් වීමේ ස්වභාවය අඩු

වෙනවා. අපි ඒ නිසා ගන්න තියන ආදර්ශය තමයි, අපි මෙතන ඉන්නෙත් පුංචි ප්‍රයත්නයකින් නෙවෙයි. ආධ්‍යාත්මික ජීවිතයේ කළ යුතු විශාලම කැප කිරීම් ටික අපි දැන් කරල තියෙන්නෙ. අපිට තියෙන්නේ මේ තත්ත්වය දිගටම නඩත්තු කරන එකයි. ඒ නිසා අපට අපිව පහත් කරලා පුංචි කරල කථා කරන්න අයිතිවාසිකමක් නැහැ. යෝගාවචර ජීවිතය කියන්නෙ ඒ තරම් වටින දෙයක්. අපි එහි යෙදී ගත කරන නිසා අනිවාර්යයෙන්ම හිතන්න ඕනැ, මේ හොඳ දේවල්වල වගේම නරක දේවල්වලත් ධර්මය තියෙනවා. මේ දේවල්වල, ඇත්තටම කියනව නම් මේ සතිපට්ඨානයේ, මුලින් මම කියපු පේළිය නැවතත් සජ්ඣායනා කරන්න පුළුවන් : ප්‍රිය රූපවලයි කෙලෙස් වැඩි. **පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.**

ඒ තියෙද්දිත් අභාග්‍යයකට වගේ අපි මේ ප්‍රිය රූපය පිටිපස්සේ එලවනවා. කොච්චර එලෙව්වත් බහුලව පවතින්නේ හුදු රූපයමයි. ඒකයි රූපය මේ දුකට හේතු වෙලා තියෙන්නෙ. ඒ නිසා ඒ විෂයයෙහිත් හොඳ සාදරකමක් ඇති වෙන්න, ඒ කියන්නෙ අල්ල බදාගන්න ගතියක් නෙවෙයි, ඒවා පිළිබඳවත් පර්යේෂණාත්මක ගතියක්, ආර්ය පර්යේෂණය පැත්තෙන් සම්පූර්ණ බලනසුලු තත්ත්වයක් ඇති කරන්න නම් අපි හිතාගන්න ඕනැ, අපි හඳුන්වල දීල භාවනා කරන මූල කර්මස්ථානයත් පටිච්චසමුප්පන්නයි. භාවනාවට බාධා වෙන වේදනා, ශබ්ද, සිතුවිලි, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මොනම දේ වුණත්, මේවා සියල්ලමත් පටිච්චසමුප්පන්නයි. නමුත් බොහෝ විට අපි පුරුද්දට මේවා නිත්‍ය දේවල් වශයෙන් සුබ දේවල් වශයෙන් සුබ දේවල් වශයෙන් ආත්ම දේවල් වශයෙන් මිච්ඡාපටිපත්ති අවිද්‍යාව නිසා බාරගන්නවා. ඒක ප්‍රතික්ෂේප කරන්නත් නරකයි. අපේ ඒ මත උඩයි අපේ මිථ්‍යා දෘෂ්ටිය තියෙන්නෙ. නමුත් අපිට අවශ්‍ය වෙලා තියෙන්නෙ මේ මිථ්‍යා දෘෂ්ටියක් බව තේරුම් අරගෙන, වෙන දේ, මතු වෙන මතු වෙන, ඉස්සරහට මතු වෙන අරමුණ යථාභූතව ඇති ආකාරයෙන් දැකගන්නාසුලු ගතියට යන්න නම් වැරදි නැතුව නම් බෑ. පැහැදිලිවම ඒක වැරදිවලින් වැඩි තරුණ ඕජාවක් නැවුම් රසයක් මතු වෙන තැනක්.

ඒ නිසා යෝගාවචරයන් අතර, භාවනා කරන්නන් අතර ධර්ම රසය, සාමාන්‍ය පොත් කියවන අයගෙ ධර්ම රසයට වැඩිය වෙනස්.

ඒගොල්ලො දන්නවා ඕනෑම නරක දෙයකින් හොඳ මතු කරගන්න පුළුවන්. ඒ මොකද? ඒ නරක දේත් පටිච්චසමුප්පන්නයි. හොඳ දේත් පටිච්චසමුප්පන්නයි. අපිට ඒ නිසා හොඳම දේ හෝ වේවා, නරකම දේ හෝ වේවා අපිට මේ පටිච්චසමුපන්න ස්වභාවය, ඒ ඒ තැන මතු වෙන ස්වරූපය දකගන්න පුළුවන් නම්, ඒ තේරුම්ගැනීම වටිනවා. කොහෙන් අපිට ඒ ඥානය ඇති වුණත් කමක් නෑ, අපට අවශ්‍ය කරලා තියෙන්නේ මේකෙ එතැන එතැන මතු වෙනව නම්, මොන තරම් ශාන්තියක්ද කියල හිතන්න. අපි හිතාගෙන ඉන්න ඒ ජන්මාන්තරගත පාපතර බව, අපි හිතාගෙන ඉන්න අපේ ශුද්ධ ආත්ම භාවය, ඒ සියල්ලම පටිච්චසමුප්පන්නයි.

ඒ නිසා අපිට ඕනෑම වෙලාවක මේ මට්ටමේ ඉන්න කෙනෙකුට පැහැදිලිව කියතැහැකි තමන්ට තමන් සමාව දෙන්න පුළුවන්. අනුන්ටත් සමාව දිය යුතුයි. අනුන්ගෙනුත් සමාව බලාපොරොත්තු නොවිය යුතුයි. ඒ මොකද? අපි යෝගාවචරයො නිසා. එතකොට මේ සමාජ ප්‍රශ්නය විසඳෙනවා නෙ. සමාජය විසින් පවත්වනු ලබන මේ එකිනෙකා වරදවා වටහාගෙන එක්කෙනෙක් වැරදිකාරයා, ජන්මාන්තර වෛරක්කාරයා අනිත් කෙනා ආවොත් මගේ ගැලවුම්කාරයා ආදී වශයෙන් තියාගෙන ඉන්න නිසා ඇති වෙලා තියෙන මේ මහා වියවුල යෝගාවචරයන්ට එන්න විදියක් නෑ. මොකද, යෝගාවචරයා දන්නවා මේවා පටිච්චසමුප්පන්න දේවල්. ඒවාට හේතු කාරණා පහළ වෙච්චහම **ඉමස්මිං සති ඉදං හොති** - මේ හේතු ඇතිවෙනකොට මේක වෙනව. මේක පුද්ගලයෙක් වශයෙන් ගන්න ගියොත් තමයි අපිට පුද්ගලයා දඬුවම් කරන්නයි හිරේ දන්නයි රාජ දඬුවම් පමුණුවන්නයි වෙන්නෙ. ඒ කෙලෙස් ස්වභාව.

ඒ කෙලෙස් ස්වභාවයමයි මම. ඒ කෙලෙස් ස්වභාවයමයි මට මේ ඉස්සරහට ගොදුරු වෙලා තියන කෙනා. ඒ කෙලෙස් ස්වභාවයමයි අපි දෙදෙනා පිළිබඳව විනිශ්චය කරන්න එන විනිශ්චයකාරයටත් තියෙන්නෙ. එහෙම නම් අපි තුන්දෙනාගෙ වෙනසක් නෑ. ඔක්කොම යෝගාවචරයො නම්, ඔක්කොම ප්‍රශ්න පවුලෙමයි. ඒව ඔක්කොම පැත්තක දාල, ඒ සිදු වෙන සෑම දේකම තියෙන, කොහොමද මේකට ඇහැ සම්බන්ධ වෙන්නෙ, කොහොමද රූපය සම්බන්ධ වෙන්නෙ ආදී වශයෙන් දිගින් දිගට දිගින් දිගට යෝගාවචරයාට එන සිද්ධියක් සිද්ධියක් පාසා පිවිතුරු භාවයකටයි

යන්නේ නැවත නැවතත් ඒ දේ සිදු වීම හරහා. ඒ නිසා විපස්සනාවෙදී හැම වෙලාවෙදීම යෝගාවචරයාට මූලික දෙන උපදේශය තමයි රූපයක් පේන වෙලාවෙදී රූපයේ ප්‍රිය රූප සාත රූප බව හෝ ඇහේ ප්‍රිය රූප සාත රූප බව වෙනුවට තමන් දකිමින් ඉන්නා බව මෙනෙහි කරන්න.

ඒ රූපය දිහා බලා ඉන්නකොට ශබ්දයක් ආවා නම්, ප්‍රකට නම්, අහන්නෙක් බවට කනයි දූන් ක්‍රියාත්මක වෙන්නේ අනිත් දේවල් ඔක්කොම නිෂ්ක්‍රිය වෙනවා. ඒ මොනවක්වත් නැති වෙලාවෙ මූල කර්මස්ථානයේ ක්‍රියාත්මක වෙනවා. මූල කර්මස්ථානයේ ක්‍රියාත්මක වෙනකොට හරියට යනවා නම්, අපේ කය කොහෙද තියෙන්නෙ, මම කොහෙද ඉන්නෙ මොකක්වත් මතක නැති තත්ත්වයට යනවා. ඒ බව සමහර යෝගාවචරයො ප්‍රකාශ කරන මට්ටමට එනවා. ඒ මොකද? එතකොට ඉන්ද්‍රිය සම්පූර්ණයෙන්ම නිෂ්ක්‍රිය භාවයට යනවා.

ඔන්න ඔය අයුරින් මූල කර්මස්ථානය බලන්න ඕනැ. එතකොට නම් අප්පටිපත්ති අවිද්‍යාව කියන මොකුත් නොදූනීම බොහෝ දුරට ගෙවෙනවා. මිච්ඡාපටිපත්ති අවිද්‍යාව කියල කියන්නේ මේ හයක එකතුවක්, ඒවා හය එක ලෙසම පවතිනවා කියන කතාව. දෘෂ්ටිත් එහෙම්ම තියෙනවා. මේ හුදු හුස්ම රැල්ල විතරය, නැත්නම් පිම්බීම හැකිළීම විතරය, නැත්නම් සක්මන් කරනකොට හොල්මන විතරයි. රූකඩය විතරයි. ආන්න ඒ තත්ත්වය ගැන හුඟදෙනෙක් හිතනවා ඒක බංකොලොත් වෙලා යයි, මේක කැඩිල බිඳිලා යයි කියල. එහෙම නෑ. භාවනා කරපු අයට තේරෙනවා ඒ මොහොතත් එක්ක ලොකු ශාන්තියක් එන්නෙ. ලොකු සැහැල්ලුකමක් එක්කයි මේ දූනුම එන්නෙ. ඒ නිසා සමහරු අභාග්‍යයකට වගේ මේ සැහැල්ලුකමට බයයි. ඒ ඇත්තන්ට පේන්නෙ තනි වුණා, කොටු වුණා, කාන්සි වුණා වගේ තත්ත්වයක්. ඒ නිසා කලින් බණ අහල තියෙන්න ඕනැ. භාවනා කරන ගමනුත් ගුරුවරයෙකුගේ ඇසුර අවශ්‍යයි. එතකොට ඒ ගුරුවරයා, නැත්නම් කලින් මේ ගමන ගිය එක්කෙනා කියල දෙනවා. එක අරමුණක් දිගේ, එක ඉන්ද්‍රියක් දිගේ දිගට පටිච්චසමුපන්නව ඒ ඒ මොහොතෙ මෙනෙහි කරමින්, උණුඋණුව මෙනෙහි කරමින්, එළඹ සිටි සිහියෙන් උත්සන්නව ආසන්නව මෙනෙහි කරමින් යනකොට, අපි ඇස් දෙක ඇරල බලන්න ඕනැ මේ කය කොහෙද තිබ්බේ, කීයද වෙලාව. එහෙම නැත්නම් ඒ සියල්ල මතක නෑ.

ඒ නිසා රහසක් අන්තිම වෙනකොට එළි වෙනවා. විඤ්ඤාණයේ තියෙනවා පැති දෙකක්, ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණ සහ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය කියල. ඒ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයෙන් තමයි ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය හැදෙන්නෙ. ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයෙන් තමයි විඳින්නේ. ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයේ තමයි තෘෂ්ණාව තියෙන්නේ. නමුත් මේකට හේතු වෙන්නෙ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය. ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයේ බොහෝ පුහුණුවකින් තමයි ඒකෙ ප්‍රාග් අවධිය වන අනින්ද්‍රියපටිබද්ධ විඤ්ඤාණයට යන්නේ. අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයෙදි අපි ඔක්කොම එකයි. එකම චිත්තක්ෂණයයි තියෙන්නේ, මෙතන විතරමයි තියෙන්නේ. එතනට ගිය කෙනාට අම්මගෙන් කිරි බීපු කාලෙටත් වඩා පුදුමාකාර නිරාමිස සුවයක් ලැබෙනවා. ඒක බුදුරජාණන් වහන්සේ බොහොම අගය කරල පෙන්වනවා, පෙන්වාදෙන්න උත්සාහ කරනවා, අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයේ තියෙන විමුක්තිය. මේ ඉඳුරන් වාගෙ නඩත්තු කරමින් ගෙවමින් වෙහෙසී ලැබිය යුත්තක් නෙවෙයි. නමුත් ඒකට කවදාවකත් යන්න බැහැ ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයේ පරිචයක් නැතිව. ඒක නිසා අපි එක ඉන්ද්‍රියක් අරගෙන - කය - පූර්ණ භාවනාමය භාවයකින් එන්න එන්න එන්න එන්න ඒක සියුම් කිරීම තුළින් සූක්ෂ්ම භාවයෙන් මේ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයට යනවා. ඒක දිට්ඨධම්මවේදනීයයි. මෙලොව වශයෙන්ම සාක්ෂාත් කළ යුත්තක්. කවදාකවත් ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය පිළිබඳව යථාභූතය දන්නේ නැතුව අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය ගැන හිතාගන්නවත් බැහැ.

නමුත් අභාග්‍යයකට වගේ අද ඉන්න හුඟාක් විනිශ්චයකාරවරු අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය අත්දැකලත් නැහැ. හැබැයි බොහෝ විනිශ්චය කරනවා. මේ නිසා ලෝකෙ මහා අවුලක් වෙලා තියෙනවා. අඩු ගානෙ මේ අවබෝධය තමා තුළවත් පිරිසිදු විනිශ්චයක් පිරිසිදු සාධාරණයක් පිරිසිදු ධර්මයක් පහළ වෙන්න, අපි ඉන්ද්‍රිය ධර්ම පිළිබඳව හෝ ඉන්ද්‍රිය අනින්ද්‍රිය කියන දෙකම හෝ දැකගන්න ඕනැ. දැකගත්ත දවසෙ නම් අපට ජේනවා මනුෂ්‍යත්වය කියල කියන්නෙ නිබඳව ඇති දෙයක්. පුදුමාකාර විවේක ඇති දෙයක්. ඉන්ද්‍රියකට බැඳිච්ච ගමන් වහල් වෙනවා, ඉන්ද්‍රියකට බැඳිච්ච ගමන් හිඟ වෙනවා, ඉන්ද්‍රියකට බැඳිච්ච

ගමන් අතෘප්ත භාවය තෘප්තිමත් නැති ස්වභාවය පහළ වෙනවා. අනින්ද්‍රිය පටිබද්ධ භාවයේ තියෙන්නේ පූර්ණත්වය, පූර්ණ සතුට. ඒක පිළිබඳව ආයෙ අඩුවක් නෑ. එහෙ මෙහේ දල සංකුල කරන්න ඕනෑ කියන ගතියක් හෝ වෙන් වෙලා නැතුව මේක මේකෙ තියෙනව නම් හොඳයි කියන ගතියක් හෝ නෑ.

ඒක නිසා අපි හිතාගන්න ඕනෑ මේ සීලය, මේ සමාධිය, මේ ප්‍රඥාව, මේ භාවනාව මගින් මේ වහල් භාවයේ ඉඳල, ඒ ඒ මොහොතේ අනින්ද්‍රිය තත්ත්වයට ගිහිල්ල, අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය හැටියට ගත කරන්න පුළුවන් නම්, අපි සර්වඥයන් වහන්සේ එක්ක කෙළින්ම සම්බන්ධයි. ඒකයි දේශනා කරන්නෙ යමෙක් ධර්මය දකිනවා නම් මම දකිනවා. යමෙක් පටිච්චසමුප්පාදය දකිනවා නම් ධර්මය දකිනවා.

සමාජයේ මිනිස්සු බොහෝම බාහිර කරුණු හිර කරගෙන, බෑ බෑ කියාගෙන දඟලනවා. නමුත් අනන්තවත් සූත්‍ර කියවනකොට ධර්ම දේශනා අහගෙන යනකොට මේ තත්ත්වය වැටහෙනවා. ඒ නිසා බලාපොරොත්තු සුන් කරගන්න හොඳ නෑ. අපි දැනට සෑහෙන්න බුද්ධිය ඇති ඇත්තො. ඒ නිසා සමුදය සත්‍යය ගැන විස්තරයෙනුත් අපි ළඟ තියන අප්පටිපත්ති අවිද්‍යාව, නොදැනීම, පුළුවන් තරම් සුව කරගන්න උත්සාහ කරන්න ඕනෑ. ඒ විතරක් නෙවෙයි අපි ළඟ අනිවාර්යයෙන් තියෙනවා මිථ්‍යාපටිපන්න අවිද්‍යාව කියල, වැරැද්දක් ඇත්ත කියල හිතාගත්ත ගතියක්. ඒකත් භාවනාවෙදීමයි දිය වෙන්නෙ. ඒ වෙනකොට අවිද්‍යාව වෙනුවට විද්‍යාව පහළ වෙනවා. එතකොට තෘෂ්ණාවට ඉඩ නැහැ. එතකොට මේ ඇහැ විෂයෙහි ආල පහළ වෙන්නෙත් නැහැ, බැඳෙන්නෙ ඇලෙන්නෙත් නැහැ. ඒක ක්‍රමයෙන් සිද්ධ වෙනවා.

ඒ නිසා මේ ධර්ම කොට්ඨාශයත් අපේ මෙතෙක් තිබුණු දැනුමට තව පොහොරක් වේවා, වැඩි දියුණුවක් වේවා. අපේ අත්දැකීමටත් තව ශක්තියක් වේවා! මූලධර්ම වශයෙන් ප්‍රායෝගික වශයෙන් තව ඉදිරියට යමින් සමුදය පිළිබඳව වටහාගැනීමෙන්, දුක ගෙවීමේ ශක්තිය යථා කාලයේ ලැබේවා! කියන ප්‍රාර්ථනාවත් එක්ක අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනවා. සැමදෙනාටම තෙරුවන් සරණයි.

# 76 | විඤ්ඤාණ මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති:**

**චක්ඛුවිඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අපි මේ අදත් සුපුරුදු කොට දක්වන්නට යෙදුණේ මහා සතිපට්ඨාන සූත්‍රයේ ධම්මානුපස්සනා කොටසට ගැනෙන දුක්ඛ සමුදය ආර්ය සත්‍යයේ ගැඹුරක්, ගැඹුරු කොටසක් විග්‍රහ කරන තථාගත ශ්‍රී මුඛ දේශනාවක්. සතිපට්ඨාන සූත්‍රයම පාදක කරගෙන පවත්වාගෙන එන මේ ධර්ම දේශනා මාලාවේ අද මේ 76 වෙනි අවස්ථාව නිසා, ඒ ගැඹුර අපි ටිකෙන් ටික ටිකෙන් ටික තේරුම් ගන්ට උත්සාහ ගනිමින් ඉන්නේ. ඒකටම තමයි මේ ක්‍රමක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන් මේ ධර්ම කොට්ඨාශවල තියෙන ඉතාමත්ම සාන්දෘෂ්ටික කොටස, ඉතාමත්ම අදාළ කොටස, ඉතාමත්ම විදර්ශනාවට බර කොටස මේ විදිහට අපි ඉදිරියට පත් වෙන්නෙ.

සාමාන්‍ය ධර්මය පිළිබඳව, විශේෂයෙන්ම මේ දුකෙන් ගැලවීමට වහවහා මේ ජීවිතයේම මේ වැඩ කටයුතු කරගන්ට ඕනෑ කියන කාරණා පිළිබඳව සොයන බලන උනන්දු කවුරුත් වගේ දුකත් දුකට හේතුව තෘෂ්ණාව බවත් පිළිගැනීමකුත් තියනවා. දැනීමකුත් තියනවා. ඒ තෘෂ්ණාව

පුදුමාකාර විදිහට දෙබිඩි මුහුණුවරකින් ක්‍රියාත්මක කිරීම නිසා තෘෂ්ණාව දුරු කරනවයි කියලා සමහර වෙලාවලට තෘෂ්ණාව වැඩෙන වැඩම උවමනාවෙන් කළත් අහු වෙන්ඩ ඉඩ තියෙනවා. ඒක නිසා තෘෂ්ණාව පිළිබඳව වැඩට බහින්න කලින් එහි ඇත්තා වූ මේ දෙබිඩි ස්වරූපය, මායාකාරී ස්වරූපය, සංකීර්ණ ස්වරූපය, නැවත නැවතත් වරදේ ඇඳ බැඳගන්න ස්වරූපය හොඳට කල් ඇතුව විස්තර කරගෙන හිටියොත් අපිට දැනගන්න පුළුවන් කල් ඇතිවම සැලසුම් කරගන්න පුළුවන් මොන වගේ සතුරෙක් එක්කද මොන වගේ විරුද්ධ පිලක් එක්කද මේ සටන මෙහෙයවන්නේ කියලා. මේ ආර්ය පර්යේෂණය කරගෙන යන්නෙ කියලා. අන්න ඒක සම්බන්ධව සෑහෙන විස්තරයක් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය වශයෙන් සර්වඥයන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රයේ දේශනා කරනවා.

නමුත් ඒක මේ ආකාරයෙන් විස්තර, සවිස්තර, විග්‍රහ, විවරණ වශයෙන් බැලුවට ඒක කොහොමද භාවනාවට නංවන්නේ කියන එක බොහෝමත්ම දුරස්ථ කාරණාවක් වශයෙන් තමයි පේන්නේ. නමුත් තෘෂ්ණාවේ ඇත්තා වූ මේ යුහුසුලුකම, එහි ඇත්තා වූ විචිත්‍රකම, එහි ඇත්තා වූ විෂමතාව, සංකීර්ණතාව නිසා විවේකීව ඒක පිළිබඳව කාරණා කාරණා නිරවුල් කරලා දැනගැනීමකුත් අවශ්‍යයි. ඒ දැනගෙන එයින් ඔදගන්වගන්නා ලද හිතක් ඇතුව අදාළ භාවනා උපදෙස් ඇතුව භාවනා කිරීමත් අවශ්‍යයි. වෙන විදිහකට කියනවා නම් මූලධර්ම දැනුමත් අත්දැකීමත් දෙකම තිබුණත් හරියන්නෙ නැති තරම් මේකට. ඒ දෙකම තියාගෙන උත්සාහ කරන ඔක්කෝටමත් හරියයි කියලා කියන්ඩ බෑ. තවත් අවශ්‍ය දේවල් තියෙනවා. නමුත් අපි මෙතනදී බලන්ඩ හදන්නේ අපේ අවශ්‍ය කරුණු දැන් අනික් එව්වා හරි ඇති, එහෙම නැත්නම් අපි එව්වා අලුත්වැඩියා කරගෙන දියුණු කරගෙන කරන්ඩ තරම් පෙළඹීමකින් එළඹීමකින් කැප වීමකින් කටයුතු කරනවා. මේ කරගෙන යන වැඩේ මේ වේගය මදි වෙන්ට හේතුව එක තැන පමා වෙන්ට හේතුව මේ කරුණු නොදැනීම දෝ කියන සැකය මත මේ කරුණු හැදෑරීමකටයි මේ වෙලාවෙ අපි බලාපොරොත්තු වෙන්නේ.

අපි ගිය වතාව වෙනකොට තණ්හාව උපදින්නේ යම් තැනක ප්‍රිය ස්වභාව මිහිරි ස්වභාව තියෙනව නම් එතන තණ්හාව උපදින බව කෙටියෙන් සඳහන් කරලා මොනවද මේ ප්‍රිය ස්වභාව, නැත්නම් ප්‍රිය

රූප, මිහිරි ස්වභාව, නැත්නම් සාත රූප දේවල් කියලා මේ තාක් අපි සති තුනකදී ඒවා තුනක් විස්තර කරගෙන තියනවා. **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං, රූපා ලොකෙ පියරූපං සාතරූපං** අද අපි ඉදිරිපත් කරගත්තා **චක්ඛුවිඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං.** ඇහැත් රූපයත් චක්ඛු විඤ්ඤාණයත් කියන තුන ඒ ප්‍රිය රූප මනාප රූප මිහිරි රූප පෙන්වනකොට දක්වන හයක් වශයෙන් දක්වන ලැයිස්තුවේ මුලටම සඳහන් කරනවා. ඉතුරු ටික තමයි **සොතං ලොකෙ පියරූපං සාතරූපං, සද්ද ලොකෙ පියරූපං සාතරූපං, සොතවිඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං. ඝානං ලොකෙ, ගන්ධා ලොකෙ, ඝානවිඤ්ඤාණං ලොකෙ. ජිව්හා ලොකෙ, රසා ලොකෙ, ජිව්හාවිඤ්ඤාණං. කායො ලොකෙ, ඵොට්ඨබ්බා ලොකෙ, කාය විඤ්ඤාණං. මනො ලොකෙ, ධම්මා ලොකෙ, මනොවිඤ්ඤාණං.**

මෙයින් චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා කාය කියන කොටස් කර්මජ රූප අනුව, නැත්නම් රූප කොට්ඨාසෙට වැටෙනවා. මනෝ කියන කොටස නාම කොට්ඨාසෙට වැටෙන නිසා විපස්සනාවේදී ඉස්සර වෙලා විග්‍රහ කරගන්ට විස්තර කරගන්ට උත්සාහ කරන්නේ ලේසි පැත්ත - රූප කොටස්. මේ රූප කොටස්වලත් කෙලෙස් ඉපදීම ඉතාමත්ම යුහුසුලුව කරමින් වැඩි වේලාවක් මත් කරවමින් ඇඳ බැඳලමින් කෙලෙස් උපදවන්නේ චක්ඛු ද්වාරයයි. චක්ඛු ආයතනයයි. මේ ආයතන හයෙන් තේරුම්ගැනීම සඳහා නම් අන්තිම අමාරුම, වටහාගැනීමට භාවනා කිරීමට අමාරුම ද්වාරය වෙන්නේ චක්ඛු ද්වාරයයි. නමුත් වැඩියෙන්ම කෙලෙස් උපදවන්නෙත් ඒකෙන්. මොකද, ඒ තරම්ම සංකීර්ණයි. ඒ තරම්ම යුහුසුලුයි. ඒ තරම්ම මත් කරවනසුලුයි. ඊට වැඩියෙ අඩුයි සෝත, ඊට වැඩියෙ අඩුයි ඝාණ, ඊට වැඩියෙ අඩුයි ජිව්හා, ඊට වැඩියෙ අඩුයි කාය. ඒ නිසා භාවනා කරනකොට කායද්වාරය ඉස්සර කරගෙන කායගතාසති, කායානුපස්සනා ආදී වශයෙන් පෙන්වනවා. මූලධර්ම වෙන් කරනකොට මේ චක්ඛුසයෙන් විස්තර කරලා පෙන්වනවා හුඟාක්ම කෙලෙස් උපදින්නේ මේක නිසයි කියල. ඒ නිසා ඇහැත් රූපයත් කියන දෙක අපි ගිය පාර තේරුම්ගන්ඩ උත්සාහ කරනකොට ඇහැ පිළිබඳවත් අවබෝධයත් රූපය පිළිබඳවත් අපේ ඇත්තා වූ අවබෝධය විස්තර කරගන්ට එයින් තෘෂ්ණාව පහළ වෙන හැටි දැනගන්ට, තෘෂ්ණාවට පිටි පස්සේ ඉඳලා මේ ක්‍රියාවට ආවඩන්නා වූ උඩගෙඩි දෙන්නා වූ උපදෙස් දෙන්නා වූ අවිද්‍යාව පිළිබඳව අපි ටික වේලාවක් ගත්තා.

අවිද්‍යාවෙ තියෙනවා මූණුවර දෙකක්. ඒක අපි අර කලින් තෘෂ්ණාව ගැන කතා කළා වගේ තත්ත්වය සංකීර්ණ කරවනවා. දෙබිඩි පිළිවෙතක් රකිනවා. ඒ දෙබිඩි පිළිවෙත නිසා එයට යටත්වෙන කෙනා මන මෝහනීය තත්ත්වයට පත්වෙනවා. හරියට ඉතාම දක්ෂ නළුවෙක් ද්විත්ව චරිතයක් රඟපාන්නා වගේ. ඒ චිත්‍රපටියේම හොඳ මනුස්සයාගෙ චරිතයයි නරක මනුස්සයාගෙ චරිතයයි දෙකම රඟපානවා. ඒ නිසා ඒ චිත්‍රපටියේ විචිත්‍රත්වය වැඩි වෙනවා. සම්පූර්ණ එකිනෙකට පරස්පර විරෝධී චරිත දෙකක්. අපේ සාමාන්‍ය සිංහලේ තියන රයිගමයා සහ ගම්පළයා අතර සම්බන්ධතාව. ඒක ධර්මයට සම්බන්ධ වෙන්නෙ රයිගමයයි ගම්පලයයි කියන දෙන්නා මතිමතාන්තර අනුව දවල් තිස්සේම එළිය තියෙන වෙලාවෙදි ලෝකයා ඇහැරගෙන ඉන්න වෙලාවෙම කරන්නෙ දෙන්නා ගැටෙන එක. අරයා කියන කිසිම දේකට මෙයා කැමති නැහැ. මෙයා කියන කිසිම දේකට අරයා කැමති නෑ. මෙයාගෙ දේවල්වලට අරයා අප්පිරියයි, අරයාගෙ දේවල්වලට මෙයා අප්පිරියයි වගේ තමා කතා කරන්නෙ. ඒ නිසා මනුෂ්‍යයො හිතාගන ඉන්නේ මේ දෙන්නා කොහොම කරුවලේක හම්බ වුණොත් රෑක වුණත්, තනි වුණොත් රංඩුකරගෙන මරාගනියිද කියලා. නමුත් මේ දෙන්නා රෑට දෙන්නා එකතු වෙලා හොරකමේ යනවා. ඒ නිසා කවමදකවත් අර දවල් රණ්ඩුව නිසා මනුෂ්‍යයො හිතන්නෙ නැහැ මේ දෙන්නා එකතු වෙලා හොරකමක් කරයි කියලා. නමුත් මේ දෙන්නා දවල් වරුවෙ රණ්ඩු කරන්නේම ලෝකයාම රවට්ටන්න. ඒ රංඩුවෙන් ලබාගන්න මනුෂ්‍යයින්ගෙ ආකල්පමය වාසිය උඩ රාත්‍රියේ දෙන්නා බොහෝම ජයට හොරකමේ යනවා.

අන්න ඒ වාගේ අවිද්‍යාවෙත් තියෙනවා රංගන දෙකක්. එකක් තමයි සාමාන්‍යයෙන් මේ ඇහැ මොකක්ද රූපෙ මොකක්ද චක්ඛු විඤ්ඤාණය මොකක්ද කියලා දන්නේ නැහැ. ඒක බලන්ඩ අපි වෙලා අරගෙන නෑ. එහෙම නැත්තම් ඒක බලලා ලෝක අනුකම්පාවෙන් දේශනා කරන ලද ශාස්තෘන් වහන්සේගේ වචනය අහන්ඩ විවේක ගෙන නැහැ. නැත්නම් උන්වහන්සේගේ ශ්‍රාවකයෝ විස්තර කරනකොට ඒක ඇසිය යුත්තක් කරලා දරලා නැහැ. ඒක නිසා **අප්පටිපත්ති අවිජ්ජා** කියලා කියනවා තවම පිළිපන්නේ නැති අවබෝධ කරගත්තෙ නැති අහපු නැති දැනගත්තේ නැති අවිද්‍යාව. නමුත් අපේ ඔළමොට්ටළකමට අපි දන්නවා කියලා හිතනකමට, වැරදි දෙයක් හෝ ඒකට නොගැළපෙන දෙයක්

මාර්ගයෙන් අපි දන්නව කියලා හිතාගෙන ඉන්නවා. චක්ෂුසය කියන්නේ මේකයි කියලා වැරදි විදිහට වටහාගැනීමකුත් නැත්තේ නොවෙයි. රූපය පිළිබඳවත් හරි දෙය දන්නෙත් නැහැ. වැරදි දේ ඇත්ත කරලා මම රූපය දන්නවා කියලා වැටහීමක් කාගෙ තුළවත් නැත්තෙත් නැහැ.

මීටත් වඩා මේ ගැටලුව ඉතාමත්ම සංකීර්ණයි චක්ඛු විඤ්ඤාණයට ගත්තහම. චක්ඛු විඤ්ඤාණය කියන එක කන බොන දෙයක්වත් ආර්ථිකයටවත් දේශපාලනේටවත් පෙනුමටවත් මොනවකටවත් සම්බන්ධ නැති දෙයක්. ඒ නිසාම බණකදී විස්තර කරලා දෙන්න අමාරුයි. නමුත් චක්ඛු විඤ්ඤාණය පිළිබඳවත් සර්වඥයන් වහන්සේගේ යථාභූත ඥානයෙන් දැක දේශනා කරන ඇත්තක් තියෙනවා. ඒක විස්තර කරගෙන පැහැදිලි කරගත්ත ඇත්තො අඩුයි. නමුත් චක්ඛු විඤ්ඤාණය මෙහෙමයි කියලා හිතාගත්ත වැරදි සංඥා, වැරදි චිත්ත, වැරදි දෘෂ්ටි නැති කෙනෙකුත් නැහැ. ඒක නිසා මේක හොඳට විවේකීව අහගන්ඩ ඕනෑ ඉස්සර වෙලා. මේක දැකලා මේකෙන් තණ්හාව, රාග, ද්වේෂ, මෝහ එහෙම නැත්නම් ඡන්ද පේම උපදින දෙයක් බව අපි දන්නව නම්, මේ දෙය මේ කෙනා චක්ඛු විඤ්ඤාණය හෝ සෝත විඤ්ඤාණය හෝ මේ විඤ්ඤාණය වශයෙන් හඳුන්වන දේ අපි කවද හෝ ඇති හැටියෙන් දැකලා අප කෙරෙහි අනුකම්පාවෙන් දේශනා කරන දේ විවේකීව දැනගන්න ඕනැ. දැනගෙන මතක තියාගන්ඩ ඕනැ අපිට මේක දැනගත්තට වැටහෙන්නෙ නැත්තේ වටහාගන්න ඕනැ නැත්තේ අපි මේක දන්නවා කියලා වටහාගත්ත වැරැද්දක් අපේ හිතේ තියන හින්ද. ඒකට කියනවා **මිච්ඡාපටිපත්ති අවිජ්ජා** කියලා.

ඒක නිසා අපි ශ්‍රද්ධාවෙන් චක්ඛු විඤ්ඤාණය පිළිබඳව අහල ඇති. නමුත් ඒ අහල තියෙන දේ තුළ යථාභූත ඤානය තිබෙන්ඩත් පුළුවන් නොතිබෙන්ඩත් පුළුවන්. අපි නාහපු දෙය තුළ තියෙන්ඩත් පුළුවන්. එහෙම නැත්නම් අපි චක්ඛු විඤ්ඤාණය පිළිබඳව රුචියෙන් මම කැමැත්තෙන්මයි මේක කෙරුවෙ, කවුරුත් කියලා දුන්නට නෙවෙයි මම්ම හොයාගත්ත දේ කියලා සමහර වෙලාවට චක්ඛු විඤ්ඤාණය පිළිබඳව අපි යමක් හිතාගෙන ඉන්නවා වෙන්ඩත් පුළුවන්. ඒ දේ තුළ යථාභූතය නොතිබෙන්නත් පුළුවන්. අපි තාම දන්නෙ නැති දෙයක් තුළ යථාභූත ඤාණය තියෙන්නත් පුළුවන්.

එහෙම නැත්නම් තර්කයක් ගන්නත් පුළුවන් මේන් මෙහෙමයි මේක වෙන්නෙ, ඒක නිසා තර්කානුකූලව මේක මෙහෙම විය යුතුයි. අන්න එහෙම ගත්ත දේ තුළත් නියම චක්ඛු විඤ්ඤාණය කියන යථාභූතය නොතිබෙන්න පුළුවන්. ඒ තර්කයට අහු වෙන්නෙ නැති තැනක චක්ඛු විඤ්ඤාණය පිළිබඳ යථාභූත ඤාණය තියෙනවා. ඒ වාගේම අනුස්සවයෙන් කවුරුහරි හොඳට විස්තර කරලා දීලා ඇති, මෙන්න මෙහෙමයි චක්ඛු විඤ්ඤාණය, ඉතින් මේක අල්ලා බදාගෙනත් ඇති. මෙන්න මේ අල්ලබදාගත්ත දෙය තුළ චක්ඛු විඤ්ඤාණය පිළිබඳ යථාභූත ඤාණය නොතිබෙන්න ඉඩ තියෙනවා. මේ අපි අහපු නැති අහලා බදාගත්තෙ නැති දේ තුළ තියෙන්ඩත් පුළුවන්. එහෙම නැත්තම් දෘෂ්ටි වශයෙන් අරගත්ත මත තුළ නොතිබෙන්ඩත් පුළුවන්. ඒ දෘෂ්ටියට අපිට අහු වෙච්චි නැති, අපි වැරදි දෘෂ්ටි යැයි කියලා හිතාගන්න දේ තුළ චක්ඛු විඤ්ඤාණය පිළිබඳව නියම මතය තියෙන්නත් පුළුවන්.

මේ නිසා අපි නැවත නැවතත් **අස්සුතං සුණාති, සුතං පරියොදපෙති** ආදී වශයෙන් ධර්ම දේශනා කරනකොට අපිට නිතරම නාහපු දේවල් අහන්ඩ ලැබෙනවා, ඒකට අපිට විවෘත මනසක් තියෙන්න ඕනැ. **සුතං පරියොදපෙති** - අහපු දේවල් පිරිසිදු කරලා දෙනවා. ඒක පිළිබඳවත් අපි හිත සාදර කරගන්ට ඕනැ. ඊගාවට **දිට්ඨිං උජුං කරොති** - අපි ගත්තා වූ වැරදි ලාමක වංක දෘෂ්ටි තියනවා. ඒවා ඍජු කරනවා. කෙටි කරලා දෙනවා. ඒ නිසා දෘෂ්ටි පිළිබඳවත් අපි පැහැදිලිවම මෙළෙක් භාවයක් තියෙන්න ඕනැ. **කඞ්ඛං විතරති** - ඒක එහෙමදෝ මෙහෙමදෝ කියලා සැක සංකා තිබුණා නම් විශේෂයෙන් පච්චයපරිග්ගහ ඤාණයේ තියනවා කංඛාවිතරණ විසුද්ධිය කියලා. අන්න එතනදි හැම දේම අපි දන්නා දේවල් පිළිබඳව ප්‍රත්‍යයක් මොකක් හෝ දන්නවයි කියලා හිතගෙන හිටියා නම් හුඟක් වෙලාවට ඒක වැරදි දෙයක්. නමුත් නියම ප්‍රත්‍ය දැනගන්නකොට අපි ළඟ තිබුණ ඒ සැක ඒකදෝ මේකදෝ කියන අන්දමන්ද භාවය දුරු වෙනවා. **චිත්තමස්ස පසීදති** ධර්මය අහනකොට පහදිනවා. හිත මනස පහදිනවා. ඒ පහදින්නේ මොකද? අපි මේ සඳහාම නේ මේ කැප වෙලා ඇප වෙලා වැඩ කරන්නේ. නමුත් මෙතෙක් කල් අපි දන්නවා කියලා හිතාගෙන හිටපු දේවල් තුළ මේ තරම්ම කුණුකන්දල් තියෙනවා. මේ තරම්ම වැරදි දේවල් තියෙනවා. අන්න ඒක පිරිසිදු වෙන්ට ඕනැ කියලා ඒ පිරිසිදු වීම මේ හුදු ශෘතයෙන්, **සාධුකං**

**මනසිකරොථ** කියන විදිහට මනා කොට සිහිය යෙදවීමෙන් සිදු වෙනවා නම් ඊට වැඩියෙ රසයක් මේ ලෝකෙ ඇත්තේ නැහැ.

පණ්ඩිත ස්වාමීන් වහන්සේ ඉන්න කාලේ මහා සභාවට ගියහම හැමදාම කියනවා මේ **සංසාර විෂවෘක්ෂස්ස** ආදී වශයෙන් ශ්ලෝකය. මේ සංසාරය නැමැති විෂ වෘක්ෂයේ **ද්වෙ ඒව මධුරෙ ඵලේ** ඵල දෙකමයි තියෙන්නේ මිහිරි. අනික් හටගන්න තාක් සියලුම ඵල කටුකයි. විෂ සහිතයි. එකක් තමයි සත්පුරුෂ සංසේවනය. අනිත් එක තමයි සුභාෂිත රසාස්වාදය. මනා කොට දේශනා කරන ලද ධර්මය රස විඳීම. සත්පුරුෂ සංසේවනයෙදි නම් භුක්ති විඳින්ඩම පුළුවන් තමනුත් සත්පුරුෂයෙක් බවට පත් වෙනවා. සුභාසිත රසාස්වාදය කියලා කියන්නේ පත් වුණා වූ කෙනෙක් විසින් මහා කරුණාවෙන් දේශනා කරන ලද ධර්මය අහනකොට සුභාෂිතයක් නම් පුදුමාකාර රසාස්වාදයක් එනව. ඔන්න ඔය දෙකම විතරයි සංසාරෙ තියෙන්නේ රස විඳින්න පුළුවන් දේවල්. අනික් සේරගෙම තියෙන්නේ මායාකාරී ස්වරූපයක්.

විඤ්ඤාණය පිළිබඳ අවබෝධ කරගන්න නම් පැහැදිලිවම මෙන්න මේ වගේ පෙළඹීමක්, එළඹීමක්, මානසිකත්වයක් සකස් කරගන්න ඕනැ. සකස් නොවුණොත් අපි ඒ දන්න වැරදි මතයෙම පිහිටියොත් අපිට කවදාකවත් පටිච්ච සමුප්පාදය තේරුම්ගන්න බැරි වෙයි. අපිට කවදාකවත් විපස්සනාව තේරුම්ගන්න බැරි වෙයි. අපට කවදාවත් මේ ජීවිතයේ, අද දාන් නිවන් දකින්න පුළුවන් කියන විශ්වාසය ලබාගන්න බැරි වෙයි. ඒක නැති තාක් කල් ඉතින් නිවන් ලැබෙන්නෙ නෑ ඒක පිළිබඳව ආයේ කිසීම සැකයක් ඇත්තේ නැහැ. ලබන්ඩ නම් චක්ෂුසය දැනගැනීම, රූපය දැනගැනීම, චක්ඛු විඤ්ඤාණය දැනගැනීම කියන මේ තුන දැනගන්න ඕනැ. මේ දේවල්වලින් එන්ඩ එන්ඩ එන්ඩ එන්ඩ ඉතාම සූක්ෂ්ම තැන්වලට ඉතාම ගැඹුරු තැන්වලට ගැඹුරු යැයි කියලා හිතාගෙන ඉන්න තැන්වලට තමයි ගෙනියන්නේ. නමුත් චක්ඛු රූපය, වස්තු රූපය කියලත් කියනවා. නැත්තම් ප්‍රසාද රූපය කියලා කියනවා. චක්ඛු ආයතනය කියලාත් කියනවා. ඒක නම් ඉතින් කාටහරි මේ මසැස පෙන්වලා මස් ගුලිය පෙන්වලා මෙන්න චක්ඛු රූපය කියලා පෙන්වන්න පුළුවන් තත්ත්වයක් තියෙනවා. ඒකෙත් ඒ කර්මජ රූප කොට්ඨාශයෙත් එහෙම නැත්නම් ඒ චක්ඛු ප්‍රසාදය දැකලා නෙමෙයි චක්ෂුසය දැක්කයි කියලා

කියන්නෙ. මොකද ඒක ඒ දකින මොහොතෙදී තමයි දැකීමේ ක්‍රියාව වෙන්නෙ. දකින වෙලාවෙදි තමයි ඇහැ ඕපයක් බවට පත් වෙන්නේ.

ඒ වාගේම රූප - අපිට ඉත්ථි පුරුෂ රූප, හොඳ රූප, නරක රූප, ලොකු රූප, වමේ රූප, දකුණෙ රූප වශයෙන් පෙන්වන්ඩ පුළුවන්. නමුත් අපි එදා මේ ධර්ම දේශනාවෙදි මතු කරගන්නට උත්සාහ කළා, නියම දෘෂ්ටිය විය යුත්තේ, නැත්නම් විද්‍යාව විය යුත්තේ රූපය කියල කියන්නේ චක්ෂුසය කුප්පවීම සඳහා පාවිච්චි වෙන රූපය පමණමයි. නැත්නම් චක්ෂුසය පහළ වීමට යම් රූපයක් ආපාතගත වුණාද ඒක තමයි අපි මෙතන රූපය කියලා කියන්නෙ නැත්නම් මේ අපි හිතාගෙන ඉන්න සම්පූර්ණ භෞතික විද්‍යාව නෙවෙයි. ඒ රූපය නිසා ඇහැ කිතිකැවුණා, ඇහැ කුප්පන ගතියට පත් වුණා ක්‍රියාත්මක බවට පත් වුණා නම් ඒ පටිච්චන්න රූපය, නැත්නම් ඒ පටිච්ච රූපය, එහෙම නැත්නම් අපි කියනවා ආපාතගත රූපය තමයි රූපය වෙන්නෙ. ඒ රූපය නොතිබුණොත් ඇහැක් ක්‍රියාත්මක වෙන්නෙ නැහැ. ඇහැක් නැත්නම් රූපය ක්‍රියාත්මක වෙන්නෙ නැහැ. ඒ නිසා දකින චිත්තක්ෂණයේ ඇහැත් රූපයත් කියන දෙක පහළ වෙනවා. අහන චිත්තක්ෂණයේ ඇහැත් රූපය කියන දෙක අපිට ගන්ඩ වෙන්නේ ක්‍රියාත්මක නෑ. ඒව නිවන් දැකලා, නිෂේධනය වෙලා, රහත් වෙලා. ඒ නිසා අපිට ඇහැ ක්‍රියාත්මක වෙන්නේ නැති, රූපයක් ආපාතගත වෙච්චි නැති වෙලාවක, ඇහැ නිවන් දක්වන්න රූප නිවන් දක්වන්න ඇහැ රූප මාර්ගයෙන් ඇති වන කෙලෙස් නිවන් දැක්වීම සඳහා කළ යුතු කිසිම ප්‍රයත්නයක් නැහැ.

නමුත් අවාසනාවකට අපි ඒ වෙනකොට කනේ රාග දෝස පහළ කරගෙන ඡන්ද ප්‍රේම පහළ කරගෙන එතන අහු වෙලා. කොච්චර අහු වුණාද කියනව නම්, ඇහැක් රූපයක් තියෙන බවක්වත් මතක නැහැ. මාලුඞ්ක්‍යපුත්‍ර සූත්‍රයේ සර්වඥයන් වහන්සේ ඒකයි දේශනා කරන්නේ **තං කිං මඤ්ඤසි, මාලුක්‍යපුත්ත, යෙ තෙ චක්ඛුවිඤ්ඤෙය්‍යා රූපා අදිට්ඨා අදිට්ඨපුබ්බා** දැක්කෙත් නෑ දකිනවත් නෙමෙයි ජේනවත් නෙමෙයි කලින් පෙනිලා තිබිලත් නෑ. **න ච පස්සසි, න ච තෙ හොති පස්සෙය්‍යන්ති.** නුඹ වුවමනාවෙන් බලනවත් නෙවෙයි මත්තට බලන්ඩ වෙනවත් නෙවෙයි. අන්න එවැනි රූප මාර්ගයෙන් කෙලෙස් උපදිනවාද? එතකොට මාලුඞ්ක්‍යපුත්‍ර ස්වාමීන් වහන්සේ සඳහන් කරනවා, නෑ නෑ එහෙම

කෙලෙස් ඉපදීමක් වෙන්න බෑ. දකින්ට වුණෙත් නෑ. දැනට දකිමිනුත් නෙමෙයි. බලමිනුත් නෙමෙයි බලන්ට වෙන්නෙත් නෑ. අන්න එහෙව් රූප සම්බන්ධයෙන් කෙලෙස් උපදින්නේ නැහැ. එහෙම රූප නැත්නම් චක්ඛුසයක් නෑ. එහෙම නම් චක්ඛු විඤ්ඤාණයක් පහළ වෙන්නේ නැහැ. නමුත් ඒ වෙනකොට අනිකුත් ද්වාර පහෙන් එකක ඒ වැඩපිළිවෙළ යනවා. නමුත් එතන භාවනා කරන්න දෙයකුත් නෑ. භාවනා කළ යුත්තකුත් නෑ. ඒ නිසා එතන භාවනා උපදෙස් සම්බන්ධයෙන් ගත යුත්තක් නෑ.

නමුත් මේ කාරණාව දත යුත්තක්. ඊගාවට චක්ෂුසය පිළිබඳව ඇහැත් රූපයත් ආපාතගත වෙච්චහම තමයි චක්ෂුසය නැත්නම් චක්ඛු ප්‍රසාදය පහළ වීම සිදු වෙන්නේ. චක්ඛු ප්‍රසාදය ක්‍රියාවට නැගෙන්නේ. ඒ වාගේම චක්ඛු ප්‍රසාදයක් ඇති කොට තමයි රූපයක්, රූපයක් බවට පත් වෙන්නේ. මේ දෙකම නැත්නම් - එකිනෙකට පටිච්ච භාවය නැත්නම් ආපාතගත භාවය නැත්නම් - මෙව්වා කෙලෙස් පැත්තෙන් බලනකොට භාවනා පැත්තෙන් බලනකොට කරන්ඩ වැඩක් නෑ. නමුත් අපි ඇහැ සම්බන්ධ කරගෙන රූපය සම්බන්ධ කරගෙන ඒ සම්බන්ධයෙන් සාත භාවය ප්‍රිය භාවය මනාප භාවය පහළ නොවීමට නම් ඒ ඇහැ ක්‍රියාත්මක නොවන වෙලාවෙදි ඇහැ සම්බන්ධව භාවනා කටයුත්තක් නැහැ. දත යුත්තක් නම් තියෙනවා. ඇහැ පිළිබඳ භාවනා කට යුත්තේ ඇහැ ක්‍රියාත්මක කොටමයි නමුත් එතකොට ඉතාමත්ම ඇහැ යුහුසුලුයි. ඉතාමත් ඇහැ ප්‍රෝඩාකාරියි. ඉතාමත්ම ඇහැ සංකීර්ණයි. ඉතාමත්ම ඇහැ මනබන්ධනීයයි. මෝහනීයයි. නමුත් මෙතනමයි ගැටේ. මෙතනමයි ගැටේ ලිහීම.

ආන්න ඒ විදිහට මේ ප්‍රශ්නය වර්තමාන මොහොතට මෙතෙන්ට තමාට ගන්න නම් වෙන විදිහකට කියනවා නම් සාන්දෘෂ්ටික බවට පත් කරන්ඩ නම්, චක්ෂුසය මෙච්චර ශීඝ්‍රව මෙච්චර යුහුසුලුව ක්‍රියාත්මක වන චක්ෂුසය වැඩ කරද්දිම දකින බව දැනගන්ඩ ඕනැ. දකින රූපය විෂයෙහි මත් වෙලා මං මේක දැක්කා හොඳයි ආදී වශයෙන් ප්‍රපංච කරනවා වෙනුවට, ඒක තමයි සාමාන්‍ය පෘථග්ජනයාගේ ස්වභාවය, ඒ වෙනුවට යෝගාවචරයා මේ චක්ෂුසය වැඩ කරන වෙලාවෙදි දැන් චක්ෂුසය වැඩ කරනවා, නැත්නම් මෙන්න මේ ආයතනය වැඩ කරනවා කියන තැනට සතිය පිහිටුවීමට නම් මේ චක්ෂුසය හා රූපය පච්චුප්පන්න ධර්ම දෙකක්, ඇහැ නිසා රූප පහළ වෙනවා. රූප නිසා ඇහැ පහළ වෙනවා. ඇහැට පටිච්ච රූපයි රූපයට පටිච්ච ඇහැයි - **චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච.**

ඉතින් මේ කාරණාව ගැන සමහර කෙනෙක් කියනව නම් මේක සර්වබලධාරී දෙවියන් වහන්සේගේ වැඩක්, අපිට ඉගෙනගන්න බැහැයි කියලා, ඒකට ඉතින් සර්වඥයන් වහන්සේ ප්‍රධාන ධර්ම සංයුති සහ ත්‍රිවිධ රත්නය සාක්ෂි. ඒකයි අපි ත්‍රිවිධ රත්නය සරණ ගිහිල්ලා භාවනාවට බහින්නේ. මේ දෙක **චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං** - චක්ඛු විඤ්ඤාණය ඇහැට රූපයක් ආපාතගත වෙලා ඒ ඇති වෙන තිගැස්ම, ඒ ඇති වෙන කම්පනය ඒ ඇති වෙන දෙරට තට්ටු කිරීම කනට වැඩියෙ ප්‍රකට නම්, නාසයේ ඇති වන ගඳ දැනීමට වැඩියෙ ප්‍රකට නම්, දිවේ ඇති වන රස බැලීමට වඩා ප්‍රකට නම්, කයේ ඇති වන ස්පර්ශය පහස ලැබීමට වඩා ප්‍රකට නම්, මනසේ ඇති වන අනෙකුත් දෝංකාර සිතිවිලි කල්පනාවට ප්‍රකට නම්, අවධානය යොමු වෙනවා ඇහැට. විඤ්ඤාණය ඇහැට යොමු වෙනවා. එතකොට අපි කියනවා චක්ඛු විඤ්ඤාණය කියලා. එක චිත්තක්ෂණයකදී ඇහැත් තියනවා රූපයත් ආපතගත වෙලා තියෙනවා. අවධානයත් පහ වුණාම අපි ඒකට කියනවා දකින හිත කියලා. ඒ වෙලාවෙදි ඔන්න දැකීම සිද්ධ වෙනවා. කාරණා 3 ක් ඒකරාශි වීමෙන් එකම විදිහට තුඩුදීමෙන් දැකීම සිද්ධ වෙනවා. ඒ දැකීම සිද්ධ වෙන වෙලාවෙදි කනත් ශබ්දයත් නිෂේධනය වෙලා. නාසයත් ගඳ සුවඳත් නිෂේධනය වෙලා. දිවත් රසත් නිෂේධනය වෙලා. කයත් පහසත් නිෂේධනය වෙලා. හිතත් ධම්මාරම්මණත් නිෂේධනය වෙලා. චක්ෂුසයේ සිත පහළ වෙලා තියෙනවා. මෙන්න මේක බොහෝමත්ම යුහුසුලුයි. නමුත් මෙතනදිම අප්‍රමාදීව වහවහාම මෙනෙහි කිරීම සිදු කරගන්න පුළුවන් නම් කවදා හෝ අපි මිච්ඡාපටිපත්ති අවිජ්ජාව කියන නොදැනීම නිසා පහළ වෙලා තියන අවිද්‍යාව දුරු කළා කියමු. එතකොට අපි මෙතෙක් කල් දිගට පවතින ඇහැක් තියනවා, ඇහැට පේන රූප ලෝකයක් සදාකාලිකව තියෙනවා, මෙච්චා ඔක්කෝම දැක දැක ඉන්න හිතක් හැම වෙලාවෙම තියෙනවා කියලා හිතාගෙන හිටියා නම් යම් කිසි නිත්‍ය සුඛ සුභ සංඥවක් අන්න ඕක දෙදරුම් කනවා. ඕක සහලවනවා. ඕක අපිට අභියෝග කරනවා.

මේක චිත්තක්ෂණයක චක්ඛු ප්‍රසාදයත් රූපයත් දෙක ආපාතගත වෙලා එතනට මේ සිත කියන අවධානය යොමු වෙලා චක්ඛු විඤ්ඤාණය බවට පත් වෙලා මේ පෙන්වන රූපය, මේ රූපයක් දකිනවා කියන හිත, නැත්නම් දැකීම කියන මේ සංසිද්ධිය ක්ෂණ භංගුරයි. එකම

චිත්තක්ෂණයක පවතිනවා. ආන්න ඒ චිත්තක්ෂණ දෙකතුනක් එකට යෑමේදී අපිට පේන්ඩ තියෙනවා ඇහේ දිග පැවැත්මක් තියෙනවා. නැත්තම් චිත්තක්ෂණ දෙක තුනක් පුරා පැවැත්මක් තියෙනවා. රූපයේ පැවැත්මක් තියෙනවා. මේ චක්ඛු විඤ්ඤාණයේ පැවැත්මක් තියෙනවා. ඒ කියන්නේ මේ රූපය ඉතාමත්ම සිත් ගන්නාසුලුයි. ඉතාමත්ම සිත් පැහැරගන්නාසුලුයි. එහෙම නම් චිත්තක්ෂණ දෙකතුනක්ම මේ අහඹු එකතු වීම සිද්ධ වෙනවා. එතකොට කටත් ඇරගෙන ඕන් බලාගෙන ඉන්නවා. බලන්නෙක් බවවත් මතක නෑ අපිට. අපි ඉන්නෙ මත් වෙලා - එක්කෝ ඒ තියෙන භයංකාරකමට, නැත්නම් ඒ චිත්තාකර්ෂණීය භාවයට, නැත්නම් ඒ අද්භූත ස්වභාවයට මත් වෙලා. මෙන්න මේ මත් වීම තියන තාක් කල් අපිට කවදාකවත් ඒ මිච්ඡා පටිපත්තිය කඩන්න බෑ. අපිට දැනගන්ඩ වෙනවා මේ මත් වෙලා තියෙන්නෙ මේකෙ තියෙන මේ යුහුසුලුකමටයි. මේක ඉතාම චිත්තාකර්ෂණීයයි. මේ චිත්තාකර්ෂණීය බව මැඩගෙන අප්‍රමාදීව දැකීමයි ඇහේ සිද්ධ වෙන්නේ මයෙ මේ වෙලාවේ, අනික් උපකරණ වැඩ කරන්නේ නෑ කියලා මොනම ක්‍රමයකින් හෝ මේ තත්ත්වයට අවදි වුණොත් ඒ තරම් චිත්තාකර්ෂණීය දෙයක් අර රූපෙවත් නෑ. ඒ තරම්ම සිත චිත්තාකර්ෂණීයයි. ඒ තරම්ම මේ ක්‍රියාවලිය යුහුසුලුයි. ඒ තරම්ම මේ ක්‍රියාවලිය ධාර්මිකයි. ඒ තරම්ම මේ ක්‍රියාවලිය සාන්දෘෂ්ටිකයි. මේක කවදාක හෝ දැක්කා නම් සංසාරේ කවදාකවත් ආයේ අමතක වෙන්නේ නැහැ. ආයේ තවත් පමා වෙන්ඩ යන්නෙ නෑ මේ රූපයේ දිග, පළල බලන්ඩයි ස්ත්‍රී පුරුෂ භාවය බලන්ඩයි අල ගිය වැල ගිය මුල ගිය දේවල් බලන්ඩයි යන්නේ නෑ. මේ දැකීමේ ක්‍රියාවලිය ඒ තරම්ම යුහුසුලුයි. බලලා ඉවර කරන්න බෑ.

ඒ නිසා දකින දකින වාරේ දකිනවා කියලා මෙනෙහි කිරීමෙන් තමයි අපි මේ රූපයට මත් වෙලා, නැත්නම් මේ ඇහැ හොඳයි කියන ඇහැට මත් වෙලා, නැත්නම් මට හොඳ චක්ඛු විඤ්ඤාණයක් තියෙනවා කියලා මෝඩ කමට රජ වෙලා ඒ මෝඩ රාජධානියේ රජකම් කිරීම නතර කරලා, නැත්නම් ඒ හීනෙන් අවදි වෙලා, මම දැන් ඇහැට අහු වෙලා රූපයට අහු වෙලා දැකීමක් නැත්නම් මම දකින්නෙක් කියන බවට විවෘත වෙන්නෙ. මේක විශාල පරිවර්තනයක් යෝග ජීවිතයේ. මේකට දෘෂ්ටිය බලපානවා. සංඥාව බලපානවා. චිත්තය බලපානවා. ඒක නිසා අපට සිද්ධ

වෙනවා ඉස්සෙල්ලාම අපි මේ සාකච්ඡා කරන්නෙ ඇහැ රූපය සහ විඤ්ඤාණය පිළිබඳව බව මතක තියාගන්ඩ. ඊට වැඩියෙන් ඔය වැඩ පිළිවෙළ ලේසියි කනේ. ඊට වැඩියෙ ඔය වැඩ පිළිවෙල ලේසියි නාසයේ. ඊට වැඩියෙ ලේසියි දිවේ. ඊට වැඩියෙ ලේසියි කයේ. නමුත් රූපය සම්බන්ධ කරගත්ත මේ ද්වාර පහේම සිදු වෙන්නෙ නම් එකමයි. එකම සමීකරණයක් විදිහට තමයි වැඩේ යන්නේ. අපි මේ අද නිදර්ශන වශයෙන් අරගෙන තියෙන්නේ ඉතාමත්ම විචිත්‍ර වූ රූපයක්. චක්ෂුසයක්. චක්ඛු විඤ්ඤාණයක්.

ඒ චක්ඛු විඤ්ඤාණයේ වැඩ පිළිවෙළටයි අද මේ 76 වෙනි වාරෙ ධර්ම දේශනා වශයෙන් අපි ඉදිරිපත් කරගන්න බලාපොරොත්තු වෙන්නෙ. ඉතාමත්ම අපහසුයි විස්තර කරන්ඩ නිදර්ශන මාර්ගයෙන්. මොකද හුඟදෙනෙක් නිදර්ශනය පටලවාගන්නවා. නමුත් සමහර ඇත්තෝ උත්සාහ කරල තියෙනවා මේක විස්තර කරන්ඩ. හරියට එක දෙපාර්තමේන්තුවක් තියෙනවා. ඒ දෙපාර්තමේන්තුව යටතේ සේවාවල් හයක් ක්‍රියාත්මක වෙනවා. ඒ සේවාවල් හයට වෙනම අධ්‍යක්ෂකවරු ඉන්නවා. ඒ අධ්‍යක්ෂකවරු හයදෙනා වෙනවෙනම තමතමන්ගේ කාර්යාල නඩත්තු කරනවා. වෙනවෙනම සේවාදයකයන් හමු වෙලා කටයුතු කරනවා. මේ හයදෙනාටම ඉන්නෙ එකම ලස්සන තරුණ ලේඛිකාවක්. මේ ඔක්කෝටම හයදෙනාටම ඉන්නේ එකම පුද්ගලික ලේකම්වරියක්, හරීම සිත්ගන්නා සුලුයි. තරුණයි, ඉතාමත් දක්ෂයි. එයා ළඟ තමයි කොම්පියුටරයක් තියෙන්නේ. එයා ළඟ තමයි ඉලෙක්ට්‍රෝනික් ටයිප් රයිටර් එකක් තියෙන්නේ. ඔක්කොම තොරතුරු තියෙන්නෙ, දත්ත තියෙන්නෙ මෙයා ගාව. ඒ නිසා සෑම අධ්‍යක්ෂවරයෙකුටම මොනම ගනුදෙනුවක් කරන්න ගියත් තමන්ගේ ආයතනයට කොච්චර මුදල් තියෙනවද, කොච්චර වැය වෙලා තියෙනවද, අහවල් කටයුත්තට කොච්චර වැය වෙනවද, මේකට මූලිකත්වය දිය යුතුද නැද්ද කියලා සෑම කාරණාවක්ම සෑම ගනුදෙනුවකදීම අර පුද්ගලික ලේකම්වරියගෙන් අහන්න වෙනවා. පුද්ගලික ලේකම්වරිය ගාව තොරතුරු තැන්පත් වෙලා තියෙන්නේ අකුරෙන් නෙවෙයි සංඥා මාර්ගයෙන්.

ඒ නිසා තොරතුරු කෙළකෝටිගානක් එයා තුළ රැස් කරන්න පුළුවන්. ඒ එකම අධ්‍යක්ෂකවරයෙකුටත් අර ලේකම්වරියගේ තියෙන

සංඥා බලලා තොරතුරු ගන්ඩ බෑ. ලේකම්වරිය අවදි කරවලා ලේකම්වරියගේ අවධානය ලබාගෙනම ඒ සංඥාව තමන්ට අදාළ තොරතුරු බවට පත් කළ යුතුයි. ඒක නිසා වැඩ කරන සෑම වෙලාවකම අර සෑම අධ්‍යක්ෂවරයෙක්ම පුළුවන් සියලු ක්‍රමවලින්, යුතු අයුතු සාධාරණ අසාධාරණ ධාර්මික අධාර්මික ක්‍රමවලින් අර ලේකම්වරියගේ අවධානය ගන්න හදනවා. මුළු ආයතනෙම ඉතාමත්ම ඉල්ලුම වැඩිම ක්‍රියාව සිද්ධ වෙන්නෙ මේ පෞද්ගලික ලේකම්වරිය නිසයි. ඉතින් ඒක නිසා අර හයදෙනාම නිතරෝම තමන්ගේ ක්‍රියා තමන්ගේ රාජකාරි ඉෂ්ට කරන්ඩ පෞද්ගලික ලේකම්වරියගෙ අවධානය යොමු කරගන්ඩ හදනවා. එක්කෙනෙක් ළඟට ඒ පෞද්ගලික ලේකම්වරිය ගිහිල්ලා නැත්නම් අවධානය යොමු කරලා ඒ දීලා තියෙන දත්ත, කියවන්න පුළුවන් දත්ත බවට පත් කරලා ඒ අධ්‍යක්ෂකවරයාට විනිශ්චයක් ගැනීමට උදව් කරන වෙලාවේදී අනික් අධ්‍යක්ෂකවරු පස්දෙනාම ඉතාම වුවමනාවෙන් බලාගෙන ඉන්නවා ලේකම්වරිය අතන වැඩ ඉවර කරලා මගේ වැඩට එයි කියලා. එනකොටම තමන්ගේ වැඩේට යොමු කරවාගැනීම සඳහා ලේකම්වරියගේ අවධානය ලබාගැනීමට ඉතාමත්ම උත්සන්න ආසන්න මාතෘකාවක් අතේ තියාන බලාන ඉන්නවා. ඒ මොකද ඔහුට තියනවා තීන්දු ගැනීමේ හැකියාව. නමුත් ඒ දත්ත දන්නෙ නැතිකම නිසා, තියෙන දත්ත සාමාන්‍ය අකුරෙන් ලේඛනගත වෙලා නැති නිසා, හැම වෙලාවෙම decode කරන්න, කියවන්න පුළුවන් භාෂාවක් බවට පත් කරගන්ඩත් තොරතුරු ලබාගැනීමටත් ඒ ලේකම්වරියගෙ අවධානය ඉල්ලගෙන එනවා.

ආන්න ඒ ලේකම්වරිය වගේ තමයි විඤ්ඤාණය. එක විඤ්ඤාණයයි තියෙන්නේ ඇහැ, කන, දිව, නාසය, කය, මන කියන ආයතන හයම දුවන්ඩ. ඒ විඤ්ඤාණය හැබැයි ඉතාමත්ම යුහුසුලුයි. අසීමිත තොරතුරු තොගයක් රැස් කරගන්ඩ පුළුවන්. හැබැයි ඒ තොරතුරු තැන්පත් වෙලා තියෙන්නේ සාමාන්‍ය ව්‍යවහාර ක්‍රමයට නෙමෙයි. ඒවා තැන්පත් කරලා තියෙන්නේ බොහෝ කල් තබාගත හැකි සංඥා ක්‍රමයකින්. රහස් අකුරු ක්‍රමයකින්. ඒ නිසා ඒ රහස් අකුරු කොච්චර එක තැනක එකතු වුණත් එව්වා අතර ගනුදෙනුවක් කොහොමකටවත් නැහැ. එව්වා මැරිලා. එව්වා තැන්පත් කරලා තියන්න පුළුවන් මළ තොරතුරු පමණයි. එව්වා ක්‍රියාත්මක බවට පත් කරන්න පුළුවන්නෙ මේ ලේකම්වරියට විතරයි. මේ ලේකම්වරියගෙ අවධානයෙන්

පමණයි ඒ ඒ අධ්‍යක්ෂවරයෙකුට විධායක විනිශ්චයක් ගන්ඩ පුළුවන්. ආන්න එවැනි ලේකම්වරියකගේ තියෙන වටිනාකම - අපි හිතනවා ඒ ලේකම්වරිය හොඳ තරුණයි. බොහොම යුහුසුලුයි බොහොම සුන්දරයි කාටත් ප්‍රියයි - එහෙම නම් එවැනි කෙනෙක්ගේ වටිනාකම මුළු ආයතනයම තීන්දු කරනවා.

ඒක නිසා සර්වඥයන් වහන්සේට කලින් පහළ වෙච්ච අනෙකුත් ශාස්තෘවරු සමහරු කිව්වා - භෞතිකවාදීන් - රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධ අරගෙන රූප ස්කන්ධය විතරමයි වැදගත් පේන්නෙ අල්ලන්න පුළුවන්නෙ අනික් සේරම බොරු. අනික් සේරම මිථ්‍යායි. අනික් සේරම ගුප්තයි. ඒව ඔක්කොම හිතින් මවාගත්ත මාන. ඒ නිසා ඒවා එකක්වත් ගණන්ගන්න බැහැ. අල්ලන්න පුළුවන් දේ මේක විතරමයි කියලා රූපය විතරක්ම අරගෙන උච්ඡේදවාදයක් ප්‍රකාශ කරගන හිටියා. භයක් ලැජ්ජාවක් අවශ්‍ය නැහැ. හොඳක් නරකක් අවශ්‍ය නැහැ. හොඳින් හෝ නරකින් හෝ කාල බීල ඉන්න එකයි තියෙන්නේ. ඊට පස්සේ ආයේ මරණයෙන් පසු මොනවක්වත් බය වෙන්න දෙයක් නැහැ. වග කියන්න දෙයක් නැහැ. හොඳ නරක කියලා දෙයක් නැහැ. සාධාරණ අසාධාරණ දෙයක් නැහැ කියලා රූපය පමණක් හිතට ගත්ත භෞතිකවාදීන් කියාගෙන හිටියා. නමුත් වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ඒවා පෙනුණෙ නැතුවට ලෝකයේ සභ්‍යත්වය ලෝකයේ හොඳ නරක පවතින්නේ මෙව්වයින්. ඒක නිසා මිනිස්සු අර ඇත්තෝ අධාර්මිකයෝ ආගමික නොවන්නන් වශයෙන් තුච්ඡ මිනිස්සු වශයෙන් පහත් කරලා සලකන්න පටන්ගත්තා.

සමහර ඇත්තෝ කිව්වා රූප කෝෂයක් තියෙනවා. ඒ කෝෂය ඇතුළෙ තියෙනවා වේදනා කෝෂයක්, සංඥා කෝෂයක්, සංස්කාර කෝෂයක් ඊගාවට අත්‍යන්තව ඇතුළෙම තියෙනවා විඤ්ඤාණ කෝෂය. ඒක නිසා රූප කෝෂය වැටහෙනව නම් අහු වෙනව නම් ලාමකම පුද්ගලයයි ඒකට අහු වෙන්නෙ. ඊට එහා ගියොත් රූපය ඉක්මවලා ගියොත් ඕනැම කෙනෙකුට පේනවා සදාකාලිකව තමන් ජීවත් වන තාක් කල් පවතින වේදනා කෝෂයක්. ඒ වේදනා කෝෂයත් ඇතුළට ගියොත් සංඥා කෝෂයක්. තියෙනවා සංඥා කෝෂයට පස්සෙ තියෙනවා සංස්කාර කෝෂය, මේ සියල්ලම පිටත තියෙන්නෙ. ඇතුළතම තියෙන්නෙ විඤ්ඤාණ

කෝෂය. මේ විඤ්ඤාණ කෝෂය තමයි ආත්මය කියන්නේ. ඒ නිසා මේක සදාකාලිකයි. මේ විඤ්ඤාණය තමයි වැදගත්ම දේ. අනෙක් කෝෂ සියල්ලම අයින් කරන්න කවුරු කොහොම කතා කළත් අපි කැමති වෙනවා. අකමැති වෙන්නේ නැහැ. නමුත් විඤ්ඤාණ කෝෂයට නම් අත තියන්ඩ එපා. ඒක සදාකාලිකයි. ඒකට හොඳක් නරකක් දෙකත් නෑ. උත්පත්තියක් නෑ මරණයක් නෑ. සදාකාලිකවම තියෙනවා. ඒක තමයි මුළු ලෝකය පාලනය කරන්නේ කියලා මේ විඤ්ඤාණ කෝෂයට මේ තරම් තැනක් දුන්නේ ඇහැ, කන, නාසය, දිව, ශරීරය කියන ඕනැම ආයතනයකින් වැඩක් කරලා ඒක ක්‍රියාවට නගන්න නම් විඤ්ඤාණය අවසානයේ අවශ්‍ය වෙන නිසයි.

නමුත් අර ලස්සන සිත් ගන්නාසුලු පෞද්ගලික ලේකම්වරිය වැඩ නොකරන රාජකාරියේ නොයෙදෙන වෙලාවක් තියෙනවා. ඒ වෙලාවෙදි ඇහැ සම්පූර්ණ අර රූප සුන්දර භාවයෙන් සෙල්ලක්කාරව ගත කරනවා අර අධ්‍යක්ෂකවරුන්ගේ විධානවලට යට නොවී. එතකොට හරිම සුන්දරයි. එතකොට තියෙන්නෙ තරුණ කාන්තාවකගෙ තියෙන සුන්දර භාවය. මොනම රාජකාරියකවත් යෙදිලා නෑ. විවේකය විනීතව ගත කරනවා. විඤ්ඤාණය ඉන්ද්‍රිය පටිබද්ධ නෑ. අනින්ද්‍රිය පටිබද්ධයි. වැඩ කරන වෙලාවෙදි තියෙන යුහුසුලු දක්ෂකම් මොනවක්වත්ම නැතිව සම්පූර්ණ විවේකීව චාම්ව සැහැල්ලුව ගත කරන වෙලාවකුත් තියෙනවා. ඒ කියන්නෙ විඤ්ඤාණයට වෙනමම අර එක එක අධ්‍යක්ෂකවරුන්ගේ අතිශය ආසන්න උත්සන්න කාරණාවලට අත්දැකීම්වලට යට වෙලා ගත කරනවට අමතරව වෙනම එකකුත් තියෙනවා. ඒක සෑම ආගමකම, නැත්නම් නාම ධර්ම විග්‍රහ කරන්න යන කවුරුත් පිළිගත්ත කාරණාවක්. ඒකෙදි ඒ විඤ්ඤාණ අවස්ථාවෙදි කිසි සේත්ම කෙලෙසීමක් ඇත්තෙ නැහැ. එක එක්කෙනාගේ යටත් වීම්වලට බලපෑම්වලට ගොදුරු වෙලා නෑ. විවේකීව ගත කරනවා.

ඉතින් සමහරු හිතුවා මෙන්න මේකයි ආත්මය. මේකයි සදාකාලික. අර වැඩ කරන වෙලාවල් නම් තාවකාලිකයි. මොකද, එක එක අධ්‍යක්ෂකවරයාට සේවා දෙන වෙලාවල් බොහොම අහඹු. කලින් කියන්න බැහැ. නමුත් ක්‍රියාත්මක නොවීම ඉන්න වෙලාවක් තියෙනව නේ කියලා දිගට කාරණා රාශියක් තියනවා. හැබැයි අර අධ්‍යක්ෂකවරුන්ගේ බලපෑම නිසා හෝ ඉල්ලීම නිසා හෝ ක්‍රියා කරන වෙලාවේදී නම්, මේ අම්මණ්ඩිගේ වැඩේ අල්ලන්ඩ පුළුවන්. මනින්ඩ

පුළුවන්. කිරන්ඩ පුළුවන්. නිකන් ඉන්න වෙලාවෙදි නම් මොනම මිනුම් දණ්ඩකටවත් අහු වෙන්නෙ නෑ. ඒ නිසා විඤ්ඤාණය තේරුම් අරගන්ඩ නම් විඤ්ඤාණය සක්‍රිය අවස්ථාවෙම තේරුම්ගන්න ඕනැ. නමුත් විඤ්ඤාණය වඩාත් ප්‍රකෘති අවස්ථාව නම් අනින්ද්‍රිය පටිබද්ධ අවස්ථාවයි. ඒක කවදාක්වත් භාවනා කරන්න බෑ. මොකද ඒ ක්‍රියාකාරකමක් නෑ. ඒක සාපේක්ෂකව පුළුවන් ක්‍රියා කරනකොට මේකෙ තත්ත්වය මෙහෙම නම් මේක ක්‍රියා නොකරන අවස්ථාවේ මේක මෙහෙම වෙන්ඩ ඇති. ඒක නිසා අර මිච්ඡාපතිපන්න අවිද්‍යාව ගොඩක්ම හොල්මන් කරන්නෙ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය පිළිබඳව මතවල. ඒක සාපේක්ෂකව ගත්ත දෙයක්. සාපේක්ෂකව කියන්නේ ක්‍රියාත්මක කරනකොට මෙයාගෙ වැඩ මෙහෙමයි.

ඒ නිසා ඇහැට කනට නාසයට දිවට කයට මනසට යටත් නොවී විඤ්ඤාණයේ නිදිගත් ස්වරූපය පිළිබඳව අපිට අවශ්‍ය වෙන්නේ මූලධර්මානුකූලව පමණයි. අනිත් ඒවා තේරුම් අරගන්නකොට මේකේ ස්වභාවය මේකේ සාපේක්ෂක භාවය වැටහෙනවා. එයිනුත් අපි කලින් මතු කරගත්ත විදිහට ක්‍රියාත්මක වෙලා ඉන්නකොට මේක හරියට ඉතාමත්ම වේගයෙන් දුවන විදුලි උත්පාදක යන්ත්‍රයක් වේගයෙන් දුවද්දි මේකේ යාන්ත්‍රණය ඉගෙනගන්ඩ හදනවා වගේ. ඒක ඇතුළෙ තියෙනවා ඉතාම සීඝ්‍රයෙන් කැරකෙන දැති රෝද, ඉහළ පහළ යන ලීවර, විවිධාකාර වැඩ. මෙච්චා ඉතාමත්ම සීඝ්‍රයෙන් විනාඩියට 1500 වාරෙකින් කැරකෙද්දි අපි ඒකෙ පිට පොත්ත ගලවලා බැලුවොත්, අපි මේකෙ ක්‍රියාකාරිත්වය නන්නාඳුනන කෙනෙකුට විස්තර කරලා දෙන්න හැදුවොත්, ඉතාමත්ම දුෂ්කරයි. ඒ නිසා අපට සිද්ධ වෙනවා මෙහෙම හිතන්න : මේ යන්ත්‍රය ක්‍රියාත්මක කරනකොට තමයි තණ්හා මාන දෘෂ්ටි පහළ වෙන්නෙ. ප්‍රේම, රාග, ඡන්ද පහළ වෙන්නේ. නමුත් මේක පිළිබඳව හදුරන්ඩ නම් මේ යන්ත්‍රයේ ක්‍රියා වේග පුළුවන් තරම් අඩු කරලා නොමැරී අඩුම වේග තත්ත්වයට පත් කරලා ඒකෙදි වැඩිම අවධානයක් වැඩිම අප්‍රමාදයකින් යුක්තව කටයුතු කළොත් කෙනෙකුට දැකගන්න පුළුවන්. මේකෙදි භාවනා පැත්තට යනකොට මේ මූලධර්ම කරුණු යොදවන්ඩ නම් පැහැදිලිවම යෝගාවචරයෙකු වගේ නැවතිල්ලේ වැඩ කරන්න ඕනෑ.

සමහර විටෙක අපි චක්ඛු විඤ්ඤාණය, චක්ඛු රූපය, ඒකට ආපාතගත වෙන අරමුණු රූපය ආදී දේවල් ගැන කතා කළාට, භාවනා

කරනකොට රූප බලන්නෙ නැතුව ඇස් දෙක වහගන්ඩ කියනවා. ශබ්දවලින් කරදර වෙන්නේ නැති විවේක ස්ථානයකට යන්න කියනවා. ගඳ සුවඳින් වාත බාධාවක් නැති පිරිසිදු වාතාවරණයක් ඇති තැනකට යන්ඩ කියනවා. දිවේ රසයක් හෝ කතා කිරීමක් නැති සම්පූර්ණ නිශ්ශබ්ද තුන්වේල දෙවේලට අඩු කරපු ජීවිතයකට යන්ඩ කියනවා. ආහාරයේ මත්තඤ්ඤුතාව දැනගන්න කියනවා. ආන්න එහෙම කරලා අඩුම වේගයෙන් කරකැවෙන කාය ප්‍රසාදයට හිත යොදන්ඩෙයි කියනවා. එතකොට චක්ඛු රූපය වාගේ, චක්ඛු ප්‍රසාදය වාගේ අපිට කාය ප්‍රසාදය ඉස්සර කරගන්ඩ ඕනැ. ආරම්මණ වෙන්නා වූ රූපය වාගේ පොට්ඨබ්බය, පඨවි, තේජෝ, වායෝ කියන මේ කොටස් ඉදිරිපත් කරගන්න ඕනැ. මෙහි පහළ වෙන්නා වූ කාය විඤ්ඤාණය අර පුද්ගලික ලේකම්වරියගෙ උපමාවෙදි වගේ, සම්පූර්ණ කාය විඤ්ඤාණයෙහිම මේ ලේකම්වරියට වැඩ කරන්න දෙන්න කරන්ඩ ඕනැ. එකම ආයතනයක වැඩ කරන්න වෙනවා දිගටම. එතකොට දැනගන්ඩ පුළුවන් මේ ලේකම්වරිය අවංකව පිරිසිදුව රජයට පක්ෂව වැඩ කරනවද? එහෙම නැත්නම් මෙයාගේ අඩුපාඩුකම් අධ්‍යක්ෂකවරුන්ට බලපානවද?

ඒ නිසා අපට සිද්ධ වෙනවා අර පෝඨිල මහා ස්වාමීන් වහන්සේට ඒ පුංචි සාමණේර ඇත්තා කීවා වගේ කටවල් හයක් තියෙන හුඹහෙ කටවල් පහක් වහල ඉතුරු කටට අවධානය යොමු කරන්න. නැත්නම් වේගයෙන් දුවන විදුලි උත්පාදක යන්ත්‍රයේ වේගය අඩු කරල - විදුලි උත්පාදනය ඒ වෙලාවෙ සිදු නොවෙන්නත් ඉඩ තියෙනවා - නමුත් පුළුවාන් තරම් වේගය අඩු කරලා මේකෙ වැඩ කරන්නෙ මෙන්න මෙතනයි, මේකෙ බල උත්පාදක කොටස මෙන්න, මේ බල උත්පාදක කොටසේ බලය මෙන්න මෙතනින් මේ පැත්තට සම්ප්‍රේෂණය වෙච්චහම මෙන්න මේ භ්‍රමණය තුළ විදුලිය උපදිනවා. භ්‍රමණය මෙන්න මෙචචර වේග වෙනකොට විදුලිය මේ මට්ටමට එනවා කියන එක අර කෑල්ලෙන් කෑල්ල කෑල්ලෙන් කෑල්ල වෙන් කරලා හෝ තියෙන තත්ත්වයෙන් විස්තර කරලා දෙන්ඩ ඉතාම අඩු, හොඳට පැහැදිලි ප්‍රකට තැනකට ගෙනියන්ඩ වෙනවා. ඒ ගෙනිච්චත් විඤ්ඤාණයේ වේගය අඩු වෙනවා කියලා නම් හිතන්න නරකයි. ඒ මොකද, අඩු වේගයෙන් දුවන්ඩ පුළුවන් එකක් නෙමෙයි විඤ්ඤාණය කියන්නෙ. අපි කියනවා නම් අහස්

යන්තරාවක් පැයට සැතපුම් හතරක වේගයෙන් යනවා කියලා. ඒ ඉතින් කඩාගන වැටෙන්න කරන්ඩ තියෙන ලේසිම ක්‍රමය තමයි. අහස් යන්තරාවක් යන්න නම් අඩු ගානෙ පැයකට සැතපුම් හයසීයකවත් වේගයක් තියෙන්න ඕනැ, නැත්නම් වාතය දරන්නේ නැහැ.

අන්න ඒ වගේ ඉතාමත්ම යුහුසුලු වැඩක් මේ විඤ්ඤාණය. ඒ නිසා විඤ්ඤාණය පිළිබඳව වෙන විදිහකට කියනව නම් ඇහීම, දැකීම, ගඳ බැලීම, රස බැලීම, පහස ලැබීම, සිතීම කියන මේ වැඩපිළිවෙළ හයේ වැඩපිළිවෙළ යද්දීම මේක පිළිබඳව සම්පූර්ණ තේරුම්ගැනීමක් කරන්ඩ නම් තනිකරම ආසේවනප්‍රත්‍යය අවශ්‍යයි. ආසේවනප්‍රත්‍යය කියලා කියන්නේ අපි කලින්ම ගත්තු චක්ෂුසය අරගෙන බලන අවස්ථාව ගත්තත්, බලන වෙලාවේදීම අපි උත්සාහ කරනවා පුළුවන් තරම් මේ දකින රූපයේ හැඩනිල අලගිය මුලගිය විස්තර හොයනවා වෙනුවට දකින බවට අවදි වෙන්ඩ. කොච්චර උත්සාහ කළත් හරියන්නෙ නැහැ. හරියන්නෙ නෑ කියන මට්ටමටම වගේ අපිව පරදිනවා. මොකද හේතුව, ඒ රූපයෙ පවතින්නා වූ මනමෝහනීය තත්ත්වය නිසා. මනමෝහනීය කියන්නෙ සිත් ඇදගන්නම නෙමෙයි හිත එපා කරවනසුලු වෙන්ඩත් පුළුවන්. කොහොම හරි, හිත මත් කරවන ගතිය.

ඒ වගේම ඇහේ තියෙන්නා වූ, අනෙකුත් ඉන්ද්‍රියවලට වඩා අර පුද්ගලික ලේකම්වරියගෙ වැඩිම අවධානය යොමු කිරීමේ වාසනාවක් තියෙනවා මේ දැකීම කරන අධ්‍යක්ෂකවරයට. දැකීම ආයතනයට. ඒ නිසා ඇහැ දක්ෂ වෙච්චි නිසා හෝ අපි ඒකට පත් වෙනවා. නමුත් මේ ආසේවනප්‍රත්‍යය කියලා කියන්නේ අපි සක්මන් කර කර ඉන්නවා. අපි පුළුවාන් තරම් දකුණ වම දකුණ වම කියල ඒ දකුණ තබන වෙලාවෙදි දකුණෙන් ලබන්න පුළුවන් දකුණේ වින්දනය කරන ඒ විඳීම්වලට හිත යොදගෙන ඉන්නකොට සක්මන කෙළවරේ එක්කො සතෙක් යනවා. නැත්නම් කුරුල්ලෙක් පියාසර කරනවා. එහෙම නැත්නම් මනුෂ්‍යයෙක් යනවා. යනකොටම අර කාය ප්‍රසාදයේ කාය විඤ්ඤාණය වශයෙන් වැඩ කරගෙන හිටපු විඤ්ඤාණය වහාම චක්ඛු ආයතනයට ඇදලාගන්නවා. නැත්නම් අපේ සක්මන කැඩිලා අපේ සාමාන්‍ය ව්‍යවහාරයට කියනවා නම් සක්මනේ පැවතිච්ච අවධානය කැඩිලා හිත දැකීමට එනවා.

ඒ වෙලාවෙදීම මේ භාවනා කරන වෙලාවේදිත් මොන කොහෙ රස්තියාදු ගහනවද කියලා අර මනුෂ්‍යයා කෙරෙහි තරහ උපදවන්නේ නැතිව, නැත්නම් මේ කැලේ විවේක තැනක හිටියත් රාග උපදවමින් ස්ත්‍රීන් මේ හරියේ කැරකෙනවා නේද කියලා හෝ එහෙම නැත්නම් මේ විෂ ඝෝර සර්පයෙක් නේද මේක බැලුවෙ නැත්නම් සක්මන් කොරලා ඉවරයි නේද ආදී වශයෙන් ඒ රූපය පිළිබඳව මේ මං කීවා හෝ ඊට සමාන මොනම හෝ විග්‍රහයකට යන්ට ඉස්සර වෙලා, නැත්නම් යන තරම් පමා නොවී, මගේ හිත දැන් සක්මනේ කාය ප්‍රසාදයෙන් කැඩිලා චක්ඛු ප්‍රසාදයට ගියා. දැකීම සිදු වුණා කියලා පමා නොවී අප්‍රමාදීව දකින බව මෙනෙහි කරගන්ඩ උත්සාහ කළත්, අද මම කලින් කිව්වා වගේ නා නා ප්‍රකාර තොරතුරු විග්‍රහ හිත් නිසා අර අවධානයේ මාරුව මෙනෙහි කළත් ගුණ විශේෂයක් ඇති කරයි කියල සහතික කරල කියන්න බෑ. නැවතත් අර කෙලෙස් සිතම උපදින්න ඉඩ තියන නිසා. උදහරණයක් විදියට සක්මන කැඩුණා කියලා තරහවක් හරි උපදිනවා. මොනව හරි විදියකට හෙල්ලෙනවා.

ඒ නිසා අපිට ඒ වෙනකොට මේ වගේ යුහුසුලු ඉරියව් හුවමාරුවකදී, නැත්නම් විඤ්ඤාණයේ ද්වාරෙන් ද්වාරෙට මාරු වෙන තැනකදී අල්ලාගැනීමේ ශක්තිය නැත්තේ මොකද? අපි තාම ඒකට ආධුනිකයි. අපිට හුරු කාය ප්‍රසාදයෙ දිගට යන්න නම් අපි මනාපයි හොඳයි. නමුත් කාය ප්‍රසාදයේ ඉඳන් චක්ඛු ප්‍රසාදයට මාරු වන වෙලාවෙදි මාරු වීමත් හා සමගම මෙනෙහි කෙරුවොත් දක්ෂයි, හුඟක් වෙලාවට අපි මෙනෙහි කරන්නෙ පහු වෙලා. නමුත් ඒ මෙනෙහි කළාට ප්‍රයෝජන ලබන්නෙ නෑ. එතන චිත්ත වීථියක් කැඩීමක් සිද්ධ වුණාට නැවතත් සිත කෙලෙස් ජවනවලට වැටෙනවා. නමුත් මේක අපි නිතර නිතර පුරුදු කළොත් මේ පුරුද්ද නිසා ආසේවනය නිසා සමහර විටෙක දකුණු පයේ තියෙන තද වීම් තෙරපීම් බලබලා ඉන්න එකත් ලොකු භාවනාවක් තමයි. මොකද දකුණෙන් වමට වමෙන් දකුණට වෙනස් කරමින් වෙනස් කරමින් යනකොට දකුණ තබන තබන වාරයේ දකුණ පිළිබඳව සටහන් ආකාර ස්වභාව ලක්ෂණ බලනවා. නමුත් ඒ හා සමානම නැත්නම් ඊටත් වැඩියෙ විචිත්‍රයි කාය ප්‍රසාදයේ තිබුණ සිත වහාම චක්ඛු ප්‍රසාදයට ගිය හැටි දකින එක. මේක අර වගේ හුඟාක් වැරදි වැරදි කරනකොට හිටපු ගමන් තමන්ට වැටහෙනවා මම දැන් ඇවිදින්නෙක්

නෙමෙයි බලන්නෙක්. සමහර වෙලාවට ඇවිදින්නෙක් නෙමෙයි අහන්නෙක්, ඇවිදින්නෙක් නෙමෙයි ගඳ බලන්නෙක්, ඇවිදින්නෙක් නෙමෙයි රස බලන්නෙක්, ඇවිදින්නෙක් නෙමෙයි කල්පනා කරන්නෙක්. භාවය වෙනස් වෙනවා. ඇවිදින භාවයේ තිබුණ තත්ත්වය දකින භාවයට මාරු වෙනවා, අහන භාවයට මාරු වෙනවා. ගඳ රස බලන භාවයට මාරු වෙනවා. ඒකෙ වැඩි වෙලාවක් ගන්නවා.

ආන්න ඔහොම දිගින් දිගටම දිගින් දිගටම මේ වෙනස් වීමේ තියෙන යුහුසුලුකමත් මේ දෙක අතරමැද සිත යෝනිසෝ මනසිකාරයද අයෝනිසෝ මනසිකාරයද කුසල ජවනද අකුසල ජවනද දුවන්නෙ කියන එක බොහෝ විට බොහෝ වේලා වෙහෙස නොබලා දිගට අවබෝධ කිරීමෙන් තමයි ආසේවනප්‍රත්‍ය හදන්නේ. ආසේවනප්‍රත්‍ය නොලබන යෝගාවචරයට අපි කියනව **තරුණ විපස්සකයා** කියලා. ආසේවනප්‍රත්‍ය ලබන්න පටන්ගත්ත විපස්සකයකට අපි කියනවා **මධ්‍යස්ථ විපස්සකයා** කියලා. ආසේවනප්‍රත්‍ය ලබපු විපස්සකයකට අපි කියනවා **තික්ඛ විපස්සකයයි** කියලා. කාම රූපයක් සිතේ ගෙනත් තිබ්බත් ඒ මතවත් අකුසල් සිතුවිලි පහළ වෙන්නෙ නෑ. දකින බව හෝ පහළ වෙනවා. වම දකුණ බලනවට වඩා මේ සිත සිත්ගන්නාසුලු බව හෝ පහළ වෙලා මේක ගැළපෙන්නෙ නෑ. ඒ පුද්ගලයා තුළ භය ලැජ්ජාව පහළ වෙන්ට ආසේවනප්‍රත්‍ය විශාල වශයෙන් හේතු වෙනවා. මේක සංයුක්ත නිකාය අටුවා ආදී තැන්වල අභිධර්මයට සහ අටුවාවට ගැළපෙන විදිහට විශාල විස්තර දීල තියෙනවා යෝගාවචරයින්ගේ සිත් ධෛර්ය කරන්න.

නමුත් ආශ්වාස ප්‍රශ්වාසය හෝ පිම්බීම හැකිළීම හෝ සක්මන වගේ බොහොම සරල ඒකාකාරී වැඩපිළිවෙළක හිත පිහිටුවාගෙන ඉන්න කෙනා ඒ වැඩ පිළිවෙළෙන් ආයතනය මාරු වන අවස්ථාවේදී මේ මාරුවේදී ඉරියාපථ සන්ධි ආදී මේ ක්‍රියාවලී මාරුවේදී අදක්ෂ භාවය කවදකවත් දඬුවම් කළ යුත්තක් නෙමෙයි. අනිවාර්ය දෙයක්. ඒ මොකද අපිට ආසේවනය තියෙන්නේ ක්ලේශයටමයි. අපි මේක නැවත නැවතත් උත්සහ කරමින් කරමින් කරමින් ඒ වැඩේ වෙන්ඩ අරින්ඩ කියනවවත් වැඩ සාධාරණීකරණය කරනවා කියන එකවත් නෙවේ. වෙනවා. වෙන එක, එක තැනකින් කඩන්න බැහැ. ඒක නිසා අපි පුළුවන් තරම් උත්සාහ කරනවා සක්මනේ ඉන්නවා නම් දිගටෝම සක්මනේම ඉන්ඩ. ආශ්වාස

ප්‍රශ්වාස හෝ පිම්බීම හැකිළීම භාවනා කරනවා නම් වැඩි වේලාවක් ඉන්ඩ. ආධුනිකයන්ට නෙමෙයි. ඒකත් කියන්නෙ අරමුණ හොඳට මූණට මූණ දලා අල්ලගන්න පුළුවන් උනාට පස්සේ. එහෙම වෙනකොට රූප පේනවා, ශබ්ද ඇහෙනවා ගඳ සුවඳ දැනෙනවා. දිවට රස දැනෙනවා. සිතිවිලි එනවා. මේ සිතිවිලි ඒම ඇත්ත වශයෙන්ම අපේ ඊගාව භාවනා ප්‍රගති පරීක්ෂණයට ප්‍රශ්න පත්තරයක් වගේ. එව්වට පැනල ගිහිල්ලත් බෑ. මේ ප්‍රශ්න පත්තරයට මුහුණ දුන්නේ නැත්නම් අපේ ප්‍රගතියක් ලබන්නත් බැහැ. අනිත් එක ඒකට ගෙවන්ඩ ඕනැත් නැහැ. ඉබේම සිද්ධ වෙන දේ.

ඉස්සෙල්ලා මේවා පේන්නේ බාධක වගේ. ඉස්සෙල්ලා මේවා පේන්නේ මේ එක එල්ලේ නිසි නිද්දේ වැඩක් කරගෙන යනකොට එන බාධක වගේ. නමුත් යෝගාවචරයා මධ්‍යස්ථ විපස්සකයෙක් බවට පත් වෙනකොට විශේෂයෙන්ම හිත විපස්සනාවට වැටෙනවයි කියන එකක් අපි භාවනා ලෝකෙදි කතා කරනවා. අන්න එහෙම වුණාට පස්සේ යෝගාවචරයාට මූල කර්මස්ථානයත් සුළු හෝ ප්‍රකට වශයෙන් පවතිද්දි ශබ්ද ඇහෙන්න පටන්ගන්නවා. රූපත් මනෝ විඤ්ඤාණෙට ඕන් පේන්න පටන් අරගන්නවා. කයේ තියෙන හිරි වැටෙන ගති හිරි ඇරෙන ගති බර ගති බර හැල්ලු ගති කුඹී දුවනවා වගේ ගති කොච්චරදෝ පේන්න පටන්ගන්නවා. සිතිවිලිත් කවමදකවත් නතර කළ යුතුත් නෑ. නතර වෙලත් නෑ. දැනටත් නතර වෙලා නෑ. දැනටත් සිතුවිලිත් දුවනවා.

මෙන්න මේ තත්ත්වය යෝගාවචරයා හැම වෙලාවටම කියවන්නේ වැරදිල්ලක් විදිහටමයි. පැරදිල්ලක් විදිහටමයි. දුර්වලතාවක් විදිහටමයි. ඒ මොකද, ඒ මූල කර්මස්ථානයේම හිත පවත්වද්දි රූපයක් පෙනීම ව්‍යසනයක්, විනාශයක්, නාස්තියක් විදිහටයි හිත අරගෙන තියෙන්නේ. ශබ්දයක් ඇහීම, ගඳ රස දැනීම ප්‍රශ්නයක් කරගන්නවා. ඒ නිසා මධ්‍යස්ථ විපස්සක භාවයට පත් වුණායි කියලා කියන්නේ විපස්සනාවට හිත වට්ටගත්ත නම්, අනිවාර්යයෙන්ම තමන්ගේ මූල කර්මස්ථානයේ පවතිද්දි ඒ මූල කර්මස්ථානයට බාධක ධර්ම පිටුපසින් හෝ ඉස්සරහට ඇවිල්ලා හොල්මන් කරද්දි, ආන්න ඒ යෝගාවචරයාට ඒ දෙක අතර පවතින්නා වූ මේ අවධානය ඇදගන්ඩ දරන ගතිය තුළ කෝකද අජ්ඣත්තික කෝකද බාහිර කියල හිතාගන්ඩ පුළුවන් තත්ත්වයක් ඇති වෙනවා. අවස්ථාවක් එනවා. තමන්ට ඕනැ නම් මූල කර්මස්ථානයෙ ගෝචර අජ්ඣත්ත අරමුණේ

හිත පවත්වන්ඩයි. නමුත් ඒක පිට පැනලා කොහේදෝ තියෙන අහක යන වල් ආසියෙක් මෙතෙන්ට පැනලා අත දිනාගෙන. එතකොට දැකගන්ඩ පුළුවන් අන්න අරමුණ තියෙනවා. ඒත් බාහිර වශයෙන් තියෙන්නේ පැරදිලා පච වෙලා පැත්තකට වෙලා. කොහෙදෝ යන එක්කෙනෙක් ඇවිල්ලා ඉදිරියට පත් වෙලා මුල් තැන අරගෙන. ඒකට තරහ වෙන්න දෙයක් නැහැ. මේ එක ස්වභාවයක් අරමුණේ බාහිර වශයෙන් පේන. නැත්නම් **දුරේ සන්තිකෙ** විදියට. ළඟට ඇවිල්ලා ඕනැම කරන්නෙ නැති එකක් හොඳට රඟ දක්වනවා. තමන් සොයමින් පවතිමින් ඉන්නා වූ බලමින් ඉන්නා වූ අරමුණ ඈතට ගිහිල්ලා නිකාන් කොන් වෙලා.

එහෙම නැත්නම් ඉතාම ප්‍රිය ප්‍රණීත වශයෙන් බැලිය යුතු අරමුණ හීන තුච්ඡ දීන බවට පත් වෙලා කොන් වෙලා. අහක යන මොකක් හරි ඇවිත් ප්‍රණීතව පේනවා. තව සමහර වෙලාවට අරමුණම ප්‍රණීතව පේනවා. බාහිර අරමුණ තියනවා, හිත හොඳට තේරුම් අරන් තියෙනවා, ඒක කොන් වෙනවා. කුසල් ජවන වාර පිරෙනවා වැඩියි. ඒ වගේම සමහර වෙලාවට මූල කර්මස්ථානය ඉතාම ගොරෝසුවට හොඳට සිත්ගන්නාසුලුවට පේනවා. නමුත් හොල්මන් ආකාරයේ සිතිවිලි වටේ කරකැවෙනවා. ශබ්ද ඇහෙනවා. රූප වේදනා දැනෙනවා. සමහර වෙලාවට අර වේදනා ඔක්කොම, ශබ්දයක් හෝ ඉතාමත්ම ප්‍රකට වෙලා මූල කර්මස්ථානය නොමග යනවා. මේ ආකාරයට අතීත අනාගත පච්චුප්පන්න ක්‍රමයට මූල කර්මස්ථානය වෙන අයත් එක්ක සටන් කරද්දි මූල කර්මස්ථානයටම මුල් තැන දීලා සංසන්දනාත්මකව මධ්‍යස්ථ විපස්සකයෙක් වශයෙන් කුසල් ජවන හා අකුසල් ජවන අතර සටනෙදි හුඟක් වෙලාවට යෝගාවචරයා තමන් නිග්‍රහ කරගන්නව. තමන් නිෂේධනය කරගන්නවා. කුසලච්ඡන්දය පාගගන්නවා.

මෙන්න මේක නැති කරන්ඩ නම් කම්මට්ඨානාචාර්යවරයා අනිවාර්යයෙන් උනන්දු කරවන කතාවක් කරන්න ඕනැ. කරලා මතක් කරලා දෙන්න ඕනැ මේ ඔක්කොම වෙද්දි මූල කර්මස්ථානය අප්‍රකටව හෝ ප්‍රකටව හෝ පවතිනවා නේද? දුර හෝ ළඟ හෝ පවතිනවා නේද? අජ්ඣත්ත වශයෙන් හෝ බාහිර වශයෙන් පවතිනවා නේද? ප්‍රිය හෝ අමනාප වශයෙන් පේනවා නේද? අන්න ඒක තමයි මේ වෙලාවේ කොන්ද පණ තියාගන්න තියෙන්නෙ. මේක තමයි පණ නල. ඒක දිගේ

පවත්වන්න ගියාට පස්සේ ඊට කලින් මූල කර්මස්ථානයට කුසල ජවන, අනික් ඒවා අකුසල ජවන වෙලා පේනවා. දැන් දෙකම එකට පේනවා. එතකොටත් අපි කුසල ජවන. ඒ කියන්නෙ මූල කර්මස්ථානයට අපි එනවා ගෝචර අජ්ඣත්ත අරමුණේ බැසගන්ට. මේ කියන්නෙ අනෙකුත් අරමුණු පැත්තකට ගිහිල්ලා. පක්ඛන්ධන කියන වචනය පාවිච්චි කරන්න ගියහම කියනවා **පරිච්චාග, පක්ඛන්ධන,** පක්ඛන්ධනය කියලා කියන්නේ අරමුණට වටපිට නොබලා එක තැනම සීයට සීයක් මූණ තියලා පනින එක. පරිච්චාග කියලා කියන්නෙ අනික් පුංචි පුංචි දේවල් පරිත්‍යාග කරලා දන එක. බොහෝ දුරට ආවත් ගණන්ගන්නේ නෑ. ළඟ තිබ්බත් ගණන්ගන්නේ නෑ. මොකද ගෝචර අජ්ඣත්ත අරමුණේ සිත බැහැගන්නවා. ක්‍රියාවලී දෙක වෙනස්. එකක් බඳගැනීම, අනිත් එක විසි කිරීම. බඳගන්නේ මොකක්ද? තමන්ගෙ මූල කර්මස්ථානය. ඒ මොකටද? කුසල ජවනයට තැන දෙන්න. මොකද මේ වෙලාවෙ කුසල ජවන අකුසල ජවන දෙක තරගෙට තරඟ කරනවා. කරට කර හිටලා තියෙන්නෙ. ඉතින් යෝගාවචරයා බෑ නෑ කියල පස්ස ගැහුවොත් මේ ගුරුවරයා හොඳ නෑ, මේ ආහාර හොඳ නෑ, මේ තැන හොඳ නෑ, මේ යෝගාවචරයො හොඳ නෑ කියල පටන්ගත්තොත් පැහැදිලිවම අර මෙතෙක් කරගෙන ආපු විපස්සනා සේරම බිංදුවටම බැහැලා ගිය ගිය තැන "මමත් ඕක කරල තියෙනවනෙ. ඔය බොරු. ඔහොම මෙනෙහි කරල පුළුවන්ද වේදනාව යට කරන්ඩ?" ප්‍රධාන ප්‍රසිද්ධ ඔළමොට්ටල තකතිරු කතා කතා කරනවා. හැබැයි බොරුව නෙවෙයි කියන්නෙ. අත්දැකලා තියෙන්නෙ, නමුත් ගැටේ ඉවර වෙනකල් ලිහිලා නෑ. මුල මැද අග තුනට යනකල් ගිහිල්ලා නෑ. ඒක නිසා ආසේවනප්‍රත්‍යය නැතුව භාගෙට තැම්බිච්චි අල, නැත්නම් අර්ධ ඤාණ කොයි ආගමටත් වින කරනවා.

ඒ නිසා යෝගාවචරයන්ට පුළුවන් සාමාන්‍ය බෞද්ධයන්ට වැඩිය ශාසනය විනාශ කරන්න. ඒ මොකද, මගක් දුරට ගිහිල්ලා නතර වන නිසා. ඒ නිසා විඤ්ඤාණය පිළිබඳව හොඳ අවදියක් තියෙනවා නම් පෙනෙයි ඔය විඤ්ඤාණෙට විලි ලැජ්ජාව තියෙන එකක් එහෙම නෙමෙයි. ඒකේ නෑ කුසල අකුසල දෙක වෙන් කරන ගතියක්. ඒකේ තියෙන්නේ තියෙන දේ වෙන් කොට දක්වන එක විතරයි. යෝගාවචරය දැනගන්න ඕනැ මම ඉන්නේ ප්‍රතිපත්තියෙ. භය ලැජ්ජ දෙක මම කලින් පිහිටුවලා තියෙනවා. මම ඊට පස්සෙ ශීලයක පිහිටලා තියෙනවා. මම

මේක සමාධියෙන් යුක්තව බලන්න ඕනැ. බලනකොට මෙයා වැදි රජ්ජුරුවොයි මනමේ කුමාරයයි අතර සටනෙදි කවුරු දිනුවත් අවසාන විනිශ්චය තියෙන්නේ මනමේ කුමාරිය අතේ. කොපුව ලැබෙන්නේ කාටද? කඩුව ලැබෙන්නේ කාටද? අද යෝගාවචරයෝ හුඟදෙනෙක් කොපුව දෙනවා ප්‍රධාන කර්මස්ථානයට. කඩුව දෙනවා අවශේෂ කර්මස්ථානයට. මේක නැති කරන්ඩ නම්, කොච්චර භාවනා කරලත් පරදින්න පුළුවන්. මූලධර්ම වශයෙන් තේරුම් අරගන්ට ඕනැ විඤ්ඤාණයේ ක්‍රියාකාරිත්වය ඉතාමත්ම යුහුසුලුයි. ඒ නිසා මේක අහල කරලා අත්දැකපු කෙනෙක්ගෙන් හොඳ යොමුවක් හොඳ ගොනුවක් ඇති කරගෙන ඒකත් අමනාපෙන් නමුත් පර්යේෂණ කරලා කරලා කරලා බොහෝ දුරට ආසේවනප්‍රත්‍යය ආවට පස්සේ කියලා දෙන්න බැරි තරම් ගැඹුරක් කියලා කියනවා. නමුත් මේ වගේ භාවනා නොකරපු මෙච්චා නැති කෙනෙකුට කියලා දෙන්න ගියා නම් හුඟක් වෙලාවට මේ දේශනයත් ගඟට ඉණි කැපුව වගේ වෙන්න ඉඩ තියෙනවා. නමුත් සෑහෙන පිරිසක් මේක හරි පැත්තට යොදවගන්ට කුසල ජවන දිනවන්ඩ විඤ්ඤාණය තේරුම්ගන්ඩ පුළුවන් තත්ත්වෙක ඉන්න නිසා අපි හිතනවා මේක කාලෝචිත දේශනාවක් කියලා. අපි හිතනවා මේක ප්‍රායෝගිකව උපයෝගිතාව සලකලා කරපු දේශනාවක් කියලා.

නමුත් ඒක අර අහන කට්ටියත් එහෙමම ඒක සලකලා ඉහ මුදුනින් භාරගත්තොත් අන්න දේශනාව මල් ඵල ගන්නවා. මේක ඉතින් ඒකපාර්ශිකව වෙන්නේ නැහැ. මේකත් පච්චුප්පන්න තමයි. නමුත් ඒ අනුව බලනකොට මේක විය යුත්තක්. ඒ නිසා කල්පනා කරගන්ඩ ඕනැ අපි යම් තාක් ධර්ම කොට්ඨාශ දැනගෙන සිතේ තියාගෙන ලියාගෙන කටපාඩම් කළාද ඒ සේරම ඤාණවලට මතු මත්තේ එන ධර්ම කොටස් තව තවත් පැහැදිලි භාවයකින් පිහිටන්න ඕනැ. ඒකයි අපේ ප්‍රගතිය කියලා කියන්නේ. ඒ වාගෙම වඩා වැදගත් වෙන්නේ අපි අත්දැකීමෙන් මේ කියන කතාව කොච්චරට ප්‍රයෝජන වුණාද කියන එකයි. ඒ නිසා මෙතුවක් ලැබුණ ඒ ධර්ම ඤාණත් අත්දැකීමුත් අද මේ කොටස්වලට එකතු කරගෙන, මේ කරගෙන යන වැඩපිළිවෙළ ඉතාම ගැඹුරෙන් සතිපට්ඨානය පිහිටුවාගැනීමට අද මේ ධර්ම දේශනාවත් හේතු වේවා වාසනා වේවා කියන ප්‍රාර්ථනාවත් සමග අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරන්න බලාපොරොත්තු වෙනවා.

# 77 | ස්පර්ශ මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති, කත්ථ නිවිසමානා නිවිසති?**

**චක්ඛුසම්ඵස්සො ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි, අපි අද මහා සතිපට්ඨාන සූත්‍රය ඉදිරිපත් කරගෙන නේවාසිකව උපාසක මහත්වරුත් අනෙකුත් යෝගාවචර මහා සංඝරත්නය ඇතුළු පිරිසත් එක්ක මේ 77 වෙනි වතාවට හමු වෙන්නේ. සතිපට්ඨාන සූත්‍රය අනුව සලකනවා නම් ධම්මානුපස්සනාවෙ කොටසකට, සච්චපබ්බයෙ දෙවැනි සත්‍යය, සමුදය සත්‍යය තමයි අපි මෙතන දීර්ඝ වශයෙන් සාකච්ඡාවට ලක් කරගෙන තියෙන්නේ.

ඒ සමුදය සත්‍යය මොකක්ද? තෘෂ්ණාව කියන එක. එහෙම නැත්නම් සමුදය වශයෙන් අහනකොට ආසන්නම කැපී පෙනෙනම චෛතසිකය වශයෙන් තෘෂ්ණාවයි කියන එක මේ වෙනකොට අපි ප්‍රසිද්ධ කරගෙන තියෙනවා. නමුත් එය තෘෂ්ණාව වශයෙන් ප්‍රකටව ආසන්නව ප්‍රසිද්ධ වෙච්ච එකක් වුණාට එතන බළ මුළුවක්ම මාර සේනා

මුළුවක්ම වැඩ කරනවා. ඒ නිසා විස්තර ව්‍යවහාරයේදී අපට ඒවා එකිනෙකක් වෙන් කර කර වෙන් කර කර, ඒ බළ මුළුව දුර්වල කිරීමේ වැඩපිළිවෙළට ඔත්තු හොයන්න සිද්ධ වෙනවා. ඒ අනුව සටන් උපක්‍රම සැලසුම් කරන්න සිද්ධ වෙනවා. ඒ නිසා මේ තණ්හාව කොතනක නම් උපදින්නේද කොතනක නම් ලැගගන්නේද කියන ප්‍රශ්නය සර්වඥයන් වහන්සේ විසින්ම ඉදිරිපත් කරමින්, ඒ මහා සර්වඥතා ඥාන ගම්භීරත්වයෙන් යුක්තව ඒ තෘෂ්ණාව ලැගගන්න තැන, තෘෂ්ණාව උපදින තැන් විස්තර කරල දෙනවා.

නමුත් ඒ විස්තරය දිහා බලනකොට මේ වාගේ පූර්ණකාලීනව භාවනාවකම යෙදිලා ධර්ම විනය හදරමින් තමන්ගේ අත්දැකීම් අනුව එකින් එක එකින් එක ලිහාගෙන යන පිරිසකට ඇර, ඒත්තු ගන්වලා දෙන එක වුණත් ඉතාමත්ම අමාරු තත්ත්වයක තියෙනවා. මොකද අපි හිතන තැනක නෙමෙයි, නැත්නම් හිතන්න පෙළඹෙන තැනක නෙවෙයි තෘෂ්ණාව උපදින්නේ. ඒ නිසා දැඩි ගැඹුරකට ගිහිල්ලා තෘෂ්ණාවේ උත්පත්තියත් තෘෂ්ණාව ලැගගන්නා තැනත් හැදෑරීම සාමාන්‍ය ජීවිතයට කිසි සේත්ම සම්බන්ධයක් නැති හුදු දැනුම සඳහා දැනීම ලැබගන්නා වැඩපිළිවෙළක්ය කියල සාමාන්‍ය කෙනෙක් දෙස් කීවට පුදුම වෙන්න දෙයක් නෑ. ඒ මොකද, මේ වාගේ පූර්ණකාලීනව යෙදිල එක සැරයක් නෙවෙයි, දෙසැරයක් නෙවෙයි, තුන්සැරයක් නෙවෙයි අහල, හිතල, ඒ වාගේම භාවනාවට නංවලා බැලුවත් මේ කියන කාරණා අනුව විස්වාසයක් ගොඩනගාගන්න, පිළිගැනීමක් ඇති කරගන්න බැරි පුළුවන් තරමයි. ඒ මොකද, මෙතන සර්වඥතා ඥානය ප්‍රකාශයට පත් වීමක් තියෙනවා.

ඒ නිසා අපි ඉතාමත්ම ඉවසිල්ලෙන් ගැටේ මුලටම අඩගහගෙන යාම සඳහා, තෘෂ්ණාව උපදින තැන් සළායතන වශයෙන් - **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං** ආදී වශයෙන් චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය, මන කියන ආයතන හය ඉස්සෙල්ලාම හඳුන්වල දුන්නා. ඊගාවට ඒ හයේ ගෝචර රූපවලට ගෝචර වෙන්නා වූ ආරම්මණ හය හඳුන්වල දුන්නා රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම කියල. එතකොට මේ දෙක නම් සාමාන්‍යයෙන් ගැඹුරක් හිතන, ගැඹුරක් කල්පනා කරන කෙනෙකුට හිතාගන්න පුළුවන් මේ ඇහෙත් රූපෙත් තෘෂ්ණාව විසින් එකට බැඳීම,

මම වශයෙනුත් තියෙනවා, අනුන් වශයෙනුත් තියෙනවා කියන එක දකින්න පුළුවන් බව ඒත්තු ගන්වල දෙන්න එච්චරම තදබල ප්‍රශ්නයක් හිටින එකක් නැහැ.

නමුත් ඊට ඇතුළට ගියාට පස්සේ චක්ඛුවිඤ්ඤාණය අපි ගිය පාර ඉදිරිපත් කරගත්තේ ඒකයි. **චක්ඛුවිඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං** - චක්ඛුවිඤ්ඤාණය කියල කියන්නේ කාටත් ප්‍රිය රූපයක්. ප්‍රිය රූපය කියල කියන්නේ ප්‍රිය භාවයක් කියන එකයි. **සාතරූපං** - මිහිරි භාවයක් කියල කිව්වම එදිනෙදා ජීවිතයේ කවදාකවත් අපට හම්බ වෙන දෙයක්වත් අපි ප්‍රිය කරපු දෙයක්වත් මනාප කරපු දෙයක්වත් දියුණු පවුණු කරන්න උත්සාහ කරපු දෙයක්වත් නෙවෙයි, චක්ඛු විඤ්ඤාණය කියන එක. ඒ මොකද භාවනාවෙන්වත් අල්ලගන්න බැරි පුළුවන් තරමයි. නමුත් සර්වඥයන් වහන්සේ බෝ මැඩ මුලදී සාක්ෂාත් කළ ඒ ගම්භීර ස්වභාවය යටතේ චක්ඛුවිඤ්ඤාණයේත් තණ්හාව ඉපදීමේ ශක්තිය තියෙන බව, තණ්හාවේ ලැගගැනීමක් මෙතන වෙන්න ඒක තණ්හාවට ආරක්ෂාව සලසන බව විස්තර වෙනවා. මේ චක්ඛුවිඤ්ඤාණය, චක්ඛුවිඤ්ඤාණය බවට පත් වෙන්න ඉස්සෙල්ලා වෙනමම විඤ්ඤාණ ශ්‍රෝතයක් පවතිනවා. ඒ විඤ්ඤාණ ශ්‍රෝතය, ඇහැට රූපයක් වැදීම නිසා එයින් කැඩිලා ඒ විඤ්ඤාණය ඇහේ උපදිනකොට අපි කියනවා චක්ඛුවිඤ්ඤාණය කියල. අර මූලිකව පවතින ස්වභාවය නෙවෙයි මෙතන කතා කරන්නේ. චක්ඛු විඤ්ඤාණය බවට පෙරළිච්ච, චක්ඛුවිඤ්ඤාණය බවට හැරිච්ච, සංකර වෙච්ච, කෙලෙසිච්ච විඤ්ඤාණයක් මෙතන කතා කරන්නේ. ඒ විඤ්ඤාණයේ තියෙනවා තණ්හාව උපදවන ස්වරූපයක්. ඒ වාගේම තණ්හාවට ආරක්ෂාව සලසන ස්වරූපයක්.

ඉතින් මේකට ඇත්තටම යෝගාවචරයා වගකියන්න ඕනැද? මේකට සදාචාරාත්මකව බැඳිල තියෙනවද? මේ චක්ඛුවිඤ්ඤාණයේ කෙලෙස් තියෙනවා, උපදිනවා, නැත්නම් ඒකෙ කෙලෙස් ආරක්ෂාව සලසනවා. අපි කොහොමද මේ අහලවත් නැති, දැකලවත් නැති මේ චක්ඛුවිඤ්ඤාණය කොහොමද මේකෙ වෙන්නේ කියල බැලුවොත් එතන තමයි මේ ගැඹුර හිටින්නේ. අපි දැනගෙන කරන වැරැද්දක් නම් අපිට ඒක නතර කරගන්න පුළුවන්. ඒක ගැන සාධාරණ වෙන්න පුළුවන්.

නමුත් චක්ඛුවිඤ්ඤාණය ගැන කතා කරනකොට අර වගේ ගැඹුරකට යනවා.

ඒ නිසා සාමාන්‍යයෙන් පටිච්චසමුප්පාදයේ දෙළොස් වර්ගයෙ විඤ්ඤාණයට කලින් තියෙන්නේ සංඛාර. පස්සෙ තියෙන්නේ නාමරූප. විඤ්ඤාණය නිසා නාමරූප පහළ වෙනවා, නාමරූප නිසා විඤ්ඤාණය පහළ වෙනවායි කියන එක **පච්චුදාවත්තතති** කියන විදියට ඉතාමත්ම සංකීර්ණ සූක්ෂ්ම විදියට එකිනෙකාට උදව් උපකාර කරගන්නවා. සාමාන්‍යයෙන් ඒක ප්‍රත්‍යුත්පන්න වෙනවා. එකිනෙකාට වාසිය පිණිස අනිත් එක්කෙනා පිහිට කරගන්නවා කියන එක එදිනෙදා ව්‍යවහාරයේ කියන්නේ "එකිනෙකා පිට කසාගන්නවා" කියල. විශේෂයෙන්ම ටිකක් තරබාරු කෙනෙකුට අත හරවලා තමන්ගේ පිට කසාගන්න බැහැ. එහෙම නැත්නම් අතේ වාත අමාරුවක් තියෙනවා නම් පිට පැත්තට අත හරවන්න බැහැ. ඒ නිසා අපි කියනවා එහෙනම් තමුන්නාන්සේ මගෙ පිට කසන්න, මම තමුන්නාන්සෙගෙ පිට කසන්නම් කියල. එතකොට දෙන්නට දෙන්නා පිට කසාගැනීම කරගන්න පුළුවන්. දෙන්නට දෙන්නා උදව් උපකාර වෙනවා, අර කොරයි අන්ධයයි වාගෙ. ආන්න ඒ වගේ මේ විඤ්ඤාණය නාමරූපයට උදව් කරනවා. නාමරූපය විඤ්ඤාණයට උදව් කරනවා. ඒ තුළින් දෙන්නා කැපී පෙනෙනවා.

මේක තමයි පටිච්චසමුප්පාද විස්තරයේ තියෙන ඉතාමත්ම ගැඹුරුම පුරුක. විශේෂයෙන්ම මහාපදාන සූත්‍රයේ සර්වඥයන් වහන්සේ පෙන්වනවා, විපස්සී බුදුරජාණන් වහන්සේ බුද්ධත්වයට පත් වෙන්න කලින් පටිච්චසමුප්පාදය අවරෝහණ ක්‍රමයට ගිහිල්ලා, නාමරූප දක්වාම හොඳට විශදවම තමන්ගේ ඥානයෙන් අවබෝධ කරගත්තා කියන එක; පෙර විසූ කඳ පිළිවෙළ අනුව පෙර බුදුරජාණන් වහන්සේලා ගැන බලල ගෞතම ශ්‍රී සම්බුදුරජාණන් වහන්සේ. නමුත් එතනින් එහාට යන්න බැරි වුණා. විඤ්ඤාණය නිසා නාමරූප වෙන්නේ කොහොමද, නාමරූප නිසා විඤ්ඤාණය වෙන්නේ කොහොමද කියන එක කොහොමටක්වත් තර්කයෙන් අල්ලන්න බැහැ. ඒ තරමටම එතන හරිම සූක්ෂ්මයි, හරිම සංකීර්ණයි.

ඒ නිසා ගිය පාර අපි සාකච්ඡා කරපු විඤ්ඤාණය කියන සූක්ෂ්ම භාවය මූලධර්මයක් වශයෙන්, නැත්නම් අපි හිතට විකල්පයක් වශයෙන් දල බැලුවොත් අල්ලාගන්න පුළුවන් වෙන තාලෙට මම හිතනවා භාවනාවට ලොකු අරුතක්, නව මුහුණුවරක් එයි කියල. විඤ්ඤාණයේ තියෙන කෘත්‍යය තමයි, එය මෙයින් වෙන් කොට දැනගැනීම. විඤ්ඤාණයට බාහිරේ වෙන මොනවක්වත් නැතිව කවදාකවත් තමා වෙන් කොට දැනගන්නත් බැහැ, තමාට ප්‍රකාශ වෙන්නත් බැහැ. ඒ නිසා විඤ්ඤාණයට නැගී හිටින්න නම් අනිවාර්යයෙන්ම නාමරූප සංස්කාර කොටසක් මතු වෙන්න ඕනැ. ඉද්දෙන්න ඕනැ, කිතිකැවෙන්න ඕනැ, කොකිත වෙන්න ඕනැ.

එතකොට විඤ්ඤාණය කරන ප්‍රධාන කෘත්‍යය තමයි මෙන්න රූපය කියලා හඳුනාගැනීම තුළින් තමනුත් හඳුන්වා දෙනවා. මමයි මේ රූපය වෙන් කොට හඳුනාගත්තේ හඳුනාදුන්නේ කියලා, අර ඇති වෙච්ච රූප ධර්මයත් එක්ක විඤ්ඤාණය මතු වෙනවා ඒ රූප ධර්මය රූප ධර්මයක් බව හඳුන්වාදීමේ කෘත්‍යය කරගෙන. ඒ නිසා විඤ්ඤාණයෙන් ඇති වැඩක් නැහැ බාහිරේ කුපිත වීමක් නැතිව. කුපිත වෙච්ච දේ තමාගෙන් වෙන් කොට දක්වීමමයි විඤ්ඤාණයේ පරම කෘත්‍යය. ඒ මාර්ගයෙන් තමා කැපී පේන්න ගන්නවා. ඒ නිසා විඤ්ඤාණයට කවදාකවත් විඤ්ඤාණය හඳුනාගන්න බැහැ. ඉතින් ඉතාමත්ම තදබල රහසක් විඤ්ඤාණයේ තියෙන්නේ.

ඒ කියන්නේ චක්ඛුවිඤ්ඤාණය බවට පත් වෙන්න ඉස්සෙල්ලා විඤ්ඤාණයක් තියෙනව නෙ, පණක් තියෙනව නෙ. ආන්න ඒ තියෙන විඤ්ඤාණයට රූපයක් හෝ ශබ්දයක් හෝ ගන්ධයක් හෝ රසයක් හෝ ස්පර්ශයක් හෝ ධර්මතාවක් ඇවිල්ලා වදින්නේ නැතුව එයා ඉන්න බව දැනගන්න බැහැ. වෙන විදියකට කියනව නම්, විඤ්ඤාණයට විඤ්ඤාණය ආහාර වෙන්නේ නැහැ, විඤ්ඤාණයට විඤ්ඤාණය ගොදුරු වෙන්නේ නැහැ. ඒක තියෙන බවට, කුපිත බවට, ප්‍රකාශ බවට, වැඩ කරන බවට පත් වෙන්න නම් පිටින් එකක් එන්න ඕනැ. ආපු ගමන්ම විඤ්ඤාණය කරන්නේ මෙන්න අහවලා කියල ඒක වෙන් කොට හඳුන්වාදෙන ගමන් හඳුන්වා දෙන්නා වූ තමනුත් ඒ මාර්ගයේම කැපී පෙනෙනවා. ඒ නිසා

විඤ්ඤාණය හඳුනාගැනීම සඳහා අනිවාර්යයෙන්ම නාමරූප කොටසකට හිත යෙදිය යුතුමයි.

තවත් මෙතන වීජ ගණිතමය සමීකරණයක් වගේ තවත් සමීකරණයක් පෙන්වල දෙන්න පුළුවන්. සතිපට්ඨාන සූත්‍රයේ සමුදය කොටසේ පෙන්වන්නේ **චක්ඛු**, **රූප**, **චක්ඛු විඤ්ඤාණ**, **චක්ඛු සම්ඵස්සජ වෙදනා** ආදී වශයෙන් චක්ෂුසයෙන් විස්තර කරගෙන එන නිසා ඒ ආයතනයේ වෙන කටයුත්තක් ගත්තොත්, ඇහැට නිශ්ශබ්දව පවතින මේ විඤ්ඤාණ ශ්‍රෝතයට රූපයක් මතු වෙනවා. නැත්නම් රූපයක් ඇහැට ආපාතගත වෙනවා. ඇහැ මුල් කරගෙන විඤ්ඤාණය ඇහේ උපදිනවා. එතකොට ඔන්න රූපෙ පේනවා. මේ පේන රූපය, මේ ගෝචර වෙන්නා වූ ආරම්මණ වෙන්නා වූ විෂය වෙන්නා වූ වස්තුව කවමදකවත් එක චිත්තක්ෂණයකදී සම්පූර්ණයෙන් දැනගන්න බැහැ, ඒකෙ එක පැතිකඩයි දකින්නේ. දෙවැනි වතාවට බලනකොට ඒ පැතිකඩ නොවෙන්නත් පුළුවන්, වෙන්නත් පුළුවන්. කීපවතාවක් බැලීමෙන් තමයි ඒ තමන් බලන දේ සාකල්‍යයෙන්ම සකල වශයෙන් දැනගන්න පුළුවන් වෙන්නෙ.

ඒක නිසා එක චිත්තක්ෂණයකදී කවමදකවත් බැහැ, විඤ්ඤාණයට තමන් ඉදිරිපිට තියෙන දේ සම්පූර්ණයෙන් දැනගන්න. විඤ්ඤාණයෙන් කරන්නේ අර්ධ කෘත්‍යයක්. ඒ නිසා ඒ අරමුණ මතු කරගෙන චිත්තක්ෂණ රාශියක් අනිවාර්යයෙන්ම පෙළට යන්ඩ ඕනැ. එනකොට තමයි ඒ අරමුණේ සර්වඥ දේශනාවේ පවසන විදියට එකොළොස් ආකාරය දැකගන්න පුළුවන් වෙන්නෙ. පළවෙනි වතාවට - ඒ විඤ්ඤාණය කෘත්‍යය කරන චිත්තක්ෂණයේ මොකක් හරි එක පැතිකඩක් පෙන්වනවා. ඒ පැතිකඩ, යන්ඩ යන්ඩ යන්ඩ ටිකෙන් ටික ටිකෙන් ටික වැඩි කරමින් තමයි අපි ඒ පුද්ගලයා, ඒ සතා, ඒ සිද්ධිය, ඒ දේ හඳුනගන්නේ. ඒ නිසා බොහෝ වතාවක් ඒක දිහා බලන්න ඕනැ. මේ බොහෝ වතාවක් කෙරීම තුළ පැරණි සංඥ පුදුමාකාරව ඒ වස්තුව කෙලෙසනවා. දක්කා කියලා හිතනවා. දකින වෙලාවෙදි ඇහුවයි කියලත් හිතනවා. බැලුවයි කියලත් හිතනවා, ගඳ බැලුවයි කියලත් හිතනවා, රස බැලුවයි කියලත් හිතනවා. මේ නිසා විඤ්ඤාණය ක්‍රියාත්මක වෙනකොට, නැත්නම් විඤ්ඤාණයේ සම්පූර්ණ ක්‍රියාව වෙනකොට අපේ හිතේ තිබෙන

සංඥා රාශි වශයෙන් මේකට ගලනවා. ඒ ගැලීම නිසා අපි දැක්කයි කියල හිතෙන දේ මිසක්කා, ඇත්ත දකින්න නම් බොහොම කල් යනවා.

පෘථග්ජන ලෝකයේ නම් මේක කවමදකවත් වෙන්නේ නැහැයි කියල කියනවා. දකින දේ දකින්නේ නැහැ, දැක්කයි කියලා හිතනවා. ඒක නිසා විඤ්ඤාණයේ තියෙන තමන්ට තනියම හිටගන්න බැරි ගතියත් විඤ්ඤාණයේ එක චිත්තක්ෂණයක කවමදකවත් අරමුණ සාකල්‍යයෙන් දැකගන්න බැරි ගතියත් නිසා විඤ්ඤාණය හැම වෙලාවෙම අඩුපාඩු සම්පූර්ණ කරල දෙන්න, සංස්කරණය කරන්න, ආරම්මණ අනුසයක් ඇති කරගන්නවා. ඒ ආරම්මණයේ කොනක් ඇති කරගන්නවා, කොනක් අඩුපාඩුවක් තියෙනවා, නැත්නම් වැඩිපාඩුවක් තියෙනවා. ඒ නිසා කවදකවත් ඇත්ත ඇති හැටියෙන් දකින්න බැහැ. ඒ නිසා බොහෝ වතාවක් අරමුණ දැකීම මේ ඇත්ත ඇති හැටියේ දැකගැනීමට අත්‍යවශ්‍ය කාරණාවක්.

ආනාපානයට අපි හිත යොදනවා නම්, කවමදකවත් පළවෙනි දකින ආනාපානයෙන් අපට ආනාපානය දැකගන්න බැහැ. ආනාපානය ගත්තම අපි මේ කථා කරන්නේ චක්ඛු විඤ්ඤාණය නොවෙයි කියල හඳුන්වාදීමක් කරන්න අවශ්‍ය වෙන්නේ නැහැ. එතකොට සිද්ධ වෙන්නෙ කාය විඤ්ඤාණය මාර්ගයෙන්. එතකොට ඇති වෙන්නා වූ ඒ ස්පර්ශය වෙලාවක දකින්න පුළුවන්. වෙලාවක ඉහළ පහළ යන හුස්ම රැල්ල දකින්න පුළුවන්. සමහර වෙලාවට ඒ ස්පර්ශය නිසා ඇති වෙන්නා වූ උණුසුම් සිසිල් ගති, තද ගොරෝසු ගති, මැදෙන පිරිමැදෙන ගති දැනෙන්න පුළුවන්. ඒකෙන් අපිට කොහොමටක්වත් විනිශ්චය කරන්න බැහැ අපි ආනාපානය දැක්කයි කියල, ආනාපානය දන්නවායි කියල, ආනාපානය විඤ්ඤතයි කියලා.

ඒ නිසා ආනාපානය බොහෝ වාරයක් නැවත නැවත කරනවා. පිම්බීම, හැකිළීම ගත්ත නම් පිම්බීම හැකිළීම බොහෝ වාරයක් කරනවා. කරනකොට කරනකොට කරනකොට අපි ඉස්සෙල්ලාම හැපෙන තැන දකිනවා. එහෙම නැත්නම් හැපීමේ ස්වභාවය දකිනවා ආදී වශයෙන් එන්ඩ එන්ඩ එන්ඩ එන්ඩ එන්ඩ ඒ දන්නා කාරණාවට තව තවත් කරුණු ප්‍රත්‍යක්ෂ වශයෙන්ම ඇස්පනාපිටම දකිමින් දකිමින් දකිමින් යනකොට

තමයි හිතාගන්න පුළුවන් වෙන්නේ යමක් පිළිබඳව යථාභූතයක් ඇති හැටියෙන් දකින්න නම් අවස්ථා කීපයක්, චිත්තක්ෂණ රාශියක් එක එල්ලෙම එහි වැටී තියෙන්න ඕනෑ. ඒ අතරමැද මොනම හෝ සිතුවිල්ලක් ආවොත් ඒකෙන් වෙන්නේ, නැති දෙයක් ඇති බවට දක්කා සේ හිතාගැනීම.

ඒ නිසා මේ චිත්තක්ෂණ රාශියේ කල්පනාවල් තියෙන්න බෑ, ප්‍රත්‍යක්ෂයම විය යුතුයි. ප්‍රත්‍යක්ෂය උනත් මෙච්චර චිත්තක්ෂණ ප්‍රදේශයකින් දැකල ඉවර වෙනවයි කියල කියන්න බැහැ. එකක් තමයි ඒ අතරමැදට හිතිවිලි වැටිලා, එහෙම නැත්නම් චින්තාමය ඥාන වැටිලා මේක කෙලසන ගතිය. දෙක තමයි අපි ඕක දැක්කා, අපි දන්නවා ඔයා හතුරාමයි කියල, ප්‍රත්‍යක්ෂය, අපේ කලින් තිබුණු සංඥාවලින් නිතරෝම මුවහ කරනවා. හතුරෙක් දැක්ක නම් ඉතින් අපි දකිනකොටම, යාන්තන් ඒකෙ සුද දකිනකොටම අපි විනිශ්චය කරල ඉවරයි මෙයාගෙන් කවදාකවත් මිතුරු කමක් බලාපොරොත්තු වෙන්න බැහැ, මෙයා හතුරැමයි. නැත්නම් මනාප විෂභාග රූපයක් දැක්ක නම් ඒක පිළිබඳව මනාපය මොනම තාලෙකින් අසුභ මෙනෙහි කෙරුවත් මොනම තාලෙකින් කලින් සූදනම් වෙලා හිටියත් බේරාගන්න බැරි තරමටම ඒකට ඇලෙන ගතිය ඇති වෙනවා.

මෙන්න මේ කරුණු දෙක නිසා, විශේෂයෙන්ම ඇලුම් බැඳුම් සහිත රූපයක් දකිනකොට අහනකොට ස්පර්ශ කරනකොට එහි පරණ මත් ගතිය, පරණ පුරුදු ඇබ්බැහිය බොහෝ විට ක්‍රියාත්මක වෙනවා. මේ බව දන්නව නම් - ඒක තමයි මේ වගේ ධර්ම දේශනාවකදී බලාපොරොත්තු වෙන්නේ - කවදාකවත් විනිශ්චයකට පත් වෙන්නෙ නැහැ. දැනගන්නවා තව නිරීක්ෂණය කළ යුතුයි. තව මූලික ශක්‍යතා වාර්තා සකස් කරන්න ඉස්සෙල්ලා තොරතුරු හොඳට හදාරන්න ඕනෑ, නැවත නැවත බලන්න ඕනෑ. නැවත නැවත එකම බලන්න ඕනෑ, අලුත් කර කර බලන්න ඕනෑ. මෙන්න මේකයි යෝගාවචර ජීවිතයේ මූලිකවම දකින්න තියෙන තේමාව. ඒකයි අපි මේ බොහෝ කොට හෝ වේවා සුළු කොට හෝ වේවා අපේ ඥාතීන් අතඅරින්නෙ. මොකද ඒවට අවධානය දෙමින් මේ වගේ එක කටයුත්තක් කරන්න අමාරුයි. රාග ද්වේෂ මෝහවලින්, තණ්හා මාන දිට්ඨිවලින් තොරව මෙහෙම එල්ලයට යන්න

අමාරුයි. එහෙම නැත්නම් බොහෝ කොට හෝ වේවා සුළු කොට හෝ වේවා වස්තුව අත අරින්නේ මේ එකම අරමුණේ බොහෝ වේලාවක් තිබ්බත් ඒ තුළ තාමත් කෙලසීම් ඇති වෙන්න ඉඩ තියෙනවා, කෙලෙස් වැඩ කරන්න පුළුවන්. සිතිවිලි රිංගන්න පුළුවන්, අපේ මතිමතාන්තර රිංගන්න පුළුවන්. ඒක නිසා එයින් තොරව අරමුණේ ඇති හැටිය දකින්න නම් විඤ්ඤාණය මේකයි, විඤ්ඤාණයෙන් කරන ඇහැත් රූපයත් වෙන් කොට දැනගැනීම මෙහෙමයි, ඒ කටයුත්ත මාර්ගයෙන් විඤ්ඤාණය තමන්ගේ කැපී පේන බව ඇති කරගන්නා හැටි මෙහෙමයි කියන්න බොහෝ විට ඒ කෘත්‍යයට හිත නැවත නැවත යොදන්න ඕනැ.

මේක නිසා **ආසෙවති භාවෙති බහුලීකරොති** - ආසේවන ශක්තිය බුක්තිය තියෙන්න ඕනැ. ඊගාවට එක වතාවක් මෙහෙම වෙන්න ඇති කියල විශ්වාසය ඇති වෙන්න ඕනැ. ඒ විශ්වාසය ඇති වුණත් බහුලීකරණය කරන්ඩ ඕනැ. ඒක නැවත නැවතත් දසදහස්වර පේන්න අරින්න ඕනැ, ඒකට ගොඩාක් ඉවසීමේ ශක්තිය ඕනැ. ඒකයි **ඛන්තීපරමං තපො තිතික්ඛා** කියල කියන්නේ. ඒ අවසාන විනිශ්චයකට, අවසාන තැනට යන්න මේ සිදු වෙච්ච දේ ඇති කියල හිතාගත්ත නම්, දන්නවයි කියල හිතාගත්ත නම්, ඒ බවම ඒකෙ නොදන්නාකමට හේතුවක්. ඇති කියල හිතුවා නම් නුරුස්සනා ගතියට, නැත්නම් ප්‍රමාදයට ප්‍රධාන ලක්ෂණයක්. දැකපු දේම නැවත නැවත දැකීමෙන් තමයි විඤ්ඤාණය අනුන් මාර්ගයෙන් පිට කසාගන්න හැටිත් පෙනෙන්නේ. විඤ්ඤාණයට කවමකවදාකවත් එක චිත්තක්ෂණයක වස්තුව සම්පූර්ණයෙන් පරිග්‍රහ කරන්න බැහැ. ඒ නිසා නැවත නැවත විඤ්ඤාණය ඒ වස්තු මතම වැටීමත් සාමාන්‍යයෙන් සිදු වන දෙයක්. ඒ වාගේම භාවනා ගුරුවරු යෝගාවචරයාගෙන් ඉල්ලන දෙයක්.

භාවනා ජීවිතය තුනට කඩනවා. එදිනෙදා ජීවිතයේ වැඩ, සක්මන, පර්යංකය කියල. මේ වගේ ගැඹුරු ධර්ම අවබෝධයට බොහෝ විට හොඳ ඉරියව්ව වෙන්නෙ පර්යංකය. මොකද, හොඳ සමාධියක් තියෙනවා. ඒ සමාධිය තියෙනකොට අරමුණ - භාවනා අරමුණ - අනෙකුත් කිසිම අරමුණක් නැති හැම වෙලාවෙදීම මතු වෙන ස්වාභාවික අරමුණක්. ඒකටම නැවත නැවත හිත යොදනකොට දක්ක ආශ්වාසය නැවත අතහරිනවා. නැවත අතහරිනවා. නැවත අතහරිනවා. දක්ක ප්‍රශ්වාසය

නැවත අතහරිනවා, නැවත අතහරිනවා, නැවත අතහරිනවා. පිම්බීම නැවත අතහරිනවා. හැකිළීම නැවත අතහරිනවා. මේ විදියට පිම්බීම හැකිළීම දිගට බලාගන ඉන්නකොට බලාගන ඉන්නකොට දිගින් දිගට දිගින් දිගට ඒ මතුමත්තේ ඊයේ දැකපු දේවල්වලට අලුතෙන් තොරතුරු එකතු වෙමින් දිගට යනවා. ඒ නිසා ඒ වගේ භාවනා කරන චිත්තක්ෂණයක කාය ප්‍රසාදය, අපි ආනාපානය ගන්නව නම් නාසිකාග්‍රය හෝ තොල උඩ කියල කියනවා, ඒ වාගේම පිම්බීම හැකිළීම කරනවා නම් උදරය කියල කියනවා. ආන්න ඒකෙන් අපි එතන කාය ප්‍රසාදය හඳුන්වල දෙනවා.

ඊට පස්සේ ආනාපානයට නම් ඒ ආශ්වාස ප්‍රශ්වාස වාත ධාරාව උදව් උපකාර වෙනවා, පිම්බීම හැකිළීමට නම් පෙනහලු පිම්බීම නිසා උදරච්ඡදයේ සිදු වෙන කම්පන චංචල හේතු වෙනවා. මේ දෙක එකට ගැටීම නිසා කාය විඤ්ඤාණය පහළ වෙනවා. ඒ කියන්නේ ඇහැ වහල දනවා, කන වහල දනවා, නාසය වහල දනවා, දිව වහල දනවා. හිත, නැත්නම් විඤ්ඤාණය කයේ ප්‍රකාශය බවට පත් වෙනවා. එතකොටම ඒ විඤ්ඤාණය හඳුන්වල දෙනවා, මෙන්න අතන හැපීමට හේතු වෙන්නා වූ ආරම්මණය වන්නා වූ වාත ධාරාව, මෙන්න ඒ හැපීම බාරගන්නා වූ කාය ප්‍රසාදය, මේන්න ඒ දෙක නිසා පහළ වෙච්ච මම, නැත්නම් විඤ්ඤාණය. එතකොට ආරම්මණ, ද්වාර, තදුපපන්න කියල පිළිගන්නා වූ ද්වාරය වන කාය ප්‍රසාදයත් විඤ්ඤාණය මතු වීමත් එක්කම දැකගැනීමේ අවස්ථාව ලැබෙනවා. ඊගාවට ඒකටම, ක්‍රියාවටම උපකාර කරන්නා වූ නිතර ඇතුළු වෙන පිට වෙන වාත ධාරාව ඒ ආරම්මණය වශයෙන් පේනවා. එතකොට විඤ්ඤාණයක් තියෙන්න ඕනැ. මෙන්න මේ තුන චිත්තක්ෂණ වශයෙන් එක දිගට යනව නම්, කාය ප්‍රසාදයේම උදරයේ පිම්බීම හැකිළීම සිදු වෙන බව දන්නවා. නාසිකාග්‍රයේ ආශ්වාස ප්‍රශ්වාසයේ හැපීම දන්නවා. ඒ දැනීමම තමයි විඤ්ඤාණය කියන්නේ.

මේක චිත්තක්ෂණ වශයෙන් එකට යන එකටයි දැනගන්න පුළුවන් අවස්ථාව වශයෙන් ස්පර්ශය කියල කියන්නෙ. **තිණ්ණං සඞ්ගති ඵස්සො.** කාය ප්‍රසාදයත් ඒකට ඇවිල්ල වදින වාත ධාරාවත් ඒ බව දැනගන්නා වූ විඤ්ඤාණයත් කියන මේ තුන එකට එකතු වෙන මොහොතේ එකට වදින මොහොත කියල කියනවා. ස්පර්ශය පහළ වෙනවා. නමුත් මෙවැනි

ස්පර්ශයක් එක චිත්තක්ෂණයක පහළ වෙලා ගියාට කවදාකවත් අපට මතක හිටින්නේ නැහැ. මොකද ඒවා කෙළකෝටි ලක්ෂවාරයක් සිදු වෙනවා. භාවනාවෙදි අපි කරන්නෙ ඒ ස්පර්ශය නැවත නැවතත් නැවත නැවතත් කරනකොට, යෝගාවචරයා එහිම හිත පවත්වාගෙන යනකොට තමන්ට වැටහෙනව නම්, මේ මගේ හිත දැන් චිත්තක්ෂණ කිහිපයෙම තිබුණෙ මේ කාය ප්‍රසාදයේමයි. ඒ සඳහා දිගටෝම ආශ්වාස ප්‍රශ්වාස රැල්ල පිරිමදිමින් තිබුණා. ඒක මම දනිමින් හිටියා කියනව නම් ඒකෙන් හිතාගන්න ඕනැ මේ තුනේ සංගතියක්, තුනේ එකතු වීමක් මේ චිත්තක්ෂණ පුරාම තිබිල තියෙනවා. පිම්බීම හැකිළීම දිගට, චිත්තක්ෂණ රාශියක් එක දිගට යනව නම්, ඒ ස්පර්ශය සිද්ධ වෙනවා. තනි චිත්තක්ෂණයෙත් ස්පර්ශය සිද්ධ වෙනවා. නමුත් යෝගාවචරයාට ප්‍රකට වෙන්න නම් ඒ අරමුණේම බොහෝ වේලාවක් බහුලීකත වෙන්න ඕනැ. භාවනා වෙන්න ඕනැ. එතකොට ඔන්න ස්පර්ශය කියන සංසිද්ධිය සිද්ධ වෙනවා. මේකත් විඤ්ඤාණය වගේම දෙයක්. කවදාකවත් යෝගාවචරයා හිතල කරන, චේතනා පූර්වකව පහළ වෙන දෙයක් නොවෙයි. ඒක සිදු වෙන්නේ ප්‍රකටතාව අනුවයි.

මොකක්ද ප්‍රකටතාව කියල කියන්නේ? චක්ඛු ප්‍රසාදය රූප බලන්න නිතරෝම තමන්ගේ දිහාවට අවධානය ලබාගන්න උදේ ඉඳලා හැන්දෑ වෙනකල්ම දැඩි වෙහෙසකින් මහන්සි වෙනවා. කන විවිධාකාර ශබ්ද විෂයෙහි තමන්ගේ දිහාවට විඤ්ඤාණයේ අවධානය යොමු කරවගන්න අර විදියට සංවේදී වෙනවා. නාසය ගඳ සුවඳ විෂයෙහි සංවේදනය ඇති කරගෙන විඤ්ඤාණයේ අවධානය උදුරාගන්න නිතරෝම බලා ඉන්නවා. දිව රස විෂයෙහි විඤ්ඤාණය ලබාගන්න උත්සාහ කරනවා. කය ස්පර්ශ විෂයෙහි විඤ්ඤාණය ලබාගන්න උත්සාහ කරනවා. මනස වෙනමම ධර්මතා විෂයෙහි විඤ්ඤාණය ලබාගන්න උත්සාහ කරනවා. ඒ නිසා විඤ්ඤාණය ඉන්නේ, අපි ගිය පාර කිව්වා වගේ කා හටත් අවශ්‍ය කරන, හයදෙනෙක් වූ විධායක නිලධාරීන්ට ඉතාමත්ම මනමෝහනීය විධියට සේවය කරන්න පෙළඹිච්ච ලස්සන සුකුමාල පෞද්ගලික ලේකම්වරියක් හැටියට.

ඉතින් මේ ඇහැ හොඳ හොඳ රූප දකිමින් තමන්ගේ දිහාවට විඤ්ඤාණයෙන් බලන්න, මගේ එක විතරයි, විශාලයි ප්‍රසිද්ධයි, ප්‍රකටයි

උත්කෘෂ්ටයි කියල, වහාම බැලිය යුතුයි කියල විඤ්ඤාණයේ අවධානය ඉල්ලනවා. ඒ වගේම කනත් විඤ්ඤාණයේ අවධානය ඉල්ලනවා, මගේ දිහාට එන්න. මේ ඇසෙන ශබ්දය ඉතාම වැදගත්. තීරණාත්මකයි. ඊගාවට නාසය කියනවා, දිව කියනවා, කය කියනවා, මන කියනවා. මෙන්න මේ නිසා ප්‍රකට දේ තමයි ස්පර්ශය ඇති කරවන්නේ. විඤ්ඤාණය පහළ කරවන්නේ. ඒක නිසා විපස්සනාවෙ ප්‍රධාන මූලික ආප්ත පදයක් තියෙනවා, **යථාපාකටං විපස්සනාභිනිවෙසො** - යමක් ප්‍රකටද එතැනින් විපස්සනාවට බැසගන්නවා.

ඔය මොනම මූලධර්මයක්වත් විස්තර කරන්න බැහැ. මොකක්ද කරන්න තියෙන්නේ? සම්පූර්ණයෙන් මේ කය තැන්පත් කරගෙන හොඳට මේ කයේ තියෙන ඉරියව්ව දිහා බලල එයට නිසි තින්දේ ඉන්න ඇරල, මොකක්ද මේ වෙලාවෙ ප්‍රකට කියල බලන්න ඕනැ. ඇහැට රූප පේන්නේ නැති වුණාට මනසට රූප පේන්න ඉඩ තියෙනවා. නිශ්ශබ්ද තැනක වුණත් වරින් වර ශබ්දත් ඇති වෙන්න පුළුවන්. ශබ්ද ඇහෙනව වගේ දැනෙනව වෙන්නත් ඉඩ තියෙනවා. නාසයට දිවට කයට හිතට කොච්චරදෝ අරමුණු එනවා. මොකක් හෝ ප්‍රසිද්ධ අරමුණක් තියෙනව නම් ඒ තාක් මූල කර්මස්ථානයට යන්න බැහැ. යන්න වෙන්නෙ නැහැ. ඒ පේන අරමුණ ගැන දැනගන්න ඕනැ මෙන්න මෙතනයි දැන් විඤ්ඤාණය පහළ වෙලා තියෙන්නේ. මේ තුන - විඤ්ඤාණයත් ඒ ආරම්මණයත් ද්වාරයත් - දිගටම යනව නම් එතන ස්පර්ශයක් සිද්ධ වෙනවා. එය දැනගැනීමේ හැකියාවක් නම් අපට තියෙනවා. මොකද විඤ්ඤාණය ඒ කෘත්‍යය කරනවා, නමුත් එයට අපට වග කියන්න බැහැ. ඇයි මේ වෙලාවෙ කන පැත්තකට දල ඇහැට හිත යන්නේ? එහෙම නැත්නම් ඇහැ නාසය දිව ශරීරය පැත්තකට දල කනට හිත යන්නේ? ඒක අපට කරන්න බැහැ. ඒක ආපු ජන්මය තමයි, ආපු සහජාසය තමයි නැත්නම් ඒ ප්‍රබලතාව අනුව තමයි. නමුත් ඒක දැනගැනීමේ හැකියාවක් අපට තියෙනවා.

ඒ නිසා භාවනාවට සූදානම් වෙනකොට රූප අධික නැති තැනකට යන්නයි කියල කියනවා, **අරඤ්ඤගතොවා, රුක්ඛමූලගතොවා, සුඤ්ඤාගාරගතොවා** - ඒ වගේ නිශ්ශබ්ද තැනකට යන්නයි කියල කියනවා. නාසයෙන් දිවෙන් වැඩ නොගන්න තැනකට ගිහිල්ල ඊගාවට

ඇස් දෙක වහගෙන තමයි අපි මූල කර්මස්ථානයට යම් ප්‍රස්තාවක් ලබල දෙන්නේ. ඒ ලබල දුන්නට පස්සේ යම් තාක් රූපවලින් ශබ්දවලින් ගඳෙන් රසෙන් බාධාවක් නැති තාක් කල් අපි මූල කර්මස්ථානයම දිගින් දිගට දිගින් දිගට පහළ වීම සඳහා සුදුසු වාතාවරණයක් ලබා දෙන තැන තමයි භාවනා මධ්‍යස්ථානය කියල කියන්නේ. ආරණ්‍ය, රුක්ඛමූල, සේනාසන කියල කියන්නේ ඕකටමයි. ආන්න එතනට ගියාට පස්සේ වුණත් යෝගාවචරයාට කොහොමටක්වත් කියන්න බැහැ මෙහිම හිත හිටිය යුතුයි, හිටිනවා, හිටීවි යි කියල. හිතේ තියෙනවා යුහුසුලු භාවයක්. ඒ නිසා අපට එතන තියෙන මූලධර්මය පමණක් තේරුම්ගන්න මේක අවස්ථාව කරගන්න පුළුවන්. මොකක්ද? ප්‍රකට දේට හිත අදිනවා. ඒ නිසා මම මේ වෙලාවෙ උදරයේ හිත තියාගෙන ඉන්න හිතුවා. නැත්නම් ආනාපානය කරන කෙනෙක් නාසිකාග්‍රයේ සිත පිහිටුවාගෙන හිටියත් ශබ්දයකට හිත ඇද්ද. ආන්න එතකොට දන්නවා ඒ ශබ්දය මත විඤ්ඤාණය පහළ වෙලා තියෙනවා චිත්තක්ෂණ කිහිපයක්ම. ඒ කනෙයි හිත තියෙන්නේ. ශබ්දයයි හිත උදුරාගත්තේ. ආයිත් දැනගන්න පුළුවන්. එතකොට ස්පර්ශය දැනගන්න අනුමාන කරගන්න තියෙන සාක්ෂි ටික ඔච්චරයි.

සර්වඥයන් වහන්සේ දේශනා කරනවා මේ ස්පර්ශය තණ්හාව උපදින තැනක්. තණ්හාව ලැගගන්න තැනක්. තණ්හාවට ආරක්ෂාව සලසන තැනක්. ඒ නිසා අපි මේකට වග නොකිව්වට මේ ගැන නොසලකා, නොදැන, අයාලේ යන්න දුන්නොත් තෘෂ්ණාවේ නතර වීමක් තියනවා. **යථාපි මූලෙ අනුපද්දවෙ දළ්හෙ, ඡින්නොපි රුක්ඛො පුනරෙව රූහති** - ස්පර්ශය තියෙන තැන තණ්හාව ඇති වෙන්න පුළුවන්. ස්පර්ශය තණ්හාවට ආරක්ෂාව සලසනවා, ලැගුම්පලක් සලසා දෙනවා කියල දන්නේ නැත්නම්, අහිංසකව අපි කිව්වට අපි ස්පර්ශය ඇති කෙරුවෙත් නැහැ, මගේ වුණාම නෙවෙයි ඔය ස්පර්ශය පහළ වීම නිසා මේ ඇති වෙන තණ්හාවට මට වග කියන්න බැහැ කියල බේරෙන්න බැහැ. ගහ කැපුවට හරියන්නේ නැහැ. මුල හොඳට ශක්තිමත්ව තියෙනවා නම් ඒ තාක් කල් දලු දනවා.

ඒ නිසා අද ලංකාවෙ පවතින ත්‍රස්තවාදී කරදර ඇවිල්ලා අවස්ථාව තියෙනකොට රජයෙන් අපට කියල තියෙනවා ත්‍රස්තවාදීන්ට

උදව් නොකළත් තමන්ගේ ගෙදරට කිසිම නොදන්නා අමුත්තෙකුට එන්න දෙන්න එපා යි කියල. ආව නම් අමුත්තා පිළිබඳ දැනගන්න ඕනැ. නැත්නම් අමුත්තන්ට නේවාසික පහසුකම් දීපු තැනැත්තා වැරැද්දක් කළා වෙනවා. මේ ත්‍රස්තවාදියෝ, නැත්නම් නරක වැඩ කරන අය, කියාගෙන නෙවෙයි එන්නේ. මිත්‍ර ස්වරූපයෙන් ඥාති ස්වරූපයෙන් එනවා. හැම වෙලාවෙම රජයේ නිලධාරියෙක් නැහැ. ඒ නිසා සෑම පුරවැසියෙක්ම දැනගන්න ඕනෑ තමන් නොදන්න කෙනෙකුට කිසි සේත්ම ලැගුම්පොළවල් දෙන්න එපා. දෙනව නම් ඒ පුද්ගලයා පිළිබඳව වග කියන්න ඕනැ. ඒ පුද්ගලයා පිළිබඳව අනන්‍යතාව පරීක්ෂා කරන්න ඕනැ. එහෙම නැත්නම් මේ රටේ සිවිල් නීතිය රකින්න බැහැ. ඒ වගේ තත්ත්ව හදිසි නීතිය යටතේ ක්‍රියාත්මකයි. මේව දන්නෙ නැහැ කියල බැහැ.

ආන්න ඒ වගේ තමයි මේ ස්පර්ශය සිදු වෙන මොහොත දැනගැනීමේ හැකියාව දක්ෂ යෝගාවචරයාට තියෙනවා. මගේ හිත දැන් තියෙන්නේ කනේ, නාසයේ, දිවේ, ශරීරයේ, හිතේ ආදී වශයෙන් දැනගන්න පුළුවන්කම තියෙනවා. ඇහැ තියනවා. ඇහැට රූපයක් ආපාතගත වුණා. ඇහේ හිත උපන්නා. මේ තුන එකට ගමන් කරන තාක් කල් එතන ස්පර්ශය තියෙනවා. මේ ස්පර්ශය තාක් තාමත් කෙලෙස් පහළ වෙලා නැහැ. නමුත් පහළ වීමේ හැකියාව තියෙනවා. තෘෂ්ණාව පවා මෙතන ලැගගන්න ඉඩ තියෙනවා. කෙලෙස් පහළ වීම සාමාන්‍යයෙන් සිදු වන්නේ මින් මත්තට සිදු වෙන්නා වූ චක්ඛු සම්ඵස්සජ වේදනා ආදිය මත. මෙතන තාම කෙලෙස් පහළ වෙලා නැහැ. මේ වෙනකොට ඇහැට රූප වැදිලා, චක්ඛුවිඤ්ඤාණයත් පහළ වෙලා, ස්පර්ශයත් පහළ වෙලා. තාම කෙලෙස් පහළ වෙලා නැහැ.

අපි කලින් ඉගෙනගත්තා නොදැක්ක විරූ, නොබලන, මත්තට බලන්න වෙන්නෙ නැති රූපයක් මත කවදාකවත් කෙලෙස් පහළ වෙන්නෙ නැහැ. දැන් ඇහැට රූපයක් මතු වෙලා ස්පර්ශය මට්ටමට ඇවිල්ලත් තියෙනවා. තාම මේකෙ කෙලෙස් පහළ වෙලා නැහැ. ආරම්මණ අනුසයක් ඇති වෙලා නැහැ. මෙතන තියෙනවා බොහෝම පුන්චි පැල ඉරක්. මෙතන තියෙනවා පුංචි ලේශයක් පැනල යන්න, මාරයාගේ දස මාර සේනා ක්‍රියාත්මක නොවෙන. එහෙම නම් රූප නොපෙනී හිටියට කෙලෙස් පහළ වෙන්නෙත් නැහැ. අන්ධයෙක් හෝ

එහෙම එකක් වෙන්නෙත් නැහැ. ඒ වාගේම රූපයක් පහළ වුණත් මෙන්න මේ මට්ටමේ, මෙතන ගිමන් හැරීමක් තියෙනවා. පුරුකක් තියෙනවා. අන්න මේ පුරුකේ නතර වෙනව නම් යම් හෙයකින් කෙලෙස් තිබුණා නම් ඒවත් ගෙවෙනවා.

චක්ඛු ප්‍රසාදයත් තියනවා. ඇහැට රූපයක් අරමුණුත් වෙලා තියෙනවා. දකින හිතත් පහළ වෙලා තියෙනවා. මේවා එකටත් ගමන් කරනවා. සාමාන්‍ය ව්‍යවහාරයෙන් කියනව නම්, ඒ රූපෙම දකිමින් ඒ ඇහැ දකින හිත දිගටම ගමන් කරනවා. නමුත් තාම කෙලෙසිලා නැහැ. මෙන්න මෙහෙම තත්ත්වයක් සර්වඥයන් වහන්සේ හොඳට මේ චිත්තවීථියේ දක්කා. ඒක නිසා බාහිය දරුචීරිය, මාලුඞ්ක්‍යපුත්ත වගේ බොහොම සූක්ෂ්ම ධර්ම දේශනා කරපු තැන්වල සර්වඥයන් වහන්සේ දේශනා කළා මෙහෙම -මාලුඞ්ක්‍යපුත්ත සූත්‍රයේ **දිට්ඨසුතමුතවිඤ්ඤාතබ්බෙසු ධම්මෙසු දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** මේ ශරීරය පංචුපාදානස්කන්ධ වශයෙන් තෘෂ්ණාව ඇති කරන්න, දුක ඇති කරන්න හේතු වෙනකොට දොරවල් හතරකට මෙතන කඩල පෙන්වනවා. දැකීම් මාර්ගයෙන් වෙනවා, ඇහීම් මාර්ගයෙන් වෙනවා, දැනීම් මාර්ගයෙන් වෙනවා, විඤ්ඤාණය කියන දැනගැනීම මාර්ගයෙන් වෙනවා. අපි සාමාන්‍යයෙන් කියන්නේ අහනවා. දකිනවා. ගඳ ලබනවා. රස ලබනවා. පහස ලබනවා. දැනගන්නවා. එතන ගඳ, රස, පහස කියන තුනම මුත කියන හුදු දැනීම් මාත්‍රයට කොටු කරල තියෙනවා. එතකොට දකිනවා. අහනවා. දැනෙනවා. දැනගන්නවා. ආන්න ඔය හතරෙන් තමයි කෙලෙස් පහළ වෙන්නේ. නමුත් දිට්ඨය, මේ දැකීම **දිට්ඨමත්තං භවිස්සති** - හුදු දැකීම මාත්‍රය පමණමයි.

මේ මතුමත්තේ කෙලෙස් ඉපිදවීම පුරුද්දට ඇබ්බැහියට සහජාසයට ආසව අනුසය මගින් සිදු වෙනවා. ඒක හරියට පරණ පැහිච්ච මත් ද්‍රව්‍ය තිබුණු කළයකට අලුතෙන් තෙලිජ්ජ වක්කරපුවහම අර පැහෙන ගතිය ඉබේම මුට්ටියෙන් ලබා දෙනව. කොච්චර පිරිසිදුව තෙලිජ්ජ වක්කළත් වැක්කෙරෙන වැක්කෙරෙන දේ පැහීම ඇති කරනවා. ඒකෙන් බීජ කරගන්නවා. ඒ වගේ තමයි අපේ ශරීරයේ, අපේ සන්තානයේ රූපයක් දකිනකොට ඇහැ ක්‍රියාත්මක වෙලා ඇහේ හිත පහළ වෙන මට්ටමට ආවට පස්සේ ඉබේම මේක හොඳ එකක්, මේක නරක එකක්,

මේක විය යුත්තක්, මේක නොවිය යුත්තක්, මේක මංගලයි, මේක දුමංගලයි ආදී වශයෙන් විශාල සංඥා රාශියකින් ඒක ආකීර්ණ වුණාට පස්සේ ඉබේම ඒ විෂයෙහි වේවා නොවේවා ආදී වශයෙන් චේතනා පහළ වෙනවා. අපි ඒකට වග කියන්න වෙනවා. අපි ඒකට ඇඟිලි ගහනවා. අපි ඒකෙන් කෙලෙස් උපදවනවා. නමුත් පැහැදිලිවම මුකුත් නොදක්ක, නොදක්ක විරූ, බලන්නේ නැති, බලන්න වෙන්නේ නැති අරමුණක කෙලෙස් නූපදිනවා වගේ, දැක්කත් දැන් මගේ හිත පවතින්නේ ඇහේ, මම බලන්නෙක් බව දන්නව නම්, නොදැක්ක රූපයක සේ කෙලෙස් පහළ නොවී නවත්තන්න පුළුවන් බවට සර්වඥයන් වහන්සේ සහතික වෙනවා.

ඒක තමයි සඳහන් කරන්නේ **එවං සික්ඛිතබ්බං: දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** - හික්මෙන්න ඕනෑ මොකටද? දකිනවත් එක්කම දකින බව දන්නවා. දකින රූපයේ අංග පුලාංග බලන්න නෙවෙයි, අංග ප්‍රත්‍යංග බලන්න නෙවෙයි, හොඳ නරක බලන්න නෙවෙයි. දකින ඇහැ හොඳයි, මට කණ්ණාඩි නැතිව පේනවා, ඇස් පෙනීම හොඳයි කියල ඇහැ ගැන හිතන්නවත් නොවෙයි. මම මේ දකිමින් ඉන්න බව දන්නව නම්, මේක හරියට නොදැක්ක, නොදැක්ක විරූ, නොබලන, මත්තට බලන්න වෙන්නේ නැති රූපෙක වගේ කෙලෙස් නතර කරන්න පුළුවන්.

ඒ නිසා මේ ටික යෝගාවචරයාට ප්‍රායෝගිකව වැදගත් වෙනවා. ඒකට නම් යෝගාවචරයා දැනගන්න ඕනෑ කෙලෙස් උපදිනවා ඇසෙන්, කනෙන්, නාසයෙන්, දිවෙන්, ශරීරයෙන්, හිතෙන්. මගේ දැන් එක හිතයි තියෙන්නේ. ඒ හිත යෙදිල තියෙන්නේ ඇහැටයි. දැන් ඔන්න රූපයක් පේනවා. නැත්නම් මම බලන්නෙක්. මෙන්න මේ බව දන්නවා නම් රූප විෂයෙහි තණ්හා මාන දිට්ඨි කරන්නේ නැතිව, ඇහැ විෂයෙහි තණ්හා මාන දෘෂ්ටි ඇති කරන්නේත් නැතිව එහෙනම් මට පුළුවන් නොදැක්කා සේ කෙලෙස් පහළ නොකරගෙන ඉන්න. මේක සාමාන්‍යයෙන් කියනවා ආර්‍ය වෝහාරය කියල. ආර්‍යයන් වහන්සේලා තමන්වහන්සේලාගේ ලෝකයේ කරන ව්‍යවහාර කථාවක්. **දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** - ඇහේ දැක්මෙහි හුදු දැකීම පමණයි. ඒ නිසා යම් කිසි කෙනෙකුට ඒ ආර්‍ය තත්ත්වෙට පත් වෙන්න ඕනෑ නම්, කෙටිම උත්තරය තමයි දැකීමේ දැකීම පමණයි කියන එකට හික්මෙන්නෙයි කියල. එතනදී ප්‍රමාද වුණොත්

එතනදී තණ්හා මාන දිට්ඨිවලට ඉඩ දුන්නොත් අනිවාර්යයෙන් මේ දකින රූපය මත කෙලෙස් පහළ වෙනවා. හොඳයි, නරකයි, වේවා, නොවේවා. නැත්නම් ඒකට බැඳෙනවා හෝ ගැටෙනවා හෝ මංමුළා වීමක් වෙනවා.

නමුත් ඒ වෙනුවට දැකීම දැන් සිද්ධ වෙන්නේ කියන භාවයට හිත යොදන්න පුළුවන් නම්, ඒක නොදැක්ක රූපෙකට සමානයි. නොබලපු රූපෙකට සමානයි. කෙලෙස් නැති තත්ත්වෙකට පත් වෙනවා. ඒකට කියනවා තදංග නිබ්බුතිය කියල. ඒ චිත්තක්ෂණයේ හිත විමුක්තයි. ඇත්තටම එතකොට හිත - විඤ්ඤාණය - චක්ඛු විඤ්ඤාණයක් බවට පත් වෙලා ඉවරයි. ඒ වුණත් හරියට පත් වෙච්ච නැති හුදු විඤ්ඤාණයක් වාගෙ නිවන් දැකපු විඤ්ඤාණයක තත්ත්වෙට පත් වෙනවා. මොකද, එතැනින්ම විඤ්ඤාණය කොටු වෙලා. ස්පර්ශ මට්ටමෙන්ම කොටු වෙලා. ඒ මතුමත්තේම මේක පිළිබඳව කල්පනා නෑ. ඉතින් මුළු ලෝකයෙ, නැත්නම් අපි කියනවා ලෞකික මුළු විෂයේම තියෙන්නේ වහාම මේක හඳුනාගන්න ඕනෑ, වහාම මේක වර්ග කරන්න ඕනෑ, වහාම මේක හොඳ නම් කිට්ටු කරගන්න ඕනෑ, නැත්නම් ඈත් කරගන්න ඕනෑ කියල ක්‍රියාත්මක වෙන්න පුදුමාකාර තක්කු මුක්කුවක් ඇති කරල දීල තියෙනවා ලෞකික විෂය හරහා. ඒකෙන් අදහස් කරන්නේ නැහැ මේ විෂය කරුණු නරකයි කියලා. ඒවයෙත් තියෙන්නේ **විඤ්ඤාතෙ විඤ්ඤාතමත්තං** විතරයි.

නමුත් අපේ තියෙන මේ විඤ්ඤාණයට විඤ්ඤාණය දැනගන්න බැරි හොර ගතිය නිසා, විඤ්ඤාණයට රූපයක් පාසා සම්පූර්ණයෙන්ම දැකගන්න බැරි ඒකෙ අංශභාග ගතිය නිසා දැකපු දේට වහාම අතින් කොටසක් දල එක්කො හතුරෙක් බවට පත් කරල කුරුසෙට තියල ඇණ ගහනවා. එහෙම නැත්නම් මිතුරෙක් බවට පත් කරල ගිහිල්ල බද ගන්නවා. එහෙම නැත්නම් ඇහේ සුද බැදිච්ච කෙනෙකුට වගේ ඒ ස්ත්‍රියාවක්ද පුරුෂයෙක්ද කියල මට තේරෙන්නෙ නැහැ නෙ, මට හරියට බලාගන්න බැරි වුණා නෙ කියල හිත අන්දමන්ද කරගන්නවා. තණ්හා මාන දිට්ඨි පහළ වෙනවා. ඒ නිසා අපට එහෙම තියෙන තත්ත්වයකින් හෝ පටන්ගන්න සිද්ධ වෙනවා. අපෙ හිත සමහර වෙලාවට රූපයක් දැකලා ප්‍රිය මනාප භාවයට පත් වෙලා, එතකොට හරි අපිට තේරුම්ගන්න පුළුවන් නම් මම දැන් කරන්නේ බලන එකයි. මේ රූප විෂයෙහි මට මනාපය පහළ වුණා. මේ රූප විෂයෙහි මට අමනාපය පහළ වුණා. මේ

රූප විෂයෙහි මට අන්දමන්ද භාවය ඇවිල්ල කියල දැනගත්තොත් ඒත් අර **දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** කියන මූලධර්මයට අපි ආවඩමින්, ඊගාව දවසේ මෙච්චර තත්ත්වෙට යන්න ඉස්සෙල්ලා දකින බවේම නතර කරන්න ඕනෑ කියන ශික්ෂාවට වැටෙනවා. හික්මීමට වැටෙන්න ඉඩ තියෙනවා. නැත්නම් තව කෙලෙස් වර්ධන වේගය පියවරකට කලින් නතර කරගන්න පුළුවන් වෙනවා.

මෙන්න මේකටයි කියන්නේ - අප්‍රමාද ප්‍රතිපදාව. එතෙනදී ප්‍රමාද වෙනවයි කියල කියන්නේ මගේ ඇහැ හරී ෂෝක්, දැකපු ගමන්ම මට හඳුනාගන්න පුළුවන් වුණා. මේ රූපය හතුරෙක්ගේ, එහෙම නැත්නම් මේ රූපය මිතුරෙක්ගේ. මේක මට හොඳට ළං කරල බලන්න ලැබෙනව නම්! මගේ ඇහැ හොඳ වෙලාවට කනට යන්නේ නැතිව ඒ වෙලාවෙ විඤ්ඤාණය උදුරගෙන මට මේක පෙන්වල දුන්නා, බොහොම හොඳයි කියල, ඒ දේ හෝ චක්ඛු ප්‍රසාදය හෝ චක්ඛු විඤ්ඤාණය හෝ එයින් දකින රූපය හෝ මොකේ හෝ මත් වුණොත්, ආයි ඉතින් හෝදලා ගන්න දෙයක් නැහැ. ඒකෙ කෙලෙසිලා. ඒකට තමයි කෙලෙස් කියන්නේ. ඒ නිසා පැහැදිලිවම පේනවා රූපයේ කෙලෙස් නැහැ. චක්ඛු විඤ්ඤාණයේ, චක්ඛු ප්‍රසාදයේ කෙලෙස් නැහැ. චක්ඛු විඤ්ඤාණය බවට පත් වුණාට පස්සේ තාම ඒ හිතේ කෙලෙස් ඇති කිරීමේ මූලික ශක්තිය තිබුණාට කෙලෙස් වෙලා නැහැ. මෙන්න මේක හොඳ සන්ධිස්ථානයක්.

**දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** කියන්නේ, මේ තුන එකතු වුණා නම් ස්පර්ශය ඇති වෙනවායි කියල ඉතින් අලුතින් කියන්න දෙයක් නැහැ, එකතු වීමම ස්පර්ශයමයි. හැබැයි අපට වැටහෙන්නේ ස්පර්ශ වුණාට පස්සේ. නමුත් එතන තියෙනවා මත්තට වේදනාව ඇති වුණත් නැතත් ඒ තත්ත්වයෙන් එතන නතර කරගැනීමේ මනුෂ්‍යයාට පමණක් තියන විශේෂතාවක්. තිරිසනෙකුට බ්‍රහ්මයෙකුට දෙවියෙකුට හිතාගන්න බැරි, තිරිසනෙකුට ප්‍රේතයෙකුට යක්ෂයෙකුට කවදාකවත් කිට්ටු කරගන්න බැරි අති විශේෂතාවක් මනුෂ්‍යයාට තියෙනවා. එහෙම නැත්නම් මේ විඤ්ඤාණයේ පරිණාමය පටන්ගැනීමේ මූලිකම කුසලතාව, මූලිකම ශක්තිය තියෙන්නේ මනුෂ්‍යයාට. ඒකයි මේ බුදු කෙනෙක් මනුෂ්‍ය තලයෙන් ඇර කවදාකවත් පහළ වෙන්නේ නැත්තේ. ඒ නිසාම අඤ්ඤාකොණ්ඩඤ්ඤ ස්වාමීන් වහන්සේ ධර්මය අවබෝධ කරපු දවසෙ

දහතරකෙළක් බ්‍රහ්මයො එද රහත් වුණාට ශාසනික වශයෙන් වැදගත් කමක් තිබුණෙ නැහැ. ශාසනික වශයෙන් වැදගත් උනේ එකම මනුෂ්‍යයෙක්, ඒ කියන්නෙ අඤ්ඤ කොණ්ඩඤ්ඤ තාපසතුමා එද **යං කිඤ්චි සමුදය ධම්මං, සබ්බං තං නිරොධ ධම්මං** කියල අවබෝධ කිරීම සර්වඥයන් වහන්සේගේ ප්‍රධාන උදනය බවට පත් වුණා. මොකද මේක මනුෂ්‍ය ලෝකය ප්‍රධාන කරගත්ත වැඩක්.

ඒ අතින් බලනකොට නම් මේකට මනුෂ්‍ය ලෝකය කිව්වට කමක් නැහැ. නමුත් ඒ කටයුත්ත බහා තබල, ඒ කටයුත්තට ප්‍රධාන තැන නොදී, අපි හිතුවොත් මේක කරන්න බැහැයි කියලා, එහෙම නැත්නම් කරන්න ඕනැ නැහැ යි කියලා ඒ තාක් කල් සෑම දේම කිසිම පැකිළීමකින් තොරව කියන්න පුළුවන් ‘ප්‍රමාදය’ කියල. අප්‍රමාදය කියල කියන්නේ, නැත්නම් අප්‍රමාදයේ උත්කෘෂ්ටම අවස්ථාව තමයි දකින කොයි දේ දැක්කත් ඇති ප්‍රශ්නයක් නැහැ, දකින බව දන්නවා. ඒ සඳහා හොඳම රූප දකින්න ඕනැ, බුදුහාමුදුරුවන්ගේ රූපය දකින්න ඕනැ, සුදු පාටම දකින්න ඕනැ කියල එහෙම එකක් නැහැ. කොයි දේ ඇහුවත් කමක් නැහැ. මොකද අහන්න ලැබෙන දේ අපට විනිශ්චයක් නැහැ. අපිට පුළුවන් නරක දේවල් අහන්නේ නැති තැනකට යන්න. නමුත් අපිට ලෝකය පාලනය කරන්න බැහැ. ඒ වුණත් අහනකොට අහන බව දන්නවා නම්, දැනගන්න පුළුවන්කමක් තියෙනව නම් ඒ විඤ්ඤාණය චක්ඛුවිඤ්ඤාණයෙන් වෙන් කරල තියාගන්නවා. මේක බොහොම ගැඹුරුයි.

නමුත් **අනාථපිණ්ඩිකෝවාද සූත්‍රයේදී** සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේ මරණාසන්න වේදනාවේ ඉන්න අනාථපිණ්ඩික සිටුතුමාට දේශනා කරනවා, සම්ඵස්සයක් වෙනව නම් චක්ඛු, සෝත, ඝාණ කියන මොනම සම්ඵස්සයක් හෝ වෙනවා නම් ඒ සම්ඵස්සය විඤ්ඤාණයෙන් වෙන් කරල තියාගන්නයි කියල කියනවා. අනාථපිණ්ඩික සිටුතුමාට කඳුළු එනවා. ආනන්ද ස්වාමීන් වහන්සේ හිතන්නෙ මේ මනුස්සයා මේ මැරෙන්න බයේ හෝ එහෙම නැත්නම් මේ දේවල්වලට ඇති ආශාව නිසා අඬනවායි කියල. ඉතින් “අනේ මේ අවසාන මොහොතෙදි මේ ආශාවල් ඇති කරගන්න එපා” කියල උපදෙස් දෙනවා. මොකද ඒ දෙන්නම සෝවාන්. ආනන්ද ස්වාමීන් වහන්සේත් සෝවාන් වෙලා එතන ගත කරන්නේ. අනාථපිණ්ඩික සිටුතුමත් සෝවාන්. අනාථපිණ්ඩික

සිටුතුමා කියනවා "අනේ ස්වාමීන් වහන්ස, මම මේ දේවල්වලට ආශාවෙන් අඬනව නෙමෙයි. ඇයි මට මේ දේ කලින් කියල දුන්නෙ නැත්තේ? මට ඒකටයි මෙච්චර කනගාටු". මම බුදුහාමුදුරුවන්ගේ ප්‍රධාන උපස්ථායකයා වෙලා ඉඳල තියෙනවා. මේ වෙනකොට ලෝකේ ඉන්න විශාලම ඍෂීන් වහන්සේලා මම ආශ්‍රය කරල තියෙනවා. මේ මෙච්චර මරණාසන්න වේදනාවක්, ඇති වෙන මේ කාය සම්ඵස්සය විඤ්ඤාණයෙන් වෙන් කරල තියාගන්න, මේක කියන්න පුළුවන් දේකුත් නොවෙයි. නමුත් ඒ වෙලාවෙ සාරිපුත්ත ස්වාමීන් වහන්සේට කියවෙනවා. එතකොට අනාථපිණ්ඩික සිටුතුමාට කඳුළු වැටෙනවා.

චක්ඛු සම්ඵස්සය විඤ්ඤාණයෙන් දැනගන්න පුළුවන්. සාමාන්‍ය පෘථග්ජනයෙකුට නම් හිතාගන්න බෑ. අන්න ඒකට විවෘත වෙන්නෙයි කියල කියනවා. නැත්නම් චක්ඛු සම්පස්සය විඤ්ඤාණයෙන් වෙන් කරල තියාගන්නයි කියනවා. එතනට තණ්හා, මාන, දිට්ඨි එන්න දෙන්න එපා. ඒක නිසා අර මම කලින් කිව්ව වගේ, ඕනැම කෙනෙකුට මේක ගැඹුරුයි, මේක අපට අදාළ නැහැ, කොහොමද මේක පිම්බීම හැකිළීමට සම්බන්ධ වෙන්නේ, කොහොමද මේක ආනාපානයට සම්බන්ධ වෙන්නේ ආදී වශයෙන් ගොඩාක් දේවල් කථා කර කර ඉන්න පුළුවන්. කියන්න ඉඩ තියෙනවා. නමුත් ඒ කියන සෑම අවස්ථාවකම ප්‍රමාදය ක්‍රියාත්මකයි. අප්‍රමාදී වෙන්න නම් ඒ ප්‍රමාද තැනකින් පටන්ගන්න. අරගෙන, දකිනකොට දකින බව මෙනෙහි කරන්න. අහනකොට අහන බව මෙනෙහි කරන්න. ස්පර්ශ කරනකොට ස්පර්ශ කරන බව මෙනෙහි කරන්න. හිතනකොට හිතන බව මෙනෙහි කරන්න. මේ අහපු දේවල්, දැකපු දේවල් ස්පර්ශ කරපු දේවල්, හිතපු දේවල් වලින් ඇති වැඩක් නැහැ. ඒව කෙලෙස්. කුසල්, අකුසල්, හොඳ, නරක කියන කොයි එකටත් යන්න පුළුවන්. නමුත් ප්‍රමාද වෙන්නේ නැතිව ඒක මෙනෙහි කරන්න පුළුවන් නම් ඒ මතින් එතන නතර වෙනවා. ඒ මත ඇති වෙන්න පුළුවන් ඒ සංඥා විපල්ලාස, චිත්ත විපල්ලාස, දිට්ඨි විපල්ලාස කියන මේ දේවල් දෝරේ ගලා යාම නතර වෙනවා. ඒ නිසා දර්ශනයක්, ඇහැට රූපයක් පේන වෙලාවක ඒ රූපය විෂයයෙහි කල්පනා කිරීම සම්පූර්ණ ප්‍රමාදයට වැටෙනවා. ඇහැ විෂයයෙහි කල්පනා කිරිම සම්පූර්ණ ප්‍රමාදයට වැටෙනවා. ඒ මත්තෙන් ඇති වෙන්නා වූ සුඛ, දුක්ඛ, වේදනා මත

කල්පනා කිරීම ඒකාන්තයෙන්ම ප්‍රමාදයට වැටෙනවා. මෙන්න මෙහෙම වැඩපිළිවෙළක් දන් ඇහේ සිද්ධ වෙනවා කියල දැනගැනීම තමයි මෙතන භාවනාව වෙන්නේ. දකීම දකීම පමණින් නතර කිරීමේ වැඩපිළිවෙළේ ඉදිරිය, හැකියාව, ප්‍රගතිය කියල කියන්නේ මේකයි. නමුත් මම මේ දිගටම කියමින් ආවෙ ඇහේ මේ සංසිද්ධිය දකගැනීම ඉතාමත්ම අමාරුයි. ඊට වැඩිය ලේසියි කනෙන්. මොකද කනෙන් උපදින කෙලෙස් අඩුයි. ඊගාවට නාසය, ඊගාවට දිව, ඊගාවට තමයි කය.

ඒ නිසා කයේ යම් කිසි පහසක් වෙනකොටම මගේ හිත තියෙන්නේ මේ කයේ. ඒකට නම් හොඳම නිදර්ශනය ඔය **අනාථපිණ්ඩිකෝවාද සූත්‍රයේ** තියෙන්නේ. එතකොට ඒ සිටුතුමා ඉන්නේ ඔළුවට වෙළුම් පටියක් දල සිරින්ජයක් දල තද කරන්නා සේ බරපතළ වේදනාවකින්. හරක් කපන කැත්තකින්, ගෙරි කපන කැත්තකින් බඩ කපන්නා සේ දරුණු වේදනාවක. එතකොට තමයි මේ සාරිපුත්‍රයන් වහන්සේ දේශනා කරන්නේ, සිටුතුමනි, කයේ ඇති වෙන්නා වූ කාය සම්ඵස්සය විඤ්ඤාණයෙන් වෙන් කරල තියාගන්න. මගේ කයෙයි මේ සම්ඵස්සය ඇති වෙන්නෙ කියල දැනගන්න. මරණාසන්න වේදනාවක සිහි විකල් වෙලා, නැත්නම් වේදනාවෙන් වෙදනට්ඨ තත්ත්වයට පත් වෙච්ච, ඒත් ආර්ය උත්තමයෙකුටයි මේක දේශනා කරන්නේ. ඒ නිසායි ඒක තේරෙන්නේ. මේ කාරණාව සුතමය වශයෙන් හෝ චින්තාමය වශයෙන් හෝ දැනගෙන සිටීම, අර වගේ ආයාසකර අවස්ථාවක මතු වුණොත් ලොකු ශාන්තියක් ගේනවා. මේක කවදකවත් සුතයෙන් තොරව අපට කල්පනා වෙන්නෙ නැහැ. ඒ නිසා අපි ශ්‍රාවකයෝමයි. තේරෙන්නේ නැහැ කියල කියන්න පුළුවන්. නමුත් අපි කවද හෝ තේරුම්ගත යුතුයි.

ඒ වාගේම තමයි චක්ඛුවිඤ්ඤාණය, සම්ඵස්සය, වේදනාව වගේ දේවල් හිත හිත පහළ කරන දේවලුත් නෙවෙයි. නමුත් ඒ තණ්හාව එතන ලැගගන්න පුළුවන් තත්ත්වෙට අපිට වන්දි ගෙවන්න වෙනවා. තණ්හාවට එතන ඉඩපාඩුකම් දුන්නට අපිට සංසාරෙ හිරගෙවල්වල ලගින්න වෙනවා. ඒ නිසා අපට සිද්ධ වෙනවා මෙතනට අමුත්තා එනකොටම මෙන්න අමුත්තා ආවේ මගේ අසවල් ද්වාරයටයි, චිත්ත වීථිය දුවන්නේ දන් අසවල් ද්වාරයේය. මේක තමයි මේ ගම්භීර දේශනාවක් විදියට **දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති, සුතෙ සුතමත්තං භවිස්සති** කියල කියන්නෙ. යම්

ආකාරයකට මේ **දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** කියන එකේ ශික්ෂණය සම්පූර්ණ වුණා නම් සර්වඥයන් වහන්සේ ඉගැන්වූවා **තතො ත්වං බාහිය න තත්‍ථ**. උඹ ඒකෙන් මමෙක් වෙන්න යන්නෙ නෑ.

අර පිට කසාගැනිල්ලෙදි මම එයාගෙ පිට කහන්නේ නැත්නම් එයා මගේ පිට කහන්නෙත් නැහැ. **යතො ත්වං බාහිය න තෙන, තතො ත්වං බාහිය න තත්‍ථ** ඔබ ඔහුගෙ පිට කහන්නේ නැත්නම් ඔහු ඔබේ පිට කහන්නේත් නැත්නම් පිට කැසිල්ල එතනින් නතර වෙනවා. ඒ නිසා විඤ්ඤාණයට නාමරූපයක් නැතිව කවදාකවත් ප්‍රකාශයට පත් වෙන්න බැහැ. ඒ වෙච්ච නාමරූපයට පණ දිදී දිගින් දිගට කටයුතු කෙරුවොත් විඤ්ඤාණය එන්න එන්න ඝනබාල වෙනවා. ඒ වගේම විඤ්ඤාණය පහළ වෙච්ච බව මෙනෙහි කරගත්තොත් ඒ දෙන්නගේ පිට කැසීම නතර වෙනවා.

**යතො ත්වං බාහිය න තත්‍ථ, තතො ත්වං බාහිය නෙවිධ, න හුරං, න උභයමන්තරෙන. එසෙවන්තො දුක්ඛස්සා'ති.** උඹ එතකොට එතනත් නැහැ, මෙතනත් නැහැ, ඒ දෙක අතරත් නැහැ. ඔන්න ඕකට තමයි දුකේ කෙළවර කියන්නේ. ඒ නිසා සෑම චිත්තක්ෂණ දෙකක් අතර, එහෙම නැත්නම් චිත්ත වීථි දෙකක් මැදම නිවන තියනවා තදංග වශයෙන්. ඒ නිසා විඤ්ඤාණය පටන්ගන්න කලින් ඒ හිස්, නිවන් තැනින් තමයි පටන්ගන්නේ. ඒ චිත්ත වීථි අවසාන වෙන්නෙත් එතැනින්. නමුත් අපි කවදාකවත් ඒක අත්දකින්නේ නැහැ. මොකද විඤ්ඤාණයට විඤ්ඤාණය අත්දකින්න බැහැ. ඒකට ප්‍රකාශ වෙන්න පුළුවන් වෙන්නේ, අත්දකින්න පුළුවන් වෙන්නේ මොකක් හරි එක්ක රණ්ඩු කරනකොට පමණයි. ඒ නිසා රණ්ඩුව ඇතුවත් බැහැ අපට නැතුවත් බැහැ. අපට අවශ්‍ය වෙන්නේ ඒ රණ්ඩු අවස්ථාව රණ්ඩු අවස්ථාවක් බව දැනගන්නවා. ඒකයි කියන්නේ සංසාරය දුකක්. පැවැත්ම ඒකාන්ත දුකක්. හොඳයි ඒක සුභ, සුඛ, ආත්ම වශයෙන් ගන්නව නම්, ඒ පුද්ගලයා මූලිකවම මිථ්‍යා දෘෂ්ටිකයි. සම්‍යක් දෘෂ්ටික වෙන්න පුළුවන්; නමුත් මූලික වශයෙන් තේරුම් අරගන්න ඕනැ නිත්‍ය, සුභ, සුඛ, ආත්ම වශයෙන් ඒ වගේ හදන්න කරන්න පුළුවන් කියල බාරගත්තොත් එතනම **දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** කියල සිදු වෙන ක්‍රියා මාර්ගයට ප්‍රධාන බාධාව සිද්ධ වෙනවා.

ඒ නිසා අපිට අරමුණු එනකොට ලෑස්ති වෙලාම ඉන්න ඕනෑ. අහම්බෙන් සිද්ධ වෙන්නේ නැහැ. අහම්බෙන් තියා ලෑස්ති වෙලා හිටියත් වරදින තරමට සූක්ෂ්මයි මේ වැඩපිළිවෙළ. ඒ නිසා පැරණි ගත්ත සක්මනෙන් පර්යංකයට, පර්යංකයෙන් සක්මනට ගිහිල්ලා ගත්ත ඒ ගැම්මෙන්ම සූදානමින්ම සිටියහොත්, අන්න ඒ චිත්තක්ෂණයක අපිට පුළුවන් වෙයි අන්න මගේ හිත දැන් දකිනවා, නැත්නම් දකින හිතක් ආවා, අහන හිතක් පහළ වුණා, ගඳ සුවඳ බලන හිතක් පහළ වුණා, රස බලන හිතක් පහළ වුණා, පහස ලබන හිතක් පහළ වුණා, හිතක් පහළ වුණා ආදී වශයෙන් හොඳට දැනගන්න. මේක යෝගාවචර ජීවිතයේ ඉතාමත්ම විශාල පරිවර්තනයක් ඇති කරනවා. මෙක වෙන්නෙ විපස්සනාවෙන් විතරමයි.

අපි දන්නවා අභ්‍යවකාශය සූර්යාලෝකයෙන් ඉතාමත්ම බබළනවා. නමුත් අභ්‍යවකාශයේ සූර්යාලෝකය තියෙන බවට පරිවර්තනය කරල එවන්න වස්තුවක් ආකාශයේ නැත්නම් අපට පේන්නේ අන්ධකාරය. හඳ ආලෝක වස්තුවක් නෙවෙයි. අභ්‍යවකාශයේ තියෙන සූර්යාලෝකයේ ගැටීම නිසා ප්‍රකාශ භාවයට පත් වෙනවා. ඒ වගේම තමයි මුළු ලෝකයේම විඤ්ඤාණය ඉතාමත්ම ප්‍රභාස්වරයි. **පභස්සරමිදං භික්ඛවෙ චිත්තං, තඤ්ච ඛො ආගන්තුකෙහි උපක්කිලෙසෙහි උපක්කිලිට්ඨං**. ඒ නිසා බාහිර වස්තු ගැටිය යුතුමයි නිවන් දකින්න. ගැටෙන හැම වෙලාවෙදිම දැනගන්න ඕනෑ ගැටුණොත් මේ සිද්ද වෙන්නේ ෂඩායතනවල මෙන්න මේ ආයතනයෙන්. ඒ දැනගැනීම ඉතාම වැදගත්. මෙතනදි හොඳ නරක දෙක බලපානවා. අවශ්‍ය වෙලා තියෙන්නේ දැනගන්න එක විතරයි. දැනගන්නකොට ඒ තාක් කල් අභ්‍යවකාශයේ තියෙන සූර්යාලෝකය වාගේ, විඤ්ඤාණය පවතින බව නාමරූපවල හැප්පිලා ප්‍රකාශ වෙනවා. ඒ චිත්තක්ෂණය භාවනා චිත්තක්ෂණයක්.

මේක පැන්නුවා නම්, මේකට ප්‍රමාද වුණා නම්, අපි හිතනවා නම් දන් දීලා අපට නිවන් දකින්න පුළුවන් කියල, සිල් රැකල නිවන් දකින්න පුළුවන් කියල, සමථ භාවනා කරල නිවන් දකින්න පුළුවන් කියල, මේ චිත්තක්ෂණයට එන්නෙ නැතුව කවදාකවත් නිවන් දකින්න බෑ. අනිවාර්යයෙන්ම මේක දැනගන්න ඕනෑ. ඉතින් ඒක නිසා අපි දන්

දෙනකොට සිල් රකිනකොට සමථ භාවනා කරනකොට විපස්සනා භාවනා කරනකොට හැම වෙලාවෙම බලන්න ඕනෑ හිත දැන් ආශ්‍රය කරන්නේ මෙන්න මේ ආයතනය. මෙන්න මෙතනට එළි වුණා නම්, මෙන්න මෙතනට අපේ අවධානය යොමු වුණා නම් ඒ වෙලාවෙදී, ඒ මනසිකාරය යෙදී තිබෙන චිත්තක්ෂණයේදී, එක්කෝ හිත පේන්න පුළුවන්. නැත්නම් ද්වාරය පේන්න පුළුවන්. එහෙම නැත්නම් අරමුණ පේන්න පුළුවන්. කොයි එක පෙනිය යුතුද කියල නැහැ. නමුත් බලාගෙන ඉන්නකොට ඉන්නකොට මේ දෙකතුනම පේනවා. දෙකතුනේම එක වෙලාවකට එකයි පේන්නේ. ඒ නිසා අපිට අවබෝධ කරන්නත් චිත්තක්ෂණ රාශියක් යන්න ඕනැ. අපි අමාරුවෙ වැටෙන, සංසාරගත වන කෙලෙස් උපදින්නත් චිත්තක්ෂණ රාශියක් යන්ඩ වෙනවා. ඒකට ඝන සංඥාව කියල කියනවා. ආරම්මණ කෘත්‍යය කියලත් කියනවා. ඒ නිසා එක චිත්තක්ෂණයක මේ සේරම බලාගන්නත් බැහැ. කෙලෙස් ගලවන්නත් බැහැ. ඒ නිසා භාවනාම කට යුතුයි, බොහෝ වාරයක් කරන්න ඕනැ. ඒ සඳහා අප්‍රතිහත ධෛර්යයක් ඕනැ. ඉතින් සමහර වෙලාවට මේ වගේ ධර්ම කරුණු අහනකොටත් අන්න ඒ යටපත් වෙච්ච සීතල වෙච්ච කම්මැලි වෙච්ච අප්‍රතිහත ධෛර්යය නැගිටිනවා. එහෙම ගතියක් ධර්මයේ තියෙන්නේ. ඒ නිසා ධර්මය එන්න එන්න ගැඹුරුයි.

ඒ නිසා අපි මේ සතිපට්ඨාන සූත්‍රයේ ගැඹුරක් සාකච්ඡා කරන බව මම මුලිනුත් මතක් කළා. නමුත් මම නැවතත් මෙතනදී ප්‍රකාශ කරනවා, අපට මේ වගේ ධර්මයේ ගැඹුරකට යන්න පුළුවන් වුණේ මේ වගේ පිරිසක, මේ වගේ තැනක තමයි. ඒ නිසා අපි හරි වාසනාවන්ත පිරිසක් කියල අපට හිතාගන්න වෙනවා, හිතාගන්න පුළුවන්. ඒ නිසා අපි බලාපොරොත්තු වෙමු, අපේ මේ කරගෙන යන භාවනාවට මේ ධර්ම කොට්ඨාශයත් ඉදිරිපත් කරගෙන - මේකෙ සමථ භාවනාව විදර්ශනා භාවනාව කියල දෙයක් නැහැ - කරන හැම වෙලාවෙදීම වෙන දේට, මේ ධර්මාලෝකය වට්ටගත්ත නම් පැහැදිලි නවමු භාවයක් හිතේ ඇති කරනවා, අප්‍රමාද ශක්තියක් හිතේ ඇති කරනවා. ඒ අප්‍රමාද ශක්තියට අද ධර්ම කොට්ඨාශයත් ශක්තියක්ම වේවා! කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව අවසන් කරනවා.

# 78 | වේදනා මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති, කත්ථ නිවිසමානා නිවිසති?**

**චක්ඛුසම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. සතිපට්ඨාන සූත්‍රයේ ඒකාකාරව යන පද රාශියක් අපි එක එක සතියට ඉදිරිපත් කරගනිමින් විශේෂයෙන්ම ධම්මානුපස්සනා කොටසේ ප්‍රථම සත්‍ය පර්වයේ, ප්‍රථම සත්‍යයේ, දුක්ඛ සත්‍යය සමුදය සත්‍යය කොටස්වල එන විස්තරයකුයි අපි මේ ඉදිරිපත් කරගන්නේ. විශේෂයෙන්ම තෘෂ්ණාව සම්බන්ධ කරලා විස්තර කරන මෙතන ධම්මානුපස්සනා කොටස වශයෙන් හුඟක් කලින් කියවෙච්ච දේවල් සම්පූර්ණ ගැඹුරකින්, මූලධර්ම පැත්තට කිට්ටු කරලා විස්තර වශයෙන් ඉදිරිපත් කිරීමකුයි සිද්ධ වෙන්නේ. එහිදී ප්‍රධානම වශයෙන් මේ පර්වයට, විශේෂයෙන් සමුදය සත්‍යයට ප්‍රධාන වන තෘෂ්ණා චෛතසිකය ඉදිරිපත් කරගෙන, තෘෂ්ණාව කොහොමද පහළ වෙන්නේ, කොහොමද නතර වෙන්නේ, නැත්නම් කොතනද ලැගගන්නේ කියන ප්‍රශ්නය සර්වඥයන් වහන්සේ විසින්ම

අරගත්තාම එතන සර්වඥතා ඥානයටම ගෝචර වන ආකාරයටම හොඳ විස්තරයක්, මූලධර්මානුකූලව කියනවා නම් අඩුවක් නැති විස්තරයක් ඉදිරිපත් වෙනව. ඉතින් ඒකෙදි ආධුනික යෝගාවචරයාට මුල් මුල් කොටස් මූලධර්ම පමණක්ම වාගේ, වෙන විදිහකට කියනවා නම් ප්‍රායෝගිකත්වයට නගාගන්න බැරි තරමටම වාගේ වෙන්නත් ඉඩ තියෙනවා. පේන්නත් ඉඩ තියෙනවා.

නමුත් මේක අපි තේරුම් අරගන්න ඕනැ සතිපට්ඨාන සූත්‍රයේ ධම්මානුපස්සනාවට ගිය කොටසක් නිසා ඒක තේරුණත් නොතේරුණත්, නැත්නම් දැකගන්න පුළුවන් වුණත් නොවුණත් සිදු වෙන යාන්ත්‍රණය නම් මෙහෙමයි. කවද හෝ ධර්මය දිගේ භාවනාව දිගේ තමන්ගේ අත්දැකීම් දිගේ ඉදිරියට යනකොට යනකොට මේ දේවල්වල තියෙන සත්‍ය භාවය, දැකගන්න පුළුවන් භාවය ටිකෙන් ටික ටිකෙන් ටික විසද වෙන්න පටන්ගන්නවා. ඒක නිසා මුලදී අපි ධර්ම ගෞරවය සිහිපත් කරගෙන ශ්‍රද්ධාව සිහිපත් කරගෙන මේ ධර්ම කොට්ඨාශවලට කිට්ටු වෙලා මේවායේ සුහද භාවය දන්නා අඳුනනකම ක්‍රමයෙන් ක්‍රමයෙන් වැඩි කරගෙන යන්න වෙනව. ඒ නිසා තෘෂ්ණාව ගැන කතා කරනකොට චක්ඛු, සෝත, ඝාන, ජිව්හා, කාය, මන කියන මේ ද්වාර හයේ ඒ ඒ ද්වාරයට අදාළව අවස්ථා රාශියක් මාර්ගයෙන් මේ තණ්හාව උපදින්නේ උපදින්න පුළුවන්, ලැගගන්නේ ලැගගන්න පුළුවන් කියන එක විස්තර කරමිනුයි අපි මේ යන්නේ.

ඒ දේශනාපාළියේ දේශනා විලාශය අනුවමම ඇහැ සම්බන්ධ කරගෙන, දේශනාව පටන්ගන්න ආකාරයටම විස්තර කරගෙන යන්නේ, දේශනාවේ ඒක සාධාරණීකරණය කරන්නේ ගොඩක්ම කෙලෙස් ඇහේ උපදින නිසා. නමුත් ආධුනිකයාට ඉතාමත්ම සීඝ්‍රයෙන් කෙලෙස් උපදින ඇහැ තේරුම්ගැනීම, නැත්නම් ඇහේ කෙලෙස් උපදින ස්වරූපය තේරුම්ගැනීම අන්තිමටම වෙනවා වෙන්න පුළුවන්. නමුත් මූලධර්මානුකූලව හුඟක්ම කෙලෙස් උපදින්නේ ඇහේ නිසා ඇහෙන් පටන් අරගෙන තියෙනවා. ඒ නිසා **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං** යම් තැනක ප්‍රිය රූප, සාත රූප, මිහිරි භාවය, ප්‍රිය භාවය තියෙනවා නම් එතෙන තෘෂ්ණාව උපදිනවා. එයින් ඉස්සෙල්ලම පෙන්වන්නේ **චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං** - ඇහැ බොහෝම ප්‍රියරූපයි. ප්‍රිය

ස්වභාවයයි. මිහිරි ස්වභාවයයි. ඒ වාගේම රූප ඇහැට ගොදුරු වෙන්නේ නැහැ. ශබ්ද ගොදුරු වෙන්නේ නැහැ. ගන්ධ රස ස්පර්ශ ගොදුරු වෙන්නේ නැහැ. ඒකට ගොදුරු වෙන්නේ රූප. ඒ නිසා ඇහැ වාගෙම රූපවලට අපි රූප විෂයෙහි ප්‍රිය භාවය මනාප භාවය දක්වනවා. ඒ නිසා මේ දෙක - ඇහැයි රූපයයි ගැටුණු වෙලාවට අපි ඒක ප්‍රධාන කරගෙන ජීවත් වෙනවා නම්, දකින්නෙක් වශයෙන් බලන්නෙක් වශයෙන් චක්ඛු විඤ්ඤාණය ඇහේ පහළ වෙනවා. ඒකත් අර වගේම ප්‍රිය රූපය සාත රූපයි.

නමුත් චක්ඛු විඤ්ඤාණය කියන එක භාවනා කරලා අල්ලගන්නවයි කියන එක බොහෝම දුෂ්කර කාරණාවක්, හේතු කාරණා රාශියක් නිසා. එකක් තමයි අපි මේ චක්ඛු විඤ්ඤාණය කියන එක දන්න වචනයට දනකොට කියන්නේ දකින හිත. රූපයක් දකින හිත. ඒ දකින හිත භාවනාවේදී අල්ලගන්නවයි කිව්වම, ඒක ඉතාමත් දුෂ්කර බව අපි මතක් කරගත්තා. ඒ මොකද, දැකීම සිදු වෙනකොට ඒ හිත පහළ වෙලා ඉවරයි. සාමාන්‍ය ව්‍යවහාරයෙහි කියන දැකීම සිදු වෙනකොට ඒ දකින හිත පහළ වෙලා ඒක ස්ථාවර වෙලා ව්‍යවස්ථාගත වෙලා ඉවරයි. ඒ නිසා මේ හිත පහළ වෙන මොහොතේදීම අල්ලගන්න බැහැයි කියන තරමට ඕනෑම කෙනෙක් - භාවනා නොකරපු කෙනෙක් හෝ භාවනාවෙන් අසාර්ථක වෙච්ච කෙනෙක් හෝ භාවනාවෙ මුල ඉන්න කෙනෙක් විනිශ්චය කරන්න ඉඩ තියෙනවා. නමුත් මූලධර්මය තේරුම්ගැනීමේදී ඇහැත් ඇහැට ගොදුරු වන රූපත් මේ දෙක නිසා ඇහේ හිත පහළ වීමත් යන මේ තුනම තෘෂ්ණාව පහළ වීමේ හේතු. තෘෂ්ණාව ලැගගන්න තැන්. අන්න ඒ බව හොඳට තේරුම් අරගන්න. ඒ තුන එතකොට මූලික ද්‍රව්‍ය තුනක්. මුල් අවස්ථා තුනක්. මූලික හේතු ප්‍රත්‍ය තුනක්. අපි ගිය සතියේ මතු කරගත්ත විදිහට මේ තුන නිසයි ඵස්සය, සම්ඵස්සය, චක්ඛුසම්ඵස්සය උපදින්නෙ. චක්ඛුසම්ඵස්සය උපදින්න ඇහැක් තියෙන්න ඕනැ සජීවී. ඒ වගේම ඒකට ඉදිරිපත් වෙච්ච එල්ල වෙච්ච ආපාතගත වෙච්ච රූපයක් තියෙන්න ඕනැ. එතකොට අනිකුත් ඉන්ද්‍රිය විෂයෙහි නොයෙදිච්ච, ඇහැ විෂයෙහි පමණක් යෙදිච්ච දකින හිත, චක්ඛු විඤ්ඤාණය පහළ වෙන්න ඕනැ. මේ තුන එකට තියෙන තාක් ඒකට සම්ඵස්සය කියලා කියනවා.

මේකත් විඤ්ඤාණය වගේම බොහොම අමාරුයි තේරුම්ගන්න. ප්‍රායෝගිකව ඇස්පනාපිට තේරුම්ගන්න බොහෝම අමාරුයි. ඒ මොකද, අපි යමක් දැකලා දකිනවා කියලා මෙනෙහි කරනකොට සෑහෙන්න පමායි. එතකොට මේ දේවල් ඉක්මවල ගිහිල්ල. අපි දන්නව බිත්තරයක් පුපුරලා පැටියෙක් එනවා දකිනකොට, ඒ බිත්තරේ පුපුරන වෙලාවේ දක්කට ඒ සතාගේ උත්පත්තිය හෝ සතා හැදීගෙන එන ආකාරය මොනවක්වත් දැකගන්න හම්බ වෙන්නේ නැහැ. එළියට එන්නේ සම්පූර්ණ පිරිච්ච සතෙක්. ඒ නිසා මේ කට්ට පළාගෙන එළියට ආවාම අපි සතා උපදිනව දක්කයි කියල කිව්වාට ඒකෙන් අදහස් වෙන්නේ නැහැ කළල රූප වැඩීගෙන එන ආකාරය අපි දැක්කයි කියල. සතා උපදිනව දක්කයි කියල කිව්වාට ඒක සම්මුතිය විතරයි. ඊට බොහෝම ඈත වැඩ රාශියකින් තමයි, ඒ ගර්භාෂය තුළ වැඩ රාශියක් සිදු වෙලා තමයි උත්පත්ති අවස්ථාවට එන්නේ.

ඒ වගේම තමයි, ඇහේ රූපයක් දකිනකොට දරුවෙක් උපදින වෙලාව වගේ, සතෙක් උපදින වෙලාව වගේ, බිත්තරයක් කැඩිලා එළියට එන වෙලාව වගේ එළියට එන්නෙ සම්පූර්ණ පූර්ණ චිත්ත විථියක්. නමුත් ඒකේ මුල් අවස්ථා තමයි ඇහැත් රූපයත් චක්ඛු විඤ්ඤාණයත් ඒ තුන එකට එක් වීම නිසා චක්ඛුසම්ඵස්සයත්. නමුත් චක්ඛුසම්ඵස්සය කියන එක ආධුනිකයන්ට තේරුම්ගන්න බැරි නිසා හෝ තේරුම්ගන්න මට්ටමකට එන විට මේකේ වැඩ හමාර වෙල තියෙන නිසා හෝ චක්ඛුසම්ඵස්සයේ තෘෂ්ණාව ලැගගන්නවා තෘෂ්ණාව පහළ වෙන්න පුළුවන්ය කියන කාරණාව වහන්න බැහැ. නොසලකා හැරලා බැහැ. අනිවාර්යයෙන්ම ඒක ධර්මානුකූලව සලකන්න ඕනෑ. අන්න ඒ නිසයි මෙතන ඉස්සෙල්ලම සුතමය වශයෙන් දැනගන්න හෝ තර්කයට අනුමාන වශයෙන් සලකන්න හෝ චක්ඛුසම්ඵස්සය ඉදිරිපත් කරල තියෙන්නේ. ඒ චක්ඛුසම්ඵස්සයෙන් පස්සේ තමයි අපි අද ඉදිරිපත් කරගත්ත විදිහට **සා බො පනෙසා භික්ඛවෙ තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති.** මෙතනින් කියන්නෙ **චක්ඛුවිඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං, චක්ඛුසම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං.**

අපි ගිය සතියේ ඉදිරිපත් කරගත්ත චක්ඛුසම්ඵස්සය නිසා යම් විඳීමක්, යම් වේදනාවක් පහළ වෙනවා නම් ඒකත් අපි අරගන්නේ හොඳ දෙයක් මිහිරි දෙයක් විදිහට. එතනත් තණ්හාව ලැගගන්න පුළුවන්.

තණ්හාව පහළ වෙන්න පුළුවන්. ස්පර්ශය නිසා වේදනාව පහළ වෙනවා, වේදනාව නිසා තෘෂ්ණාව පහළ වෙනවා කියන කාරණාව මීට ඉස්සෙල්ලා බණ අහලා පුරුදු ඇත්තෝ සාමාන්‍ය පටිච්චසමුප්පාදයේ දෙළොස් අංග ගැන කල්පනා කරනකොට අහනකොට අහලා තියෙනවා **ඵස්ස පච්චයා වෙදනා, වෙදනා පච්චයා තණ්හා.** මෙතන පෙන්වන්නේ **ඵස්ස පච්චයා තණ්හා, වෙදනා පච්චයා තණ්හා.** ඒ එන සමීකරණයමයි. කොටස් දෙකකට කඩලා පෙන්වනවා. ස්පර්ශය නිසාමත් තෘෂ්ණාව පහළ වෙන්න පුළුවන්. ස්පර්ශය නිසා පහළ වෙන්නා වූ වේදනාව නිසාමත් තෘෂ්ණාව පහළ වෙන්න පුළුවන්.

නමුත් ස්පර්ශය නිසා පහළ වන ගතිය දකගන්න එක බොහෝමත්ම සියුම්. මොකද, එතකොට මේ වැඩපිළිවෙළ තියෙන්නෙ ඉතාමත්ම සුහුඹුල් අවධියෙ, නොමේරූ අවස්ථාවක. නමුත් මූලධර්ම වශයෙන් නම් දැනගත යුතුයි. විශේෂයෙන්ම ඒක තේරෙනවා, ඒක ගැඹුරට භාවනා කරගෙන යනකොට වටහාගන්න සිද්ධ වෙනවා. අපේ සාමාන්‍ය ජීවිතයක සර්වඥයන් වහන්සේ නමක් හෝ රහතන් වහන්සේ නමක් එක්කලා සසඳලා බලනකොට අපි බොහෝ දේවල් වරදවල වටහාගන්න ගතියක් තියෙනවා. අපිට ඉදිරිපත් වෙන දේවල් පටලවල වටහාගන්න ගතියක් තියෙනවා. ඒකට අපි කියනවා විපල්ලාස ගතියක් කියලා. අපි සඤ්ඤා විපල්ලාස තත්ත්වයකට පත් වෙනවා. අපි ළඟ තියන සංඥා බොහෝ දේවල් බොරු දේවල්. සත්‍යය බොරු කියල හිතාගෙන ඉන්නවා. බොරු දේවල් ඇත්ත කියලා හිතාගෙන ඉන්නවා. මිථ්‍යා සංකල්ප තියෙනවා ගොඩක්. ඒ වගේම අපි ඒවාට කියනවා සඤ්ඤා විපල්ලාස කියලා. ඊගාවට චිත්ත විපල්ලාස කියලා ජාතියක් තියෙනවා. අපි හිතන සිතුවිලි බොහෝ විට හුඟාක් වැරදි දේවල් “හරි” කියලා හිතාගෙන ඒක වෙනුවෙන් අපි ජීවිත පරිත්‍යාගයෙන් ඉදිරිපත් වෙලා උද්ඝෝෂණ, එහෙම නැත්නම් කියාපෑම් කරන වෙලාවල් තියෙනවා. ඒ වාගේම දෘෂ්ටි විපල්ලාස තියෙනවා. දැඩි දෘෂ්ටිගතව ඉන්නවා. අපි හිතනවා ඒ දෘෂ්ටි වෙනුවෙන් මැරුණත් කමක් නැහැ කියලා.

ආන්න ඒ විදියට මේ සඤ්ඤා විපල්ලාස, චිත්ත විපල්ලාස සහ දිට්ඨි විපල්ලාස කියන මේ සේරටම මුල අහේතුකව නෙමෙයි ඇවිල්ලා තියෙන්නේ. ඒවා සියල්ලම ස්පර්ශයක් ඇතුවමයි ඇවිල්ලා තියෙන්නේ.

අපි කියනවා දිට්ඨි විපල්ලාස වගේ තත්ත්වවලට ගියාම උන්මත්තක භාවයක් කියලා. සඤ්ඤා විපල්ලාසවලත් තියෙන්න පුළුවන් උන්මන්තක භාවයක්. චිත්ත විපල්ලාසවලත් තියෙන්න පුළුවන් උන්මන්තක භාවයක්. සමහර ඇත්තෝ මත් ද්‍රව්‍ය පාවිච්චි කරපුවහම එකම දේ කියන්න පටන්ගන්නකොට අපට තේරෙනවා එතන මොකක්දෝ විපල්ලාස ගතියක් තියනව කියල. ඒ වගේම තමයි සමහරු මත් ද්‍රව්‍ය පාවිච්චි නොකළත් ඒ මනුස්සයා ගත්ත ඒ වැරදි හිත අනුන්ට කියා පාන ගතිය දිහා බලනකොට පැහැදිලිවම විපල්ලාස ගතියක් පේනවා. නමුත් ඒ විපල්ලාසය කවදාවත් ඒ පුද්ගලයට අහම්බෙන් ආපු එකක් නෙමෙයි. ඒක ඒ පුද්ගලයා තුළ තියෙන ස්පර්ශයක් නිසයි කියන්නේ. අතගාලමයි කියන්නේ. ඒකයි ඒක අරින්න බැරි.

ඒකෙදි මට මතකයි, ඔය මේ කාගෙන් හරි ඉගෙනගත්ත දෙයක් වෙන්න ඇති. නමුත් වටින වචනයක්. ධම්මනිසන්ති ස්වාමීන් වහන්සේ ඉන්න කාලේ කියල තියනව පිස්සු වුණත් සනීප කරගන්න ක්‍රමයක් තියෙනවා. අපි පිස්සයි පිස්සයි කිව්වට ඒක හරියන්නේ නැහැ. ඒක වැඩි වෙනවා මිසක් පිස්සුව සනීප කරගන්න පුළුවන් වෙන්නෙ නෑ. පිස්සුව සනීප කරන්න නම් ඒ මනුස්සයා කෙරෙහි ඒ පිස්සුවට ක්‍රමානුකූලව වෙදකම් කරනවා. පිස්සුව සනීප කරගන්න ක්‍රමයක් තියෙනවා නම් පිස්සුව හැදෙන්නත් ක්‍රමයක් තියෙන්න එපැයි. කවදාවත් අහේතුකව පිස්සු හැදෙන්නේ නැහැ. පිස්සු හැදෙන්නේ ඒ මනුස්සයා යම් කිසි දෙයක් පැහැදිලිවම ස්පර්ශ කරලා නිසා. මේක බොහෝම පැහැදිලිව, ස්පර්ශය නිසාමයි සංඥා විපල්ලාස ඇති වෙන්නේ, ස්පර්ශය නිසාමයි චිත්ත විපල්ලාස ඇති වෙන්නේ, ස්පර්ශය නිසාමයි දෘෂ්ටි විපල්ලාස ඇති වෙන්නේ. ඒ නිසා පළවෙනිම බ්‍රහ්මජාල සූත්‍රයේ සර්වඥයන් වහන්සේ දෘෂ්ටි 62 ක් විස්තර කරනවා. ඒ හැම දෘෂ්ටියක්ම හමාර කරලා කියනවා, **තදපි ඵස්සපච්චයා.**

යම් කිසි කෙනෙක් කියලා තියෙනවා නම් මේ ලෝකය ඒකාන්තයෙන්ම දෙවියන් වහන්සේ මැව්වයි කියලා, ඒ මනුස්සයා අහසින් අරගෙන නෙමෙයි ඒක කියන්නේ. ඒ මනුස්සයා ඒක ස්පර්ශ කරලා තියෙනවා. කොහොමද? පෙර ආත්ම දැකලා තියෙනවා. ඉස්සෙල්ලාම මේ ලෝකෙට ඇති වෙච්ච බ්‍රහ්මයා හිතුවා මම තමා මේ

ලෝකේ ලොක්කා, මට හිතෙන දේ වෙනවා කියලා. ඉතින් එයා හිතෙන දේ අනුව පහළ වෙන හැම සතෙක්ම හිතනවා අපිට එන්න ඉස්සෙල්ලාත් මුලින් හිටියා මේ බ්‍රහ්මයා; මේ බ්‍රහ්මයා හිතාගෙන ඉන්නවා එයා තමා අපිව මැව්වේ කියලා. බලනකොට ඇත්තයි. අපි එන්න ඉස්සෙල්ලා එයා හිටියා. අපි ඉවර වුණායින් පස්සෙත් ඉන්නවා. ඒ නිසා ඒ දෘෂ්ටි අපි මේ නිකම් අහසින් ගත්තයි කියලා හෝ අපිට තරහට ඇති කරගත්තා කියලා කියන්න බැහැ. ඒකත් ස්පර්ශයක් ඇතිවමයි කතා කරන්නේ. ඒ නිසා අපි ඒ දෘෂ්ටිගත පුද්ගලයාට ගහන්න බනින්න ගියාට ඒ මනුස්සයා අවංකව හේතු කරුණු ඇතිව කතා කරන්න ගත්තොත් අපිට පස්සට යන්න වෙනවා.

ඒ නිසා සර්වඥයන් වහන්සේ කියන්නෙ කවදාවත් ඒ දෘෂ්ටිවලට විරුද්ධ වෙලා බැහැ. ඒ දෘෂ්ටි අවබෝධ කරගන්න ඕනැ. ඒ දෘෂ්ටි අවබෝධ කරලා ඒ දෘෂ්ටි ජාලයෙන් එගොඩට යන්නයි බ්‍රහ්මජාල සූත්‍රය දේශනා කළේ. එහෙම නැතුව ඒ දෘෂ්ටිගත පුද්ගලයෝ මරලාවත් එයාලට සිර දඬුවම් දීලවත් එහෙම නැත්නම් පිස්සු කියලවත් පදනම් විරහිත කතා කරනවා කියලවත් බැහැ. මේක මං ඉදිරිපත් කළේ මොකද? නිවන් දකිනකල් අපි ළඟත් මොකක් හරි දෘෂ්ටියක් තියෙනවා. ඒ දෘෂ්ටිය ඒ පුද්ගලයා ගන්නෙත් අපිට තරහට නෙමෙයි. වෙන කෙනෙක් එක්ක තරහකට නෙමෙයි. හැමදම ස්පර්ශ කරන දේවලින් එයා ඒ වැරදි දෘෂ්ටි දිගටම පෝෂණය කරනවා. ඒක නිසා දෙන්නෙකුට තුන්දෙනෙකුට එකම වස්තුවක් පෙන්නුවොත් ඒ දෙන්නා තුන්දෙනා එකම වස්තුව විවිධාකාරයටයි විස්තර කරන්නෙ. මොකද, කලින් ගත්තු දෘෂ්ටිය අනුව, කලින් ගත්තු සංඥ අනුව, කලින් ගත්ත චිත්ත අනුව. ඒ නිසා පේනවා ඒ වැරදි දෘෂ්ටිවලට සංඥාවලට චිත්තවලට ස්පර්ශය පැහැදිලිවම උදව් වෙනවා. ස්පර්ශයට යනකල් කෙලෙස් ඇති වෙලා නැහැ. නමුත් ඒක පදනම් කරගෙන නා නා ප්‍රකාර සංඥ ඇති කරගන්නවා. සිතුවිලි ඇති කරගන්නවා. දෘෂ්ටි ඇති කරගන්නවා.

ඒ නිසා අපේ දැනට තියෙන උන්මන්තක භාවය, **සබ්බෙ පොථුජ්ජනා උම්මත්තකා** කියලා සර්වඥයන් වහන්සේ කිසිම ජාති භේදයකින් තොරව විස්තර කරලා දීල තියෙනවා. ඒ නිසා අපිත් ආර්ය භාවයට පත් වෙනකල් රහත් භාවයට පත් වෙනකල් උන්මත්තක භාවය තියෙනවා. විපල්ලාස තියෙනවා. අන්න ඒ විපල්ලාස වෙනුවෙන් අපි

නිතරෝම බලන්න ඕනැ මේකට පදනම් වෙලා තියෙන මේ විපල්ලාස ඇති වෙන්න තෘෂ්ණාව ලැගගෙන තියෙන්නේ කොහෙද? හැමදම මේ තෘෂ්ණාව අලුත් වෙන්නේ කොහොමද? ඇහේ අලුත් වෙනවා. රූපයේ අලුත් වෙනවා. ඇහේ උපදින හිතේ අලුත් වෙනවා. මේ තුන එකතු වීමක් නිසා ඇති වෙන ගැටීම - ස්පර්ශය අලුත් වෙනවා. අද ඉදිරිපත් කරන්න හදන්නේ ඒ නිසා ඇති වන වේදනාව නිසාත් අපේ තියෙන විපල්ලාස අලුත් වෙනවා. ඒ නිසා ස්පර්ශය බොහෝමත්ම වැදගත් චෛතසිකයක්. හුඟාක් දේවල්වලට මුල් වන චෛතසිකයක්. ස්පර්ශය පදනම් කරගත්තයින් පස්සේ තමා **චක්ඛුසම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං** - මේ චක්ඛුසම්ඵස්සය නිසා පහළ වන යම් වූ වේදනාවක් වෙනවා නම් ඒකත් ලෝකේ සාමාන්‍ය පෘථග්ජනයා භාරගන්නේ බොහෝම ප්‍රිය දෙයක්, මිහිරි දෙයක් විදියට. ඒකත් තෘෂ්ණාවට හේතු වෙනවා.

මෙතන හැබැයි වේදනාවට එනකොට යම් කිසි ඉස්පාසුවක් තියනව. ඒ මොකද, වේදනාවට එනකොට ආධුනිකයාට වුණත් දැනගන්න පුළුවන් වින්දනය කරන්න පුළුවන් තරමටම අර චිත්ත වීථිය මෝරලා. භාවනාවෙන් අල්ලන්න පුළුවන්. ඒක නිසයි කායානුපස්සනාවට පස්සේ වේදනානුපස්සනාව ඉදිරිපත් කරල තියෙන්නේ. කායානුපස්සනාව ප්‍රධාන වශයෙන්ම රූප ධර්ම - පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන උපාදාය රූප පදනම් කරගෙන රූප ධර්ම ගැන කතා කරනවා. ඊගාවට තියෙන චෛතසිකවලින් හුඟාක්ම ගොරෝසු පහසුවෙන්ම අහු වෙන චෛතසිකය තමා වේදනාව. එතන භාවනාවට නංවන්න පුළුවන්. අද ලෝකේ සමහර භාවනා ක්‍රම තියෙනවා ප්‍රධාන වශයෙන්ම වේදනානුපස්සනාව මුල් කරගෙන. කායානුපස්සනාවේ ටික වේලාවක් යනකොට යෝගාවචරයා වේදනානුපස්සනාවට දැන හෝ නොදැන කැමැත්තෙන් හෝ අකමැත්තෙන් වැටෙනවා. ඒක භාවනා කටයුත්තක්. ආන්න ඒ වේදනානුප්සසසනාවට මුල් වෙන චෛතසිකය තමා මේ සතිපට්ඨානයේ ධම්මානුපස්සනා කොටස වශයෙන් මේ විස්තර කරන්නේ **චක්ඛුසම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.**

චක්ඛුසම්ඵස්සය පදනම් කරගෙන යම් වේදනාවක් පහළ වෙනවා නම් ඒකත් දැනගන්න හැම කෙනාම ඒකට ප්‍රිය ස්වභාවයක් දක්වනවා,

ඇහේ පහළ වන වින්දන මත. ඒ වාගේම මිහිරි ස්වභාවයක් ඇති කරගන්නවා. අපි මේකට කියනවා සාහිත්‍ය රස වින්දනය කියලා. මේ නිසා සාහිත්‍ය පැත්ත, සෞන්දර්ය පැත්ත අගය කරන කෙනෙක් නම් මේ රස වින්දනය ඒකාන්තයෙන්ම ලෝකයේ ඉතාමත්ම සුන්දර දෙයක් විදියට අපි දකිනවා. සංගීතයට ප්‍රිය ඇත්තෝ **සොතසම්ඵස්සජා** වේදනාව ගැන ඔය වාගේම කතා කරනවා. ඒ විෂයෙහි එක එක ඉන්ද්‍රියට සම්බන්ධව ඒ ලෝකේ තියෙන සෞන්දර්යාත්මක පැත්ත මුළු ලෝකෙම හරහා පැතිරිච්ච භාෂාවක් වගේ. ඒක නිසා ඇහැ සම්බන්ධ කරගෙන ඇත්තා වූ **චක්ඛුසම්ඵස්සජා** වේදනාවේදී දර්ශන රූප, සංදර්ශන මේ වගේ දේවල්වලින් ලෝකේ පිරිලා තියෙන්නේ. ඒ මොකද, සාමාන්‍යයෙන් වේදනා චෛතසිකවලම ගැනෙන දුක්ඛ වේදනා, සුඛ වේදනාව, අදුක්ඛමසුඛ වේදනා කියල ලේසියට තුනට කඩලා පෙන්වන දේ මේ මුළු ලෝකෙම සුඛය ළං කරගන්නටත් දුක් ඈත් කරගන්නටත් කෙටිකාලීනව හෝ වේවා දීර්ඝකාලීනව හෝ වේවා ක්‍රම හොයනවා.

ඒ ක්‍රමවලින් දුක වසාගැනීමට ලාභම ලේසිම ලාමකම ළමාම බොළඳම ක්‍රමය තමයි සෞන්දර්ය පැත්ත හොයන එක. හැබයි සෞන්දර්ය අගය කරන කට්ටිය මේ කතාව ඇහුවොත් එහෙම අපිත් එක්ක රණ්ඩු කරනවා. මොකද, ඒ කට්ටියට පේන්නේ මුළු ලෝකයම සෞන්දර්ය වගේ තමයි. නමුත් මේ සෞන්දර්ය මට්ටමට ගියාට පස්සේ, වෙන විදිහකට කියනවා නම් මේ දුක්ඛ වේදනාව සුඛ වේදනාවක් මාර්ගයෙන් යටපත් කරගෙන ගියාට පස්සේ අභාග්‍ය සම්පන්න විදියට සාධාරණ තැන කොතනද අසාධාරණ තැන කොතනද කියලා සීමාව නොදන යනවා. එහෙම නැත්නම් ආචාර ධර්ම පැවැත්විය යුත්තේ මෙතැනයි, නොපැවැත්විය යුත්තේ මෙතැනයි කියන එක අමතක කරගෙන යනවා. ධාර්මික පැත්ත මේකයි අධාර්මික පැත්ත මේකයි කියන එක අමතක කරගෙන යනවා. ඒක හින්ද ඔය සෞන්දර්ය දිගේ යන හුඟදෙනෙකුගේ ජීවිත අසාර්ථකයි. සදාචාරයට විරුද්ධ වෙනවා. සෞන්දර්ය බොරු නෙමෙයි, නමුත් සෞන්දර්ය ලබන්න පුළුවන් සීමාව මෙන්න මෙතනින් එහාට හොඳයි. මෙතනින් එහාට නරකයි කියන සීමාව මත් වෙන ගතියේ ඉන්න සෞන්දර්යවාදීන්ට පේන්නේ නැති නිසා ඒ ඇත්තෝ සමහර වෙලාවට ඔය වීදුරු ගෙවල්වල ඉඳන් ඇඳුම්

මාරු කරනවා වගේ ඉතාමත්ම තමන්ට නොගැළපෙන අශෝභන දේවල්වලට යනවා.

අන්න ඒ වැඩේට යනකොට මේ චක්ඛුසම්ඵස්සජ වේදනාව සුඛයක් හොඳක් මිහිරියාවක් ලෙස ගන්නව කියන්න හොඳ සාක්ෂියක් එතැන ලැබෙනවා. නමුත් ඒ මට්ටම ඉතාමත්ම දුක සේ ඉතාමත්ම අමිහිරිව ඉතාමත්ම අකැමැත්තෙන් සදාචාරය වෙනුවෙන් කැප කරන්න වෙනව. එතකොට අවුරුදු තිහ හතළිහ පනිනව. තමතමන්ගේ දරුවො ඉන්නකොට ශිෂ්‍යයෝ ඉන්නකොට තමතමන්ගේ බාලයෝ ඉන්නකොට අර කලින් සෞන්දර්යාත්මකව හොඳින් හෝ නරකින් කරපු දේවල් ඉතාමත්ම දුක සේ පැත්තකට දල ඔන්න හොඳ නරක දෙක තෝරන්න, සදාචාර හා සදාචාර නැති එක තෝරන්න, ඇවතුම් පැවතුම් තෝරන්න, ආචාර ධර්ම තෝරන්න සිද්ධ වෙනව. ඉතාමත්ම දුක සේ මේක අපි කරනව. ඊට පස්සෙ කියනව සෞන්දර්යට වඩා උත්තමයි හොඳයි මේ ආචාර ධර්ම - හොඳ නරක දෙක. හැබැයි එතන ලොකු කැප කිරීමකින් තමයි එතනට යන්නේ. නමුත් ඒ ආචාර ධර්ම හොඳ වුණත් නරක වුණත් සුනාමිය ආපු වෙලාවේ දෙකම හෝදගෙන ගියා. හොඳින් හිටපු ඇත්තොත් හෝදගෙන ගියා. නරකින් හිටපු ඇත්තොත් හෝදගෙන ගියා. දැන් ඉතුරු වෙලා තියනව මේ සදාචාරයට වඩා සත්‍යය කියන එක මොකක්ද කියල හිතාගත්තා නම් හොයාගත්තා නම්, සුනාමිය ආවත් එකයි නාවත් එකයි.

ඒ නිසා සෞන්දර්ය කියන එක ප්‍රතික්ෂේප කරල, හොඳ නරක දෙක ආචාර ධර්ම තත්ත්වෙට ආවට ජීවිතයක එච්චර පිරිච්ච බවක් විශේෂයෙන් මරණයෙන් කෙළවර වෙනවා කියන ධර්මය දන්න ජීවිතයක පිරිච්ච බවක් එන්නේ නැහැ. එතනට ගියාට පස්සෙ සත්‍යය මතු කරගන්න වෙනව. සත්‍යය අහපුවහම තේරෙනව කොච්චර දුක කියන එක සුඛයෙන් වහන්න හැදුවත් ලෝකේ පුරාම පැවතිල තියෙන්නෙ දුකමයි, දුක්ඛ සත්‍යයමයි. ඕක සුඛ සංඥාවෙන් වහන්න ගියාට පැලැස්තර අලවන්න ගියාට සුළු කාලෙකට කරතැහැකි. ඒ වුණාට සම්පූර්ණයෙන් මරණයෙන් කෙළවර වන ජීවිතයක් නම්, ඒක අපි දන්නවා නම්, අවසානයේ හොඳින් නරකින් ජීවත් වීමත් ඉක්මවලා, වෙනත් විදිහකට කියනවා නම් සීලයක් ඉක්මවලා සමාධියක් ඉක්මවලා අපිට විදර්ශනාවේ තියෙන **අනිච්චං දුක්ඛං අනත්තං** කියන ත්‍රිවිධ සත්‍යය, ත්‍රිලක්ෂණය නිතර

මෙනෙහි කරන්න වෙනවා. එතකොට දුක්ඛානුපස්සනාවට හෝ වේදනානුපස්සනාවට විශාල අර්ථයක් ලැබෙනවා. චක්ඛුසම්ඵස්සජා වේදනාව අපි ප්‍රිය වශයෙන් ගන්නව, මිහිරි වශයෙන් ගන්නව. මෙන්න මෙතන තණ්හාව උපදිනව. ප්‍රිය වශයෙන් ගත්තට මිහිරි වශයෙන් ගත්තට එතන තණ්හාවට පෝෂණයක් ලැබෙනව පොහොරක් ලැබෙනව කියල දනගන්න නම් ඒ පුද්ගලයා සෞන්දර්ය පැත්තෙන් මේ වාක්‍යය දිහා බැලුවට රස දනෙන්නෙත් නැහැ තේරෙන්නෙත් නැහැ. ආචාර ධර්ම පැත්තෙන් බැලුවත් රස වැටෙන්නෙත් නැහැ. ඒ පුද්ගලයට සිද්ධ වෙනව සත්‍ය දර්ශනයෙන්ම මේක දිහා බලන්න.

මේ නිසා ඇහැත් හොඳයි කියල අපි ගන්නව. රූපයත් හොඳයි කියල අපි ගන්නව. ඇහේ උපදින හිතත් හොඳයි කියල අපි ගන්නව. ඊට පස්සෙ මේ තුන එකතු වීම නිසා ඇති වන ස්පර්ශයත් හොඳයි කියල ගන්නව. ඉන් ඇති වන දර්ශනය දකීම ඒත් හොඳයි කියල ගන්නව. මේ හතරපොළේදිම තෘෂ්ණාව පහළ වෙන්න පුළුවන්. ඒ තෘෂ්ණාව පහළ වෙන්න හේතු වෙන්නෙ මොකක්ද? ඇහෙන් රූප දකීමේදී රූපය විෂයෙහි මත් වීමෙන්මයි. ඇහැ විෂයෙහි මත් වීමෙන්මයි. ඇහේ උපදින හිත හොඳයි කියල මත් වීමෙන්මයි. එයින් ඇති වෙන ස්පර්ශය විෂයෙහි මත් වීමෙන්මයි. ඒ නිසා ඇති වන වේදනාවෙන් මත් වීමෙන්මයි.

මෙන්න මේ මත් වීම නොවී, දකින වෙලාවේම දකින බව මෙනෙහි කරගන්න පුළුවන් නම්, ඇහැ විෂයෙහි මත් වන ස්වරූපය ඉක්මවල දකින බව මෙනෙහි කළොත්, ඇස් ඇත්තේ අන්ධයකු සේ ඇහැ විෂයෙහි අපි ශික්ෂණය කරනව නම්, බොහෝ කල් ශික්ෂණය කළොත් අපට දුක අඩු වීම අත්දකින්න පුළුවන්. ඒ මාර්ගයෙන් තේරුම්ගන්න පුළුවන්, රූප විෂයෙහි ඇහැ විෂයෙහි ස්පර්ශය විෂයෙහි විඥනය විෂයෙහි වේදනාව විෂයෙහි රස විඳිමින් රස විඳිමින් හිටපු ජීවිතය වෙනුවට ඒ ඒ වෙලාවෙදි මේ යාන්ත්‍රණය මෙහෙමයි කියල දනගන්නකොට විශාල තණ්හාවට ඉඩ නොලැබීයාමක්, තණ්හාව නොඉපදීමක් එතන සිද්ධ වෙනව කියල. ඒ සිද්ධ වීම වෙන්න ඉස්සර වෙලයි යෝගාවචරයා ආනාපානය මාර්ගයෙන් මේක තේරුම්ගන්නෙ. පිම්බීම හැකිළීම මාර්ගයෙන් මේක තේරුම්ගන්නෙ, වෙනත් වචනයකින් කියනව නම් කායානුපස්සනාවෙන් තේරුම්ගන්නෙ.

වෙන විදියකට කියනව නම් පර්යංකයේදි මේක තේරුම් අරගෙන සක්මනට ගියාට පස්සේ පර්යංකයෙන් ඇති වෙච්ච හොඳ සමාධි හිතකින් යුක්තව සක්මන් කරනව නම්, ඒ පුද්ගලයා තමන්ගෙ වම වශයෙන් දකුණ වශයෙන් කායානුපස්සනාව වශයෙන් මෙනෙහි කරගෙන යනකොට සක්මන කෙළවරින් කවුරුහරි යනව ඡායාව පේනව. පේනකොටම අර ඒකාකාරීව වම වශයෙන් දකුණ වශයෙන් මෙනෙහි කරමින් හිටපු හිත ඇහැට යනව. රූප දර්ශනය විෂයෙහි වෙනස් වෙනව. ඒ වෙනස් වෙන විෂය එනකොටම එක්කො යෝගාවචරයා භාවනා කරන මේ වෙලාවේ කවුද මේ ඇවිදින්නේ කියල එක්කො තරහක් හෝ උපදිනව. ඊට පස්සේ බලනව කවුද මේ පුද්ගලයා ස්ත්‍රියක්ද පුරුෂයෙක්ද කියල. එහෙම අර ඉපදිච්ච දකින රූපය ස්ථිර කරනවා. ස්ථිර කරලා ඒක දිහා බලලා සණ්ඨාන වශයෙන් ආකාර වශයෙන් ස්ත්‍රී පුරුෂ වශයෙන් වම දකුණ වශයෙන් රූප ගන්නව. එහෙම නැත්නම් මේ වමේ දකුණේ ඒකාකාරව ඉන්න වැඩේට වඩා කොච්චර හොඳද මේ ඇහැට රූපයක් දකින්න තිබුණා නම්, කියලා ලස්සන කුරුල්ලෙක් නම් සමනලයෙක් නම් ඒක දිහා බලලා ඒ කෙරෙහි ආසාව ඇති කරගන්නවා. එහෙම නැත්නම් එතන වෙලා තියෙන්නේ වැරදීමක් නම් ඒක තේරුම්ගන්නවා, දැකීම් තුළින් මං වරද්දවල තේරුම්ගත්තා ආදී වශයෙන් කායානුපස්සනාවෙ හිටපු හිත ඔන්න හැරෙනවා. කයේ තිබුණ හිත ඇහැට හැරෙනවා.

හුඟක් වෙලාවට මේක දැකීමක් වශයෙන් මෙනෙහි කරන්නම පෙළඹෙනවා අඩුයි. පෙළඹුණත් කවදාක්වත් මේ ඇසය, මේ රූපයය, මේ ඇහේ උපන්න හිතය, මේ චක්ඛුසම්ඵස්සය කියන මේ තුනේ එකතුවය, මේ වේදනාවය කියල අර විස්තර මොනවක්වත් අපට ඒ වෙලාවේ දැකීම මෙනෙහි කරන වෙලාවෙ දකින්න හම්බ වෙන්නෙ නැහැ. අපි එකක් සිද්ධ වෙනවා මෙනෙහි කරන්න පටන් අරගත්තොත් අර දකින රූපය විෂයෙහි මත් වීම මඳකට බාල වෙනවා. මම මේක දැක්කා හොඳයි, ඇහැක් මට තිබුණා හොඳයි, ඇහැ විෂයෙහි මත් වෙලා හොඳයි කියලා ගන්න ස්වරූපය බාල වෙනවා මෙනෙහි කිරීමට හිත යන නිසා.

මෙන්න මේ විදියට සක්මනේ හෝ වේවා එදිනෙදා වැඩවලදී හෝ වේවා අපේ ඇහැට රූපයක් මතු වෙච්ච වෙලාවෙදි ඒ රූපය විෂයෙහි දකිනකොටම අප්‍රමාදීව මෙනෙහි කරන්න පටන් අරගත්තොත් එක්කෝ

ඇහැ, නැත්නම් දකින රූපෙ, නැත්නම් දැකීමට හේතු වන හිත, නැත්නම් වේදනාව, නැත්නම් ස්පර්ශය කුමක් හෝ එක ධර්මයක් තේරුම්ගැනීමට ප්‍රස්තාව ලැබෙනවා. ඒ වෙලාවේදී දැකීම මෙනෙහි කරන පුද්ගලයා ඇස් නැත්තෙක් වගේ තමයි කටයුතු කරන්නේ. ඇස් ඇත්තේ නමුත් අන්ධයෙකු සේ තමයි කටයුතු කරන්නේ. මොකද, දැන් ඒ දකින රූපයේ අංග ප්‍රත්‍යංග ව්‍යංජන අනුව්‍යංජන හොඳ නරක සුභ අසුභ බලනවා වෙනුවට, දකින බව මෙනෙහි කරනවා. ආන්න ඒ විදියට භාවනාවේදී මේ ඇහේ පහළ වන්නා වූ තෘෂ්ණාව සම්බන්ධයෙන් මෙනෙහි කිරීම මාර්ගයෙන් විපස්සනාවට නංවන්න භාවනාවට නංවන්න නම්, අපි පැහැදිලිවම සර්වඥ දේශනාවේ සඳහන් වන විදියට රූපයත් තණ්හාවට මුලක්, ඇහැත් තණ්හාවට මුලක්, ඇහේ උපදින හිතත් තණ්හාවට මුලක්, ස්පර්ශයත් තණ්හාවට මුලක්, වේදනාවත් තණ්හාවට මුලක් බව මූලධර්ම වශයෙන් අහල තියෙන්න ඕනැ. අහල ඒක තර්කයට නගලා, ඒක වෙන්න පුළුවන්, මේකෙන් මං අමාරුවේ වැටෙන්න පුළුවන් කියන එක තේරුම් අරන් තියෙන්න ඕනැ.

ඒ තේරුම් අරගත්තත් යම් වෙලාවක දකින වෙලාවෙදීම වහාම සතිමත් වෙලා, මං මේ සක්මන් කර කර හිටපු කෙනෙක්, මේ සක්මනේදී මේ මට රූපයක් පෙනුණේ කියන එක වැටහෙනකොටම දැකීම වශයෙන් මෙනෙහි කරන්න පුරුදු වුණොත් ඒ පුද්ගලයාට මේවායේ ඕළාරික යමක් වැටහෙන්න පුළුවන්. මේ වෙලාවේ රූපයකටයි මගෙ හිත ගිහිල්ලා තියෙන්නේ, නැත්නම් රූපය නිසා ඇති වෙච්ච වේදනාවටයි හිත ගිහිල්ලා තියෙන්නේ ආදී වශයෙන් ඒ සංසිද්ධිය ගොරෝසු ප්‍රකට දේකින් පටන් අරගන්නවා. දිගට දිගට යනකොට ඒ දේවල් දැකීමක් දැකීමක් පාසා මෙනෙහි කරනකොට ඒ විෂයෙහි පවතින්නා වූ ස්පර්ශය වෙනස් වන හැටි, දකුණු පයේ පැවතුණ ස්පර්ශය බල බල හිටිය එක ඇහේ ස්පර්ශයක් බවට පත් වුණ හැටි, කයේ කායානුපස්සනාවක් වශයෙන් කය අනුව බලමින් හිටිය හිත දැන් ඇහේ රූප අනුව දැකීම අනුව බලමින් ඉන්න බව තේරුම්ගන්න පුළුවන්.

ඒක මේ එක සැරයක් අහල හෝ එක සැරයක් හිතට වැදුණ නිසා හෝ එක සැරයක් මෙනෙහි කරපු නිසා නෙමෙයි. ලක්ෂ වාරයක් අහන්න ඕනැ. ලක්ෂ වාරයක් කල්පනා කරලා හිතාගන්න ඕනැ මේකෙන් මං

හැමදාමත් අමාරුවේ වැටෙනවා. ඒකයි **අරඤ්ඤගතො වා රුක්ඛමූලගතො වා සුඤ්ඤාගාරගතො වා** කියලා, ඇහැ කඩලා යන ජාතියේ වෛවර්ණ දේදුනු වර්ණ සුව පරිසරයෙන් අපි වෙන් වෙන්නේ. මොකද, ඒ පරිසරවල තියෙන දර්ශනවලින් තණ්හාව උපදිනවා සීඝ්‍රයි. ලැගගන්නව සීඝ්‍රයි. ඒකයි අරඤ්ඤගත වෙන්නේ. අරඤ්ඤගත වුණත් දවසක අපි පර්යංකය තුළින් ඇති කරගත් සමාධිය තුළින් කායානුපස්සනාවෙන් ඇති කරගත් සමාධිය තුළින් සතිය තුළින්, රූපයක් ඇති වෙනකොටම ඇහැ ක්‍රියාත්මක වෙනකොටම මෙනෙහි කරනව නම් චක්ඛුසම්ඵස්සජ වේදනාව අල්ලගන්න පුළුවන්. එයිනුත් පහළ වෙනකොටම එහි ඇති සුඛ දුක්ඛ අදුක්ඛමසුඛ වේදනා ප්‍රකටව වැටහෙන්නේ කාය විඤ්ඤාණයට. ඒකට උපමාවක් වශයෙන් කියනවා කාය සම්ඵස්සය කුළුගෙඩියකින් කිණිහිරයකට ගහන්නා වගේ ඕළාරිකයි. කිණිහිරයක් උඩ තියෙන පුළුන් කැබැල්ලකට කුළුගෙඩියකින් ගැහුවොත් පුළුන් කැල්ල තිබ්බයි කියලා වෙනසක් ඇත්තේ නැහැ. කුළුගෙඩිය පුළුන් කැල්ලක් කාගෙන ගිහිල්ලා කිණිහිරයට වදිනවා.

අන්න ඒ වගේ තමා කායානුපස්සනාවේදී කායප්‍රසාදය, විඤ්ඤාණය පහළ වෙනකොට ඒක සුඛ දුක්ඛ ගති ලකුණු ඇතුවමයි පහළ වෙන්නෙ. ඒ නිසා භාවනා කරන යෝගීන් බොහෝ විට ඒ ඕළාරිකව මතු වෙන සුඛ දුක්ඛ වේදනා දැකගන්න පුළුවන් කායානුපස්සනාවෙන්මයි පටන්ගන්නෙ. ආධුනිකයාට ලේසියි. විඤ්ඤාණය පහළ වුණොත් ඇහේ, ඒක උපේක්ඛා වශයෙන් පහළ වෙලා පස්සේ පහළ වෙන්නා වූ මනෝද්වාර චිත්ත වීථිවල තමයි හොඳ නරක දෙක පේන්නේ. ඒක නිසා ඇහෙන් දකින රූපයේ හොඳ නරක බව භාවනාවේදී වටහාගන්න, කයේදී තරම් කායප්‍රසාදයේ තරම් පහසු නැහැ. නමුත් කවද, හෝ වටහාගත යුතුයි. ඒක නිසයි ධම්මානුපස්සනා කොටසෙදි ඉස්සෙල්ලාම ඇහැ සම්බන්ධ කරලා පෙන්වන්නේ. ඒ මොකද, කයේ පහළ වෙනවට වඩා ඉතාමත් යුහුසුලුව ලක්ෂ කෝටිවාරයක් නිතරෝම ඇහේ පහළ වෙනවා. ඒ නිසා අපි කවද, හෝ ඇහැ මේ ධර්මතාව තුළින් අවදි කරවන්න ඕනැ. මේක කොච්චර භාවනාවෙදි සලකනවද කියල කිව්වොත්, කායානුපස්සනාවට හිත යොදන පර්යංකයෙහිදී ඇස් දෙක වහගන්නයි කියල කියනවා. මොකද, නිකන් හෝ ඇස් දෙක ඇරගෙන

හිටියොත් අපට කවදවත් ආනාපානයට හෝ පිම්බීම හැකිළීමට හිත යන්නේ නැහැ. ඒ ඉස්සරහා තියන කළාලය හෝ බිම හෝ ඒ දකින දර්ශනය තමයි අපේ හිත පැහැරගන්නේ.

ඒක නිසා යම් වෙලාවක අපි කායානුපස්සනානුකූලව පර්යංක භාවනාවක යෙදී ඉන්නකොට, මොනම කාරණාවක් නිසා හෝ ඇස් දෙක ඇරියොත් මෙතෙක් වෙලා වඩපු සතියයි සමාධියයි දෙකම විසිරිලා යනවා. ඒ තරමටම මේ ඇහැ අපිව මත් කරවනසුලුයි. අපිව පැහැරගන්නාසුලුයි. අපිව නොමග යවනසුලුයි. වැඩියෙන්ම කෙලෙස් පහළ වෙන්නේ ඇහේ. මේ නිසා ඒ කෙලෙස් පහළ වීමේ ඇහේ පහළ වෙන උග්‍ර යුහුසුලු කෙලෙස් බළමුළුව කපා දැමීමේ වැඩපිළිවෙළ අපි පටන් අරගන්නේ කායානුපස්සනාවෙන්. කායානුපස්සනාව අනුවත් මේ ධම්මානුපස්සනා කොටසෙ දැක්වෙන විදිහට කායසම්ඵස්සජ වේදනා කියලා එකක් තියෙනව නෙ. අන්න ඒක තමයි අපි භාවනාවේදී බොහෝ විට ඉස්සර කරගන්නේ. ඇත්තටම ඉස්සර කරගන්නවා නෙමෙයි ඉස්සර වෙනවා. ආනාපානය දිගේ ටිකක් වෙලා ඉන්නකොට වේදනා පහළ වෙනවා. ඒ මොකද, අපි වේදනා කියනකොට වේදනා චෛතසිකය එදිනෙදා ජීවිතය ගන්නකොට සුඛ වේදනාව, දුක්ඛ වේදනාව, අදුක්ඛමසුඛ වේදනා කියල තුනට කඩලයි භුක්ති විඳින්නේ. එයිනුත් දුක්ඛ වේදනාව ඉතාමත්ම ප්‍රකටයි.

මේකට තමා මනුස්ස ජාතියම සත්ත්ව ප්‍රජාවම විරුද්ධව සටන් කරන්නේ; මේ දුක නැති කරන්නයි. හොඳින් හෝ නරකින් කෙටිකාලීනව හෝ දීර්ඝකාලීනව. මේ දෙක අතර ක්‍රමවේද විශාල වශයෙන් පරස්පර විරෝධියි. කෙටිකාලීනව අපි දුක නැති කරගන්න සුඛය මගින් කරන්න හදන වැඩපිළිවෙළ සංසාරය වඩනසුලුයි. දීර්ඝකාලීන වශයෙන් සර්වඥයන් වහන්සේ ඉදිරිපත් කරන ක්‍රමය සංසාරය නතර කරනවා. ඒක නිසා කායානුපස්සනාවේදී මතු වන වේදනාවේදී අපි වේදනා කියන නම යොදන්නේ දුක්ඛ වේදනාවටමයි. ඒ දුක්ඛ වේදනාව පටන්ගැනීමේදී ඉතාමත්ම ප්‍රකටයි, විශේෂයෙන්ම විපස්සනා භාවනාවේදී. ඒ නිසා ඒකට කියනවා දුක්ඛ පටිපදා කියලා. **දන්ධාභිඤ්ඤා දුක්ඛාපටිපදා** කිව්වම ඉතාම දුක සේ දුක බව දැනගෙන දුකට බහින වැඩපිළිවෙළක් මේකේ තියෙන්නේ.

මේ නිසා යෝගාවචරයා හොඳට එදිනෙදා ජීවිතයේ සංසාරයේ දුක විඳපු කෙනෙක් නම්, ඒ පුද්ගලයාට භාවනාවේදී මතු වන මේ දුක -

ඒකට කියන්නේ අපි නිස්සරණසිත දෝමනස්සය කියලා - ඒක දරාගන්න පුළුවන්. මොකද අපි දන්නවා ගේහසිත දෝමනස්සය. ගෙදර දෙරවල්වල, නැත්නම් භාවනාවෙන් තොරව ගත කරන ජීවිතයේ තියෙන දුක ප්‍රමාණ කරන්න බැරි තරම්. ඒ කියන්නේ වස්තු විනාශ, ඥාති විනාශ, ඥාති ව්‍යසන, වස්තු ව්‍යසන, ලෙඩ රෝග ආදිය. අපි ඒක සෞන්දර්යයෙන් වහන්න හැදුවත් හොඳ නරකින් වහන්න හැදුවත් දුක්ඛ සත්‍යය නම් දුක්ඛ සත්‍යයමයි. ආන්න ඒ දුක්ඛ සත්‍යය ස්ථිර වශයෙන් දීර්ඝකාලීන වශයෙන් නතර කරන්න නම් අපි ප්‍රතිපදාවකට බහින්න ඕනෑ. ඒ ප්‍රතිපදාවත් මුල දුකක්. ඒ නිසා ඒ ගෙවල් දෙරවල්වල තියෙන දෝමනස්සය නිස්සරණසිත දෝමනස්සයෙන් අපි යටපත් කරන්නවා.

නිස්සරණසිත දෝමනස්සය කියන්නේ මොකක්ද? පැවිදි ජීවිතයක ආරණ්‍යයක ගත කරන ජීවිතයකත් තියෙනවා දුක්. භාවනා කරනකොට එන දුක්, ආහාර හොයාගැනීමේදි එන දුක්. මේ දුක් අරකත් එක්ක බලනකොට අඩු නිසා ගේහසිත දෝමනස්සය නෙක්ඛම්මසිත දෝමනස්සය මගින් ප්‍රතිෂ්ඨාපනය කරන්නයි කියලා සර්වඥයන් වහන්සේ දේශනා කරනවා. මේක හුඟදෙනෙක් දන්නේ නැහැ. මොකද භාවනා කරන්නේ මෝස්තරයට. එහෙම නැත්නම් අනුන්ට උගන්වන්න. ඉතින් එහෙම කෙනාට පේන්නේ ගෙදර ඉන්නකොට නම් තුන්වේල වළඳලා, හොඳට සැප ආසනවල සැප ඉරියව්වල ඉන්න පුළුවන්. දැන් මෙතනට ආපුවම මේ කොහෙද නැති හාමුදුරු කෙනෙක් ඇවිල්ලා හිටගනින් ඉඳගනින් කියනවා. ඒක කරන්න පුළුවන්ද අපිට? මේක මේ දුක නැති කිරීමක් නෙමෙයි වැඩීමක් නේ කියලා ඒ ඇත්තන්ට මේක මේ පනවාගත්ත දඬුවමක් දඟගෙයි ලෑමක් වගේ වෙනවා.

ඒක නිසා යෝගාවචරයා කල්පනා කරලා බලන්න ඕනෑ පැහැදිලිවම සංසාර දුක තේරුම් අරගෙනද සතර පෙරනිමිති දැකලද පැවිද්ද වුණේ. ඒ පැවිද්ද මාර්ගයෙන් අපි උත්තර දෙන්න හදන්නේ වෙදකම් කරන්න හදන්නේ දුක්ඛ සත්‍යයට නම්, දුක්ඛ සත්‍යය නිදි කරවලා දුක්ඛ සත්‍යය හිරිවට්ටලා පැත්තකට කරලා කරන වෙදකමෙන් උත්තර ලැබෙන්න නැහැ. ඒ දුක්ඛ සත්‍යයත් එක්ක හැප්පි හැප්පී දුක්ඛ සත්‍යයත් එක්ක ගමන් කරමින්මයි, නැත්නම් වේදනා චෛතසිකය මුදුන්පත් කර ගනිමින්මයි අපිට මේ ප්‍රතිපදාව කරන්න වෙන්නේ. මේ

බ්‍රහ්මචරිය රකින්න වෙන්නේ. වණමුඛය පාදන්නේ නැතුව බෙහෙත් කළාට බෙහෙත් වදින්නේ නැහැ.

ඒක නිසා විපස්සනාවේදී ප්‍රධාන ආප්තෝපදේශයක් ඉදිරිපත් කරගන්නවා, යම් වෙලාවක දුක්ඛ වේදනාව ඉදිරිපත් වුණා නම් නිවනට බොහෝම කිට්ටුයි. ඒක ප්‍රතික්ෂේප කරනවා නම් අපි ඒ ප්‍රතික්ෂේප කරන්නේ නිවන තමයි. මොකද දුක්ඛ වේදනාවට හොඳ වීර්ය චෛතසිකයෙන් යුක්තව වීර්යවන්තව මුහුණ දුන්නොත් ඒ දුක්ඛ වේදනාව ඉතුරු කරලා යන්නේ සුඛ වේදනාවක්. ඒක චූල්ලවේදල්ල සූත්‍රයේ ධම්මදින්නා රහත් මෙහෙණින් වහන්සේ විශාඛ උපාසක තුමාට පහදලා දීලා තියෙනවා : දුක්ඛ වේදනාවේ ඇති වීම දුකය. දුක්ඛ වේදනාවේ පහ වීම නැති වීම සැපයි. නමුත් මෝඩයා දහස්වර මැරෙන්නා සේ බියගුල්ලා දහස්වර මැරෙන්නා සේ, දුක්ඛ වේදනාවක් එනකොටම ඒක මුලදීම අයින් කරලා භාවනාවෙන් නැගිටල ගසාදන කෙනා පටන්ගන්නකොටත් දුකෙන් පටන් අරගන්නේ. ඉවර කරන්නේ නැති නිසා නැගිටින්නේ දුකෙන්මයි. ඒ නිසා දුක්ඛ වේදනාවේ දුක කොටස විතරමයි ආශ්‍රය කරන්නේ.

යම් වෙලාවක මේක ඉවර වෙනකල් බලාගෙන ඉන්න පුළුවන් වුණොත් සැපකින් තමා මේක ඉවර වෙන්නේ. අනිවාර්යයෙන්ම දුක්ඛ වේදනාව කියන එක සනාතන ධර්මයක් නෙවෙයි අනිත්‍ය ධර්මයක්. ඒක ආවා, මම දැන් විඳින්නෙ ඒකෙ දුක් කොටස. ඒ බව දැනගෙන ඒකෙන් තමා මේ දුක්ඛ චෛතසිකය වේදනා චෛතසිකය මම අවබෝධ කරගන්න හදන්නේ කියලා ඒකට මුහුණ දුන්නොත් ඒ තුළ ගෙවී යාම තුළ අපට සුඛ වේදනාවක් පහළ වෙනවා. ඒක ගෙවල් දොරවල්වලත් තියෙනවා. සංසාරයෙත් තියෙනවා. කන්දක් නැගි තැන පල්ලමකි, පල්ලම වැටුණම ලෙල්ලමකි කියලා කතාවක් තියෙනවා. අපි කන්ද නගින්නේ නැතුව, ගිය පැත්ත දිගේ ආපහු ආවොත් එහෙනම් එන්න වෙන්නේ ඔළුව බිම තියාගෙන. ලෙස්සලා වැටිලයි ආපහු එන්න වෙන්නේ. කන්ද මුදුන්පත් වුණොත් එහා පැත්තට ගියොත් එහා පැත්තෙ තියෙන්නේ පල්ලම.

මේ වාගේම එකක් දුක්ඛ වේදනාව සම්බන්ධව නෙක්ඛම්ම සිතෙත් තියනවා. දුක්ඛ වේදනාවක් මතු වෙනකොට පුංචි පුංචි දුක්

වේදනා අපි අවබෝධ කරගන්නට ඕනැ. මේ දුක්ඛ වේදනාව මතු වීම දුකයි. නැති වීම සැපයි. මේ ධර්ම දන්නවා නම් අපිට පුළුවන් ඒ දුක විෂයක් කරගන්න. ගෝචරයක් කරගන්න. ඒකේ මුල සිට අග දක්වාම මුල මැද අග පරීක්ෂා කරන්නට ඕනැ, දැකගන්නට ඕනැයි කියලා හිටියොත් සුඛ වේදනාව එනවා. ඒක **මහා සළායතන සූත්‍රයෙහි** සඳහන් කරනවා අර ඉස්සෙල්ලා කිව්වා වගේ ගේහසිත දෝමනස්සය, නෙක්ඛම්මසිත දෝමනස්සය. ඊළඟට සඳහන් කරනවා ගේහසිත සෝමනස්සය, නෙක්ඛම්මසිත සෝමනස්සය. ගෙවල් දොරවල්වල දරුවන්ට හම්බ කරනකොට හදනකොට බොහොම දුකයි. නමුත් ඒ දරුවෝ හැදිලා වැඩිලා රස්සාවල් කරලා පිළිවෙළකට ඉන්නකොට හරි සැපයි.

ඒ වගේ තමා අපි කායානුපස්සනා භාවනාවක් තනාගෙන වඩාගෙන යනකොට බොහෝම දුකයි. මොකද, වේදනා චෛතසිකය ඇවිත් අපිව ගොඩක් වට්ටනවා. නමුත් ඒ වට්ටන දේවල් අපි අභීතව මුහුණ දීගෙන ඉදිරියට යනකොට සැපක් එනවා. ඒ නිසා ගෙවල් දොරවල්වලින් ලැබෙන ආමිස සැපට, ගේහසිත සෝමනස්සයට කියනවා ආමිස සෝමනස්ස කියලා. ඒක ප්‍රතිෂ්ඨාපනය කරන්න කියනවා නෙක්ඛම්මසිත සෝමනස්සයෙන්. නැත්නම් භාවනාවෙදි එන්නා වූ දුක්ඛ වේදනාවට අභීතව මුහුණ දීලා ඒක එහා පැත්ත බලන්න. යන හැටි බලන්න. මගදි නතර කෙරුවොත් දෙකම දුකයි. යනකල්, ඉවර වෙනකල් මුල මැද අග තුනම දැක්කොත් ඒකෙ සැපයක් බලාගන්න පුළුවන්. නමුත් මේක දුකේම වෙස් මාරුවක් මිස අවබෝධයක්වත් නිරෝධයක්වත් නෙමෙයි. දුක්ඛ වේදනාවක් ආවොත් සුඛයෙන් නතර වෙනවමයි.

ඒ වාගේම පැතිකඩවල් දෙකක් තියෙනවා සුඛ වේදනාවේ. මතු වෙනකොට සැපයි, නැති වෙනකොට දුකයි. මේ සුඛ වේදනාවත් අපිත් එක්ක සදතනික නැහැ. අර ආපු හේතු කාරණා දුරු වෙනකල් මුල මැද අග බැලුවා නම් ඒ ජයග්‍රාහී ශක්තියත් එක්ක අධිෂ්ඨාන ශක්තියත් එක්ක සුඛ වේදනාවක් පහළ වෙනවා. අපි පතනවා මේ සුඛ වේදනාව නිත්‍ය වේවා. නමුත් නිත්‍ය වෙන්නේ නැහැ. මේක ඊගාවට නැති වෙලා යනකොට ආයෙ දුකක් මතු වෙනවා. මේ නිසා දුක්ඛ වේදනාව අපි සුඛ වේදනාවෙන් ප්‍රතිෂ්ඨාපනය කරන්න කියලා මූලධර්ම වශයෙන් අවවාදයක් ආදර්ශ පාඨයක් දුන්නට සුඛ වේදනාව ස්ථිර නැහැ.

මෙන්න මේ වැඩපිළිවෙළ දුකෙන් සුඛයට, සුඛයෙන් දුකට මාරු වෙමින් මාරු වෙමින් යද්දි නොසැලී ඒ දෙසම බලාගෙන හිටියොත් අවසානයේ අදුක්ඛමසුඛ වේදනාවට වැටෙනවා. අදුක්ඛමසුඛ වේදනාවට ඇවිල්ලා නතර වෙනවා. මේ අදුක්ඛමසුඛ වේදනාව ඉතාමත්ම ආසන්න අවිද්‍යාවට තමයි. දුක අයින් කරලා සුඛය ගත්ත. දැන් සුඛය ගෙවිලා ගියාට පස්සේ අපි නතර වෙන්නේ උපේක්ඛා වේදනාවෙ. නැත්නම් මේ කියන අදුක්ඛමසුඛ වේදනාවෙ. මේ අදුක්ඛමසුඛ වේදනාව හුඟක් දුරට අවිද්‍යාවට සමානයි. අවිද්‍යාව බව දන්නවා නම්, අදුක්ඛමසුඛ වේදනාව බව දන්නවා නම් ඒක සුඛයක්. නමුත් මං දැන් ඉන්නේ අදුක්ඛමසුඛ වේදනාවේය, නැත්නම් මං දැන් ඉන්නේ අවිද්‍යාවේ කියලා නොදන්නවා නම් ඊට වඩා දුකක් මේ සංසාරයේ ඇත්තෙ නැහැ. ඒ නිසා විශාල සටනක් කරල තමයි, දුක්ඛ වේදනාව යටපත් කරල අපි සුඛ මට්ටමට ගන්නෙ. ඊට පස්සේ ඒ සුඛයත් ගෙවීගෙන ගෙවීගෙන යනකොට ඒ චක්‍ර රාශියකට පස්සේ අදුක්ඛමසුඛයට වැටෙනවා. එතනදි ඔන්න නිදිමත එනවා. ඔන්න කම්මැලිකම එනවා. ඔන්න ඒකාකාරීකම එනවා. මොකක්ද මෙනෙහි කරන්න ඕනැ කියලා නොදැනී යනවා. අරමුණ සියුම් වෙනවා. හැපෙන තැන නොදැනී යනවා. ඉතින් අපි ඒක පිළිබඳව නිදිකිරන්න පටන්ගන්නවා.

මේක තමයි කියන්නේ **දුලලභා ඛණසමපතති තසස විවෙකො විපතති** ඉතාම අමාරුවෙන් අර දුක්ඛ වේදනාව කැප කරලා ඊගාවට සුඛයට ඇවිල්ලා ඒ සුඛයෙන් පස්සේ අපි අදුක්ඛමසුඛයට ආවට පස්සේ ඒ ලැබුණා වූ ක්ෂණ සම්පත්තිය ඒ පුද්ගලයා නොදන්නවා නම්, එහි විවේක ගන්නවා නම් සෞන්දර්ය රසයක්වත් හොඳ නරක සැපයක්වත් මොකක්වත් නැති වල්මත් වෙච්චි පුද්ගලයෙක් බවට, ථීනමිද්ධයට වැටිච්ච කෙනෙක් බවට, අසරණ වෙච්ච කෙනෙක් බවට, ඒකාකාරීකමට වැටිච්ච පුද්ගලයෙක් බවට පත් වෙනවා. හිස් මල්ලක් වගේ වෙනවා යෝගාවචරයා.

මේක මෙහෙම කිව්වට මේකට පත් නොවිච්ච කිසිම කෙනෙක් ලෝකෙ නැහැ. සෑම කෙනාම අදුක්ඛමසුඛ වේදනාවට පස්සේ නිකං හරියට ඇල්මැරිච්ච කිරක් බොන්නා වගේ බොහෝමත්ම එපා කරවන ගතියකට එනවා. නිර්වින්දන ශක්තියකට වැටෙනවා. මේ නිසයි ධම්මානුපස්සනාවේදි ඇහැ ගැනත් දැනගන්න අමාරු වුණාට දැනගත යුතු. මොකද එතන තණ්හාව උපදිනවා. රූපය ගැන දැනගන්න අමාරු

වුණාට මේකට වග කියන්න ඕනෑ නැහැ කියලා අපි හිතුවට රූපයෙනුත් තණ්හාව උපදින්න ඉඩ තියෙනවා. මේ දෙක නිසා ඇති වන විඤ්ඤාණයෙත් තණ්හාව උපදින්න ඉඩ තියෙනවා. ස්පර්ශයේත් උපදිනවා. වේදනාවෙත් උපදිනවා. ඒ නිසා වේදනාව පිළිබඳ මේ තිබෙන යාන්ත්‍රණය දැනගෙන හිටියොත් මේ එක ජීවිතයක් තුළදී සත්‍යය අවබෝධ කරන්න පුළුවන්. නොදැන ඒක හැමදම පර්යේෂණ කර කර හිටියොත් කවදාක්වත් දුක්ඛ වේදනාව සුඛ වේදනාවට ඉඩ දීලා අයින් වෙනවය, සුඛ වේදනාව අදුක්ඛමසුඛ වේදනාවට ඉඩ දීලා අයින් වෙනවය කියල දැන දැකගන්න ලැබෙන්නේ නෑ. අදුක්ඛමසුඛ වේදනාව විෂයෙහි නොදැනීම හෝ අවිද්‍යාව විශාල ව්‍යසනයක්. ඒක විශාල පාඩුවක්.

ඒ නිසා මම අන්න ඒ අදුක්ඛමසුඛ වේදනාවට අවදි විය යුතුයි. සතිමත් විය යුතුයි. අදුක්ඛමසුඛ වේදනාව හිතට ගෙයක් වගේ නිවසක් වගේ ඉතාමත්ම ආරක්ෂක ස්ථානයක් කියලා දැනගන්න පුළුවන් නම්, ඒ කවදාවත් පොත් කියවලා නම් නෙමෙයි, අත්දැකීමෙන්මයි. මොකද මෙතැනට එනකොට ආපු ඇත්තෝ දන්නවා ඇති කොච්චර නම් කැඹිරිල්ලක් කඹුරලද මෙතනට එන්නේ කියලා. කොච්චරදෝ මේක අහලා ඇති. කවදාවත් භාවනාවේදී මේක අවබෝධ නොවෙන්නත් ඉඩ තියෙනවා. ඒ වාගේම තමා ගුරුවරයාගේ දක්ෂකමකුත් නෙමෙයි. ගුරුවරයා කොච්චර උත්සාහ කළත් ඒ ශිෂ්‍යයා භාවනාවේ එතනට යන වෙලාවේදී දුක්ඛ වේදනාව කියලා දුක්ඛ වේදනාවේ මුල මැද අග බලන්නටත් ඒ අනුව මෙනෙහි කරන්නටත් කියනවා. විශේෂයෙන්ම පර්යංකය මුලදි දුක්ඛ වේදනා ඇති වෙනවා.

ඊළඟට සුඛ වේදනාව එනවා කියල හිතමු. ඒකත් සුඛ වේදනාව බව දැනගෙන ඉදිරියට යනවා. මේ සුඛ වේදනා දුක්ඛ වේදනා අස්තයට යාමත් එක්කම එවැනි චක්‍ර කීපයකට පස්සේ ඔන්න මේ දැන් ආවේ අදුක්ඛමසුඛ වේදනාවටයි කියලා යෝගාවචරයා එතැනදි කාරණයට අවදි වුණා නම් එතනදි බුදුහාමුදුරුවෝ පහළ වෙනවා. නැත්නම් බුදුන් ඉස්සරහට වැඩියා වගේ තමා. නමුත් කීදෙනෙකුට කීවතාවක් මෙතනට පැමිණි නමුත් එය හරි හැටි වටහා නොගැනීම අනුව නිදිකිරාවැටෙන්න ඉඩ තියන බව භාවනා ලෝකෙ ඉතාම ප්‍රසිද්ධ සත්‍යයක්. ප්‍රසිද්ධ රහසක් කියල කිව්වැහැකි. අපි දන්නවා මොග්ගල්ලාන මහා ස්වාමීන්

වහන්සේලා පවා සෝවාන් වුණාට පස්සෙත් රහත් මාර්ගය සඳහා වැඩ කරන වෙලාවේදී මේ වගේ මට්ටමට ඇවිල්ලා නිදිකිරන මට්ටමට ආවා.

මෙන්න මේක නිසා වෙන්න ඇති අද සමූහ භාවනා ක්‍රමයක් ලෝකෙට හඳුන්වල දීල තියෙන්නේ. හැබැයි භාවනා නොකරන අය සමූහ භාවනාවට එන්න ඕනෑ නැහැ. මොකද ඒ ඇත්තන්ට මේකට ගියාම හිතයි, මේ මහණ වෙලා ඔක්කොම කරල හිටියත් මේ හාමුදුරුවෝ බර ගානක් කරන්නේ නිදාගන්න එකයි කියලා ඕනෑ තරම් චෝදනා කරන්න ඉඩ තියෙනවා. නමුත් භාවනා කරලා මේ ජීවිතේ ප්‍රතිඵල ගන්න ඕනෑ නම් මං කරුණා කරලා ආරාධනා කරනවා එන්න සභාවට. ආවට පස්සේ තේරෙන්න පටන් අරගනියි ඔය තනියම බුදු වෙනවට වඩා බුදියන එකයි සිද්ධ වෙන්නේ කියලා. මේ පිරිසට ආවට පස්සේ බුදියගත්තොත් ළඟ ඉන්න කෙනෙක්වත් ඇහැරවයි. ලැජ්ජාවට හරි ඇහැරෙයි. ඒ මොකද, මේක මේ මාර්ගයේ අනිවාර්යයෙන්ම හමු වෙන දෙයක්. මේ අදුක්ඛමසුඛ වේදනාවට ගන්න එක සමහරු හිතල ගන්නේ. අර කලින් කියපු දුක අත්දකින්නේ නැතුව සුඛය අත්දකින්නේ නැතුව කලින් කරපු භාවනාව නිසා මට මෙහෙම වෙන්න ලැබේවා කියල කිව්වහම ඒකත් මානසික තත්ත්වයක් එනවා. කාලයක් භාවනා කරන ඇත්තන්ට ඒක වෙනවා. ඒකත් එක විදිහක සංඥා විපල්ලාසයක් වෙන්නත් ඉඩ තියෙනවා. ඒ නිසා හැමදාම පර්යංකය සාර්ථක වෙන්න නම් මුලින්ම හොඳට අරමුණ මෙනෙහි කරල අරමුණට බැසගැනීම දුක සේ සපයාගත යුතුමයි, පුංචි කාලෙදි පාඩම් කරලා රෑ දවල් නැතුව ඉගෙනගන්නව වගේ.

ඊට පස්සේ එන සුඛ වේදනාව හරියටම තේරුම්ගන්න ඕනෑ. මේ සුඛ වේදනාව වෙන මොකවත් නිසා නෙමෙයි, අරමුණේ උත්සන්න භාවය නිසා භාවනා කරන හිතේ අරමුණ හා සමාන හොඳ උත්සන්න භාවයට ආවට පස්සේ උඩුහුළඟට අහු වෙච්ච සරුංගලයක් යවන පුංචි ළමයකුට හම්බ වෙන සතුට වගේ භාවනාවට හුළං අල්ලනවා. නමුත් ඊළඟට එන අදුක්ඛමසුඛ වේදනාවේදී ලැබිය යුතු ඒ අවදි භාවය ලබාගන්න නම් මෙන්න මේ හුළං අල්ලලා සරුංගලය යන වෙලාවේදී, නැත්නම් භාවනා හරියන වෙලාවේදී ඒක හොඳටෝම මුදුන්පත් වෙනකල්, නැත්නම් මේ ලබන්න පුළුවන් භාවනාවේ ප්‍රීතිය සුඛය මුදුන්පත් වෙනකල් වීරිය බහා තබන්න නරකයි. බහා තැබුවොත් මං නිතර

මතක් කරන විදිහට, හරියට කිරිවදින්න ඉස්සෙල්ලා ගෙඩිය කඩලා දුම් ගහලා ඉදෙව්වට ඒ ගෙඩියෙ නියම රසය එන්නේ නැහැ. ඒ නිසා මෙතනදි ඒ උපරිමයට ඒක යන්න අරින්න ඕනැ. ගියාට පස්සේ වෙන්න තියෙන්නේ බොහෝමත්ම කාලානුරූපව හැතපෙන බත් සැලියක් වාගේ සුළිසුළඟට පස්සේ සන්සිඳෙන නිස්කලංක භාවයක් වගේ අදුක්ඛමසුඛ වේදනාව දිහාට භාවනාව යන්න පටන්ගන්නවා. එතනදි මතක තියාගන්න ඕනැ දැන් ඇහැක් පිට ඇහැක් තියාගෙන, නෙත්සැර දීලා මේ උපේක්ඛා වේදනාව අරමුණත් එක්කම දිගටම මෙනෙහි කරගෙන යන්න ඕනැ.

මේක අටුවාවේ සඳහන් වෙන්නේ මිගපදවලඤ්ජන ක්‍රමය කියලා. මිගපදවලඤ්ජන ක්‍රමය කියන්නේ වැද්දෙක් මුවකුට හීයකින් විද්දයින් පස්සේ ඒ මුවා ඉන්නේ එතකොට හොඳටම රත් වෙච්ච ලේ ඇතිව. ලේ වගුරුවන්න පටන්ගන්නවා. වගුරුවන්න පටන්ගන්නවත් වගේම පූර්ණ කායික ශක්තිය නිසා වේගයෙන් දුවනවා. දුවනකොට උගේ අඩි පාර ලකුණුත් ලේ ලකුණුත් බොහොම ප්‍රකටව පේනවා. ඊට පස්සේ මුවාගේ දිගින් දිගට දිගින් දිගට අර ලේ ලකුණුත් පනින මුවාගෙ අඩි ලකුණුත් දිගේ වැද්ද එලවගෙන යනවා. එලවගෙන යනකොට යනකොට ලේ වැටෙන ප්‍රදේශය අඩු වෙනවා. මුවාගෙත් හෙම්බතක් එනවා. එතකොට අර ලකුණු පේන ප්‍රදේශය අඩු වෙන්න පටන්ගන්නවා. අඩු වෙන්න පටන් අරගත්තට පිටිපස්සෙන් එන වැද්ද දන්නවා මුවාට අතුරුදහන් වෙන්න බැහැ. එකත් එකටම මේ පැත්තට තමා දුවන්න ඇත්තේ කියලා වේගවත් වෙන්න ඕනැ. මොකද හේතුව? සතා බොහොම ඉක්මනට හැංගෙනවා. අර ලකුණු ලාංඡන දිගේ ඉතාමත්ම සැලකිල්ලෙන් යනකොට අටුවාවේ යෝජනා කරනවා, මේ මුවා ලේ වගුරුවලා ඉවරයි, අඩි ලකුණු විතරයි තියෙන්නේ. මුවා ගල්පොත්තක් උඩින් දුවනවා. වැද්ද දකිනවා මුවා ගල්පොත්ත උඩට ආපු අඩි ලකුණු. දැන් ගල්පොත්ත දිගේ මුවා කොයි අතට හැරුණද ඊළඟට කොතනින්ද අඩි ලකුණු අල්ලන්නේ. ඒක ඉතින් වැද්දගේ දෛවෝපගතව තමා සිද්ධ වෙන්නේ.

ඒ වගේ තමා යෝගාවචරයා ගල්පොත්ත ළඟට එනවා වගේ තමා දුක්ඛ වේදනාව හමාර කරලා සුඛ වේදනා මට්ටමට ආවට පස්සේ, මෙතනට ආවට පස්සේ ඉතින් දැන් මං මොකද කරන්නේ? මට දැන් අරමුණ පේන්නෙත් නැහැ. හිත පේන්නෙත් නැහැ. මොකක්ද දැන් මං

බලන්න ඕනැ? මොකක්ද මේ වෙලා තියෙන්නේ? ශබ්ද ඇහෙන්නෙත් නැහැ. රූප පේන්නෙත් නැහැ. කය පේන්නෙත් නැහැ. ඉතින් අසරණ වෙනවා. හරියට අර ගල්පොත්තට ආපු මුවා වගේ. නමුත් වැද්ද දන්නවා පමා වෙන එක චිත්තක්ෂණයක් පාසා තමාට ගොදුර නැති වෙන්න අවස්ථාව වැඩියි කියලා. ඒ නිසා ආපු ඉර දිගේම එහා පැත්තට යනවා. ගිහිල්ලා ඉතාමත්ම සැලකිල්ලෙන් බලනවා ඊළඟට කොහෙද අඩි ලකුණු අහු වෙන්නේ. අහු වෙච්ච ගමන් ඉතින් හරියට සතා අහු වුණා වගේ සතුටක් ඇති වෙනවා. ඒක දිගේම යනකොට වැඩි දුර යන්න ඉස්සර වෙලා සතා වැටිලා ඉන්නවා. ඒ මොකද, අර වේගයෙන් ආවට මොකද එන්න එන්න ලේ යනවා. වෙහෙසයි. බයයි. මේ සතා දුවන්නේ මරු විකල්ලෙන්.

ඒ වගේ තමා හොඳට පිම්බීම හැකිළීම යනවා. මුලදි බොහෝම සීඝ්‍රයෙන් පිම්බීම හැකිළීම අරගන්නවා. ඊට පස්සේ වේගයෙන් මෙනෙහි කරද්දි මේ පිම්බීම හැකිළීම හොඳට ළං වෙන්න ගන්නවා. ළං වෙන්න වෙන්න පිම්බීමේ තිබිය යුතු සටහන් ආකාර හොඳට වැටහෙන්න පටන්ගන්නවා. අන්න එව්වා හොඳට උකහාගන්නවා නම්, එව්වා හොඳට රස බලනවා නම් ධර්ම ඕජාව වශයෙන්, ඒ යෝගාවචරයා තැනකට පත් වෙනවා. ඒ ලකුණු ඒ සටහන් ඔක්කොම දිය වෙලා, කියාගන්න බැරි තරම් සටහන් සහ ආකාරවලින් මුළු චිත්‍රයම වැහිලා යනවා. හිතත් කවදාකවත් නොතිබ්බ්ච විදිහට ක්‍රියා ශක්තියකට එනවා. හොඳටෝම ඒ ක්‍රියා වෙච්චි හිත මේ අරමුණත් එක්ක එකිනෙකට බැසගන්නවා වගේ සමීපස්ථ භාවයකට පත් වෙනවා. එතන ලොකු ප්‍රීති අවස්ථාවක් ලොකු උත්සන්න අවස්ථාවක්. ඒ කියන්නේ **සොපි හි ආරම්මණෙ නිරන්තරං එකාකාරෙන පවත්තමානො පටිපක්ඛෙන අනභිභූතො අප්පිතො විය චිත්තං නිච්චලං ඨපෙති** හරියට පේන්නේ අරමුණයි හිතයි දෙකම අධික වේගය පැහුණා වගේ, නතර වුණා වාගෙ.

ඊට පස්සේ හොඳ සුවාසයක් පටන්ගන්නවා. යන්තම් මේක නිකම් අහු වුණා වගේ. අරමුණයි හිතයි එකිනෙකට පැහුණා වගේ. ඊට පස්සේ අර අරමුණ අල්ලගන්න තිබුණ වෙහෙසත් නැහැ. බාහිරින් එන ශබ්දවලින් කරදරයකුත් නැහැ. කයේ වේදනාත් නැහැ. සිතුවිලිත් නැහැ. අරමුණයි හිතයි දෙකේම ලොකු සංහිඳියාවක් එනවා. දැන් ටික වෙලාවක් මේක සුව සේ ගත කළායින් පස්සේ ආයෙත් හිත නන්නන්තාර වෙනවා,

මොකේද මං හිත පිහිටුවන්නේ, මොකක්ද මං බලන්න ඕනැ කියල. හරියට අර ගලෙන් එහා පැත්තට ගිහිල්ලා යාන්තම් මුවාගේ අඩි ලකුණු දැක්කා වගේ යෝගාවචරයාට ඒ වෙලාවේ තමන්ගේ පිම්බීම හැකිළීමත් පේනවා. ශබ්දත් ඇත ඇහෙනවා. වේදනාත් දැනෙනව. සිතුවිලිත් තියෙනවා. ඔක්කොම තියෙද්දි කොහෙද හිත පවත්වන්නේ? කොහේ තිබ්බත් සතියත් තියෙනවා. සමාධියත් තියෙනවා. ඉතින් යෝගාවචරයා ඒ වෙලාවේදී අර වැද්ද වගේ අහු වෙච්ච පද ලකුණ දිගේම දිගට ගියේ නැත්නම් මිගපද වලංජනය කළේ නැත්නම් බොහෝම ඉක්මනට නන්නත්තාර වෙනවා. මේ ඇති වෙච්ච අදුක්ඛමසුඛය, අදුක්ඛමසුඛයක් බව දැනගෙන ඒක තව ඉදිරියට පවත්වන්න නම් මෙතෙක් එතනට එනකල් උදව් කළා වූ මූල කර්මස්ථානයම අල්ලාගත යුතුයි. එතකොට ගොදුර අතට අහු වෙනවා කියන එක දන්නවා නම්, යාන්තමින් හෝ මතු වන පිම්බීම හැකිළීම අරමුණු කරගෙන එහිම ලගින්න ඕනැ. දැනගන්න ඕනැ මේ අදුක්ඛමසුඛ වේදනාව උපේක්ෂාවට වැටෙන්නෙ කියලා.

ආනාපානෙත් මෙච්චරයි. මේ දේ මෙච්චරම විස්තර කරන්න වෙන්නේ මොකද? ඒ වෙනකොට පේන ආනාපනය හෝ පිම්බීම හැකිළීම අර මුලින් දකින විදියේ පිම්බීම හැකිළීමක් ආනාපානයක් නෙමෙයි. ලේ ලකුණුයි පාද ලකුණුයි ඔච්චර ගොරෝසු නැහැ. යාන්තම් ලකුණ තියෙන්නේ. අන්න ඒ බව දන්නවා නම්, මේක ඉතින් එක සැරයක් වෙලා බැහැ. එක සැරයක් බණ අහල බෑ. නැවත නැවතත් බණ අහල නැවත නැවතත් සාකච්ඡා කරලා, එනකොටම ඒක අල්ලගත්ත නම් අන්න අර ගලින් එහා පැත්තේ පාද ලකුණු දැකපු වැද්ද වගේ, මිගපදවලඤ්ජනය කළා වගේ, බොහෝම ඉක්මනට ඒක දිගේ යන්න පුළුවන්. මොකද වැඩේ හරිගිය බවට විශ්වාසයක් ඇති වෙනවා. ඒ විතරක් නෙමෙයි ළඟම සතා වැටිලා ඉන්නවා.

ඒ නිසා අදුක්ඛමසුඛ වේදනාව දැනගන්න එක ඉතාමත්ම වැදගත් කාරණාවක්. එතකොට තේරේවි සෑම දුකකම ඉඳලා සුඛ වේදනාවකට යන්න ඉස්සෙල්ලා අපි අදුක්ඛමසුඛ වේදනාව භුක්ති විඳිනවා. සෑම සැපයකම ඉඳලා දුක් වේදනාවට යන්න ඉස්සෙල්ලත් අදුක්ඛමසුඛ වේදනාව භුක්ති විඳිනවා. නමුත් අහු වෙන්නේ නැහැ. සෑම ආශ්වාස ප්‍රශ්වාස දෙකක් මැදම අදුක්ඛමසුඛ වේදනාවක් තියෙනවා. සෑම

පිම්බීමක් හැකිළීමක් අතරමත් තියෙනවා. නමුත් හුඟාක් ආනාපානය කරලා ආනාපානයේ මුල මැද අග බලන තත්ත්වයට යනකල් අපිට හිතෙන්නෙවත් නැහැ ආනාපාන දෙක අතරත් තියනව කියල; පිම්බීම හැකිළීම දෙක අතරත් තියෙනවා කියලා. අඩු ගානේ කියනවා නම් වේදනා චිත්තක්ෂණ දෙක අතරත් තියෙනවා කියලා අපි හිතන්නේ නැහැ. අපි හිතන්නේ ඒක එකට යනව වගේ කියල.

ආනාපාන පළවෙනි චතුෂ්කයේදි පෙන්නනව **සබ්බකාය පටිසංවෙදි** කියල මුල මැද අග වශයෙන් බලන්න. එතකොට ප්‍රශ්වාසයේ අග සහ ආශ්වාසයේ මුල අතර ඔන්න ඔය වගේ අදුක්ඛමසුඛයක් තියෙනවා. ඊගාවට ප්‍රශ්වාසයේ අග සහ ආශ්වාසයේ මුල අතරත් අදුක්ඛමසුඛයක් තියෙනවා. මේක අහු වෙන්නේ නැහැ. මොකද අපි දන්නේ සැප දුක විතරයි. අදුක්ඛමසුඛ වේදනාවට එනකොට හිත අන්ද මන්ද වෙනවා. නන්නත්තාර වෙනවා. වල්මත් වෙනවා. මොකද කරන්න ඕනෑ කියලා දන්නේ නැතුව යනවා. ඒක නිසා ඒකට යන්න ඕනැ දුක සුඛයෙන් ප්‍රතිෂ්ඨාපනය කරල, ඒ සුඛය අදුක්ඛමසුඛයෙන් ප්‍රතිෂ්ඨාපනය කරලා ඒකට අවදි වෙන්න ඕනැ.

ඒක නිසා වේදනානුපස්සනාව ලොකු භාවනාවක්. නමුත් මේක ගැඹුරුයි. ස්පර්ශය නිසා වේදනාව, වේදනාව නිසා තණ්හාව, ඉතාමත් ගැඹුරුයි. දවසක් ස්වාමීන් වහන්සේ නමක් දෙළොස් ආකාර පටිච්චසමුප්පාදය ක්‍රමය ඉතාම දීර්ඝ දේශනයක් කරලා තියෙනවා. දීර්ඝ නිසාම ඉතින් බණ අහන සියල්ලන්ටම නින්ද ගියාලු. කවුරුවත් බණ අහන්නේ නැතිලු. නමුත් හාමුදුරුවෝ ඉතාමත්ම ගැඹුරින් දේශනා කරනවලු. ඉස්සරහ ඉඳල තියනව වයසක උපාසක අම්මා කෙනෙක්. ඒ අම්ම අහගෙන හිටියලු. ඊට පස්සේ උපාසක අම්මා නැගිටලා කට්ටියත් ඇහැරිලා තියෙනවා. ඇයි සාධු කියනකොට ඇහැරෙනවා නේ. ස්වාමීන් වහන්සේ කිව්වලු මට එක්කෙනෙක් හරි කමක් නැහැ මේ ධර්මය තේරුම් ගත්ත නම් වටිනවා කියලා. අම්මට තේරුණාද කියලා අහලා. එහෙමයි ස්වාමීන් වහන්ස කියලා **ඵස්සපච්චයා වෙදනා** කියන එක නම් හොඳට තේරුණා කියලා පස්ස පැත්ත අතගාලා තියෙනවා. ඒ තරමටම අමාරුයි ඕක තේරුම්ගන්න.

අපි ඉන්නෙ මේ 78 වෙනි ධර්ම දේශනාවේ. ඒ නිසා සැහෙන ගානකට නින්ද ගියාට කරන්න දෙයක් නැහැ. මොකද මේක ගැඹුරුයි. නමුත් මේක තේරුම් ගන්නකල් **ඵස්සපච්චයා වෙදනා** එනකල් භාවනා කරන්න වෙනවා. ඒ නිසා මං කියනව මෙතෙක් කල් ආපු ගමන නිසා යම් ප්‍රමාණයකට හරි මේක තල්ලු කරගෙන යන්න පුළුවන්. එහෙම නැත්නම් හරිම අමාරුයි ස්පර්ශය කියන චෛතසිකය අල්ලගන්න. ඒක නිසා හැම දේටම මුල් වෙන්නෙ **ඵස්ස** වගේ තමා. නමුත් ඒක අල්ලන්න අමාරුයි. ඒ නිසා මතක තියාගන්න ඕනැ භාවනාවේදී මේ දුෂ්කරතාවට ආපු වේලාවෙ තමා මේ ධර්මය ගොඩක් හේතු වෙන්නේ. නමුත් එතකොට හිත හුඟක් ඔද්දල්. හිත හුඟක් වීර්ය මදි වෙලා. ඒ නිසා ක්‍රමිකව භාවනාවේ වීර්ය මුදු හැරීම දන්නෙ නැත්නම් සක්මනයි පර්යංකයයි අතර බොහෝම අමාරුයි මේ කොටස් තේරුම්ගන්න. මේ කොටස් විස්තර කරන්න බැරිකමක් නැහැ. මොකද, සර්වඥයන් වහන්සේ සෑහෙන දුරට විස්තර කරලා තියෙනවා. ශාසන අන්තර්ධානය වෙනකොට ඉස්සෙල්ලාම අමතක වෙන්නෙ මේ කොටස් ටික. මොකද, මේ කොටස් කිසි සේත්ම ජීවිතවලට සම්බන්ධ නැහැ. ඒ නිසා අපි උත්සාහ කරන්න ඕනැ අපිට දැනෙන ප්‍රදේශයෙන් මේ දේ තේරුම් අරගෙන ප්‍රත්‍යක්ෂ කරගෙන සාක්ෂාත් කරගෙන හුඟක් දුරට ධර්ම සාකච්ඡාවලදී ධර්ම දේශනාවලදි මේක මතු කරගෙන කරගන්න පුළුවන් වූ අර මුවා අල්ලගැනීමේ වැඩපිළිවෙළ කරන්න නම්, මේ **ඵස්ස පච්චයා වෙදනා වෙදනා පච්චයා තණ්හා** කියන පුරුක ඉතාම වැදගත්.

මේ ප්‍රමාණයේ මතක් කිරීමකින් අදට නියමිත ධර්ම කොට්ඨාශය නිමාවට පත් කරන්න බලාපොරොත්තු වෙනව. ඒ නිසා සියලුදෙනාටම තමතමන් මෙතෙක් කරගෙන ආපු භාවනා අත්දැකීම්වලටත් මූලධර්ම කාරණාවටලත් අද මේ කොටස් එකතු කරගෙන තව දුරටත් ඒ ධර්මය දිගේම සියුම් කරමින් ඉදිරියට ගිහිල්ලා සාක්ෂාත් කළ යුතු ඒ සුඛ දුක්ඛ වේදනාවලින් තොර, ශාන්ත සුන්දර භාවයෙන් යුක්ත වූ මහා නිවන පිණිස මෙය හේතු වේවා වාසනා වේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම කොට්ඨාසය මෙතකින් සමාප්ත කරනවා.

# 79 | සංඥා මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති?**

**රූපසඤ්ඤා ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අපි අදත් මහා සතිපට්ඨාන සූත්‍රයේ ධම්මානුපස්සනා කොටසට අයිති සච්ච පබ්බයේ සමුදය සත්‍යයට අදාළ කොටසකුයි අද දවසට ගැළපෙන පරිදි මාතෘකා වශයෙන් මතක් කරල තබාගන්න යෙදුවා. අපි මේ වෙනකොට සතිපට්ඨාන සූත්‍රයේ වාර 78 ක් පහු කරල තියෙනවා. අද මේ පැය වශයෙන් ගන්නව නම්, මේ 79 වෙනි පැය; එහෙම නැත්නම් 79 වෙනි ධර්ම දේශනාව.

ඒ අතරතුර ඊයේත් සඳහන් කළා වගේ මුල් සතිපට්ඨාන ධර්ම, කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා වශයෙන් පහු කරගෙන දැන් මේ හැසිරෙන්නේ ධම්මානුපස්සනා කොටසෙ. එයිනුත් මුලින් සඳහන් නීවරණ ආදී පර්ව කොටස් හමාර කරල දැන් මේ ඉන්නේ සච්ච පබ්බයේ, ඒකෙත් දෙවෙනි සත්‍යය, සමුදය සත්‍යය. ඒ සමුදය

සත්‍යය සාමාන්‍යයෙන් බෞද්ධයන් අතර ප්‍රසිද්ධ දෙයක් තෘෂ්ණාව කියල. මෙතැනදී සමුදය කොටසෙදී තථාගතයන් වහන්සේ විශේෂයෙන්ම තෘෂ්ණාව සර්වඥතා ඥානයෙන් හොඳට විනිවිද බලල පිරිසිඳ බලල, ඇති වෙන්න, පවතින්න පුළුවන් තැන් මතු කරල දෙන අවස්ථාවයි මේ. ඒකෙදි මේ වෙනකොට අපි තෘෂ්ණාව ඇති වෙන්න පුළුවන්, තෘෂ්ණාව ලැගගන්න පුළුවන් ස්ථාන රාශියක් එකින් එක, දේශනා විලාසය අනුව විග්‍රහ කරගෙන ඇවිල්ල තියෙනවා. ඉස්සෙල්ලාම රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම කියන ආරම්මණ හය. ඊගාවට ඒවා ගෝචර කරගන්න ප්‍රසාද රූප වශයෙන්, නැත්නම් අජ්ඣත්තික ආයතන වශයෙන්, චක්ඛු, සොත, ඝාණ, ජිව්හා, කාය මන වශයෙන්. ඊගාවට ඒ එක එකක් රූපයක් චක්ෂුසය කියන ඇහැට, නැත්නම් ශබ්දයක් සොතය කියන කනට වදින අවස්ථාවක ඉතාමත්ම ප්‍රත්‍යුත්පන්නව ඒ ඒ තැන උපදින්නා වූ චක්ඛු, සොත, ඝාණ ආදී විඤ්ඤාණ හය. මේ ඉපදීම හුවා දක්වන, නැත්නම් මේ තුන එකට පහළ වීම හුවා දක්වන ස්පර්ශ හය. ඊගාවට ඒ ස්පර්ශ නිසා වේදනාවකට වින්දනයකට පත් වන හැටි ආදී වශයෙන් අපි එක එක කොටසකට සාමාන්‍යයෙන් සතියක, නැත්නම් පැයක පමණ කාලයක් ප්‍රමාණයක් විස්තර ඉදිරිපත් කරල තියෙනවා.

එයිනුත් අර කලින් කියාපු චක්ෂුස රූපයත් ඒකට ගොදුරු වෙන වර්ණ රූපයත් කියන දෙකම රූපස්කන්ධයට අයිති වෙනවා. ඊගාවට ඒ අවස්ථාවේදී ඇහැට පේන රූපය අනෙකුත් වැඩපිළිවෙළවලට වඩා සංසිද්ධිවලට වඩා ප්‍රකට නම්, එතන උපදින විඤ්ඤාණය, විඤ්ඤාණ ස්කන්ධයට අයිති වෙනවා. ඊගාවට මේ තුන එකතු වෙලා පහළ වෙන ස්පර්ශය චෛතසිකයක්. මේ ස්පර්ශය චිත්ත වීථියක් විස්තර කිරීමේදී ඉතාමත්ම වැදගත් මෙහෙවරක් කරනවා. ඊගාවට ස්පර්ශය පදනම් කරගෙන වේදනාව පහළ වෙනවා. ඒක වේදනා ස්කන්ධය වශයෙන්, නැත්නම් සතිපට්ඨානයට ගන්නකොට වේදනානුපස්සනාව වශයෙන් ගණන්ගැනෙනවා. පංචස්කන්ධයේදී රූප, වේදනා, සඤ්ඤා, සංස්කාර, විඤ්ඤාණ කියනකොට සම්පූර්ණ වේදනා තනි චෛතසිකය ස්කන්ධයක්, කන්දක්, සමූහයක්, ගොනුවක වැඩක් කරල දෙනවා. ඒක නිසා වේදනාව වෙනමම පංචස්කන්ධ කොටසකට සංග්‍රහ වෙලා තියෙනවා.

ඊගාවට අපි අද සාකච්ඡා කරන්න ගන්න සඤ්ඤවත් රූප, වේදනා, සඤ්ඤ, සංස්කාර, විඤ්ඤාණ කියනකොට සඤ්ඤ ස්කන්ධයක් වශයෙන් වෙන් කරල දක්වනවා. නමුත් චෛතසික වශයෙන් ගන්නකොට එකයි. රූප බලනකොට කොටස් කරල පෙන්නනවා. ඊගාවට වේදනාව බලනකොට එකම චෛතසිකයක් වේදනා ස්කන්ධයක් බවට පත් වෙනවා. ඊගාවට සඤ්ඤ චෛතසිකය ස්කන්ධයක් බවට පත් වෙනවා. සංස්කාර කොටස් ඉතුරු චෛතසික ඔක්කොම එකට දලා සංස්කාර ස්කන්ධය වශයෙන් ගණන්ගැනෙනවා. විඤ්ඤාණය, නැත්නම් ඒ ඔක්කෝටම මුල් වෙන්නා වූ හිත, විඤ්ඤාණ ස්කන්ධය වශයෙන් ගණන්ගැනෙනවා. ඒ නිසා ඒ ඒ පැතිවලට තියන සම්බන්ධතාව දැනගත්තහම මේවා පිළිබඳව හැදෑරීම, මේවා පිළිබඳව මතකය තබාගැනීම භාවනා කරන යෝගාවචර පිරිසට උදව් උපකාර වෙනවා.

ඒ නිසා අපි තේරුම් අරගන්න ඕනෑ මේ එක චෛතසිකය, සංඥා චෛතසිකය, සංඥා ස්කන්ධයක් හදන නිසා තෘෂ්ණාව ඇති කිරීම වශයෙන්, සංසාරයට බැඳ තැබීම් වශයෙන් ඉතාමත්ම සැඟවීගත්ත පුළුල් කෘත්‍යයක් ඉෂ්ට කරන කෙනෙක්. ඒ වාගේම තමයි තේරුම්ගන්න තේරුම්ගන්න තමන්ගේ ජීවිතය ඉතාමත්ම විචිත්‍ර කරන චෛතසිකයක්. ඒ වාගේම තමයි අපි ලෝකයත් එක්ක පවත්වන සම්බන්ධතාවෙදී, නැත්නම් ලෝකය අපිත් එක්ක පවත්වන සම්බන්ධතාවෙදී මේ තරම්ම මේ සම්බන්ධතාව මායාකාරී කරවන්න, මේ තරම්ම මේක ගුප්ත ධර්මයක් බවට පත් කරගන්න සංඥාව විශාල කෘත්‍යයක් කරනවා. ඒක නිසා සංඥාව හැදෑරීම මානසික දුර්වලකම් ඇති ඇත්තන්ට මානසික අසහන ඇති කරනසුලුයි. සංඥාව හැදෑරීම සෞඛ්‍ය සම්පන්න මානසිකත්වයක් ඇති කෙනාට ලෝකෙ තියෙන ගැඹුරුම ධර්මය බවට පත් වෙනවා. ඒ නිසා භයානකයි එක පැත්තකින් බලනකොට සංඥාව ගැන හැදෑරීම. සංඥා විපල්ලාස නැති කෙනෙක් පෘථග්ජනයන් අතර හොයාගන්න බැරි තරම්. ඒක නිසා අදාළ භාවයෙන් නම්, ස්කන්ධයක් වශයෙන් මේක හඳුනාගැනීමක් වශයෙන් නම්, සර්වඥයන් වහන්සේගේ මේ කෘත්‍යය තුළ ලොකු වටිනාකමක් තියෙනවා.

ඒ වාගේම තමයි යම් කිසි කෙනෙක් අන්ධ පෘථග්ජන භාවයේ ඉඳලා ක්‍රමයෙන් ක්‍රමයෙන් ක්‍රමයෙන් දියුණු වේගෙන එනකොට ඒ

පුද්ගලයා තමා විසින් මේ ලෝකයෙන් ලැබෙන සංඥාවල් කොච්චර විකෘති කරලා කොච්චර සංකීර්ණ කරලා ලෝකය සංකීර්ණ භාවයක් ඇති කරලා, තමනුත් සංකීර්ණ භාවයට පත් වෙලා පිරිහෙන මුඛයට වැටෙනවද? එහෙම නැත්නම් එවැනි සංකීර්ණ භාවයක් ඇති කරන සංඥාව ගැන හදුරලා සංඥාව ගැන භාවනා කරලා සංඥාව ගැන සාකච්ඡා කරලා කොච්චරක් නම් තමන් තුළ සිදු වන මේ පටලැවිලි, විපල්ලාස, අපේ පෙර සංසාරේ කවදාක්වත් නොවෙච්ච තාලෙට මේ චිත්තක්ෂණයේදීම, මේ මොහොතේදීම මම තුළම මෙතනදීම සාක්ෂාත් කිරීම නේද මේ උත්තරී මනුස්ස ධර්මයට ඇති කෙටිම මාර්ගය? ශ්‍රමණ ධර්ම සම්පූර්ණ කරනවායි කියන්නේ එන්න එන්න එන්න එන්න තමන් දිහාවට හැරෙනවා. එන්න එන්න එන්න එන්න මේ චිත්තක්ෂණයටම එනවා. එන්න එන්න එන්න එන්න මෙතනටම එනවා. අපි යම් අවස්ථාවක මගෙන් පිටතට යනවා නම්, මේ චිත්තක්ෂණයෙන් පිටතට යනවා නම්, මේ ස්ථානයෙන් පිටතට යනවා නම් සංඥා විපල්ලාස නිසි නින්දේ වැඩ කරනවා. ඒ යන්නේ සංඥා තුළින්මයි.

මේ මොහොතේ තමා තුළ මෙතන සිද්ධ වෙන දේ අර සංඥාවේ කරන පටලැවිලි, විලෝපන, අන්දමන්ද භාවයෙන් තොරව ප්‍රත්‍යක්ෂව අත්දකින්න පුළුවන්. නමුත් ඒකවත් තේරුම් කරල දෙන්න අමාරුයි සංඥාව පටලවාගත්ත ඇත්තන්ට. මානසික අසහන තියන ඇත්තන්ට. මොකද, ඒක භයානක දෙයක් වෙනවා ඒ ඇත්තන්ට. වර්තමානයට හිත ගන්න එකම, තමන් ළඟට හිත ගන්න එකම, මේ මොහොතට හිත ගන්න එකම, මේ තැනට හිත ගන්න එකම බය එළවනසුලු දෙයක් බවට පත් වෙනවා. ඒ නිසා ක්‍රමයෙන් තමයි මේ චෛතසිකයට බහින්න වෙන්නේ. ඒ නිසා මේ වගේ දේවල් ආධුනිකයාට සෘජුව අදාළ වෙන්නේ නැති තරම්. එයා හදන්නේ කායානුපස්සනාවෙන් වේදනානුපස්සනාවෙන් ඇවිල්ල චිත්තානුපස්සනාවට බහින්නයි.

නමුත් යම්ම වෙලාවක යම්ම ආකාරයක මාර්ග ඵල ඥානයකට හෝ 'මේ ජීවිතයේදීම' කියන සටන් පාඨය යටතේම ක්‍රියාත්මක වෙන යෝගාවචරයෙකුට නම් අනිවාර්යයෙන්ම මේක පිළිබඳව පරිචයක් අවශ්‍ය වෙනවා. මේක පිළිබඳව ප්‍රත්‍යක්ෂයක් අවශ්‍ය වෙනවා. මේ ප්‍රත්‍යක්ෂයට විතරක් භාෂාව අවලංගුයි. භාෂාව ගත්ත ගමන් සඤ්ඤාවේ පටලැවිල්ලක්

ඇති වෙනවා. සංකේත ගත්ත ගමන් සඤ්ඤාවේ පටලැවිල්ලක් ඇති වෙනවා. මේ සංකේත මේ සඤ්ඤා සේරම ඕනෑ වෙන්නේ තමන්ගෙන් පිටතට සන්නිවේදනයක් යනකොටයි. මේ මොහොතෙන් වෙන මොහොතකට සන්නිවේදනයක් යනකොටයි. මේ තැනින් වෙන තැනකට සන්නිවේදනයක් යනකොටයි. තමන් දැන් මෙතෙන්ට එනකොට කිසිම සන්නිවේදනයක් අවශ්‍ය නැහැ. ප්‍රත්‍යක්ෂය නහය යට තියෙනවා. අන්න ඒ පදනමේ පමණයි මේ සඤ්ඤාව වගේ චෛතසිකයක හැබෑව නිරුවත් රූපය නියම පිළිබිඹුව කරගන්න පුළුවන් වෙන්නේ.

ඉතින් ඒක මේ ජීවිතයේදීම වාගේ අවබෝධය ලැබීම වගේ බොහොම වීර්යවන්ත අධිෂ්ඨානයක් ඇති, ඒ වාගේම හොඳ කායික මානසික සෞඛ්‍යයක් ඇති කෙනෙකුට ඇර, දරාගන්න බැරි තරම්. ඒ නිසා හුඟාක් ආගම් ඇතුළත නිකාය භේද ඇති වෙන්නත් ආගම් ඇති වෙන්නත් සංඥාව මුල් වෙලා තියෙනවා. ඒක නිසා මේක වෙනමම විග්‍රහ කිරීම නම් බොහොම රසවත්. ඒ වුණාට බොහොම ගැඹුරු බව, මේකේ විස්තර කිරීමට එනකොට එතන ගැඹුරු බව නම් ඉතින් නෑ කියන්න බැරි දෙයක්. සංඥාව සාමාන්‍යයෙන් හඳුනන්නේ හඳුනාගැනීම වශයෙන්. සංජානන ලක්ෂණය - හඳුනාගැනීම. අපි, මම කියලා ගත්තහම ඉන්නා බවට සංඥාවක් කරන්න ඕනෑ නිසා නේ අපි මේ කතා කරන්නේ. විවිධ සම්බන්ධකම් පවත්වන්නේ. එක්කෝ මුදුනා වෙන්න හදන්නේ. එහෙම නැත්නම් තමන් පහත්ය කියල හිතන්නේ. නානාප්‍ර මැනීම් ක්‍රම ඔක්කොම ඇති වෙලා තියෙන්නේ ප්‍රධාන වශයෙන්ම තමා අනුන්ගෙන් වෙන් කොට හඳුනාගැනීමේ කටයුත්තට. සාහිත්‍යය කිව්වහමත් ඒකම තමයි. ඉන් එහාට අපි හොඳයි කියන ඇත්තෝ නරකයි කියන ඇත්තන්ගෙන් වෙන් කොට හඳුනාගන්නවා. රූප ධර්ම නාම ධර්මවලින් වෙන් කොට හඳුනාගන්නවා. පව්වලින් පින් වෙන් කොට හඳුනාගන්නවා, සුදුයි කළුයි වෙන් කොට හඳුනාගන්නවා. මෙන්න මේ හඳුනාගැනීම් සම්භාරයට තමයි ලෝකයේ දැනුම කියල පෙන්නන්නේ. ඒවා වෙන් කොට හඳුනාගන්න පුළුවන් ක්‍රම වැඩි වෙන්න වැඩි වෙන්න ඒ සන්නිවේදන ක්‍රම ඉතාමත්ම දියුණු උතුම් ක්ෂේත්‍ර වශයෙන් සලකනවා.

ඒක නිසා සංඥාවක් නැතුව සමූහයක ජීවත් වෙන්න අමාරුයි. නැත්නම් සංඥා චෛතසිකයක තියෙන එක එක වර්ග කරන හැටි, වෙන්

කරන හැටි, ඒවා අර්ථකථන දෙන හැටි, ව්‍යාකරණ හදන හැටි, ක්‍රියා පදය නාම පදය වෙන් කරන හැටි, අතීත කාල, අනාගත කාල ප්‍රත්‍යුත්පන්න වශයෙන් වෙන් කරන හැටි, එක එක වෙන් කරගෙන යද්දි විශාල වශයෙන් මේ සංඥා රාශියක් අවශ්‍යයි. කොච්චර අපි සංඥාවේ වහල් වෙලා තියෙනවාද කියනවා නම්, අන්තිමට අපි සංඥාවෙම වහලෙක් බවට පත් වෙනවා. අපිම හදාගත්ත සංඥාවේ අපිම වහලෙක් බවට පත් වෙනවා, හරියට අද මනුස්සයා විසින්ම හදපු සල්ලිවලට මනුස්සයාම වහල් වෙලා ඉන්නව වගේ.

ඒ නිසා අපි හරි බයයි අපේ ප්‍රකෘතියට යන්න. අපි හරි බයයි වර්තමාන මොහොතේ දිගට හිත පවතිනවාට. අපි හරි බයයි ඒ වර්තමාන හිත තමන් තුළම පවතිනවා නම්, මෙතැනම පවතිනවා නම්. ඒක නිසයි කායානුපස්සනා ආදී මූලික භාවනාවලදී විශේෂයෙන්ම විපස්සනාවට බර අරමුණක් ගන්නකොට අනිවාර්යයෙන්ම ඒ පවතින සංස්කාර කොටසකට හිත දාපුවම ටිකෙන් ටික ටිකෙන් ටික හිත පුරුදු කරල පුරුදු කරල පුරුදු කරලා ආනාපානය හෝ පිම්බීම හැකිළීම හෝ තමන් තුළම වර්තමානයේම මෙතැන හිත පවත්වන්න උත්සාහ කරනවා. එහෙම නැතුවත් පිම්බීම හැකිළීමේ හෝ ආනාපානයේ තිබුණු බව දැනීමක් අපට පෙර සංසාරයේත් තියෙන්න ඇති. මේ ජීවිතයේ සතිපට්ඨානය ඉගෙනගන්න සාකච්ඡා කරගන්න කලිනුත් තිබිලා තියෙනවා. නමුත් අපි දන්නවා ඒකට භාවනාව කියල කියන්නෙ නැහැ.

භාවනාවක් වශයෙන් මේ අරමුණ ඉදිරිපත් කරගන්න නම්, අපි නැවත නැවතත් ඒ අරමුණේම තමන්ගේ අධ්‍යාත්මයේ පවතින මේ සංස්කාර රොත්තකට නැවත නැවත හිත යෙදවීමෙන් වර්තමාන මොහොතට, තමන් ළඟට, මෙතනට හිත ගන්න පුරුදු වෙනවා. අන්න ඔතෙන්ට ආවට පස්සේ සංඥාව, සංඥාවේ තියෙන ආධිපත්‍යය බිඳිල යනවා. අපිට ඕනෑ නෑ කවුරුවක්වත් ඇවිල්ල කියල දෙන්න දැන් හිත තියෙන්නේ අරමුණේද නැද්ද කියන්න. එයින් පිට ගියොත් - අපි හිතමු හිත පිට යනවායි කියලා, එහෙම නැත්නම් වික්ෂිප්ත වෙනවායි කියලා. සිතිවිලි පහළ වෙනවා, ශබ්ද ඇහෙනවා, වේදනා එනවායි කියලා. එහෙම වුණොත් නම් අපිට පටලැවිල්ලක් ඇති වෙන බව දන්නවා. නමුත්

වර්තමාන අරමුණේම හිත පවතිනවා නම්, කවුරුත් ඇවිල්ලා උගන්වන්න ඕනෑ නැහැ දැන් මේ වෙන දේ මේකයි කියලා.

නමුත් ඒ විදිහට වර්තමාන මොහොතෙම අරමුණේම මෙතනම හිත පවතිනවා නම්, ටික වේලාවක් යනකොට ඔන්න ශරීරය පිළිබඳව සංඥාව නැතුව යනවා. කාලය පිළිබඳව සංඥාව නැති වෙලා යනවා. එතකොට යෝගාවචරයාට බය හිතෙනවා. ඇස් දෙක ඇරල බලනවා මගේ කය තියනවද, වෙලාව කොච්චර ගිහිල්ලද ආදී වශයෙන් අර ප්‍රත්‍යක්‍ෂයට හිත එනකොට සංඥාව දුරු වෙන නිසා අපි නැවත නැවතත් අර නිත්‍ය සංඥාව ගන්න ඇස් ඇරලා හෝ බලනවා. ඒක දඬුවම් කළ යුතු වරදක් නෙවෙයි. ඒක සාමාන්‍යයෙන් යෝගාවචරයාගේ හැටි. මේක නිසාම සමහර වෙලාවට බයකම නිසා භාවනාව අතහැරලා යන යෝගාවචරයොත් කොච්චරදෝ ඉන්නවා. ඒ වාගේම ඒක නිසි අයුරින් තෝරල බේරල දෙන්න බැරිකම නිසා කර්මස්ථාන ආචාර්යවරුත් කියනවා, එහෙනම් නැවත ටිකක් බුද්ධානුස්සතිය කරල බලන්න. නැත්නම් මොනම ක්‍රමයකට හරි ආයෙ සැරයක් අර පරණ සංඥාව තහවුරු කරගන්නෙයි කියල කියනවා.

එහෙම නොවී දිගින් දිගටම තමන් ගත්ත ඒ සංස්කාර කොටසේම හිත පවතිනවා නම්, සතිපට්ඨාන සූත්‍රයේ අවසානයට සඳහන් වෙන විදියට දවස් හතකින් හෝ අවුරුදු හතකින් හෝ පැහැදිලි වෙනසක් ඇති වෙනවා. නමුත් ඒක බර වැඩියි කියනව නම්, එපා කියනව නම් ඉතින් ඒක දිය කරලා තුනී කරලා තමයි දෙන්න වෙන්නේ. එතකොට ඉතින් සංසාර හතක් වෙන්න පුළුවන්, බුද්ධ කල්ප හතක් වෙන්න පුළුවන්, ජීවිත හතක් වෙන්නත් ඉඩ තියෙනවා. නමුත් සංඥාව පිළිබඳව හොඳ අවබෝධයක් ධර්ම සාකච්ඡාවලදීත් ධර්ම දේශනාවලදීත් ඇති කරගෙන මේ සංඥාව වර්තමානයට ආපු ගමන්, එහෙම නැත්නම් මනසිකාරය වර්තමාන මොහොතට ආපු ගමන්, මේ සංඥාවේ වෙන නිර්වර්ණ වීම, නිර්වින්දන භාවයට පත් වීම ඉතාමත්ම විචිත්‍රයි. ඒක යෝගාවචරයා විසින් ඉතාමත්ම අවබෝධ කළ යුත්තක්. ඒ නිසයි මේ සංඥා චෛතසිකය පිළිබඳව අපි, මේකයි මේකේ ලක්‍ෂණය, මේකයි මේකේ රස ආදී වශයෙන් ඉගෙනගන්නේ. ඉගෙනගත්තහම භාවනාවෙදි ඇත්ත වශයෙන්ම හිත වර්තමාන මොහොතෙ තමන් ළඟ තමන් තැනට ආපුවහම ඒක ලොකු

ශක්තියක්, භාවනාවේ ලොකු දියුණුවක්, භාවනාවේ ලොකු එකලසක් බව යෝගාවචරයාට තමන්ටම වැටහුණොත් ඊගාව චිත්තක්ෂණය දිගට භාවනාව කරගෙන යන්න පුළුවන් චංචල කම්පන ඇති කරගන්නේ නැතිව. ඒ නිසා හුඟාක් යෝගාවචරයන්ට තියන ප්‍රධානතම ප්‍රශ්නය තමයි භාවනා අරමුණේම හිත යනකොට බය වෙනවා, හැකිළෙනවා, පස්ස ගහනවා, වැරදිලාද කියල හිතනවා. ඒ තරම්ම නිත්‍ය සංඥාවේ අපේ හිත තියෙන්නේ. නමුත් වර්තමාන මොහොතේම හිත පවතිනකොට ඒ නිත්‍ය සංඥාව කැඩෙනවා. අනිත්‍ය සංඥාව මතු වෙනකොට යෝගාවචරයා හිතන්නේ ඒක වැරදිල්ලක්, මට මේ වාත අමාරුවක් හැදිලා, එහෙම නැත්නම් මට සෙම කිපිලා, මට එහෙම නැත්නම් හිත අමාරුවක් ආදී වශයෙන්, අර භාවනාවේ ඇති වෙන අනිත්‍ය සංඥාව රෝග ලක්ෂණයක් කියල හෝ හිතනවා.

ඒ නිසා සංඥාව පෙන්වන්නේ හඳුනාගැනීමේ ලක්ෂණයයි. ඒ සංඥාවේ හැටි. ඒ වාගේම තමයි ඒකේ කෘත්‍යය නැවත සැරයක් ඒකම දැකගන්න මොකක් හරි සලකුණක් ගන්න එක. සංඥා චෛතසිකයේ කෘත්‍යය මම මේ සඳහන් කරන්නෙ. ඒක හරියට වඩුවෙක් ජනෙල් රාමුවක් හෝ දොර රාමුවක් හෝ වෙන මොකක් හරි උපකරණයක් හදනකොට ඉස්සෙල්ලාම අරගෙන ඒ ලී ටික ඇඳගන්නවා. ඒ ඇඳගන්නෙ ගෙඩනැගිල්ලට අවශ්‍ය දිග ප්‍රමාණවලටයි. ආන්න ඒ ඇඳගත්ත සංඥාව තමයි ඊගාවට ඔහු ඒ ලීය කපන්න කොටන්න පිරිසිදු කරන්න පාවිච්චි කරන්නේ. නැවත නැවතත් ගොඩනැගිල්ලට යන්නෙ නෑ. අන්න ඒ වගේ, ඒ වඩුවා ඇඳගන්න ඒ සලකුණු ටික වගේ තමයි අපි යම් කිසි කෙනෙක් දැකපු ගමන්, ඒ මනුස්සයා අපිට නරක වේදනාවක් දීපු කෙනෙක් නම් අනිත් දවසේ එයා දකිනකොටම හඳුනාගැනීම සඳහා අපි ඔහු පිළිබඳ ලකුණක් හිතේ තියාගන්නවා. අපි සංඥාවක් ගන්නවා කියලයි කියන්නේ. හැඳිනීමක් ගන්නවා. ඊට පහුවෙනිදට අපි දකින්නේ අර පුද්ගලයා නෙවෙයි, ඊට ඉස්සෙල්ල දවසෙ ගත්ත සංඥාව තමයි. ඒ නිසා අර ඉස්සෙල්ලාම ඇති වෙන ආකල්පය අනිවාර්යයෙන්ම අඩුපාඩු සහිත ආකල්පයක්. නමුත් ඒ ආකල්පය තමයි ඊට පස්සෙ දවසේ ආත්මයක් කරගන්නේ.

ඒ නිසා දකින පළමුවැනි දවසේම යෝනිසෝ මනසිකාරයෙන් බැලුවා නම්, සති සම්පජඤ්ඤය තිබුණා නම්, මෙතන සිද්ධ වෙන්නේ දැකීමක්, ඒ පුද්ගලයයි මට ඇති වෙච්ච වේදනාවයි දෙක අතර සම්බන්ධතාව ඕනෑ වෙලාවක වෙනස් වෙන්න පුළුවන්, ආදී වශයෙන් ඕනෑ තරම් හිතට ඉඩ තියෙනවා. ආන්න එහෙම හැඟීමක් නැති කෙනාට, භාවනා මනසිකාරයක් නැති කෙනාට, සංඥාව කරන මේ විපල්ලාස නොදන්නා කෙනාට අර පුද්ගලයා අනිත් දවසෙ දකිනකොටම පේන්නෙම වද දෙන කෙනෙක් කරදරකාරයෙක් විදියට. සැප දීපු කෙනෙක් නම් සැප සංඥාවක් එනවා. ඒක නිසා **දරුආදීසු තච්ඡකාදයො විය** ඒ වඩුවා ඒ දැවවල සංඥා ලකුණු කරගන්නවා වගේ අපි හැම වෙලාවෙම උදේ ඉඳලා හැන්දෑ වෙනකල් ඇහැට රූපයක් දකිනකොට, කනට ශබ්දයක් ඇහෙනකොට, නාසයට දිවට කයට මොකක්හරි පහසක් ලබනකොට, හිතට සිතිවිල්ලක් එනකොට හැම එකක් එක්කම හඳුනගැනීමක් කරනවා. එහෙම නැත්නම් කියන්නේ ගඳක් ගස්සනවායි කියලා. අපි ගඳක් ඉතුරු කරගන්නවා.

ඊට පස්සේ අපි ඒක දකිනකොටම ඉස්සෙල්ලාම අපට මතු වෙන්නේ අර ඊට ඉස්සෙල්ල දවසෙ තිබ්බ සංඥාවම තමයි. අපිම ඇඳගත්ත ලකුණ තමයි. ඒ මොකද, අපි කියන්නේ එතකොට "මම දැකපු එක නෙ, කවුරුත් කියල නෙමෙයි, මට වෙච්ච දේ නෙ. කොහොමද නෑ කියන්නේ? කව්රුත් කියපු දෙයක් නෙමෙයි" ආදී වශයෙන් තමන් ඇත්ත වශයෙන්ම ඊට ඉස්සෙල්ලා දවසෙ වෙච්ච සිද්ධිය, ප්‍රත්‍යක්ෂය මේකට සාක්ෂියක් වශයෙන් ගන්නවා. ඒ නිසා ඒ පුද්ගලයා මානසික අසහනයක් තියන කෙනෙක් නෙවෙයි. හැටි එහෙම තමයි.

නමුත් බුද්ධ දේශනාවේ සඳහන් වෙන්නේ අර පළවැනිම ගන්න ආකල්පයත් අංග සම්පූර්ණ එකක් නෙවෙයි, සර්වඥ එකක් නෙවෙයි. නමුත් ඒ පුද්ගලයා කවදාකවත් ඒක පුංචි කාරණාවකට බහා තබන්න ලෑස්ති නැහැ. එයා ගත්ත සංඥාව වෙනස් කරන්න විශාල වෙනසක් ඇති වෙන්න ඕනෑ. ඒ නිසා සංඥාව මූලිකවම මේ ලෝකය වර්ණවත් කරනවා. විවිධාකාරයෙන් වර්ණවත් කරනවා. අපි ඊට පස්සේ දකින්නෙම ඒ වරක් දැකපු දේම තමයි. දැකපු දේට අපි දීපු සංඥාවමයි දකින්නේ. ඒක නිසා වඩුවා ලී දඬුවල ලකුණු කරගන්නවා වාගේ නැවත හඳුනාගැනීම සඳහා

සටහන් කරනවා, ප්‍රත්‍යයක් ලකුණක් සංඥුවක් ඇති කරගන්නවා. ඒක මේ කවුරුත් කරන දෙයක්වත් පුහුණු කරන දෙයක්වත් නෙවෙයි, මේ මනුස්ස හිතක හැටි. ආත්මය ආත්ම සංඥුව ගන්න හැටි, අනිත්‍යයේ නිත්‍ය සංඥුව ගන්න හැටි. මේක සහජාසයෙන් තියෙන දෙයක්. අපට අවශ්‍ය කරල තියෙන්නේ මෙන්න මේ දේ වෙන බව දැනගෙන ඒකට නැවතත් අහු නොවී ඒකට නැවතත් මත් නොවී මේ තුළ නැවත සංඥුව, තණ්හාව පහළ වීමට ඉඩ නැති වෙන තාලෙට දෙවැනි සැරෙත් අලුතෙන්ම බලන එකයි. කවදාක්වත් දැකපු නැති දෙයක් විදිහට බලන්න පුළුවන් වෙනවා නම් ලෝකෙ දිහා, කොටින්ම අපි ගත්තොත් ආනාපානය දිහා, නැත්නම් පිම්බීම හැකිළීම දිහා, අපිට කවදාක්වත් ඒක පිළිබඳව බයක්වත් ඒක පිළිබඳ සැකයක්වත් පහළ වෙන්න දෙයක් නැහැ.

භාවනා කරනකොට හුඟදෙනෙක් මූල කර්මස්ථානය පිළිබඳව තියෙන සාදරකම, මූල කර්මස්ථානය දිහා අලුතෙන්ම බලන ගතිය පැයෙන් දෙකෙන් පිළුණු කරගන්නවා. පරණ කරගන්නවා. "නෑ මං ඒක දන්නවා. ඒක දැක්කා. ආයෙ පිම්බීම හැකිළීම පිළිබඳ විස්තර මට කියන්න ඕනැ නෑ. මොකද, මම ඒක දැකල තියෙනවා. ඊයේ කියපු තාලෙම තමයි. ආනාපානය ඊයේ කියපු තාලෙම තමයි" කියල ඇවිල්ලම කියනවා. "අලුතෙන් මොකක්වත් දැක්කේ නෑ" කියල කියනවා. ඒ කියන්නේ ඊයේ ආනාපානයම තමයි, සංඥුවම තමයි හිතේ තියාගෙන කතා කරන්නේ. දැන් අවශ්‍ය කරලා තියෙන්නේ ඊට පස්සෙ වෙන දේවල්, වැදගත් කියල හිතෙන, ගැඹුරුයි කියල හිතෙන දේවල් සාකච්ඡා කරන්නයි ඕනැ වෙලා තියෙන්නේ. නමුත් ආනාපානයටවත් හිත ගිහිල්ල නැහැ. ගිහිල්ලා තියෙන්නේ ආනාපාන සංඥුවට. ඒක විසින් දක්වන වෙස් මුහුණ හොඳ හෝ වේවා, නරක හෝ වේවා ඒ මතින් මූණ නරක් කරගන්නවා. එහෙම නැත්නම් සතුටු වෙනවා. ඒක දිගේ භාවනාව ගියාට කවදාක්වත් අපි මුලට, යථාර්ථයට බහින්නේ නැහැ.

ඒක නිසා හැමදම භාවනා කරනකොට කවදාක්වත් භාවනා කරපු නැති කෙනෙක් වගේ බොහෝම සාදරව, බොහෝම ඒ දිහාවට අදහනසුලු ගතියෙන් භාවනාවට යනවා නම්, ඒ සංඥුවෙන් කෙරෙන විපල්ලාස බොහෝ දුරට අඩු කරගන්න පුළුවන්. ඒ නිසා යෝගාවචරයන්ට නිතරෝම මතක් කරන දෙයක් තමයි කමටහන් සුද්ද

කරනකොට හැමදම මූල කර්මස්ථානයෙන් පටන්ගෙන කතා කරන්න. මූල කර්මස්ථානයට බහිනකොටම පටන්ගන්නකොටම කොහොමද? ක්‍රමයෙන් ඒකම දිහා බලාගෙන ඉන්නකොට මොකද වෙන්නේ? නමුත් හුඟක් වෙලාවට මේක පළවැනි දවස් 10 ඇතුළත යෝගාවචරයාට මතක තියෙනවා. දෙවැනි දවස් 10 වෙනකොට ඉතින් හඳුනාගැනීමක් ඇති කරගන්නවා. අන්න අර කියපු විදිහටම තමයි ඒක නම් වෙන්නේ, මෙහෙම මෙහෙම නම් වෙනවා කියල අර පිටිපස්සේ තියෙන දේවල් විස්තර කරන්න හදනවා. මූල කර්මස්ථානයට බැසගැනීම, නැත්නම් එද දවස ඇතුළත කොහොමද සංඥාවල් ඇති කරගත්තේ කියන කතාව ගැන බොහෝ විට හිතනවා "ඕක නම් ඉතින් දන්න දේ නේ, කියන්න දෙයක් ඇත්තේ නෑ නේ" කියල භාවනාවේ අවුලක් ඇති කරගන්නවා.

මේ නිසා භාවනා යෝගාවචරයා හැම වෙලාවෙම ආධුනික හිතක් තියාගන්න ඕනෑ. සෑම දේකටම ආධුනික හිතක් තියාගෙන ඉන්න පුළුවන් නම් ඒක තමයි පුංචි ළමයගෙ මනසෙ තියෙන සුන්දරත්වය. ඒ ළමයා මේ ලෝකේ කිසිම දෙයක් හඳුනන්නේ නෑ. ඒ නිසා දකින දකින සෑම දේම සාදරව බලන්නේ. නමුත් වයසට යනකොට යනකොට යනකොට මොනම දෙයක්වත්, නොදැක්ක දෙයක් නෙවෙයි දකින්නේ. ඒ කියන්නේ පරණ සංඥා කන්දක් ගොඩගහගෙනයි තියෙන්නේ. වෙන විදිහකට කියනව නම්, ලී දඬුවල ලකුණු කරපු වඩුවෙක් වගේ ගොඩාක් වැඩ තියනවා. හැම ලීයකම ලකුණු කරල තියෙනවා. කොතනින් පටන්ගන්නද කියල කියන්න බැරි තරම් එතන අවුලක් ඇති වෙලා තියෙනවා.

සංඥාවේ කෘත්‍යය තමයි මොකක් හරි ලකුණක් ඉතිරි කිරීම. නැවත හඳුනාගැනීම සඳහා ලකුණක් ඉතුරු කරන එක තමයි සංඥාවේ කෘත්‍යය. ඒ වාගෙම තමයි ඒක තියන බවට දැනගන්න පුළුවන් ගතිය තමයි, සංඥාව කිසිම වස්තුවක් ගැන පූර්ණ අවබෝධයක් ඇති කර දීමේ ශක්තියක් ඇත්තේ නෑ. ඒක නිසා ආශා හිතෙන දෙයක් ආවොත් එක සැරයක් බැලුවට මදි අපට. මොකද ඒක තෘප්තිකර වෙන්නේ නෑ. අතෘප්තිකරයි. නැවත නැවත බලන්න ඕනැ, හරියට විදුලි රේඛාවක් දැක්ක වගේ. කවමදක්වත් විදුලි රේඛාවක් සම්පූර්ණයෙන්ම අපිට දකින්න බැහැ. එක්කෝ සද්ද අහනවා, එක්කෝ රූප දකිනවා, එක්කෝ ආකාරය දකිනවා. මොකක් හරි එකයි දකින්නේ. ඒ නිසා අපි නැවත නැවතත්

බලන්න බලාපොරොත්තු වෙනවා හොඳ දේ. හොඳ දේ විතරක් නෙවෙයි අන්තිම අපුල, අන්තිම දකින්න බැරි තරම් ජුගුප්සාජනක දේ වුණත් අපි නැවත නැවත බලන්න පෙළඹෙනවා.

ඒ කියන්නෙ එක බැල්මකින් අපට කවදාක්වත් පූර්ණ අවබෝධයක් ලැබෙන්නේ නැහැ. ඒක නිසා හිත නැවත නැවතත් ඒකටම නංවන ගතියක් තියෙනවා සංඥාවේ අඩුපාඩුව නිසා. පෘථග්ජනකමත් ඒත් එක්කමයි යන්නේ. පෘථග්ජනයාට කවදාක්වත් වස්තුවක් ඇති ආකාරයෙන් දකින්න බෑ. ඒක නිසා ඔහුට ඒක නැවත බැලීමේ තෘෂ්ණාවක් පහළ වෙනවා, අඩුවක් ඉතිරි වෙනවා. පූර්ණත්වය නැති බවේ ලකුණ. ඒක නිසා විදුලි රේඛාවක් දිහා බලනකොට වගේ අපි නැවත නැවතත් ඒක දිහා බලන්න උත්සාහ කරනවා. ඒ මොකද, ඒ විදුලි රේඛාව පුපුරන වෙලාවේදි ඇති වෙන සම්පූර්ණ ලක්‍ෂණ අපිට කවදාක්වත් දැකගන්න බෑ. ඒ වගේම තමයි අර කලින් දැකල ගත්ත සංඥාවක් තියෙනවා නම්, ඒකම තහවුරු කරන්නම තමයි අපි නැවත නැවතත් බලන්නේ. ඒක වෙනස් වෙයි කියන අදහස අපි බය කරවනසුලුයි.

ඒක හරියට අන්ධයෙක් ඇතෙක් අතගෑවොත් අන්ධයාට බෑ ඒ ඇතාගේ සම්පූර්ණ හාත්පස අතගාලා, සම්පූර්ණ හස්ති රූපය හිතේ මවාගන්න. කකුල අතගාපු එකා හිතාගෙන ඉන්නවා ඇතා කියන්නේ වංගෙඩියක් වගේ එකක් කියලා. වලිගෙ අතගාපු එකා හිතාගෙන ඉන්නවා ඇතා කොස්සක් වගේ එකක් කියලා. කන අතගාපු එකා හිතාගෙන ඉන්නවා ඇතා කුල්ලක් වගේ කියලා. හොඬේ අතගාපු එකා හිතාගෙන ඉන්නවා ඇතා පොල් ගහක කඳක් වගේ කියලා. බඩ පැත්ත අතගාපු එක්කෙනා හිතාගෙන ඉන්නවා ඇතා විශාල ගලක් වගේ කියලා. ඊට පස්සේ දවසෙත් සතා අතගාන්න දුන්නොත් ඊයේ අතගාපු වංගෙඩියම තමයි අද බලාපොරොත්තු වෙන්නෙත්. වලිගෙ අතගාපු මනුස්සයා ඒ කොස්සම තමයි බලාපොරොත්තු වෙන්නෙත්.

අන්න ඒ වගේ අපේ හිතේ තියෙනවා අර ගිය පාර දැකපු එකමයි නිත්‍ය, සත්‍ය. ඒක ප්‍රත්‍යක්ෂයි. මම අත්දැක්කා. ඒ වස්තුව විෂයෙහි නැවත, එහෙම නැත්නම් වෙනත් ආකාරයකින් බලන්න අපි ලෑස්ති නෑ. අපි හිතන්නේ එහෙම දැකීම, එහෙම වෙනස් කරන්න වීම නෝන්ජල්මක්,

කොන්ද පණ නැතිකමක්, අපිට ස්ථිර ප්‍රතිපත්තියක් නැති ගතියක් කියලා පුදුමාකාර විදිහට අර ගත්ත දේම නැවත නැවත තහවුරු කිරීමේ විශාල ප්‍රයත්නයක් පෘථග්ජනකමේ තියෙනවා. මෙන්න මේක අපි ශ්‍රද්ධාව මාර්ගයෙන් සර්වඥයන් වහන්සේ ඉදිරිපිටදී, ධර්මය ඉදිරිපිටදී, සංඝයා ඉදිරිපිටදී නැමෙනසුලු ගතියකට ආවොත් මිස භාවනාවක් හරියන්නේ නැහැ. ගත්ත දේම නැවත නැවත තහවුරු කරමින් සඳහන් කරමින් ඉන්න ඕනෑ.

ඒක පිළිබඳව ගැඹුරු, නමුත් හොඳ නිදර්ශනයක් **බ්‍රහ්මජාල සූත්‍රයේ** සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා. ලෝකයා මේ සංඥාවල් නිසා හිත තහවුරු කරගෙන ඒ මත්තෙහි දෘෂ්ටිවලට පත් වෙලා, හැටදෙකක් දෘෂ්ටි එදා සර්වඥයන් වහන්සේ ජීවමානව ධරමානව වැඩ සිටි කාලයේදී ඉන්දියාවේ තිබිල තියෙනවා. ඒ සෑම දෘෂ්ටියක්ම අපිට පේනවා මෝඩකමක් විපල්ලාසයක් විදිහට. නමුත් සර්වඥයන් වහන්සේ දේශනා කරනවා, ඒ එක්කෙනෙක්වත් ඒවා අත්දැකලා නැතුව නෙවෙයි කතා කරන්නේ. ඒ කට්ටිය ඇත්ත වශයෙන්ම දැකලමයි ඒක කියන්නේ. නමුත් ප්‍රශ්නය තියෙන්නේ දැකලා තියෙන්නේ බාගෙටයි. **තදපි ඵස්සපච්චයා** කියල. සර්වඥයන් වහන්සේ සර්වඥතා ඥානයෙන් ඒ එක එක දෘෂ්ටියක් විස්තර කරලා කියනවා මහණෙනි, මේක මේ ඇත්තෝ නොදැක නෙමෙයි මේ කතා කරන්නේ. අතගාල නැතුව නෙවෙයි මේ කතා කරන්නේ. ඇත්තටම දැකල තියෙනවා. ඒ නිසා මොනවක්වත් දන්නෙ නැති අපට එව්වා විවේචනය කරන්න අයිතියක් නෑ. මොකද ඒ ඇත්තෝ ඒවා ගැන කතා කරන්නේ ඒවා අත්දැකලා. නමුත් ප්‍රශ්නය තියෙන්නේ අත්දැකීම සම්පූර්ණ නෑ. සඤ්ඤා විපල්ලාසයක් විතරයි.

කල්‍යාණ පෘථග්ජන භාවයේදී, නැත්නම් සෝතාපන්න අවස්ථාවේදී, ආර්ය භාවයේදී, සක්කාය දිට්ඨිය පිළිබඳව පැටලෙන්න පුළුවන් සංඥා ටික අපි කඩාගන්නවා. නමුත් තව සංඥා සංයෝජන රාශියක් තියෙනවා. ඒ නිසා අපි සංඥාව ගැන කතා කරනකොට මෙතන මුලින්ම සිද්ධ වෙනවා - අපි දැනටම ලෝකය පිළිබඳව වරදවල වටහාගෙන ඉවරයි. මේකෙ හරියට වටහාගන්නවායි කියල කියන්නේ මොකක්ද? වරදවලා වටහාගෙන තියෙන බව දැනගැනීම පමණමයි. එහෙම නැතුව පිට බාහිර ලෝකයක් ඇත්තේ නෑ. ලෝකේ තියෙන්නේ

මේ සංඥා පටලවමින් වටහාදෙන මා තුළම තමයි. ඒ නිසා ලෝකේ හදල කවදක්වත් සංඥාව හදන්නත් බෑ, මම හදන්නත් බෑ. අපිට පුළුවන් වෙනවා මා තුළ හැම වෙලාවෙම රූපසංඥා, ශබ්දසංඥා, ගන්ධසංඥා, රසසංඥා, පොට්ඨබ්බසංඥා, ධම්මසංඥා කියන මේ දේවල්වල දැනට පටලැවිල්ලක් තියෙනවා. නිත්‍ය දේ අනිත්‍ය වශයෙන්, අනිත්‍ය දේ නිත්‍ය වශයෙන් ගන්න ලොකු ප්‍රයත්නයක් මා තුළ තියෙනවා. අසුභ දේ සුභ වශයෙන් ගන්න ලොකු සංඥා විපල්ලාසයක් මා තුළ තියෙනවා. සුඛ වශයෙන් ගන්න, සුභ වශයෙන් ගන්න, ආත්ම වශයෙන් ගන්න. මෙන්න මේ බව දන්නාසුලුව රූපයක් දකිනකොට මෙනෙහි කරනවා නම්, ශබ්දයක් ඇහෙනකොට මෙනෙහි කරනවා නම්, ගන්ධයක් දැනෙනකොට මෙනෙහි කරනවා නම්, රසයක් බලනකොට විඳිනකොට මෙනෙහි කරනවා නම්, ස්පර්ශයක් ලබන වෙලාවේදී මෙනෙහි කරනවා නම්, සිතිවිල්ලක් එන වෙලාවක් පාසා ධම්ම අරමුණක් එන පාසා අවදියෙන් මෙනෙහි කරනවා නම්, බොහෝ වාර මෙනෙහි කිරීමෙන් අපට පුළුවන් වෙනවා අපි ඇහැට රූපයක් ගත්තොත්, ඇහැට රූපය පිළිබඳව මෙනෙහි කිරීමේ දක්ෂ වුණොත් රූපය විෂයෙහි හෝ ඇහැ විෂයෙහි මත් වීම වෙනුවට මම දැන් දකිමින් ඉන්නවා කියන දැනගැනීම තියන මට්ටමට හරි එන්න. ඒක රූපය පිළිබඳ වැරදි සංඥාවක් ගන්නවට වඩා, ඇහැ පිළිබඳව වැරදි සංඥාවක් ගන්නවට වඩා බොහෝම නිවැරදි තැනක්.

මම දැන් දකිමින් ඉන්නේ, ඒ නිසා මේ රූපෙට මත් වීමක් නෑ, ඇහැට මත් වීමක් නැහැ, දැකීමේ ලොල් භාවයක් නැහැ. දකින බව දන්නවා. හැබැයි එතකොට ලෝකය බොහෝම නිර්වර්ණ දෙයක් බවට පත් වෙනවා. බලන්න දෙයක් නැති බවට පත් වෙනවා, මත් වෙන්න දෙයක් නැති බවට පත් වෙනවා. මොකද? අපි මේ දකින බවයි දන්නේ. මෙතෙක් වෙලා දකින රූපයෙයි මත් වුණේ, දකින ඇහැටයි අපි මත් වුණේ. දැන් මේ සංඥාවල තියෙන භයානක මත් කරවන ගතිය නිසා දකිනකොටම, 'දකින බව' දැනගන්න උත්සාහ කරනවා. ඒක ලොකු ලාභයක්. ලොකු නිවැරදි කිරීමක්. අහනකොටම අහන බව දැනගන්නවා. ගඳ සුවඳ, රස, පහස ලබන වෙලාවෙදීම ඒ බව දැනගන්න, එහෙම නැත්නම් ධම්මාරම්මණයකට මත් වෙලා ඉන්න වෙලාවෙදි මම දැන් මෙන්න මේ විෂයෙහි මත් වෙලා තියෙන්නේ කියලා දැනගන්න ගන්න

උත්සාහය ත්‍රිලක්ෂණ භාවනා ජීවිතයේ ආරම්භය කියල කියන්න පුළුවන්. සෑම දෙයක් පිළිබඳව නිත්‍ය සංඥව වෙනුවට අනිත්‍ය සංඥවකට නැත්නම් සංඥ වෙනස් වීමකට ඉඩ තබාගෙන කරන මේ ගතිය ඉතාම වැදගත් යෝගාවචරයාට. එහෙම නැත්නම් අපි අර කලින් ගත්ත සංඥවල් දිගේම තමයි යන්නේ.

මේකට තවත් ලෞකික නිදර්ශනයක් ඉදිරිපත් කරනවා නම්, අපේ ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීම් වගේ වැඩපිළිවෙළවල් - පුස්කොළ පොත්වල ලියල තිබුණා. පස්සේ ලෝකයා මුද්‍රණ කර්මාන්තය ඉගෙනගත්තා. ඉගෙනගත්තට පස්සේ සාහිත්‍යයේ ලේඛන කලාවේ පුදුමාකාර වෙනසක් ඇති වුණා. කොටින්ම මනුස්සයා හිතන්න පටන්ගන්නවා, දැන් කාලේ විග්‍රහ කරන්න පටන්ගන්නවා ශිෂ්ටාචාරය කියල කියන්නේ ලේඛන කලාවයි කියලා. කලින්ම කවුද ලේඛන කලාව ඉගෙනගත්තේ, ඒ ඇත්තෝ උසස්ම ශිෂ්ටාචාරයයි. නැත්නම් ඒ මිනිස්සු ඒ කාලෙත් ශිෂ්ටාචාරය හිතල තියෙනවා කියන විදිහට ශිෂ්ටාචාරය හා ලේඛන කලාව අතර පුදුමාකාර විදිහට අර්ථ විවරණ ආවා. නමුත් මේ අතරමැදට පස්සේ වර්ණ සේයා නැත්නම් චලන චිත්‍ර එන්න පටන්ගත්තා. චිත්‍රපටි. ඊට පස්සේ ශබ්ද කැව්වා. ඊට පස්සේ ඔක්කොමලා හිතුවා දැන් ඉතින් ලේඛන කලාව ඉවරයි. ඒ මොකද, ලේඛන කලාවෙන් කරන්නේ ඇහෙන් සංඥ ටිකක් බලලා චිත්ත රූපයක් මවාගන්න එක නේ. දැන් ඒ වෙනුවට රූපවාහිනියෙ රූපය මවල පෙන්නනවා. ශබ්දය හදල පෙන්නනවා. අකුරුත් ඕනැ නම් පෙන්නන්න පුළුවන්. ඒ නිසා හිතුවා ලේඛන කලාව, පොත්පත් කලාව දැන් සම්පූර්ණ අභාවයට යයි, මිනිස්සු පුදුමාකාර විදිහට රූපවාහිනියට, ශබ්දවාහිනියට බැඳෙයි කියලා.

නමුත් ටිකක් කල් ගිහිල්ලා බලනකොට මිනිස්සු කවුරුත් හදල දෙන රූප බලන්න කැමති නෑ. පොතක් බලල තමන් මවාගන්න රූපයක් තියෙනව නේ, ඒකට තාම කැමතියි. ඒ නිසා පොත්පත් විකිණීමේ කිසිම වෙනසක් වෙලා නෑ කියල සංඛ්‍යා ලේඛනවල කියනවා. රූපවාහිනිය ආවත් ශබ්ද ආවත් - සමහර චිත්‍රපටි තියෙනවා ගඳත් දෙනවා - ඒ සියල්ල දෙනවට වඩා තමන් හදගන්න චිත්ත රූපයේම නැවත නැවත මත් වෙලා ඉන්න මිනිස්සු කැමති නිසා පොත් බැලීම තාමත් ඔවුන්ගේ රුචියේ පවතිනවා. පොත් විකිණීම අඩුවක් නැතුව සිද්ධ වෙනවායි කියනවා.

ඒ නිසා අපි හරි කැමතියි ලෝකය බලනවට වඩා අපි හිතන විදිහට ලෝකය මවාගෙන එහි ජීවත් වෙන්න. මේකයි මනෝ ලෝකය කියල කියන්නේ. මේක තුළ ඕනෑම ප්‍රාතිහාර්යයක් පාන්න පුළුවන්, පිස්සෙකුට මෝඩයෙකුට. අර මුරුංගා ගහ යට බුදිය ගත්ත මිනිහා වාගේ. යෝගාවචරයා මෙන්න මේක, සංඥාව කියල කියන්නේ මිරිඟුවක් බව දැනගෙන - **මරීචිකූපමා සඤ්ඤා** - මෙන්න මේ මිරිඟුවට රැවටෙන්න හදන්නේ නැහැ. මිරිඟුව තුළ ලාභ සත්කාර වශයෙන් ඉහළ නගින්න හදන්නෙත් නැහැ. ඔහුට අවශ්‍ය වෙලා තියෙන්නේ "අනේ! කවද නම් මම මේ මිරිඟුවෙන්, මේ මමම මවාගෙන රඟපාන ලෝකේ සත්‍යයට කවදද ළං වෙන්නේ, ආනාපානයට කොහොමද මම ළං වෙන්නේ, පිම්බීම හැකිළීමට කොහොමද මම ළං වෙන්නේ, සද්දයක් ඇහෙනකොට සද්දයක් ඇහෙන බව මෙනෙහි කරන තැනට කොහොමද මම එන්නේ, වේදනාවක් එනකොට වේදනාවක් විඳින බව දැනගන්න තැනට මම කොහොමද එන්නේ? හිතිවිල්ලක් එනකොට හිතිවිල්ලක් තියන බවට කොහොමද මං එන්නේ?" ඒක ඉතාමත්ම ප්‍රත්‍යක්ෂයි.

නමුත් අපි හිතනවා භාවනා කරගෙන ඉන්නකොට ශබ්දයක් ඇහුණොත් කයේ වේදනාවක් ආවොත් හිතිවිල්ලක් ආවොත් භාවනාව කැඩෙනවායි කියලා. ඒ මොකද, අපි චිත්ත රූපයක් මවාගෙන ඉන්නවා, සංඥාවක් තියෙනවා භාවනාව නම් කියන්නේ මෙන්න මේකයි, ඒක නෑ. නමුත් අපි ප්‍රත්‍යක්ෂ ලෝකෙක ඉන්න බවට, සාන්දෘෂ්ටිකව මේ මොහොත ගත කරන බවට ලකුණු තමයි වේදනාව කියන්නේ. ඒකට අවදි කරන තැන තමයි සද්දේ කියන්නේ. සිතිවිලි කියල කියන්නේ. ඉතින් ඒකට අපිට තියෙන්නෙ මේ වෙලාවේ අරමුණ නෙවෙයි තියෙන්නෙ වේදනාවක් ශබ්දයක් හිතිවිල්ලක් කියල දැනගන්න. ඒ ගැන කම්පා වෙන්නවත් චංචල වෙන්නවත් දෙයක් නැහැ. මොකද? සද්දයක් ඇවිල්ල වදිනකොට ආයේ කවුරුවක්වත් ඇවිල්ලා කියන්න දෙයක් නෑ, අර තිබුණ මනෝ ලෝකේ සම්පූර්ණයෙන්ම කඩාගෙන වැටිලා ඇහැරෙනවා. නමුත් ඒකට අපි බය වෙනවා. ඒ නිසා සංඥාව පිළිබඳව හදරනකොට, නැත්නම් සංඥාව පිළිබඳ වඩවඩා දැනගන්න දැනගන්න, අපිට තේරෙන්න පටන් අරගන්නවා අපි කවදක්වත් ලෝකයාට ප්‍රතික්‍රියා කරන්නේ නැතිව එන සෑම සංඥාවක්ම, එන සෑම සලකුණක්ම සංඥා ලෝකයට දනවා.

සංඥා ලෝකය අවබෝධ කරගැනීමට ප්‍රස්තාවක් කරගෙන අවදි වෙන එකයි කරන්න තියෙන්නේ.

ඒ නිසා සංඥාව ඉතාමත්ම වැදගත් වෙනවා. විශේෂයෙන්ම සති කියන චෛතසිකය පිළිබඳව අපි දන්නවා සතිපට්ඨානය කියනකොට, එහෙම නැත්නම් කායගතාසති, ධම්මානුස්සති, බුද්ධානුස්සතිය ආදී තැන්වලදී සතිය විස්තර කරනකොටත් සංඥාවේ තියෙන ගතිය ප්‍රයෝජනවත් විදිහට යෝනිසෝ මනසිකාරය විදිහට හරවන්න අටුවාචාරීන් වහන්සේලා ගෙනහැර පෑමක් දක්වනවා. මොකද. සතියේ තියෙන්නේ ඒ ගත්ත අරමුණේම කිඳබසින ගතිය. මතුපිට පා වෙවී ලාමකව මතුපිට හැසිරෙන ගතියක් නෙවෙයි, අරමුණට බැසගන්න ගතිය. පොළාපනින ගතියක් නෙවෙයි, කිඳ බසින ගතියක්. **අපිලාපනලක්ඛණා** කියල කියනවා.

ඒ වාගේම තමයි අරමුණේ මත් නොවී **අසම්මෝසය.** සම්මෝසයක් නෑ, අන්ද මන්ද භාවයක් නැහැ, කලකොල භාවයක් නැහැ. මේ ආශ්වාස අවස්ථාව, මේ ප්‍රශ්වාස අවස්ථාව, නැත්නම් මේ පිම්බෙන අවස්ථාව, මේ හැකිළෙන අවස්ථාව කියල හොඳ පැහැදිලිකමක් ඇති වෙනවා. ඇති වෙනවා නම් එතන සතිය තියෙනවා. පිම්බීම කියකියා මෙනෙහි කර කර හැකිළීම ගැන හිතනව නම්, හැකිළීම ගැන මෙනෙහි කරන ගමන් පිම්බීම බලනවා නම්, ඔන්න එතකොට පටලැවිල්ලක් තියෙනවා. ඒවා මොනවක්වත් නැතුව, ගන්න අරමුණටම හිත දනව නම්, ඒක තමයි සතියේ කෘත්‍යය. **අසම්මෝසරසා.** ඒ වාගේම තමයි **විසයාභිමුඛභාවපච්චුපට්ඨානා** - තමන්ට හොඳට වැටහෙනවා, අරමුණ මූණට මූණ දලා ඉන්නව වගේ වැටහෙනවා. කලකොල භාව අන්ධ භාව නෑ. මෙන්න මේකට ආසන්න කාරණාව පෙන්නන්නේ **ථිරසඤ්ඤාපදට්ඨානා** - එකම අරමුණ බව දනිමින් එකම අරමුණේ බොහෝ වේලා තිර සංඥාවේ ඉන්නකොට තමයි සතියට ආධාර ලැබෙන්නේ. අරමුණු වහා වෙනස් වෙනකොට සතිය අසරණ වෙනවා. ඒක නිසයි ආනාපානය වගේ ඒකාකාර අරමුණක මේ ආශ්වාස මේ ප්‍රශ්වාස, ආශ්වාස ප්‍රශ්වාස, ආශ්වාස ප්‍රශ්වාස වශයෙන් අරමුණේම හිත ස්ථිර සංඥාවේ ඉන්නකොට තමයි සතිය තහවුරු වෙන්නේ. නැත්නම් සතිය තහවුරු වෙන්න ආසන්නතම කාරණාව වෙන්නේ තිර සඤ්ඤාව.

මේක ඇහේ ලබාගන්න ඉතාමත්ම අමාරුයි කියල කියන්නේ, ඇහැ ඒ තරම්ම යුහුසුලුයි. ඒක නිසා අපි ඉස්සෙල්ලාම මේක අරගන්නේ කයේ. කාය ප්‍රසාදය සහ ස්පර්ශය අතර. මොකද ඒකේ ටිකක් පවත්නා ගතියක් තියෙනවා. පිම්බීම හැකිළීම හෝ නැවත නැවත නැවත නැවත යොදවන්න ඕනෑ. මේ පිම්බෙන වාරේ, මේ හැකිළෙන වාරේ, මේ පිම්බෙන වාරේ මේ හැකිළෙන වාරේ. ඒ එක එකක් එක එකක් වෙන් වෙන් වශයෙන් හඳුනාගැනීම් කරනවා සංඥව තහවුරු කරගන්න. මේ ඇතුල් වීම මේ පිට වීම, මේ වම මේ දකුණ වශයෙන්. අන්න ඕක, ඒ කියන මේ අරමුණේ ප්‍රධාන කොටස් දෙක, එකිනෙකට වෙන් කර හඳුනාගැනීමේ දක්‍ෂතාව නැති වුණ තැන කවදාකවත් ස්ථිර සතියක් පිහිටන්නේ නැහැ.

ඒ නිසා ආරම්භක අවස්ථාවේදී ඒ පිම්බෙන වාරේ හැකිළෙන වාරේ සටහන් වශයෙන් ආකාර වශයෙන් දැකගන්න පුළුවන් මොකද, පටන්ගන්නකොට හිත පුහුදුන් ගතියක් තියෙනවා. නුපුහුණු ගතියක් තියෙනවා. ඒ වගේම අරමුණ ගොරෝසු ගතියක් තියෙනවා. ඒ නිසා කමටහන් සුද්ද කරනකොට හොඳට කියලා දෙනවා, කොහොමද තමන් පිම්බෙන වාරේ අත්දැක්කේ හැකිළෙන වාරෙට සාපේක්‍ෂකව? ඇතුල් වෙන හුස්ම කොහොමද අත්දැකින්නේ පිට වෙන හුස්මට සාපේක්‍ෂකව? වම වශයෙන් සක්මන් කරනකොට ඒ ලබන අත්දැකීම දකුණ වශයෙන් තබන අත්දැකීමට වෙන් කරගෙන දකින්න තරම් සංඥවේ දියුණු තියුණු භාවයක් තියෙනවද? යම්ම හේතුවක් නිසා, සීලය නිසා හෝ වෙන වික්ෂිප්ත භාවයක් නිසා හෝ හිතේ සමාහිතයක් නැත්නම් මේ මූලික හඳුනාගැනීම්වල අඩුපාඩුවක්. ඒ විතරක් නෙවෙයි සතිය තහවුරු වෙන්න නම් මේ සංඥවම නැවත නැවතත්, ඊගාව සැරේ පිම්බෙනකොටත් ඊගාව සැරේ පිම්බෙනකොටත් ඊගාව සැරේ පිම්බෙනකොටත් අලුතෙන්ම බලන්නා සේ ඒත් එක්කම එන හැකිළීමෙන් වෙන් කොට දැනගැනීමේ සාදර බවක් තියෙන්න ඕනෑ. ආශ්වාස ප්‍රශ්වාස දෙකේ වෙනස හඳුනාගැනීමේ සාදර බවක් තියෙන්න ඕනෑ.

අන්න එතකොට ඒ යෝගාවචරයාගේ අර මුල්ම දැකපු සතිය, මුල්ම සතියට දැක්ක පිම්බීම දෙවෙනි පිම්බීමට වැඩිය වෙනස්, තුන්වෙනි එකට වැඩිය වෙනස්. මොකද? කවම කවදාක්වත් අපේ හිතට සම්පූර්ණ

පිම්බීමක්, සම්පූර්ණ හැකිළීමක් සාකල්‍යයෙන් දකින්නට බැහැ. හැමදම අඩුමයි. ඒ නිසා පළවැනි දර්ශනයට වඩා දෙවැනි දර්ශනයේදී අර මුල් සංඥාවත් එකතු කරගෙන පූර්ණත්වයකට යනවා. දිගින් දිගට දිගින් දිගට යනකොට තමයි අපට මේ පිම්බීමේ හැකිළීමේ පෙර නොදක්ක ඇති හැටිය ටික ටික ටික ටික පේන්න පටන් අරගන්නේ. ආන්න ඒ පේන්න පටන් අරගන්නකොට පුදුමයි, මේ සංඥාවේ ලොකු පරිණාමයක් සිදු වෙනවා, පෙරළීමක් සිද්ධ වෙනවා. නැවත නැවතත් නැවත නැවතත් එකම අරමුණම දකිකොට අනිවාර්යයෙන්ම හිත ඒ අරමුණේ තියෙන ස්වාභාවික ලක්ෂණ, අත්‍යන්ත ලක්ෂණ, සලක්ෂණ, මෙතෙක් දුටු ඒ සටහන් ආකාරවලට වඩා එහි ඇත්තා වූ ඇති හැටියට, අරිට වඩා ගැඹුරකට දෙරවල් විවෘත වෙනවා. තිර පට ඇරෙනවා.

ආන්න ඒ ඇරීම, සංඥාවේ ඇති වෙන මේ එකම අරමුණ දිහා දසදහස්වර බලනකොට ඒ විෂයේ සංඥාව වෙනස් වෙන ස්වභාවය දකින්න නම් මුල ඉඳලා මෙතැනට එනකල් අඛණ්ඩ සතියක් අවශ්‍යයි. මේක ආධුනිකයාට බොහෝම දුෂ්කරයි. ආධුනිකයා බොහෝ විට භාවනා කරන ගමන් කල්පනා කරනවා දැන් හරිද, මම ඉන්නේ උදයබ්බය ඥානයේද, මම ඉන්නේ සංඛාර උපේක්ඛා ඥානයේද ආදී වශයෙන් කල්පනා හිතට පහළ වෙනවා. එහෙම නැත්නම් සම්මුතියෙද මම ඉන්නේ, පරමාර්ථ පැත්තෙද ඉන්නේ ආදී වශයෙන් කල්පනා කරනවා. මේ සෑම කල්පනාවක් නිසාම සති ධාරාව කැඩෙනවා. සති ධාරාව තහවුරු වෙන්න නම් සෞඛ්‍ය සම්පන්නව ගත්ත සංඥාව, නැත්නම් ඒ ලැබෙන ස්පර්ශය දිගින් දිගට දිගින් දිගටම තිර සංඥාවක් බවට පත් වෙනවා නම් ඒ යෝගාවචරයාට ලොකු ආරක්ෂාවක් වැටහෙනවා. හොඳට තේරෙනවා දැන් භාවනාවේ කැඩිල්ලක් නැහැ. ඒ අතරමැද සද්දත් තියනවා, වේදනාත් දැනෙනවා, හිතිවිලිත් එනවා. ඒ ආවේ නැතත් වෙන වෙන බාධාත් තියෙනවා.

නමුත් කෝක තිබුණත් තමන් අරගත්ත අරමුණ දිගින් දිගටම ඒකෙ හැම පැතිකඩක්ම හැම පැත්තෙන්ම බලන එකයි මට කරන්න තියෙන්නේ. බාධා තියෙනකොට මට අරමුණේ රංගනය හොඳට දැකගන්න පුළුවන්. ඒ නිසා මම බාධාවලට නෙවෙයි තැන දෙන්නේ අරමුණටමයි, මූල කර්මස්ථානයටමයි කියලා දිගින් දිගටම දිගින් දිගටම

මේක දිගේ යනකොට තමයි මේ අරමුණේ සාමාන්‍ය භෞතික විද්‍යාඥයෙකුට දකගන්න පුළුවන් භෞතික ලකුණු ඉක්මවල ඇතුළකට බැහැගන්න පුළුවන් වෙන්නෙ. එතකොටයි යෝගාවචරයාට තේරෙන්නේ මම ඉස්සර පිම්බීම හැකිළීම ගැන කතා කළා නම්, ඊට වැඩිය වෙනස් සටහන්, වෙනස් ආකාර, වෙනස් දේවල් දැන් එන්න එන්න එන්න එන්න පේන්න පටන්ගන්නවා.

ආන්න ඒ විදියට යනකොට එන එන දේවල් විස්තර කරගෙන යනවා නම්, අනිවාර්යයෙන්ම මේ මතුපිට බැල්මකට, භෞතික විද්‍යාඥයෙක් දකින දැක්මකට වැඩිය අරමුණේම බලා ඉන්නකොට ඒකේ සන්තති ලක්‍ෂණය දකගන්න පුළුවන්. සන්තතිය කියල කියන්නේ අපි බලා ඉන්න පිම්බීම හෝ හැකිළීම, නැත්නම් ආශ්වාසය හෝ ප්‍රශ්වාසය එකක් නෙවෙයි. ඒක තුළ වැඩ රාජකාරි රාශියක් තියෙනවා. ඒක එක චිත්තක්‍ෂණයක් නෙවෙයි, චිත්ත වීථි පරම්පරාවක්. ඒකේ එක කොනක් දකලයි අපි මෙතෙක් වෙලා කතා කරල තියෙන්නේ. දැන් ඒකේ තියෙන හැම හැඩතලයක්ම සම්පූර්ණ කාලය දිගේම බලා ඉන්නකොට අර මුලින් දැක්කට වැඩිය හුඟාක් වෙනස්. අර අන්ධයා ඇතා අතගාලා මේක කුල්ලක් වාගේ, මේක වංගෙඩියක් වාගේ, මේක කොස්සක් වාගේ කියල අවබෝධ කරගත්ත දේ හාත්සින්ම අතගගා ඉන්න ලැබෙනවා නම් තේරෙන්න පටන් අරගන්නවා, මේවා එක එක ඒවායේ කොටස්. නමුත් මේ ඔක්කොගෙම එක සමස්තයක් තියෙනවා. ඒ සමස්තය වශයෙන් බලපුවහම මේ ඇතාගෙ කොටස්. එහෙම නැතුව වංගෙඩි, කුළු නෙවෙයි.

ඒ විතරක් නෙවෙයි තව හොඳට ඇස් දෙක ඇරලා බලාගන්න පුළුවන්කමක් තියනවා නම් ඊටත් වැඩිය ලොකු අදහසක් ඇති වෙනවා. එහෙම නැත්නම් ධර්ම චක්‍ෂුසය පහළ වෙනවා. අන්න ඒකට මේ සංඥාවේ පටලැවිල්ල, සංඥාව එන්න එන්න එන්න එන්න අලුත් වෙවී යන ගතිය එනකොට යෝගාවචරයා ඒ තුළ අඛණ්ඩ භාවයක් නැති වුණොත්, දිගට පවත්වාගෙන යන ගතිය නැති වුණොත්, සති ධාරාවේ අඛණ්ඩ භාවය නැති වුණොත් ඉතින් අර දකින දකින රූපයේදි හිත විලෝපනය කරගන්නවා. මේ මම බලාගෙන හිටපු අරමුණේමද? නැත්නම් මොකක්ද වෙලා තියෙන්නෙ? ආදී වශයෙන් අන්ද මන්ද භාවවලට පත් කරනවා. එන්න ඒ අන්ද මන්ද භාවවලට පත් කිරීම තමයි හුඟාක් වෙලාවට

එදිනෙදා වැඩ බහුල ඇත්තන්ට භාවනාව දිගට කරගෙන යන්න බැරි වෙන කාරණාව. යෝගාවචරයෙක් වශයෙන් පැවිදි වෙලා ආරණ්‍යගතව කළත් අදහස නිවන නෙවෙයි නම්, අදහස මේ බාහිර ලෝකේ වැඩ කටයුතු නම් සති ධාරාව එන්න එන්න බණ්ඩ වෙනවා, නැතුව යනවා. එතකොට හැමදාම භාවනාව හැමදාම අලුත්.

ඒක අර ගිනිගානා දණ්ඩ උපමාවෙන් තමයි විස්තර කරන්නේ. ලීයක් ලීයක් අතුල්ලලා ගින්න උපදවාගන්න හදනවා නම්, ලී දෙක අතුල්ලලා රත් වුණාට පස්සේ අඛණ්ඩවම ඇතිල්ලීම කෙරුවොත් ගිනි පුපුරක් ලබාගන්න පුළුවන්. නමුත් ටිකක් දුර අතුල්ලලා අත වෙහෙසයි කියලා නතර කරලා ආයෙත් අතුල්ලන්න ගත්තොත් අර කලින් කරපු ප්‍රයත්නයේ ප්‍රතිඵල නැතුව යනවා. අන්න ඒ වගේ තමයි භාවනාවේදී මේ සංඥාව ආරම්භ වෙලාවේදී මෙහෙමයි, කරගෙන කරගෙන යනකොට මෙහෙමයි කියන එක තමන්ටම ඇස්පනාපිට සාක්ෂි වෙන්න නම්, සහතික වෙන්න නම් අනිවාර්යයෙන්ම යෝගාවචරයා එක දෘෂ්ටි කෝණයක් දැකලා සේරම දැක්කයි කියලා හිතන්න නරකයි. දැන් මේ දැකීම පටන්ගත්ත විතරයි. මේ දැනුම මතම තව දුරටත් බලන්න ඕනෑ අලුත් හිතකින්. මෙන්න මෙහෙම බලාගෙන ඉන්නකොට සංඥාව ක්‍රමයෙන් ක්‍රමයෙන් වෙනස් වෙන හැටි හොඳට දැකගන්න පුළුවන්. මේ ඇත්තටම වෙන්නේ සම්මුති සත්‍යයේ ඉඳල පරමාර්ථ සත්‍යය දක්වා යන එක. එහෙම නැතුව කැඩිකැඩී, රූපයෙන් සද්දයට සද්දයෙන් ගන්ධයට වගේ, නැත්නම් ඉඳගෙන ඉන්න ඉරියව්වෙන් හිටගෙන ඉන්න ඉරියව්වට, හිටගෙන ඉන්න ඉරියව්වෙන් දිගලන ඉරියව්වට ආදී ඉරියව් මාරු කරන විදිහට ආදී වශයෙන් කරන්න ගත්තොත් දිගටෝම මේ දුක්ඛ සත්‍යය පවතිනවා.

දුක්ඛ සත්‍යයේ යථාර්ථය දකින්න නම් එකම අරමුණක්, මෙන්න මේ වගේ ජවනිකා ටික, රාශියම බලාගෙන ඉන්නකොට හොඳට වැටහෙනවා, අපි මෙතෙක් කල් ලෝකය දිහා බැසගෙන තිබුණ සංඥාව කොච්චර නම් වර්තමාන මොහොතේ, තමන් තුළ, මෙතැන කියන විසඳගන්න පුළුවන් ප්‍රශ්නෙකට එනවාද කියලා. තමන් නැතුව, මේ මොහොතෙ නොවී, මෙතන නොවී ගන්න ලෝකය සම්පූර්ණ විසඳන්න බැරි ලෝක ප්‍රශ්නයක්. නමුත් වර්තමානෙ සංඥාවත් එක්ක ගත්තොත්

එතකොට ඒ තියෙන ප්‍රශ්නය නැතිව යනවා. මේ වාගේ හාත්පසින්ම වෙනස් සිද්ධියක් තමයි වෙන්නේ. අන්ධ පෘථග්ජනයා තුළ යම් කිසි වැරැද්දකට, වැරදි ආකල්පයකින් යමක් දැක්කා නම්, ඉස්සෙල්ලාම සංඥා විපල්ලාසයක් බවට පත් වෙනවා. සංඥා විපර්යාසයක් වෙනවා. ඊගාවට මනුස්සයා අර චිත්‍රය දකින්න දකින්න ඒක ගඳක් වේවා, රසක් වේවා, ආලෝකයක් වේවා, ස්පර්ශයක් වේවා, ධර්ම කාරණාවක් වේවා නැවතත් අර විපල්ලාස හිතෙන්මයි දකින්නේ. දකින්න දකින්න දකින්න කැඩෙන දීගේ හෙවනැල්ලත් ඇදට තමයි පේන්නේ. එතකොට ඒකේ කියෙනවා, අර කලින්ම එන එකට කියනවා සංඥා විපල්ලාස. දකිනකොටම ඇති වෙන සංඥාවේ හඳුනාගැනීමේ විපරියාසෙ. ඊගාවට ඒක චිත්ත විපල්ලාසයක් බවට පත් වෙනවා. ඒ සිද්ධිය, නැත්නම් ඒ පුද්ගලයා, නැත්නම් ඒ අරමුණ එනකොටම අපේ හිත එක පැත්තකට යනවා. මෙන්න මේක නැවත නැවත වෙනකොට අපි දෘෂ්ටිය වශයෙන් විපල්ලාස වෙනවා. දෘෂ්ටි විපල්ලාසයක් වුණොත් බුදුරජාණන් වහන්සේ ඉදිරියට වැඩම කළත් කවදාක්වත් ඒ පුද්ගලයා හදන්න බෑ.

ඒ නිසා ඉතාමත්ම පහසුවෙන් ලේසියට දිනපතා නිතිපතා සිද්ධ වෙන මේ සංඥා විපල්ලාසය චිත්ත විපල්ලාස මට්ටමට දිට්ඨි විපල්ලාස මට්ටමට පත් වුණාට පස්සේ ඒ මනුස්සයට ගහල බැනලා වැඩක් නෑ. ඒකයි මේ මිථ්‍යාදෘෂ්ටික ඇත්තො ගැන සර්වඥයන් වහන්සේ සඳහන් කරන්නේ ඒගොල්ලෝ බොරු නෙමෙයි කියන්නේ. දැකලමයි කතා කරන්නේ. නමුත් පටන්ගැනීමේ ඉඳලම පැටලිලා තියෙනවා. ඒ පැටලිල්ල දිගේ ඝනබහල භාවයක් මේකෙ තියෙන්නේ. ඒක නැවතත් ආපහු යන්න, අර මූලික ස්ථානයට යන්න ඒ ඇත්තෝ අම්මා මුත්තා කීවත් ඒ දෘෂ්ටිය නම් අතඅරින්නේ නෑ. බෞද්ධයායි කියල කියන්නේ ආන්න ඒ වගේ. අපි දැනටමත් ඉන්නේ මෝඩ දෘෂ්ටියක. අල්ලගත්ත බුද්ධාගම කියලා හෝ අල්ලගෙන තියෙන්නේ, ඒකත් දෘෂ්ටියක්මයි. මෙන්න මේක වෙනස් කරන්න ඕනෑ. මේක වෙනස් කරන්න නම් අලුත් සංඥාවලට අලුත් තොරතුරුවලට අපි ලෑස්ති වෙන්න ඕනෑ. හිත අලුත් කරගන්න ඕනෑ. අලුත් කරගත්තේ නැත්නම් අපි කොහොමටත් අපි බදාගත්ත දේටම තමයි නැවත නැවතත් ඡන්දෙ දෙන්නෙ.

මේක කවමදකවත් සීලයකින් හෝ සමථ භාවනාවකින් එහෙම අතගාන්න පුළුවන් ප්‍රශ්නයක් නෙවෙයි. ඒවායේදී කරන්නේ තියෙන සංඥාවම තහවුරු කරන එකයි. විපස්සනාවෙදී විතරක් ඒ පුද්ගලයා ලැස්ති වෙනවා මේ නිත්‍ය සංඥාව නිසයි අපි බැඳුණේ, දැන් අනිත්‍ය සංඥාවෙ පේන විදිහට නිත්‍ය දේ උනත් නැවත අලුතෙන් බලනවා. සුභයි කියලා හිතාගත්ත දේ වුණත් "මේ ලෝකේ ඉපදුණ එක නම් හොඳයි, මනුෂ්‍ය ආත්ම භාවය හොඳයි, ඇස් දෙකක් ලැබුණා හොඳයි" කියල නේ අපි හිතන්නේ. ඒ වුණත් අපි බලනවා "මේ ලෝකය දුකයි, මනුෂ්‍ය ආත්ම භාවය දුකයි, ඇහැත් අපිට දෙන්නේ දුකමයි". ඒ වාගේම දුක්ඛ සුඛ, සුභ අසුභ, ආත්ම අනාත්ම කියන මේවයෙදී මේ නිත්‍ය, සුඛ, සුභ, ආත්ම කියන එක අපි ඉපදෙනකොටම දෑවැද්දට හම්බ වෙච්ච දෙයක්. බූදලේටම හම්බ වෙච්ච දෙයක්.

සර්වඥයන් වහන්සේ දේශනා කරන්නේ මෙන්න මේක පිළිබඳව සංඥාව වෙනස් කරන අදහසින්. එහෙම නැත්නම් මූලිකවම අපිට ලැබිලා තියෙන සැකිල්ල වෙනස් කරන අදහසින්, වැරදියි කියන අදහසින් බැලීමමයි සර්වඥයන් වහන්සේ ලෝකෙට විශේෂයෙන් අලුතෙන් දීපු දේ. ඒක තමයි විපස්සනාව කියන්නේ. අනික් හැම වෙලාවකදීම අපි කරන්නේ ඒ තියෙන සංඥාවෙන්ම වැඩ ගන්න එකයි. ඒක නිසා අපි නිතරෝම මතක තියාගන්න ඕනෑ අපි දැනට වැරැද්දක ඉන්නේ කියන කාරණය. ඒ වැරැද්ද නිවැරදි කිරීම කවමදකවත් කවුරුත් වෙනුවෙන් කාටවත් කරන්න බෑ. අනිවාර්යයෙන්ම තමන් කට යුතුයි. සර්වඥයන් වහන්සේ ධර්මය දේශනා කරන්නේ මෙන්න මේ යෝජනාව කෙනෙකුට කරන්නයි. නමුත් කවමදකවත් වෙනස් කරන්න, වෙනස් කරපන්, වෙනස් කරමි, වෙනස් කරනකල් මං වැඩේ නතර කරන්නේ නෑ ආදී වශයෙන් එහෙම අන්තවාදී අදහසක් සර්වඥ දේශනාවේ නෑ. නමුත් තමන්ට පුළුවන් ගන්න "මේ සර්වඥයන් වහන්සේ ලෝකේ පහළ වුණා. මට මනුෂ්‍ය ආත්ම භාවය ලැබුණා. මට ඇහැ කන දිව නාසය ලැබුණා. මට කල්‍යාණ මිත්‍ර සේවනය ලැබුණා. ධර්මානුධර්ම ප්‍රතිපත්තිය ලැබුණා. මේ ලෝකේ පැවිද්ද තියෙනවා. ඒ නිසා මම අධිෂ්ඨානයක් ගන්නවා මේ ජීවිතයේ උත්පත්තියත් එක්ක මට ලැබිච්ච මේ නිත්‍ය සංඥාව, සුභ සංඥාව,

සුබ සංඥව, ආත්ම සංඥව අනිවාර්යයෙන්ම අභියෝගයට ලක් කරලා ප්‍රතිපදවේ යන්න".

මේ සඳහා ප්‍රතිපදවක් අවශ්‍යයි කියල කියන එකම නිකාය තමයි ථෙරවාදී නිකාය. අනිත් ගොල්ලෝ හිතනවා බණ කියනකොට මේ සංඥව වෙනස් කරගත්ත ගමන් එතනම නිවන් දකින්න ඕනැ, නිවන් දකිනවා. ඒකත් සමහර විට සංඥවක් වෙන්න ඉඩ තියෙනවා. නමුත් මේ ප්‍රතිපදවේදී සංඥව එහෙම එක වර යන්නේ නෑ. ටිකෙන් ටික ටිකෙන් ටික නිරවුල් සංඥ විසින් අවුල් සංඥව අයින් කරනවා. තවතවත් නිරවුල් සංඥව විසින් අර අවුල් සංඥව අයින් කරන්න අයින් කරන්න අවසානයේ තමන්ට ආපු ගමනකුත් එක්ක තව කෙනෙකුට කියල දෙන්න පුළුවන් ප්‍රතිපදවකුත් එක්ක වෙනස ක්‍රමිකව සිද්ධ වෙනවා. විශේෂයෙන්ම මේ වගේ සංඥ වගේ දේවල්වල වහාම, මම දැන් මේ ධර්මය අහපු ගමන්ම, මම දැන් ඊගාව ආනාපානයෙන් රහත් වෙනවා, මම මේ ඊගාව ආනාපානයෙන් සියල්ල දැකගන්නවා ආදී වශයෙන් මේ සංඥව වෙනස් කරගන්න හදන එක - ඒකත් තරුණ ඔදයත් එක්ක එන ප්‍රතිඵල බලාපොරොත්තු අධික භාවය නිසා ඇති ගතියක්. තවත් සංඥ විපල්ලාසයක්.

ඒ නිසා ප්‍රතිපදවේ යනකොට නම් අන්න අර විදිහේ බරපතළ පටලැවිලි වෙන්න විදිහක් නෑ. අපි ප්‍රධාන වශයෙන්ම දන්නවා, අපි ළඟ දැනට මෙන්න මේ විපල්ලාස හතර තියනවා. සංඥ විපල්ලාස හතර තියෙනවා. අපි නිත්‍ය වශයෙන් ගන්නවා. ඒකයි යූ. එන්. පී. කාරයා යූ. එන්. පී. කාරයාමයි. ශ්‍රී ලංකා නිදහස් පක්‍ෂය, මට ඒකමයි. සිංහල බෞද්ධයා කිව්වොත් ඒකමයි. මේ තුළ තියෙන්නේ ආධානග්‍රාහිත්වය, දැඩි ඇල්ම. ඒ වාගේම දුප්පටිනිස්සග්ගය. මේක අතඅරින්න නම් අම්ම මුත්ත කිව්වත් බෑ. ඒ වගේම තමයි අනිත් පැත්තේ ඉන්න කට්ටිය ඒකාන්තයෙන්ම වැරදියි, මම විතරයි සත්‍ය. මේවා සේරම සර්වඥයන් වහන්සේ නමින් වෙන් කරලා පෙන්නලා දීල තියෙනවා. මෙන්න මේවා නිසා ධර්මය කෙලෙසනවා.

නමුත් මේක තමයි ලෝකයේ පවතින තත්ත්වය. ඒ නිසා අපිට වෙන කෙනෙකුට කියනවට වඩා, තමන් පිළිබඳ අධිෂ්ඨානයක් ගන්න

පුළුවන් "මෙන්න මෙහෙම ලෝකෙක ඉන්නවා. අපි දැනට මූල කර්මස්ථානයක් හොයාගෙන තියෙනවා. අන්න ඒ මූල කර්මස්ථානයේ බොහෝ කාලයක්, බොහෝ චිත්තක්‍ෂණ ගණනක්, පැය දවස් අපි ආයෝජනය කරල තියෙනවා. ඒත් අපි ගත්ත මතවාද ගලවන්න අමාරු නිසා අපි අලුතින් මේක දිහා බලන්න ඕනෑ. අද ඉඳගන්නේ අලුතෙන්ම භාවනා කරන කෙනෙක් වගේ. එතකොට අපිට අර දැක්ක දෘෂ්ටිකෝණවලට වඩා, දැක්ක පැතිකඩවලට වඩා අලුත් පැතිකඩකින් මූල කර්මස්ථානය බලන්න පුළුවන්". මූල කර්මස්ථානය මේ විදියට අලුත් පැතිකඩවල්, අලුත් දෘෂ්ටි හරහා දකින්න දකින්න දකින්න මූල කර්මස්ථානයෙන් බාහිර දේවල් නිකම්ම නිකන් දුර්වර්ණ වෙන්න පටන්ගන්නවා.

ඒක නිසා ඔය **පටිනිස්සග්ග** කියලා දක්වන වචනෙදි ඇත්ත කතාව බොහොම ලස්සනට විස්තර කරනවා; **පක්ඛන්දන පරිච්චාග** කියන වචන දෙකෙනුත්. **පක්ඛන්දන** කියල කියන්නේ කෙළින්ම බැසගැනීම, ඒකටම නිමග්න වීම, ඒකටම ඇතුල් වීම. **පරිච්චාග** කියල කියන්නේ අතහැරීම. පටිනිස්සග්ගය කියන වචනයේ මේක තියෙනවා. ඒක නිසා අපි බැසගන්නේ මොකේටද? මූල කර්මස්ථානෙට. අතහරින්නේ මොකක්ද? අනෙකුත් අරමුණු සියල්ලම. එතකොට ඒවා අතහැරෙනවා. නමුත් මේ **පරිච්චාග** සහ **පක්ඛන්දන** කියන්නේ ප්‍රතිවිරුද්ධ අර්ථ දෙකක්. එක පැත්තකින් බදාගන්නය කියල කියනවා, අනික් පැත්තෙන් අතහරින්නය කියනවා.

නමුත් අපි මූල කර්මස්ථානය දිගේ යනකොට පිම්බීම හැකිළීමත් එක්ක සද්ද ඇහෙනවා, වේදනා දැනෙනවා, සිතිවිලි එනවා, ආනාපානෙත් වෙනවා. එතකොට අපිට මේ පටිනිස්සග්ගය කියලා කියන්නේ අපි මෙතෙක් වෙන්ට ප්‍රතිපත්ති පුරාගෙන ආපු මූල කර්මස්ථානයටම බැසගන්න ඕනෑ, නිමග්න වෙන්න ඕනෑ, කිඳබහින්න ඕනෑ, ආසන්න වෙනත් ඕනෑ, උත්සන්න වෙන්න ඕනෑ, සමීප කරගන්න ඕනෑ. එතකොට මොකද වෙන්නේ? අනෙකුත් අරමුණු එන්න එන්න එන්න එන්න අවස්ථාව නොලැබී පරිත්‍යාගයට ලක් වෙනවා. දීල දානවා. මේ දේ වෙන්නේ ආන්න අර විදිහට අපි දන්නවා එකම දේ පිළිබඳව නැවත නැවතත් නැවත නැවතත් සාදර වෙලා ඒ පිළිබඳව අලුත් සංඥාවක්,

සංසන්දනාත්මක සංඥාවල්, දුර ළඟ සංඥාවල්, නැත්නම් ඇතුළත පිටත කියන සංඥාවල්, ගොරෝසු සියුම් කියන සංඥාවල්, හොඳ නරක කියන සංඥාවල්, අතීත අනාගත පච්චුප්පන්න කියන මේ එකොළොස් ආකාර සංඥාවල් සේරම ඉගෙනගැනීමෙන් තමයි ඇති හැටියට ගමන් කරන්න පුළුවන් වෙන්නෙ. ඒ නිසා එව්වට දඟලන්න ඕනැ නැහැ. ඒවා ඉබේ සිද්ධ වෙන දේ දිගට භාවනා කරන්නාට.

සංඥාව ගැන දන්න කෙනා "ආ! මේක මේ පිළිබඳව ගන්න පුළුවන් තවත් දෘෂ්ටි කෝණයක් පමණයි. හොඳ ගන්නත් එපා. ඕකේ නරක ගන්නත් එපා. දන් තියෙන්නේ මේකයි" කියල තේරුම්ගන්නවා. තේරුම්ගැනීම තුළින් එන්න එන්න එන්න පිරිච්ච භාවයක් භාවනාවේ සම්පත්තිකර ස්වරූපයක් එන්න පටන්ගන්නවා. එතකොට ඔහු තුළ ඉබේම අෂ්ට ලෝක ධර්මයන්ගෙන් සැලෙන ගතිය, වහා ප්‍රතික්‍රියා කරන ගතිය, කිපෙන කුප්පන ගතිය එන්න එන්න එන්න අඩු වෙනවා. තේරෙන්න පටන් අරගන්නවා, ලෝකෙත් එක්ක හැප්පිලා කවදක්වත් විසඳන්න බෑ. අපිට පුළුවන් වෙනවා අපේ තියන සංඥා එක්ක මූණට මූණ දලා ඉන්න. එතකොට පුළුවන් තරම් හිත වර්තමාන මොහොතේ, තමන් තුළමයි, මෙතන. එතකොට නම් අදහසක් ඇති කරගන්න පුළුවන් මේ ජීවිතයේදී අපිට ලැබිච්ච මේ මනුෂ්‍ය ආත්ම භාවය ත්‍රිහේතුකයි. ඔය කියන අවශ්‍යතා සේරම මේකේ තියෙනවා. නමුත් බාහිරය පටලවාගත්තොත්, අපි ඒ අවුල නතර කරන්න නම් සංඥා පිළිබඳව හොඳ පැහැදිලි අවබෝධයක් ඇති කරගන්න ඕනැ.

අපි දන් පැයක පමණ වේලාවක් සංඥාවට අදළ හුඟාක් තොරතුරු ඉදිරිපත් කරගත්තා. අපි බලාපොරොත්තු වෙමු මේ තොරතුරුත් අපේ තියන දනුමට එකතු කරලා අපි කරගෙන යන වැඩේ අවුල්පාස නැතුව ඍජු මාර්ගයේ කරගෙන යමින් මේ තියෙන විපල්ලාස අඩු කරමින් ඇත්ත ඇති හැටියෙන් දකගැනීමේ ඥානය ලබාගැනීමට අද මේ ධර්ම දේශනයත් හේතු වේවා, වාසනා වේවා! යි කියල. ඒ අදහසින් අදට නියමිත ධර්ම දේශනාව මෙතෙකින් සමාප්ත කරනවා.

# 80 | චේතනා මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති?**

**රූපසඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. නේවාසික උපාසක මහත්වරුත් සම්බන්ධ කරගෙන අපි පවත්වාගෙන එන ධර්ම දේශනා මාලාවේ අද 80 වෙනි අංකයට පත් වෙලා තියෙනවා. මේ වෙනකොට අපි ඉදිරියෙන් තියාගත්ත මහා සතිපට්ඨාන සූත්‍රයේ කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා කියන මූල අනුපස්සනා කොටස් නිම කරලා දැන් පත් වෙලා තියෙන්නේ ධම්මානුපස්සනාව. එයිනුත් සච්ච පබ්බය. චතුරාර්ය සත්‍යය විග්‍රහ කරන සච්ච පබ්බයේ අපි දැන් ඉන්නේ දෙවෙනි ආර්ය සත්‍යය, නැත්නම් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය කියන කොටසේ.

ඒකෙදි ධෘව පදය වශයෙන් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය - කෙටි වචනයෙන් කියනවා නම් තණ්හාව - උපදින ස්ථාන පිළිබඳව, තණ්හාවේ උත්පත්තිය, දුකේ උත්පත්තිය විග්‍රහ කරගෙන යන වෙලාවක ධෘව පදය වශයෙන් පාවිච්චි කරන්නේ **සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති** කියන පදය තමයි.

තෘෂ්ණාව උපදින්නේ කොතැනක උපදීද? ලැගගන්නේ කොතැනක ලැගගනීද? කියන ප්‍රශ්නය ඒ එක එක පර්වයක්, එක එක කොටසක්, එක එක සලාකයක් වෙන් කොට දක්වීම සඳහා සර්වඥයන් වහන්සේ එතන එතන ධෘව පදයක් වශයෙන් මේ පර්වයේදි පාවිච්චි කරනවා. ඒකෙන් අදහස් කරන්නේ මේ තෘෂ්ණාව හටගන්න ස්ථාන එකක් නොව රාශියක් තියෙනවා. ඒවා පිළිවෙළින් ගමන් කරගෙන ඇවිල්ලා අද අපි ඉන්නේ රූප සංචේතනා කියන සන්ධිස්ථානයේ.

මේකෙන් අදහස් කරන්නේ **රූපසඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං, සද්දසඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං. ගන්ධ, රස, ඵොට්ඨබ්බ, ධම්ම** කියන මේ සංචේතනා සාමාන්‍ය පුද්ගලයා තුළ වර්තමානයෙහි ප්‍රිය ස්වභාවයක් දක්වනවා. මිහිරි ස්වභාවයක් දක්වනවා. ඒ ඒ චේතනාව සම්බන්ධයෙන් තමන් ඒක හඳුනාගෙන ඒක මගේ චේතනාව, මම විසින් ඇති කරපු චේතනාව, මේ චේතනාව මා විසින් ආරක්ෂා කළ යුතුයි. මේ චේතනාවෙන් මම ඇති වෙනවා. මම නිසා චේතනාව ඇති වෙනවා ආදී වශයෙන් විවිධාකාරව කල්පනා කරන මේ චේතනා ඒ පුද්ගලයා විසින්ම මිහිරි ස්වභාවයකට, ප්‍රිය ස්වභාවයකට තමයි භාරගන්නේ. අන්න ඒ සාත රූප ප්‍රිය රූප වන්නා වූ, සාත ස්වභාව ප්‍රිය ස්වභාව ගන්නා වූ මේ චේතනාවෙත් තණ්හාව උපදින්නේ උපදින්න ඉඩ තියෙනවා. තණ්හාව ලැගගන්නේ ලැගගන්න ඉඩ තියෙනවා.

ඒ නිසා මේ චේතනා කියන චෛතසිකය අපිට අද ඉදිරිපත් කරගන්න වෙලා තියෙනවා. ඒකයි අද මේ ඉදිරිපත් කළා වූ පාලි පාඨයෙන් ඉස්මතු වෙන්නේ. නමුත් අපි මීට කලින් ඒ ඒ අවස්ථාවේදී ඉදිරිපත් කරගන්නා ලද රූපයත් චක්ඛුවත්, ඒ චක්ෂුසය රූපය කියන දෙක නිසා ඇති වෙන්නා වූ චක්ඛු විඤ්ඤාණයත්, ඒ තුන එකට ගමන් කරන තාක් කල් පවතිනවා යැයි ඒ ඒ වෙලාවට පහළ වෙනවා යැයි කියන ස්පර්ශයත්, ඒ ස්පර්ශය නිසා පහළ වෙන්නා වූ වේදනාවත්, ඒ අනුව සංඥාවත්, සංඥාවෙන් ඇති වෙන්නා වූ සංචේතනාවත් කියලා දිග වැටක් එතන තියෙනවා. ඒකෙදී ඒ චක්ඛු, බාහිර ඇහැට ගොදුරු වෙන රූප ආදී දේවල් අපි රූප ස්කන්ධය වශයෙන් භාරගන්නවා. එයින් ඇති වෙන්නා වූ චක්ඛු විඤ්ඤාණය, විඤ්ඤාණ ස්කන්ධය වශයෙන්

භාරගන්නවා. වේදනා චෛතසිකය වේදනා ස්කන්ධය වශයෙන් භාරගන්නවා. සංඥා චෛතසිකය සංඥා ස්කන්ධය වශයෙන් භාරගන්නවා.

මේ කියන චේතනාව තමයි අපි සාමාන්‍යයෙන් සංස්කාර ස්කන්ධයේ ප්‍රධානියා, ප්‍රමුඛයා වශයෙන් ගන්නේ. නමුත් චේතනාව විතරක් නෙමෙයි සංස්කාර ස්කන්ධයට අයිති වෙන්නෙ. සාමාන්‍යයෙන් ඉලක්කම් ගණන් පෙන්වන තැන්වල ත්‍රිපිටකයේ තැන්තැන්වල සංග්‍රහ වෙච්චි චෛතසික 52 ක් හඳුනාගෙන තියෙනවා. ඒ ලැයිස්තුවේ වේදනා සංඥා දෙක අයින් කරපුවහම ඉතුරු චෛතසික 50 ම සංස්කාර, නැත්නම් සංස්කාර ස්කන්ධය වශයෙන් ගණන්ගන්න බව අධ්‍යාපනය අතින් ඉගෙනගත්ත ඇත්තෝ හොඳට දන්නවා. එයින් ප්‍රධාන වශයෙන් සලකන්නේ, ඒකේ ආසන්න උත්සන්න කාරණා වශයෙන් දක්වන්නේ චේතනාව. ඒක මෙතන සංග්‍රහ වෙන්නෙ සංචේතනා වශයෙන්.

සංචේතනාව ප්‍රියරූපයි, සාතරූපයි. ඒක ආධුනිකයා පිළිගත්තා හෝ නොපිළිගත්තා හෝ වේවා, අපට බැහැර කරන්න බැරි කාරණාවක්. සාදර වේවා, සාදර නොවේවා පිළිගන්න සිද්ධ වෙන කාරණාවක්. ඒ මොකද, ඒ චේතනාව තමයි කර්ම බවට පත් වෙන්නේ කියන එක බෞද්ධයන් අතර වීජගණිත සමීකරණයක් වගේ බොහොමත්ම ප්‍රසිද්ධ දෙයක්. චේතනාව තමයි කෙළින්ම කර්මය කියල කියන්නේ. ඒක නිසා චේතනාව, නැත්නම් ඒ තමන් කරන කර්මවලට තමන් වග කියන්න ඕනෑ. ඒ කර්ම ස්වකීය කොටයි අපි ජීවත් වෙන්නේ. ඒ කර්ම ඥාති කොටයි අපි ජීවත් වෙන්නේ. ඒ නිසා ඒ සියලුම කර්ම තමයි අපට දිගින් දිගට යන **කම්මස්සකොම්හි කම්මදායාදො කම්මයොනි කම්මබන්ධු කම්මපටිසරණො** ආදී වශයෙන් අපට දයාදයක් වෙන්නේ, අපිට යෝනි වෙන්නේ, අපිට පිළිසරණ වෙන්නේ. ඒ කර්ම සියල්ලම, වෙන විදියකට කියනවා නම් ඒ චේතනා සියල්ලම "කරන කලට පව් මීරිය මී සේ" වගේ ඒ සියල්ලම, ප්‍රියරූප හෝ සාතරූප විදිහට තමයි අපේ හිතට පහළ වෙන්නෙ.

ඉතින් යම් කිසි කෙනෙක් මේ කියන ස්වභාවය, මේ කියන අර්ථකථනය, මේ කියන විග්‍රහය, මේ කියන විශ්ලේෂණය, මේ කියන විවරණය මූලධර්ම වශයෙන් හෝ පිළිගන්න ලෑස්ති වෙනවා නම් තමන් සර්වබලධාරී බව එපමණකින්ම වැටහෙනවා. මමයි මගේ කර්මාදී ඒ සියලු දේවල්වලට, සියලු දේවල්ම මුල් වෙලා තියෙන්නේ මේ චේතනා

මතයි, ඒක තමයි මගේ සසර ගමනට තියෙන පිළිසරණ. ඒ අනුව බලනකොට චේතනා පිළිබඳව කරුණු හදුරල තිබීම, චේතනා මේ **චක්ඛු, රූප, චක්ඛු විඤ්ඤාණ, ඵස්ස, වෙදනා, සඤ්ඤා, චෙතනා** ආදී වශයෙන් ඒ පෙළේ කොතනද ක්‍රියාත්මක වෙන්නේ, කොහොමද ක්‍රියාත්මක වෙන්නේ කියලා දැනගැනීම අපි ක්‍රමක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන්, ඒ මම කියන්නේ කවුද? මම කියන්නේ මොකක්ද? සංසාරය කියන්නේ මොකක්ද? එයින් නික්මීම කියන නිවන කියන්නෙ මොකක්ද? වෙන වචනයකින් කියනවා නම් දුක්ඛ සත්‍යය කියන්නේ මොකක්ද? දුක්ඛ සමුදය කියන්නේ මොකක්ද? නිරෝධය කියන්නේ මොකක්ද? නිරෝධ මාර්ගය කියන්නේ මොකක්ද? කියලා තේරුම් ගැනීමට ලොකු අර්ථ විවරණයක් ලොකු විග්‍රහයක් මෙතන ඉදිරිපත් කරගන්නවා. ඒ නිසා චේතනා චෛතසිකය පිළිබඳව අපිට වග කියන්න සිද්ධ වෙනවා. වග කියන්නෙ නැත්නම් අපි බණ අහලා හෝ බණ සාකච්ඡා කරලා හෝ භාවනා කරලා හෝ කෙළවරක් කරන්න බෑ.

ඒ වගේම අපි චේතනා චෛතසිකයත් අතීත අනාගත වශයෙන් පටලවාගත්තොත්, ඒත් අපි වර්තමානයෙන් භාරදූර වග කීමට කරඇරියා වෙනවා. වර්තමාන මොහොතෙහිම මේක තේරුම්ගැනීමට යම් ඉඩ ප්‍රස්තාවක් තියෙනවා. වර්තමාන චේතනාවත් මේ වර්තමානය කියන තත්ත්වයත් අතර ලොකු අස්වැසිල්ලක් ලබාගන්න පුළුවන් ධර්මානුකූලව කල්පනා කිරීමෙන්. නැත්නම් යෝනිසෝමනසිකාරයට අනුව කල්පනා කිරීමෙන්. මේ චේතනාවලට ආසන්නයෙන් අපි දැක්කේ සංඥාව. සංඥා ප්‍රධාන කරගෙන තමයි චේතනා, විතක්ක, විචාර සම්බන්ධ කරගෙන ප්‍රපඤ්ච නමින් හඳුන්වන **සඤ්ඤානිදානා හි පපඤ්චසඞ්ඛා** ප්‍රපඤ්ච ගොඩනැගෙන්නේ සංඥා පදනම් කරගෙන. සංඥා නිදාන කරගෙන.

ඒ සංඥාව අපි එදා ඉගෙනගත්තා, වඩුරාල කෙනෙක් තමන්ගේ අවශ්‍ය කරන ගෘහ උපකරණ හෝ ජනෙල් දොරවල් ආදී දේවල් සඳහා ඒ ගොඩනැගිල්ලේ ප්‍රමාණය අනුව ලීවල ඇඳගන්නා ඉරි සංඥා තබාගන්නා ආකාරය හා සමානයි. ඊට පස්සේ ඒ සංඥා පදනම් කරගෙන තමයි ඒ සැකිල්ල හදන්නේ. නැවත නැවතත් ඒ ගොඩනැගිල්ලට හෝ මූලික දේට යන්නේ නැහැ. අර ඇඳගත්ත ඉර තමයි සංඥාව තමයි ප්‍රධාන කරගෙන වැඩ කරන්නේ; වඩුවෙක් ගන්න ලීවල ඉර ඇඳගන්නවා වගේ. ඒ වාගේම

තමයි සංඥුවට පදට්ඨාන වෙන්නේ පදනම වෙන්නේ තමන් ඉස්සෙල්ලාම දකිනකොට හිතට ඇති වෙන ආකල්පය තමයි. ඒකට සාමාන්‍යයෙන් අටුවාව වගේ තැන්වල සම්ප්‍රදායානුකූලව අර්ථ දක්වන්නේ "මුවෝ එලවන්න හේන්වල හදල තියෙන පිදුරු මිනිස්සු වාගේ, පඹයෝ වාගේ". ඒ පඹයා දකිනකොටම මිග පෝතකයා මෙතන මනුස්සයෙක් ඉන්නවා කියන සංඥුව ඇති කරගත්තොත් ඒ පඹයා තියෙන තාක් කල් ඒ හේනට ආරක්ෂාවක් තියෙනවා. මොකද, දෙවෙනි සැරේ පඹයා දකිනකොටම මනුස්සයෙක් ඉන්නවා කියන සංඥුව තමයි දිගට ගන්නේ. ඒ අනුව තමයි ඉතුරු පහළ වෙන චේතනා, විතක්ක, විචාර ආදී සියල්ලම අර ඇති වෙන ප්‍රථම ආකල්පය මත තමයි රඳා පවතින්නේ.

ඒ නිසා පේනවා ප්‍රථම ආකල්පය සම්පූර්ණ බොරුවක් වෙන්න ඉඩ තියනවා. තෘණවලින් හදපු පිදුරුවලින් හදපු ඒ මනුෂ්‍යයාව - අපි කියනවා රූකඩයෙක් කියලා - මනුෂ්‍යයෙක් කියන හිත, මනුෂ්‍යයෙක් කියන සංඥුව හැඳිනගැනීම ගත්ත නම්, ඊට පස්සේ ඒ රූපය තියෙන තාක් කල් ඒ මිග පෝතකයා රැවටෙන්නා සේ අපිත් අරමුණක් දකිනකොටම ඊට මුලින් ඇත්තා වූ අවිද්‍යාව වගේ වසා ලන මෝහ පටල නිසා අපිට බොහෝ විට ඒ අරමුණේ ඇති හැටිය නෙවෙයි දකින්නේ. ඒ වෙලාවේ හැටියට ඉස්සෙල්ලාම ඇති වෙන ආකල්පයයි. ඒක බොහෝ විට නොමග යවනසුලුයි. නැත්නම් සත්‍යයෙන් පරිබාහිරයි. සත්‍යයම නොවෙන්න ඉඩ තියෙනවා. අන්න ඒ සංඥුව පදනම් කරගෙන අපි යම්ම චේතනාවක්, යම්ම විතක්කයක්, යම්ම විචාරයක් පහළ කරනවා නම්, ඒ සියල්ලමත් තෘෂ්ණාවෙන් හෝ ද්වේෂයෙන් හෝ මෝහයට අනුවයි ගමන් කරන්නේ. මේ නිසා මුලින්ම ඒ සංඥුව, වැරදි සංඥුව ඇති කරගත්තට පස්සේ දිගට යන වැඩපිළිවෙළේ ප්‍රථමයෙන්ම තියන අඩිය වෙන්න පුළුවන් චේතනාව. එතන ඉඳලම කර්ම රැස් වෙනවා. හොඳ හෝ නරක කර්ම රැස් වෙනවා.

මේ අනුව සංඥුව පිළිබඳව තමාම තමන් සැක කරන ගතියට අපි ප්‍රත්‍යවේක්ෂාව කියලා කියන්නෙ. ප්‍රත්‍යවේක්ෂා කරන ගතිය ඉතාමත්ම ප්‍රබුද්ධ, ඉතාමත්ම කල්‍යාණ, මංගල සුභ දෙයක්. ඒ නිසා රාහුලභද්‍ර සාමණේරයන් වහන්සේට සර්වඥයන් වහන්සේ උපදෙස් දෙනකොට **පච්චවෙක්ඛිත්වා පච්චවෙක්ඛිත්වා** කියන වචනය විශේෂයෙන් කියනවා. කතා කරන්න ඉස්සෙල්ලා රාහුලය **පච්චවෙක්ඛිත්වා පච්චවෙක්ඛිත්වා**

කල්පනා කරලා, කල්පනා කරලා කතා කරන්න. ක්‍රියාවක් කරන්න කලින් **පච්චවෙක්ඛිත්වා පච්චවෙක්ඛිත්වා** නැවත නැවත හිතල කරන්න. ඒ මොකද? පළවෙනි වතාවට හිතන වෙලාවෙදී ගත්ත සංඥාව බොහෝ විට හිස්. එහෙම නැත්නම් අඩුපාඩු සහිතයි. නෑ නෑ මමමයි දැක්කෙ මමමයි ඉස්සර වුණේ, මේකමයි ඇත්ත, මම දැකලයි කියන්නේ, මම අතගාලයි කියන්නේ කියලා ඒ ගත්ත සංඥාව පිළිබඳව ඔළමොට්ටල විදිහට ආධානග්‍රාහීව ඒක දිගේ අල්ලාගැනීම තමයි මනුස්සයෙකුට තිරිසන් තත්ත්වයට පත් වෙන්න ආසන්නවම බලපාන කාරණාව. මොකද, ඊට පස්සේ වැඩ කරන්නේ හැඟුම්බර චේතනා විතරමයි. කවදාකවත් යථාභූත වශයෙන් දකින්නේ නම් නෑ. ඇති හැටියට දැකගැනීමට මට තවත් විවේකීව, මට තවත් උපේක්ෂකව මේ අරමුණ දිහා බලන්න පුළුවන් අවස්ථාවක් තියෙනවා කියන එක තිරිසනාට නැහැ. තිරිසනාට ඒක උගන්නන්ඩත් බෑ.

මනුෂ්‍යයත් බොහෝ විට නුපුරුදු නම්, නුපුහුණු නම්, පුහුදුන් නම්, සර්වඥ ධර්මය අහලා නැත්නම්, මනසිකාරය පවත්වලම නැත්නම් ඒ පළවෙනි සංඥාව අනුව තමයි සියල්ලම ඇති කරන්නේ. ඒ කරල කියනවා, 'නෑ, මම දැකලයි කතා කරන්නේ. නෑ මම අතගාලයි කතා කරන්නෙ' කියල. ඵස්ස සංඥා කියන මේ දෙකම ඉතාමත් මූලික ධර්ම දෙකක්. නමුත් මේ මූලික ධර්ම දෙකම බොරු, නැත්නම් සත්‍ය නොවන, එහෙම නැත්නම් වංචනික වෙන්න පුළුවන්. මොකද, අපි දන්නවා සිහින ලෝකය කියල එකක් තියෙන්නෙ. අපි ඒ හීන ලෝකෙදි ඇත්තටම දකිනවා. අනෙකුත් සම්බන්ධතාත් ඔක්කොමත් එක්ක දකිනවා. නමුත් අපිට අතගාන්න බෑ. ඒ නිසා හීනයක් දැක්කද කියලා අහනකොට ළඟ ඉන්න එකාට අපි කියන්නෙ "මගෙ පිටට එකක් ගහපන්. මට විශ්වාස නෑ මම හීනෙකද ඉන්නේ" කියලයි. ඒ මොකද, ඒ දැකීම ඒ තරමටම ඒ සංඥාව තහවුරු කරන්න පුළුවන්. නමුත් ඒක සම්පූර්ණ මායා රසයක්, සිහින ලෝකයක් වෙන්න පුළුවන්.

නැත්නම් අපි අඳුරු කාමරේක තියන වටිනා මුතු මැණික් වගේ දෙයක් වෙන්න පුළුවන්, නැත්නම් ඉවත් කිරීමට තියෙන කබලක් වෙන්ට පුළුවන්, හොඳටෝම අතගානවා. අතගාලා ඉවත් කරන්නට ඉස්සෙල්ලා පුළුවන් තරම් බලාපොරොත්තු වෙනවා මේ කාමරේ ලයිට් එක දගන්න පුළුවන් නම්, පහනක් පත්තු කරගන්න පුළුවන් නම්, මේ අතගාපු දේ දැක්කෙ නැතුව අපිට පිරිසිදු විනිශ්චයක් කරගන්න බෑ. ඒ නිසා සාමාන්‍ය

ලෝකේ පවා දැක්ක දේ අතගාල බැලීමෙන්, අතගාපු දේ ආලෝකයෙන් දැකීමෙන් ආදී වශයෙන් නැවත නැවතත් කරනවා ඒ දේ වැදගත් දෙයක් නම්. නමුත් දවස පුරාම අපි දකින හැම රූපයක්ම, දවස පුරාම අපිට ඇහෙන හැම ශබ්දයක්ම ගන්ධයක්ම රසයක්ම ස්පර්ශයක්ම ධර්මාරම්මණයක්ම අපි දෙසැරයක් ඒ විෂයයෙහිම හිත යොදලා කල්පනා කරන්න විවේකයක්, චිකිත්සාවක්, උපේක්ෂාවක්, ඉවසීමක් අපිට තියෙනවද කියන එක ඉතාමත්ම හිතාගන්න අමාරුයි, අරමුණ වශයෙන් විෂයෙහි මත් වෙලා තියෙන තිරිසන් බොළඳ පෘථග්ජන ගතිය නිසා.

ඒක නිසයි කියන්නේ යෝගාවචර ජීවිතයට ගියාම පුළුවාන් තරම් ඇස් බෝල කරකව කරකවා රූප බැලීම විෂයෙහි ඇත්තා වූ මේ විවිධාකාර රූප රාමු දැකගැනීමේ ආශාව, මනසිකාරයට නැත්නම් අනිකුත් යහ කල්පනාවලට බොහෝ විට බාධා කරනවා. විවේකීව මේ වැඩේ කරගන්න තියෙන ඉඩ බාධා කරනවා. සද්ද ඇහීමේදිත් පුළුවාන් තරම් සද්ද ගොඩක් අහන්න පටන් අරගත්තොත් අපිට මේ සංසිද්ධිය වෙන් වෙන් වශයෙන් දැකගන්න, ඉවසීමෙන් යුක්තව දැකගන්න, ප්‍රත්‍යවේක්ෂාවෙන් දැකගන්න නොලැබී යනවා. නාසය දිව කය පිළිබඳව හිතට එන සිතුවිලි පිළිබඳවත් මෙහෙමමයි.

මෙන්න මේ නිසයි සංඥව පිළිබඳව ඇත්තා වූ අනිත්‍ය භාවය, රූප සංඥවක් ඇහැට වැටුණට සම්පූර්ණ වෙන්නෙ නැහැ, අසම්පූර්ණ වෙන්න ඉඩ තියෙනවා, සම්පූර්ණතාවෙන් බාහිර වෙන්නට ඉඩ තියෙනවා කියන සංකල්පයත්, ඒ වාගේම බොහෝ සංඥ සීඝ්‍රයෙන් වැඩ කළොත් අපිට සංඥවේ ක්‍රියාවලිය කවදාවත් සාංසුද්දයෙන් දැකගන්න ලැබෙන්නෙ නෑ කියන කාරණාව නිසා බොහොම තැන්පත්ව විවේකයෙන් වැඩ කරන ගතියත්, ලස්සන ලස්සන දේ දකින දකින විට ඇති වන සංඥව ඒ අනුව මෙනෙහි කිරීම මාර්ගයෙන් නැවතත් මූල කර්මස්ථානයට හිත යෙදවීම මාර්ගයෙන් මේකට පුංචි අභියෝගාත්මක ප්‍රතිපදාවක් යෝගාවචරයා ඉදිරිපත් කරගන්නවා.

අපි එදත් මතක් කරගත්තා, චේතනාවටත් වඩා විශේෂයෙන්ම සංඥවට බරව කතා කරන වෙලාවෙදී යම් කිසි දෙයක් පිළිබඳව සතිය පිහිටුවන්න නම්, සතිය පිහිටුවූ බව දන්නවා නම්, එතන ස්ථිර සංඥව තමයි පදට්ඨානය. **ථිරසඤ්ඤාපදට්ඨානා.** ඒක නිසා අපි උදරයේ පිම්බීමට

හිත යොදනවා නම් පිම්බෙනවා කියලා එයට නැවතත් හිත යොදනවා. පිම්බෙන අවස්ථාවේම ඒක දැනගන්න පමණින් නතර වෙන්නෙ නෑ. මෙනෙහි කරමින් හිත එතනට මෙහෙයවනවා. ඒ පිම්බීම පිළිබඳව ස්ථිර සංඥාවක් ඇති කරගන්නවා. හැකිළෙන වෙලාවෙදී ඒ හැකිළීම පිළිබඳව ස්ථිර සංඥාවක් ඇති කරගන්න මෙනෙහි කරනවා. ආශ්වාස කරනකොට ආශ්වාස කරනවා, ප්‍රශ්වාස කරනකොට ප්‍රශ්වාස කරනවා, වම තබනකොට වම තබනවා, දකුණ තබනකොට දකුණ තබනවා කියලා ඒ කරන දේ මෙනෙහි කරමින් මෙනෙහි කරමින් කරන්නේ හොඳ ස්ථිර සංඥාවක් කරන්න. එතකොට ඒ පිම්බීම හැකිළීම හෝ ආනාපානය හෝ සංඥාව හෝ එදිනෙදා කරන වැඩවලදී විශේෂයෙන්ම යෝගාවචරයාට සක්මන පර්යංකය කියන උපක්‍රම දෙකේදී බොහෝ විට දැකගන්න පුළුවන් යම් අරමුණක් මේ විදියට නැවත නැවත මෙනෙහි කරමින් බලන්න පටන් අරගත්තොත් ටික වේලාවක් යනකොට අර මුලින් තිබුණු සටහනත් මුලින් තිබුණු ආකාරයත් ඒ පුද්ගලයාටම, නැත්නම් ඒ සන්තානයටම වෙනස්ව පේන්න පටන්ගන්නවා.

සර්වඥ දේශනාවේම සඳහන් වෙනවා අරමුණක් එකොළොස් ආකාරයකට දැක්කේ නැත්නම්, දැක්කයි කියල හිතන්න බෑ කියලා. අතීත වශයෙන්, අනාගත වශයෙන්, පච්චුප්පන්න වශයෙන්, ළඟ වශයෙන්, දුර වශයෙන්, හොඳ වශයෙන්, නරක වශයෙන්, ගොරෝසු වශයෙන්, සියුම් වශයෙන්, අජ්ඣත්ත වශයෙන්, බහිද්ධා වශයෙන්. මේ එකොළොස් ආකාරය කවම කවදාකවත් අර පළවෙනි දැක්මෙදි ලැබෙන්නේ නැහැ පුද්ගලයාගෙ හිතට. එතකොට භයානක සිද්ධියක් සිද්ධ වෙනවා. මොකක්ද භයානක සිද්ධිය? මේ නොදැක්ක කොටස් හිතෙන් මවාගන්නවා. ඒ මවාගත්ත කොටස් ටික තමයි රකින්න, ආරක්ෂා කරන්න, මගේ මතය, මගේ අදහස, මගේ මනාපය ආදී වශයෙන් භයානකව කලහ විවාද **තුවංතුවං පෙසුඤ්ඤං** ආදී වශයෙන් දිගට කලහයක් යන්නේ. අපි දකින්නේ පලුවයි. අපි දකින්නේ පැත්තයි. ඒ ඉතිරි කොටස අපි අපේම රුචි අරුචිකම් අනුව සංස්කරණය කරනවා. සංස්කරණය කරලා ඔක්කොම දැක්කා කියල හිතලා, නැත්නම් හිතාගෙන ඒ අනුව තමයි අපේ චේතනා පහළ වෙන්නේ. ඒ අනුව තමයි අපේ විතක්ක පහළ වෙන්නේ. ඒ අනුව තමයි අපේ විචාර පහළ වෙන්නේ. ඕකටයි දෙන්නෙකු එකතු වුණාම රණ්ඩු වෙන්න හේතුව. සිද්ධියක් -

ඇහැට වැටෙන රූපය වෙන්න පුළුවන්, කනට වැටෙන ශබ්දය වෙන්න පුළුවන්, ඇති වෙන ඒ නාම රූප සංසිද්ධිය ඇති හැටියෙන් දැක්කා නම් ඇති හැටියෙන් ඒක පිළිබඳව ස්පර්ශය සිද්ධ වුණා නම්, සංඥාව සිද්ධ වුණා නම්, චේතනා පහළ කිරීමක් අවශ්‍ය වෙන්නේ නෑ. සංස්කරණය කිරීමක් අවශ්‍ය වෙන්නේ නෑ. මේක මෙහෙමයි කියලා ඔප්පු කරලා පෙන්නීමක් අවශ්‍ය වෙන්නේ නැහැ.

ඒක නිසා සර්වඥයන් වහන්සේට කවදාකවත් කලහ විවාද නැහැ. මොකද, උන්වහන්සේලා මේ ආර්ය විනයෙහි, ආර්ය වංශයෙහි හැටියට ඇත්තටම පූර්ණ වශයෙන් දකිනවා. ඒ තත්ත්වයට පත් වෙච්ච නැති ඇත්තන් තුළ දර්ශනය පූර්ණ නෑ. අර පිදුරුවලින් හදපු රූකඩයක්, හේනෙ හදල තියෙන බිල්ලෝ ආදී වශයෙන් සත්තු එළවන්න හදලා තියෙන දේ දැකලා මුවෙක් ගන්න සංඥාව වගේ තමයි අපි මේ ලෝකයේ සාමාන්‍ය රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ විෂයෙහි ධර්ම කරුණු විෂයෙහි සංඥා ඇති කරගන්නේ. මොකද, ඒ පුද්ගලයා ඒ දකින දෘෂ්ටි කෝණය හැටියට ඒක ඇත්තටම දැකලා තියෙනවා. ඒක පිළිබඳ කිසිම ප්‍රශ්නයක් නැහැ. නමුත් දෙන්නෙක් බැලුවොත් දෙන්නෙක් දකින්නේ මුහුණත් දෙකක්. දෘෂ්ටි කෝණ දෙකක්. ඉතින් ඒ නිසා ඉතුරු සම්පූර්ණ කරන කොටස් ඒ පුද්ගලයාගේ අතින් දානවා. මේකට අපි සංස්කරණය කරනවා කියලත් කියනවා. සංස්කාර කියලත් කියනවා.

මේ නිසා අපිට හිතාගන්න වෙනවා අපේ මේ දර්ශනය ඒකාන්තයෙන්ම ඌනයි, අතිත්තයි. හැමදාම අඩුයි. කවදාකවත් සම්පූර්ණ වෙන්නේ නැහැ. ඒක නිසා එකම දේ, අපි හිතමු දකින රූපය ප්‍රිය වුණොත් අනිවාර්යයෙන්ම ඒක මට ළං කරගන්න ලැබේවා, බඳගන්න ලැබේවා, මට වැඩි වේලාවක් තියාගෙන ඉන්න මේක රූප රාමුවක් ගන්න ලැබේවා ආදී වශයෙන් ඒ ප්‍රිය රූපයෙහි ඌනතාව හිඟතාව නිසා ඒකට ලොකු ඇලී බැඳීගන්න සිතුවිලි රාශියක් පහළ වෙනවා. ඒ වාගේම අප්‍රිය අමනාප රූපයක් දැක්ක නම් ඒක විනාශ කරන්න ඕනෑ, මේක අපේ තලයෙන් අයින් කරන්න ඕනෑ, මේකට දඬුවම් කරන්න ඕනෑ, මේක ඒත්තුගන්වලා දෙන්න ඕනෑ කියලා විශාල ව්‍යාපාරයක් පටන්ගන්නවා. ඇත්ත වශයෙන්ම කියනවා නම්, ඒ රූපය පූර්ණව දකින්න පුළුවන්කමක් තියෙනවා නම්, අපිට කිසි සේත්ම ඒකත් එක්ක ගැටෙන්න දෙයක් ඇත්තේ නැහැ. ඒක පඨවි, ආපෝ, තේජෝ, වායෝවලින් හැදිච්ච දෙයක්.

හේතු පටිච්චසමුප්පන්න දෙයක්. මං මොකටද ඕකත් එක්ක මෙච්චර මේ ගැටෙන්න යන්නෙ. මම මොකක්ද මේක හදන්න යන්නේ. අපිට තියෙන්නේ ඒක ඒ හැටියෙන් දැකගන්න එක විතරයි.

ඉතින් මේක යෝගාවචරයෙකුට ප්‍රතිපදවකට ගන්නකොට ප්‍රතිපදවකට බස්සගන්නකොට ඉතාමත්ම දුෂ්කරයි. ඒ මොකද හුඟක්ම බණ නාහපු, හුඟක්ම ධර්ම සාකච්ඡා නොකරපු හුඟක්ම දෘෂ්ටිගත පුද්ගලයා විශාල වශයෙන් මෙයින් සැලෙනවා. ඒ නිසා ඒ පුද්ගලයාට බණ අහන්න වෙලාවක් නැහැ. ධර්ම සාකච්ඡා කරන්න වෙලාවක් නැහැ. තමන් ගත්ත මුල් මතය නැවත සලකා බලන්න වෙලාවක් නැහැ. ආධානග්‍රාහීව **දුප්පටිනිස්සග්ගීව** ඒකෙන්ම වෙහෙස වෙනවා. ආන්න එහෙම සංඥවල් ඉතාමත්ම අදහාගෙන සංඥවම මුල් කරගෙන කටයුතු කරන ඉතාමත්ම ඝනබහල කෙලෙස් සහිත පෘථග්ජන තැන ඉඳලා, සංඥව කියල කියන්නේ මිරිගුවක් කියන තැන දක්වාම, සංඥව කියල කියන්නේ හේනක බැඳලා තියෙන පඹයෙක් වගේ දෙයක්ය කියන තැනට යනකොට තථාගතයන් වහන්සේට ආයේ මේ ලෝකේ රණ්ඩු කරන්න දෙයක්වත් මේ ලෝකේ ප්‍රේම කරන්න දෙයක්වත් නෑ. ලෝකෝත්තර තත්ත්වයට හිත වැටෙනවා.

එතකොට චේතනා කොහොමකටවත් නෑ. පහළ වෙන්න චේතනාවක් නැහැ. මොකද? චේතනාව අවශ්‍ය වෙන්නේ හරිහැටියට දැක්කේ නැතුව තමන් ඒකේ අඩුපාඩු සම්පූර්ණ කරන්න තමන්ගේ අතින් දලා මේක ඇත්තයි කියලා ලෝකයාට පෙන්නන්න තියෙන කලහ විවාදය නිසයි. මේක යෝගාවචරයා බාහිරයට නොකළත් අභ්‍යන්තර වශයෙනුත් කරනවා. ඇතුළතත් තමන්ටම තමන් දන්න නිසා අර රූපය විතරක් දැකපුවහම අතගාලා බලන්න තියෙන ආශාව කියල කියන්නෙ අපෙ සම්පූර්ණ අත්දැකීම සම්පූර්ණ නැති නිසායි. අඳුරෙ අතගාපු දේ ආලෝකයෙන් බලන්න අපට ඇති වන තණ්හාව ආශාව ඉගි කරන්නේ හරියට අපි දැකීමෙන් තොරව ස්පර්ශයෙන් පමණක් ලබන අත්දැකීම සම්පූර්ණ නැති බවයි. ඒ නිසා ලෝකය හැමදම ඌනයි. ඒ නිසා ලෝකය හැමදම අතෘප්තිකරමයි. මේ බව අපි තේරුම් අරගෙන, දකින දේ පිළිබඳව මතුමත්තෙහි සංස්කාර නොකර ඒ දේ පිළිබඳව මනාකොට පිහිටන්න නම්, දකින දේ නැවත නැවතත් දකිමින් අපි මේ දකිමින් ඉන්න

බව, වැදගත් වෙන්නේ ඇත්ත ඇති හැටියේ දැකීම බව තේරුම්ගන්න එක තමයි මේ ප්‍රතිපදාව වශයෙන් කරල තියෙන්නේ.

මේකෙදී අපි සංඥාවටත් වඩා චේතනා පැත්තට සම්බන්ධ කරනකොට අපේ ථෙරවාද ශාසනයේ **අපණ්ණක** ප්‍රතිපත්තිය ඉගෙනගන්නවා. අපණ්ණක ප්‍රතිපත්තිය සාමාන්‍ය සම්ප්‍රදායානුකූලව අර්ථකථනය දෙන්නේ අවිරුද්ධ ප්‍රතිපත්තිය කියල. දැන් කාලෙ කියන ටිකක් සංකර වචනයෙන් කියනවා නම්, මොනම දෙයකටවත් ප්‍රතික්‍රියා නොකිරීම. ප්‍රතික්‍රියා කිරීම සර්පයාගේ ගතිය. දැකපු ගමන් වටපිට බලන්නෙ නෑ, සර්පයා විෂ හීය විදිනවා. මළමිනියකට එහෙම ප්‍රතික්‍රියා කිරීමේ ශක්තිය නෑ. මෙන්න මේ දෙක මැද ප්‍රතිපත්තිගරුකව ප්‍රතික්‍රියා නොකිරීමේ වැඩපිළිවෙළට කියනවා අපණ්ණක ප්‍රතිපදාව කියලා. ඒ කියන්නේ තමන් විරුද්ධ පක්ෂයක්, නැත්නම් තමන් එක්ක තමන්ට හතුරුකම් කරන්නට දඟලන කෙනෙක් ඉන්නවා නම්, ඒ පුද්ගලයා විවිධාකාර උපක්‍රම හොයනවා අපේ අඩුපාඩුවක් බලලා අපිට නරක වෙලාවක් බලල හානි කරන්න. ඒ බව තමන් දන්නවා නම්, මොනම විදියකටවත් ඒකට ප්‍රතික්‍රියා කරන්නෙ නැතුව රඟපාන්නෙත් නැතුව ඒ මනුස්සයාට කරගන්න දෙයක් කරගන්න දීලා කරබාගෙන බලාගෙන හිටියොත් ප්‍රතිපත්තිගරුකව හෝ ඉන්ද්‍රිය සංවරය හිතලා හෝ සතිය ඉදිරිපත් කරගෙන හෝ නැත්නම් මේ බණ අහලා ඒකෙන් ගත්ත පාඩමක් වශයෙන් හෝ, ඒක තමයි අවිරුද්ධ ප්‍රතිපදාව කියන්නෙ.

පන්සියපනස් ජාතකයත් පටන්ගන්නේ අපණ්ණක ජාතකයෙන්. ඒකේ මේකට සාමාන්‍ය නිදර්ශනයක් ගෙනහැර පානවා - සර්වඥයන් වහන්සේ සාත්තු නායකයෙක්; ගැල් පන්සියයක් විතර බැඳගෙන කාන්තාරෙන් එගොඩ වෙලා ගිහිල්ලා එගොඩ ගොඩේ වෙළඳාම් කරන කෙනෙක්. ඒ වාගේම දේවදත්තත් ඒ විදියටම සාත්තු නායකයෙක්. බෝසතාණන් වහන්සේ කාන්තාරෙන් එගොඩ කරන්න ගැල් පන්සියයකට බඩු එකතු කරලා ලෑස්ති වෙන බව දේවදත්තට ආරංචිය ආවා. ආරංචි වෙලා කල්පනා කරගන්නවා, දැන් මෙයා ඉස්සෙල්ලා ගියොත් මට වෙළඳපොළ නැති වෙනවා. ඒ නිසා මම ඉස්සර වෙන්න ඕනෑ. ආයෙත් කල්පනා කරනවා හැබැයි මේ පාර දුෂ්කරයි, ඒ නිසා පාර හදාගෙන යන්න වෙන්නේ ඉස්සෙල්ලා යන කෙනාට. ඒ නිසා අරයා ගියාට පස්සේ යන එක හොඳද? කියලා මේ විතක්ක දෙකකට

වැටෙනවා. ඉතින් ඔත්තුකාරයෙක් යොදවනවා, ගිහිල්ලා බලන්නෙයි කියලා අරයා - ඒ කියන්නෙ මහ බෝසතාණන් වහන්සේ - මොන විදියෙ හිතක් එක්කද දැන් ඉන්නේ කියලා. මොකද, කල්පනාකාරයා නෙ. ඒ කල්පනාකාරයා මොකද කරන්නේ, ඒ අනුව ඒ දේ මම කරනවා. එච්චරයි දේවදත්ත කල්පනා කරන්නේ මහා බෝසතාණන් වහන්සේගේ දැනුම, ඒ තාර්කික ඥානය තමන් පාවිච්චි කරන්න ඕනෑයි කියලා, ඔත්තුකාරයන් දාලා බලාගෙන ඉන්නවා දැන් මොකද අරයා කරන්නේ කියලා.

මහ බෝසතාණන් වහන්සේ මේක දන්නවා, දැනගන්නවා. දැනගෙන ඉවර වෙලා මොනවක්වත්ම කරන්නෙ නෑ. ඉස්සෙල්ලා යන්න කියන්නෙත් නෑ. යන්නෙයි කියල අදහස යෝජනා කරන්නෙත් නෑ. පස්සේ යනවා කියන අදහස යෝජනා කරන්නෙත් නැහැ. ඒ නිසා ඔත්තුකාරයින්ට මොනවක්වත් හම්බ වෙන්නෙ නෑ. ඔත්තුකාරයෝ ගිහිල්ලා කියනවා දේවදත්තට, මහ බෝසතාණන්ට විරුද්ධවාදී සාත්තුනායකයාට, තවම මොකුත්ම ප්‍රතික්‍රියාවක් නෑ, ක්‍රියාවක් නෑ. යන්න ලෑස්තිත් නෑ, නොයන්න ලෑස්තිත් නෑ. ඉතින් මට මේ ගැල් සාත්තු දක්කන්න පුළුවන් වෙන්නේ වියළි සෘතුවෙ පමණයි කියලා දේවදත්තගෙ හිත බොහොම වේග වෙන්න පටන්ගන්නවා, මොකද කරන්නේ කියල. ඒ දැනුම හෝ ඒ දැනුමට ප්‍රතිපක්ෂව, විරුද්ධ ක්‍රියාකාරකමක්වත් මොනම දෙයක්වත් සැලසුම් කරගන්න විදිහක් නෑ. මොකද? මහ බෝසතාණන් වහන්සේගෙන් කිසිම පණිවිඩයක් නෑ.

අන්තිමේදී හිතලා හිතලා බොහෝම වේග අරගෙන කියනවා, එහෙනම් මම ඉස්සර වෙනවා කියල. ඒ පණිවිඩේ ප්‍රසිද්ධ වෙන්න අරිනවා. මහ බෝසතාණන් වහන්සේ ඒවා මොනවටවත් ප්‍රතික්‍රියා කරන්නෙ නෑ. කරබගෙන කරන වැඩ ටික කරගෙන යනවා. දැන් දේවදත්ත ඉස්සර වෙලා ගිහිල්ලා හිතාගන්නවා මම බොහෝම ඉක්මන් කරලා එගොඩ ගොඩට ගිහිල්ලා වැඩි ලාභ ලබාගන්නම් කියලා ගැල් පන්සීය අරගෙන යනවා. ඊට පස්සේ මහ බෝසතාණන් වහන්සේ පිරිස අමතලා කියනවා අපිත් ගැල් සාත්තුවෙන් ජීවත් වෙන ඇත්තො, අපිත් ගැල්සාත්තුවක් ගෙනියන්න ඕනෑ කියනකොට ඒ පිරිසෙ ඉන්න දැනුවත් ඇත්තො කියනවා 'ස්වාමීනි, දැන් ගිහිල්ලා වැඩක් නැහැ. අපේ විරුද්ධවාදී පුද්ගලයෝ දැනට ගිහිල්ලා වෙළඳපොළ පාවිච්චි කරලා

ඉවරයි. කල් ඇතුව ගියා' කියලා. මහ බෝසතාණන් වහන්සේ කියනව ඒකට ප්‍රශ්නයක් නෑ. අපි සාධාරණ වෙළඳම් කරන ඇත්තො. යං.

යනකොට මේ මහ නිරූදක කාන්තාරේ මැද යනකොට යක්ෂයෝ මනුෂ්‍ය ස්වරූප අරගෙන, නාලා නෙළුම් මල් පොහොට්ටු ආදිය පැළඳගෙන තෙත ඇගේ තෙත රෙදි සහිතව ඉස්සරහට එනවා. ඇවිල්ලා කියනවා,

"කොහෙද යන්නේ"

"අපි මේ ගැල් සාත්තුවක්. අපි යනවා එගොඩට".

"ආ! බොහොම හොඳයි. මොනවද මේ ගැල්වල තියෙන්න?"

"ආ! මෙච්චර මෙච්චර බඩු තියෙනවා. මේක දිගටම තියෙන්නේ තව දවස් 7, 8 කට යන්න වතුර"

"ඉතින් ඔය වතුර ගැන නම් බය වෙන්න දෙයක් නෑ. මොකද මේ ළඟ ක්ෂේම භූමියක් තියෙනවා, මේ පේන්නෙ නැද්ද අපි මේ නාලා කරලා ඔක්කොම එන්නේ. ඒ නිසා වතුර ඕනෑ නෑ.... ඔයාලට වෙහෙස ගන්නෙ නැතුව යන්න පුළුවන් නේද? ඕගොල්ලන්ට ඇති වෙන්ඩ වතුර බොන්න පුළුවන් නේද?" කියලා නා නා ප්‍රකාරයෙන් කරුණු දක්වනවා. මහ බෝසතාණෝ කිසීම ඒකට තරහකට කියන්නෙත් නැහැ, ආදරයට කතා කරන්නෙත් නැහැ. "තිබ්ච්චාවේ. වතුර ටික ඔහොම තිබ්ච්චාවේ" කියලා ගැල්කාරයින්ට උපදෙස් දුන්නා.

ඉස්සරහට යනකොට පේන්න පටන් අරගන්නවා, තමන්ට කලින් ගිය ගැල්සාත්තුවේ හිටපු සම්පූර්ණ සෙනග ඔක්කෝම කාල දලා. මනුස්සයොයි හරක් ටිකයි ඔක්කොම කාලා. ඇට කටු විතරයි ඉතුරු. වටිනා බඩු ටික ගැල්වල එහෙම්මම තියෙනවා. එතකොට බෝසතාණන් වහන්සේ තමන්ගේ පිරිසට කතා කරල කියනවා "පේනවද ඔය ඇත්තන්ට මේ වැඩේ? පේනවද? තේරෙනවද?" නෑ, ඒ ඇත්තන්ට මේක තේරුම්ගන්න බෑ.

ඊට පස්සේ එතුමා කියනවා "අර යක්ෂයෝම කලින් ඇවිල්ලා අර කට්ටියටත් අපට කරපු රඟපෑමම කරලා තියෙනවා. මේ දෙළක් තියනවා,

වතුරත් තියෙනවා, ක්ෂේම භූමියක් තියෙනවා, වතුර ගෙනියන්න එපා කීව වහාම ඒගොල්ලෝ ඒ ලාභය පිණිස වතුර ඔක්කොම නාලා කාල බීලා ඉස්සරහට යන්න හදල තියෙනවා. ඊට පස්සේ වතුර නැතුව වේළිලා මැරිලා ගියාට පස්සේ යක්ෂයා ඇවිල්ලා ඔක්කොම කාලා ලේ උරා බීලා පණ ඇති සත්තු ඔක්කෝම විනාශ කරල තියෙනවා. ඒ නිසා දැන් මේ මුළු ගැල් සාත්තුවෙම වස්තුව ඔක්කොම අපිට අයිති වෙනවා. කිසිම කෙනෙක් මම කියන්නෙ නැති දෙයක් කරන්න එපා. මට කියන්නෙ නැතුව මොනවක්වත් කරන්න එපා. මෙන්න මේ වගේ තැනක්, මේ යක්ෂයෝ අරක්ගත්ත භූමියක් මෙතන තියෙන්නේ. ඒ නිසා කරබගෙන මගෙත් එක්ක යං" කියලා අර ගැල් ටිකත් අරගෙන එගොඩ ගොඩට ගිහිල්ලා දෙගුණයක් ලාභ ඉපැයුවා. යම් ආකාරයකට අර ගැල් සාත්තුව පිටත් වෙන්න කලින් දේවදත්ත කරන්නා වූ හතුරුකම ගැන සලකලා මොන විදිහේ හරි ප්‍රතික්‍රියාවක් කළා නම්, මීට හාත්පසින් වෙනස් සිද්ධියක් වෙන්න පුළුවන්.

ඒ නිසා අපි තේරුම් අරගන්න ඕනෑ, මේ තියෙන්නේ ඒකාන්තයෙන්ම විෂම ලෝකයක්. ඒ ලෝකෙන් එන ප්‍රතික්‍රියාවලට, පළවෙනි සංඥවට කවදකවත් චේතනා පහළ කරන්න නරකයි. දැනගන්න ඕනෑ චේතනා පහළ වෙන්නේ ඒකාන්තයෙන්ම සංඥ පදනම් කරගෙන. සංඥ කවදවත් අංග සම්පූර්ණ නැහැ. සම්පූර්ණ වෙන්න බැහැ. ඒ මොකද? සර්වඥයන් වහන්සේම සඳහන් කරනවා, යමක් පිළිබඳ පූර්ණ සංඥවක් ගන්න එකොළොස් ආකාරයකින් දැකගන්න ඕනෑ කියලා. සමහර විටක එකොළොස් ආකාරය තියා අරමුණවත් පේන්නෙ නෑ.

ආනාපානසති භාවනාවේදි ප්‍රධාන වශයෙන් වෙන ප්‍රශ්නයක් තමයි, පටන්ගන්නකොටමත් ආනාපානය වැටහෙන්නෙ නෑ. ඒ පුද්ගලයට කියනවා - එක්කෝ හැපෙන තැන හෝ හිත පවත්වන්න, නැත්නම් ඇතුල් වීමේ පිට වීමේ හුස්මට හෝ හිත පවත්වන්න කියල. මොනම දෙයක්වත් වැටහෙන්නෙ නෑ. ඉතින් ඒ පුද්ගලයාට කොහොමටක්වත් අමාරුයි ඒකේ ගොරෝසු ආකාරය මෙහෙමයි, සියුම් ආකාරය මෙහෙමයි, ළඟ ආකාරය මෙහෙමයි, දුර ආකාරය මෙහෙමයි, ඇතුළේ ආකාරය මෙහෙමයි, පිට ආකාරය මෙහෙමයි කියලා හිතාගන්ඩවත් බෑ. මොකද, ඒ තරමටම නීවරණ ඝනබහලයි. ඉතින් ඒ

නිසා මුලදී වේගයෙන් අපි ඒ සිතුවිලි අයින් කරගෙන අරමුණ මතු කරගැනීම සඳහා ලොකු සටනක් කරන්න ඕනෑ. සටනක් කරනකොට තමයි හැපෙන තැන සංඥව හෝ අරගෙන අපි ඒක නිමිති කරගන්නවා ආනාපානයෙ නිමිත්ත වශයෙන්. එතකොට ඒ සංඥව, ඒ නිමිත්ත ඉතාමත්ම වැදගත්. මොකද, නීවරණ දුරු කිරීමට නම් මූල කර්මස්ථානය මතු කරගන්න ඕනෑ.

ඔන්න ඔය සටනේ, ඔය ආනාපානය මුලදි අල්ලාගන්න බැරිකමේ ප්‍රතිඵලයක් වශයෙන් තමයි මහාසී ස්වාමීන් වහන්සේ තමන්ගේ පරම්පරාවෙන් ආපු ක්‍රමය - ආශ්වාස ප්‍රාශ්වාස හුළඟ නිසා උදරයේ ඇති වෙන්නා වූ ගොරෝසු පිම්බීම හැකිළීම ඒ වගේම අරමුණක් කරලා මේ භාවනා ක්‍රමයක් හඳුන්වල දීලා තියෙන්නේ. මොකද, ආරම්භයේදී ඇති කරගන්න සංඥව - අපි කියනවා නිමිත්ත කියලා - ඉතාමත්ම වැදගත්. නමුත් ඒ නිමිත්ත කවදාවත් අංග සම්පූර්ණ නෑ. අංග සම්පූර්ණ තියා කලින් මම කිව්වා වගේ සාංකාවක්වත් දකගන්න බැරි තත්ත්වයක් තියෙනවා. ඒ තරම්ම නීවරණවල බලපෑම වැඩියි. යම් ආකාරයකට යෝගාවචරයා ඒ තත්ත්වය තේරුම් අරගෙන පූර්වකෘත්‍ය ආදී මාර්ගයෙන් මෙල්ල කරගෙන අරමුණ අල්ලගත්ත නම්, හුදු සතුටක් ඇති වෙනවා. සතුට ඇති වෙච්ච ගමන් හිතාගත්තොත් මම දැන් ආනාපානය දන්නවා, මම දැන් පිම්බීම හැකිළීම දන්නවා, ඉතින් කමටහන් සුද්ධ කරද්දි ඇවිල්ලා අහනවා ඊගාවට මම දැන් මොකද කරන්නේ කියලා. ගුරුවරයාට උපදෙස් දෙන්න සිද්ද වෙනවා, ඔය දකලා තියෙන්නේ මූල කර්මස්ථානයේ එක පිටපතක්, එක පලුවක්, එක මුහුණතක් පමණයි. ඕකෙ විවිධ සටහන්, ඕකෙ විවිධ ආකාර තියෙනවා. ඒක භාවනාවක් නෙවෙයි. ඒක සාමාන්‍ය ලෝක සම්මතයේ හැටි.

මැණිකක් කපපුවහම ඒ මැණිකට මුහුණත් රාශියක් තියෙනවා. ඒ මුහුණත් රාශියම බලන්න ඕනෑ මැණික අගය කරන්න. ෂෝ කේස් එකක එල්ලලා තියෙනකොට නම් මැණිකක් බව පේනවා කොයි පැත්තෙන් බැලුවත්. නමුත් ඊට වැඩිය අපි ගනුදෙනුවකට යනව නම් ඒ මැණික අතට අරගෙන ආලෝකයට අල්ලලා, ඒ පැත්ත මේ පැත්ත කරකව කරකව ලොකු වේලාවක් අපි ඒකේ හැඩතල බලන්නේ මොකටද? චේතනාව - මිල දී ගැනීමේ චේතනාව පහළ කරන්න ඉස්සර වෙලා සංඥව තහවුරු කරගන්න. රත්තරනක් නම් උරගාලා ගලගාලා

බලන්න ඕනැ. අඹයක් ගන්නව නම් කැල්ලක් කාල බලන්න ඕනැ. මොකද? චේතනා පහළ කළාට පස්සේ වෙළෙන්ද කියනවා 'විකුණූ බඩු නැවත බාරගනු නොලැබේ'.

ආන්න ඒ වගේ තමයි, චේතනාව වශයෙන් අපි කර්මයක් රැස් කළා නම් ඕක අම්ම මුත්ත කීවත් ආපහු අඳින්න බැහැ. වෙච්ච දේ වුණා. ඒ නිසයි චේතනා පහළ කරන්න කලින් අපි ළඟ හික්මීමක් තියෙන්න ඕනෑ. ප්‍රතිපදාවක් තියෙන්න ඕනෑ. අපි චේතනාවට මුල් කරගත්තා වූ සංඥාව හාත්පසින් සාකල්‍යයෙන් පරිපූර්ණ දෙයක්ද, එහෙම නැත්නම් අපි උපේක්ෂාවකින් තොරව ඉවසීමකින් තොරව හදිස්සියේ වහාම පැනලා ගත්ත විනිශ්චයක්ද කියල බලන්න ඕනෑ. මේ දෙකෙන් ලෝකය ඉල්ලනවා හැම වෙලාවෙම හදිස්සි විනිශ්චය. හැම දේම හදිස්සියි. ක්‍ෂණික කරන්න හදනවා. ඒක ක්ෂණික කිරීමෙන් වෙන්නේ මොකක්ද? සංසාර චක්‍රය ළඟ ළඟ ළඟ ළඟ කැරකෙන්න පටන්ගන්නවා. දීර්ඝායුෂ්කව හිටපු මිනිස්සු කෙටි ආයුෂ්කව මැරිලා යන්න පටන්ගන්නවා. කෙටි ආයුෂ්කව හිටපු මිනිස්සු ඊටත් වඩා කෙටි ජීවිත ඇත්තා වූ තිරිසන් සත්තු බවට පත් වෙනවා. ඊටත් වඩා ක්ෂුද්‍ර ජීවීන් බවට පත් වෙමින් මේ සංසාර චක්‍රය වේගයෙන් ළඟ ළඟ කරකැවෙන එකයි මේ මනුස්සයා අද මේ නව තාක්ෂණයෙන් සොයාගෙන තියෙන ලොකුම දේ.

ඒ වෙනුවට තමන්ට ලැබෙන්න තියෙන පූර්ණ ආයුෂ විඳිමින්, ඇති දේ බලන්න නම් ලැබෙන සෑම සංඥාවක් විෂයෙහිම අපණ්ණකව, විරුද්ධ ක්‍රියා නොකර, නැත්නම් අවිරුද්ධව, අරමුණ දිහා නැවත නැවත බැලීම තපස් ගතියයි. ඒකට තමයි ක්ෂාන්තිය කියල කියන්නේ. **තිතික්ඛා** කියල කියන්නේ. **ඛන්ති පරමං තපො තිතික්ඛා**. ඒ නිසා අපණ්ණක ප්‍රතිපදාව කියල කියන්නේ බයාදු ගතියක් හැටියට සලකන්න නරකයි, නෝන්ජල්කමක් කියලා හිතන්න නරකයි. වහා ප්‍රතික්‍රියා කිරීමට බැරි වීම අපිට ථෙරවාදයේ උගන්වන්නේ හදිස්සියේ වගේ කටයුත්තක් වුණා නම්, කොන්ද පණ නැති කෙනෙක් වගේ හෝ මළ කෙනෙක් වගේ හෝ ඉඳලා සිද්ධියෙන් ගැලවෙන්න. **අථ අඤ්ඤෙ සමුප්පන්නෙ සයෙථ මතසායිකා.** තදබල විදියට කවුරුහරි බලපෑම් කරනවා නම්, ඒකට වහාම ඔබතුමාගේ තීන්දුව ඕනෑ, මේකට වහාම කරන්න කියලා කියනවා නම්, මළමිනියක් වගේ, මට ඇහෙන්නෙත් නෑ මට පේන්නෙත් නෑ මට කොන්ද පණත්

නෑ මට දැනුමකුත් නෑ කියලා මළමිනියක් වගේ ශවාසනයට වැටෙන්න ඕනෑ. ඒක තමයි පණ්ඩිතකම කියල කියන්නේ. ඒක තමයි අපි ආරක්ෂක ප්‍රතිපදව කියල කියන්නේ. අපණ්ණක ප්‍රතිපදව කියල කියන්නේ.

නමුත් මේක අද ඉතාමත්ම බයාදු දෙයක් බවට පත් වෙලා තියෙනවා. මොකද? වහා ප්‍රතික්‍රියා කිරීම භයානක බෝ වෙන රෝගයක් බවට පත් වෙලා තියෙනවා මනුස්සයාට. ඉතින් එතකොට අපි තිරිසනුන් සහ මනුෂ්‍යයන් අතර තියෙන වෙනස ඉතාමත්ම පටු කරගන්නවා. භයානක කලහ විවාද, යුද්ධ විශේෂයෙන්ම පැතිරෙන්නෙ කවදකවත් සාධාරණ හේතුවක් නිසා නෙවෙයි, තමන් හිතාගත්ත හේතුවක් නිසා. හරියට අර පිදුරුවලින් හදපු රූකඩේ දැකලා මුවා මේ හේන ආරක්ෂා කරන ගොවියා තමයි මේ කියලා අදහසක් ඇති කරගත්තා වගේ, ඒ වගේම ඊට පස්සේ දවසේ ඉඳලාම ඒ මිගපෝතකයා (මුවා) ඒ රූපෙ දිහා බලනකොටම ප්‍රතික්‍රියා කරන්නේ තමන් හිතාගත්ත දේට මිසක්කා කවදවත් දෙසැරයක් රූපය දිහා බලන්න යන්නේ නෑ මේක හදපු රූකඩයක් කියලා. අන්න ඒ වගේ තමයි අපි ජීවිතේදීත්. ප්‍රධාන වශයෙන් අපිට ඉන්නවා එදිරිවාදිකාරයෝ. අපිට ඉන්නවා ප්‍රිය මනාප ඇත්තෝ. ආන්න ඒ ප්‍රිය මනාප ඇත්තන් මොන තරම් හරි වැරදි වැඩක් කළත් ඒ ඇත්තෝ හැමදම ප්‍රිය මනාපම තමයි. විරුද්ධවන්තයා කොච්චර සත්පුරුෂයෙක් වුණත් අපිට ඒ බව දැකගන්න බැරි වෙනවා. ඒ නිසා සාමාන්‍යයෙන් අද කාලේ හැටියට ආණ්ඩු පක්ෂය කරන සෑම දේකටම විරුද්ධ වීම විරුද්ධ පක්ෂයේ වගකීම. විරුද්ධ පක්ෂය විසින් ගේන ඕනෑම හොඳ ප්‍රගතිශීලී ප්‍රතිපත්තියක් මොකක් හෝ වේවා, ඒක ප්‍රතිගාමී කියලා ප්‍රතික්ෂේප කිරීම ආණ්ඩු පක්ෂයේ වගකීමක්. ඒ තරමටම මේ පක්ෂ දේශපාලනය වාගේ අපිත්.

මේකෙන් යෝගාවචරයාට ගන්න තියෙන්නේ මේ පක්ෂ දෙකම තමන්ගේ සන්තානයෙම තමයි තියෙන්නෙ. ඒ නිසා හුඟක් හොඳ වෙලාව තමයි කිසි සේත්ම විනිශ්චයකට යන්න ඉස්සර වෙලා ඒක පිළිබඳව ස්ථිර සංඥවක් ඇති කරගන්න, බලපු එක දේ හත්සැරයක් බලන්න. සාමාන්‍යයෙන් ගෙවල් දෙරවල්වල ඇහෙන කතාවක් තමයි නැති වෙච්ච බඩුවක් හොයනකොට එක තැන, හත්පොළ, හත්සැරයක් බලන්න. ඒ මොකද? නෑ කියන සංඥවෙන් බැලුවොත් දිගටෝම, කොච්චර

පෙනුණත්, ඇහේ වැදුණත් ඒක නෑ ම තමයි. ඒ නිසා නැවතත් ඒ දිහා අපි හිත අලුත් කරගෙන බැලීමක් තියෙන්න ඕනෑ. මෙන්න මේ වගේ තමයි මූල කර්මස්ථානය විෂයෙහි අපි කවදාකවත් - අඩුම ගානෙ කියනවා නම් සම්මා සම්බුද්ධ වුණත්, ආනාපානෙ දිහා බැලීම නතර කරන්නෙ නෑ. රහත් වුණත් නෑ. සම්මා සම්බුද්ධ වුණත් නෑ. ඒ මොකද? අපේ ගෞතම ශ්‍රී සර්වඥයන් වහන්සේ පවා සම්මා සම්බුද්ධත්වයට පත් වෙලත් ආනාපානය වඩල තියනව. ඒ නිසා ඉන් පහත, ඉන් පල්ලෙහා ඉන්න ඇත්තන්ට මම දැන් ආනාපානය කරල ඉවරයි, නැත්නම් මං ශීල විසුද්ධිය සම්පූර්ණයි, දැන් මම චිත්ත විසුද්ධිය සම්පූර්ණයි ආදී වශයෙන් මේ කරන දේවල් ප්‍රධාන වශයෙන් චේතනා පූර්වකව සංඥා පූර්වකව කරන දේවල් මිස පටිච්චසමුප්පන්න බවක් තේරුම් අරන් කරන කතාවල් නෙවෙයි.

ඒක නිසා යෝගාවචරයෙක් වශයෙන් කටයුතු කරනකොට හොඳට තේරුම් අරගන්න ඕනෑ, අපේ චේතනා සියල්ලටම අපි වග කියන්න ඕනෑ. ඒ සියල්ලම පදනම් වෙලා තියෙන්නේ සංඥාව මත. සංඥාව කියන්නේ පුස්සක්. සංඥාව කියන්නේ මිරිඟුවක්. මෙන්න මේ විදියට සංඥාව මිරිඟුවක් විදියට දකිනව නම් **මරීචිකූපමා සඤ්ඤා** කියල, ඒ පුද්ගලයා මරණය ඉක්මවනවා. වර්තමාන මොහොතෙම තමන් දකින ආශ්වාස ප්‍රශ්වාසය හෝ පිම්බීම හැකිළීම හෝ එසවීම තැබීම යැවීම හෝ එදිනෙදා වැඩ සෑම තැනකම මේ ඇත්තා වූ මිරිඟුවක ස්වභාවය දැකගන්න පුළුවන් නම්, **අමතපදං** - මාරයාට යටත්වෙන්නෙ නෑ. ඒ නිසා යම්ම වේලාවක මූල කර්මස්ථානයේ අර කියන සටහන දැකලා මේක මේ සටහන පමණයි, මේ සටහන කාලානුරූපව වෙනස් වන හැටි තමයි ආකාරය කියන්නේ. 'මම ආකාරය දකින තරමටම හොඳට නැවත නැවත ඒක මෙනෙහි කරන්නට ඕනෑ. සටහන් ආකාර දෙක දැක්කට පස්සේ මේ දෙක අතෝරක් නැතුව නිතර වෙනස් වෙන නිසා සටහන් ආකාරය, එකොළොස් ආකාරය හෝ තමන්ට පෙනෙන සියල්ලම දැකගත යුතුයි' කියන අදහසින් තවත් සාදරව ප්‍රේමණීයව අරමුණට සමීප වුණොත්, ඒ පුද්ගලයාට අරමුණේ ඇත්තා වූ ස්වභාව ලක්ෂණ පේන්න ගන්නවා. ඒ චිත්තක්ෂණයෙත් ඒ අරමුණේ ඇති සටහන් ආකාර පේන්න පටන්ගන්නවා. ඊගාව චිත්තක්ෂණයට කිසි සේත්ම ඒක අදාළ නෑ. ඒ තරමටම අරමුණේ වෙනස් වෙන ගති පහළ වෙනවා.

කොටින්ම කියනවා නම්, අරමුණේ පඨවි ධාතුව ප්‍රකට වෙච්ච වෙලාව ආපෝ ධාතුව ප්‍රකට වෙච්ච වෙලාවෙන් හාත්පසින්ම වෙනස්. තේජෝ ධාතුව ප්‍රකට වෙච්ච වෙලාව හාත්පසින්ම වෙනස්. ඊගාවට වායෝ ධාතුව. සමහර වෙලාවට මේ හතරම එකම චිත්‍ර තලයේ පෙන්වනවා, එකිනෙක කිසි සේත්ම එකිනෙක සමග නොගැටී එකින් එක තනියම පහළ වෙනවා. තනියම පවතිනවා. නැති වෙනවා. ඊගාවට ධාතුවක් ආයෙ මතු වෙනවා පවතිනවා නැති වෙනවා. මෙන්න මේ ක්‍රියාවලියට ගියාම සංඥුවේ තියන මිරිඟුවක ගතිය බුදුහාමුදුරුවෝ උපමාවක් දෙන්න හදපු රවට්ටන්ට කරපු කතාවක් නෙවෙයි, සත්‍යයක්. අර ඉස්සර වෙලා පුද්ගලයෙක්, සතෙක්, ඉහළට යන හුස්ම රැල්ල, පහළට යන හුස්ම රැල්ල, හොඳයි ආස්වාදජනකයි ආදී වශයෙන් තිබුණ දේ තුළ දැන් පවතින්නේ ඉතාමත්ම සීඝ්‍රයෙන් වෙනස් වෙන, හරියටම අන්න අර කියන මිරිඟුවක් දැක්ක වගේ තමයි. නමුත් ඒ සඳහා කොච්චර වෙලා මේ එකම අරමුණේ, එකම තැන හිත තියාගෙන සාදරයෙන් භාවනා කරන්න ඕනැ. නමුත් ඒ තරමට හිත දියුණු වුණා නම්, මනසිකාරය දියුණු කරගත්තා නම්, අහන ශබ්දයට හිත ගියත් තමා දියුණු කරගත්ත මනසිකාරයෙන් ශබ්දෙ පේන්නෙත් ඒ වෙලාවට අර කියන මිරිඟුවක් වගේ තමයි. කතා කරන වචනවල පළවෙනි අකුරෙ ඉඳලා දෙවෙනි අකුරට සම්බන්ධතාව පවතින තාක් පැවැත්මක් නෑ. නිකම් ඝෝෂාවක් විතරයි.

එතකොට මොකක්ද සංගීත සංදර්ශනයක් කියලා කියන්නේ? කන්කරච්චලයක් විතරයි. අනික් වෙලාවට නම් අපි සංගීත සංදර්ශනය තියන දිහාවට ආකර්ෂණය වෙනවා. මොන තරම් ලයට හරියන ශබ්දද? ශබ්දෙට හරියන ලයද? ඒකට හරියන කටහඬද? අනේ මේක මට ළං වේවා කියලා හැඟීමක් එනවා. නමුත් ආනාපානය හෝ පිම්බීම හැකිළීම කියන මූල කර්මස්ථානය දිගේ හොඳට භාවනා කරලා බැලුවට පස්සේ, මේ සංගීත රාවය කියලා කියන්නේ වවුලන්ගේ කංකරච්චලයක් වගේ එකක්. එතකොට මේ පෙන්වන්න හදන දර්ශනීය සංදර්ශන, සැණකෙළි වල තියෙන දර්ශනයත් බලු වමනයක් වගේ එකක් විතරමයි. ඒකෙ වෙන ගන්න දෙයක් ඇත්තේ නැහැ. ඔක්කොගෙම තියෙන්නේ එතරම් සීඝ්‍රයෙන් ඇති වෙමින් පවතින තත්ත්වයක්. අන්න එතෙන්ට ගියහම නම් තේරෙනවා මේ සංඥුව අපි කලින් ගත්ත ධනයක් වශයෙන් ස්ත්‍රියාවක්

වශයෙන් පුරුෂයෙක් වශයෙන් ඇතුල් වීමක් වශයෙන් පිට වීමක් වශයෙන් ගත්ත දේ අඩු ගානෙ ඇතුල් වීම පිට වීම අතර වෙනසවත් දැන් නෑ. පිම්බීමක් හැකිළීමක් අතර වෙනසක්වත් නෑ. ඒ අතරතුර වෙන්නෙ දිගටෝම වතුර කඩකට වහින්නා වාගේ, එහෙම නැත්නම් කණාමැදිරියන් එලවන්නා වාගේ, එහෙම නැත්නම් මිරිඟුවක් වාගේ.

අන්න ඔය දර්ශනය අපිට සක්මනේදිත් එදිනෙද වැඩවලත් පර්යංකය කියන මූල කර්මස්ථානෙත් අනෙකුත් අරමුණුත් කියන සෑම තැනම දැකගන්න පුළුවන් තත්ත්වයක් එනවා නම්, ඒ යෝගාවචරයාට කිසිම තැනක චේතනා පහළ කරන්න වෙන්නෙ නෑ. මට මේක වේවා කියල හෝ මට මේක නොවේවා කියල හෝ පහළ කරන්න වෙන්නෙ නෑ. එතකොට ඒ යෝගාවචරයා තුළ කර්ම රැස් කිරීමේ ගතිය හුඟාක් අඩු වෙනවා. එතකොට තමයි රහතන් වහන්සේ නමකගේ හිත ක්‍රියා හිත කියල අපි නම් කරන්නෙ. සංස්කාර රහිතයි. ඇති දේ බලනවා පමණයි. කිසි සේත් මේක වේවා නොවේවා හැඟීමක් නෑ. ලොකු වේවා පුංචි වේවා කියල හැඟීමක් නෑ. බඳගන්න ලැබේවා කියල හැඟීමක් නෑ. තියාගන්න ලැබේවා කියල හැඟීමක් නෑ. මොකද? තියාගන්න දෙයක් නෑ. එක චිත්තක්ෂණයක ඉඳලා තව චිත්තක්ෂණයකට යන තරමක් පමාවක් ඉස්පාසුවක් යමක නෑ. අල්ල බඳගන්න කියල අජ්ඣත්ත බහිද්ධා කියල වෙනසක් නෑ. දූරේ සන්තිකේ වුණේ කියලා සංඥාවේ වෙනසක් නැහැ. ගොරෝසු වුණා සියුම් වුණායි කියල කලකොල වෙන්න දෙයක් නැහැ. හිතට ප්‍රිය වුණා අමනාප වුණායි කියල කලකොල වෙන්න දෙයක් නැහැ.

ඒ නිසා සංඥාව යම් ආකාරයකට තුනී වේගෙන, නැත්නම් මිරිඟුවක් විදිහට පත් වුණාම චේතනා පිළිබඳව යෝගාවචරයාට විශාල ඉස්පාසුවක් ලැබෙනවා. ඒ නිසා චේතනාව පෙන්වනකොට චේතනා කෘත්‍යය වශයෙන් කරන්නේ යම් කිසි දෙයක් හිතේ ව්‍යාපාර කිරීම සහ රැස් කිරීම. ඒ තමන් හිතන තාලෙට ස්ත්‍රියාවක් වශයෙන් දැක්ක නම්, ඒක ස්ත්‍රියාවක් වශයෙන් නැවත නැවත පෙන්නන්න හිත විශාල ව්‍යාපාරයක් කරනවා. දැන් ඒක අවශ්‍යතාවක් නෑ. මොකද? දන්නවා මෙතන තියෙන්නේ ධාතු ස්වභාවයක් - **ධාතුමත්තතො නිස්සත්තො නිජ්ජීවතො සුඤ්ඤතො**. ඒක ආයෙ රකින්න දෙයක් නෑ. ඒක ආයෙ ආරක්ෂා කරගන්න දෙයක් නෑ, රක්ෂණය කරන්න දෙයක් නෑ. එතකොට චේතනාවෙ

කෘත්‍යය නිකම්ම නිකම් බොඳ වෙලා යනවා. එතකොට සක්කාය දිට්ඨිය අඩු වෙනකොට හුඟදෙනෙකුට හීන්දඩිය දනවා. දැන් මේ භාවනා කරන්නෙක් ඉන්නවද? අරමුණක් තියෙනවද? කොහෙද මගෙ හිත තියෙන්නේ ආදී වශයෙන් විශාල බය සංකා, සැක සංකා, පදනම් විරහිත සංකා, එහෙම නැත්නම් ඒකාකාර ගති, බොහෝ විට පහළ වෙන්න පටන්ගන්නවා. චේතනාවක් පවතින තාක් කල් මමෙක් ඉන්නවා. කරන්න දෙයක් තියෙනවා. ව්‍යාපාර තියෙනවා. එහෙම නැත්නම් ප්‍රයෝග තියෙනවා. රැස් කිරීම් තියෙනවා. මෙහෙයවීම් තියෙනවා. චේතනාව අඩු වේගෙන යනකොට යනකොට හොඳටෝම හිතට අරමුණට මූණදීලා, මුහුණට මුහුණ දීලා අරමුණ අරමුණේ කෘත්‍යය කරනවා. හිත හිතේ කෘත්‍යය කරනවා. චෛතසිකයක් වශයෙන් චේතනා කෘත්‍යය නිකම්ම ඔද්දල් වෙලා නිර්වර්ණ වෙලා නීරස වෙලා යන්න ගන්නවා.

මෙන්න මේක තමයි බෞද්ධ භාවනා ක්‍රමයේ ආරම්භය. කෙනෙක් එතෙන්ට ගෙනියන එක අමාරු නෑ. නමුත් ගිය හුඟදෙනෙක් මේක නෙමෙයි බලාපොරොත්තු වෙන්නේ. ඒ ඇත්තන්ට අවශ්‍ය වෙලා තියනවා අභිධර්මය පෙන්වන ලැයිස්තුයි, ඒ එක එක චෛතසිකයක තියෙන රස, ලක්ඛණ, පච්චුපට්ඨාන ඔය ලැයිස්තුයි බලන්න ගත්තහම අර පේන රූපයයි හිතයි අතරට පුදුමාකාර සුතමය ඥානය සහ චින්තාමය ඥානය බැසගන්නවා. ඉතින් චේතනා එන්න පටන් අරගන්නවා මේක දැක්කේ නැහැ, මේක දකින්න ඕනෑ, මේක ගන්න ඕනෑ, අර මොනවක්වත් නෑ චේතනාව සංසිඳෙනකොට ඒ පුද්ගලයා තුළ ව්‍යාපාර කිරීම නතර වෙනවා, රැස් කිරීමක් අවශ්‍ය නෑ. අරමුණට මූණට මූණ දලා තියනවා. බොහෝ විට ඇති වෙන්නේ නීරස ගතියක්. බොහෝ විට ඇති වෙන්නේ එක්කො නින්දට බර ගතියක්. එහෙම නැත්නම් ළඟ තියන වෙන අරමුණක් එක්ක හිත ගැටෙන ගතියක්. ඒ මොකද? ඒකට පුහුණු නැති නිසා.

ඒක නිසා චේතනාවෙදි තියන භයානකකම තේරුම්ගන්න නම් සර්වඥ දේශනාවේ සඳහන් කරන්නේ සාමාන්‍ය ලෝකේ තියෙන අරමුණක් දකපුවහම එයින් ඇති වෙන්නා වූ, නැත්තම් ලෝකයෙ දේවල් වලට මුහුණ දීපුවහම එයින් ඇති වෙන්නා වූ දුක සම්බන්ධ වෙනකොට ඒ කෙනාටම එතනදීම තේරෙනවා. ඒ අනුව එතනදී ඇති වෙන චේතනාව පමණමයි පුද්ගලයා කියල කියන්නේ. පුද්ගලයගේ ස්වච්ඡන්දය කියල

කියන්නේ. අසතිමත් කෙනා මේ දේට පෙළඹෙන්නේ හැඟුම්බරවයි. ඒ පුද්ගලයාට ඒ අනුව පහළ වන සුඛ වේදනාව දුක්ඛ වේදනාව අපි දන්නවා හඳුනාගැනීම ඒ තරම් අපහසුවක් නෑ. නමුත් අදුක්ඛම සුඛ වේදනාව පැත්තට යනකොට චේතනාව සියුම් වෙලා අවලංගු කාසියක් බවට පත් වෙනවා. අන්න ඒ වෙලාවෙදී මේ තියෙන්නේ අදුක්ඛම සුඛ වේදනාවයි කියලා ප්‍රඥාව පහළ කරගත්තා නම් ඒකම සුඛයක්. ඊට කලින් තියෙන සුඛ දුක්ඛ දෙක ලෞකික වශයෙන් සාමාන්‍ය තිරිසන් සත්තුන්ට පවා තියන දේ. නමුත් ඒක භාවනා නොකරපු පෘථග්ජනයෙකුට හෝ වෙන කෙනෙකුට හෝ මේ කියන අදුක්ඛම සුඛයේදී බලපවත්නා වූ චේතනා ස්වරූපය සම්පූර්ණයෙන් ප්‍රකට නෑ.

ඒක නිසා හරියට අරමුණට මූණ දුන්න නම්, අරමුණේ සංඥාව එකොළොස් ආකාරයෙන් සම්පූර්ණ වේගෙන යනවා නම්, එතන තියනවා **පයොග පටිප්පස්සද්ධිය** - සියලුම ප්‍රයෝග අතහැරලා අරමුණ දිහා බලාගෙන ඉන්න පුළුවන් ගතිය. ඒක ආධුනික යෝගාවචරයෙක් නීවරණ නැති කිරීම සඳහා අරමුණ මතුපිටට ගෙන ඒම සඳහා ගන්නා ප්‍රයත්නයත් එක්ක හාත්පසින් වෙනස් දෙයක්. එතැනදී විශාල වීර්යයක් අවශ්‍යයි, විශාල මෙහෙයුමක් අවශ්‍යයි, චේතනාවක් අවශ්‍යයි, මෙනෙහි කිරීමක් අවශ්‍යයි, මනසිකාරයක් අවශ්‍යයි. දැන් එහෙම නෑ. ඒ මනසිකාර ප්‍රයෝජනවත් වෙලා දැන් අරමුණ කීකරු වෙලා. මූණට මූණ දලා හිටිනවා. ආන්න ඒ හිටින වෙලාවෙදී විශේෂයෙන් කලින් තිබුණු සුඛයත් දැන් ඇත්තේ නැහැ. දුකකුත් නැති සුඛයකුත් නැති විඳගන්න බැරි තත්ත්වයකට විස්තර කරගන්න බැරි තත්ත්වයකට පත් වෙනවා. අන්න ඒකෙදි නින්දට වැටීම තමයි යෝගාවචරයාට තියෙන ආසන්නම ලෙස්සා වැටීම, බොරු වළ. ඒ අනුව නින්දට නොවැටී බේරාගන්නට ක්‍රමයක් නෑ. එක්කෝ නින්දට වැටෙනවා. එහෙම නැත්නම් ඒ අහළ පහළ තියෙන වෙන මොකක් හරි අරමුණක් අල්ලගෙන ගැටෙන තත්ත්වය නිසා භාවනාව කඩාගන්නවා.

මෙන්න මේ දෙක නැතුව ඉස්සෙල්ලා මට අරමුණ මේ මේ ආකාර වලින් පෙනුණා. දැන් අරමුණ ඉතාමත්ම සියුම්. අඩු ගානේ පිම්බීම හැකිළීම කියන හෝ ඇතුල් වීම පිට වීම කියන හෝ සංඥා නැතුව එක දිගට පවතින දෙයක් කියලා දන්නව නම්, යෝගාවචරයාට පේනවා මෙනෙහි කළාට හරියන්නෙ නැති බව. මෙනෙහි කළාට ඉස්සර විතර වගේ අරමුණත් එක්ක

කාන්දම් ශක්තියක් වැඩ කරන්නෙ නෑ. මෙනෙහි කරන හිත පොළා පනිනවා. මෙනෙහි කළාට ඒක මෙහෙයවන්නට අමාරුයි. මොකද? මෙහෙයවීමක් අවශ්‍ය නෑ, චේතනාවක් ඕනෑ නෑ, මනසිකාරය ඉබේම සිද්ධ වෙනවා. ආන්න ඒ වෙලාවට යෝගාවචරයාට කලකොලොප්පම් නැතුව සමාධිය හොඳට ඇති වෙන්න, මේ පවතින්නේ අරමුණේ මධ්‍යස්ථ රසයයි, එහෙම නැත්නම් කියනවා නම් සුඛ දුක්ඛ දෙක අතරමැද තියන ස්වභාවයයි, හිතේ පවතින උපේක්ෂාවයි කියන එක තේරුම්ගන්න ඕනි. මෙන්න මේ උපේක්ෂාව වැඩෙන්නට නම් මේ තත්ත්වය නැවත නැවතත් වහවහා දිගින් දිගට වැඩෙන්න ඕනැ. සෑම පර්යංකයම මෙතෙන්ට එන්න ඕනැ. එනකොට චේතනාව අඩු වෙලා යනවා.

ඒ නිසා අවසානෙදි යම්ම වෙලාවක විතක්ක විචාර දෙක සම්පූර්ණ සංසිඳුණ මට්ටමට චේතනා සංසිඳුණ මට්ටමට ගියහම ඒ ඇත්තට මුනිවරයයි කියලයි කියන්නෙ. කිසිම දෙයක් කියන්න ඕනැකමක් ඇත්තෙත් නෑ, අහන්න ඕනැකමක් ඇත්තෙත් නෑ, රූප බලන්න ඕනැකමක් ඇත්තෙත් නෑ. මේ පවතින තත්ත්වයට සමවැදිලා ඉන්න පුළුවන්කමක් එනවා. භාවනාවේ ලොකු තලතුනාකමක් එනවා. සාමාන්‍යයෙන් ඕක සමථ භාවනාවෙදිත් හොඳට පෙන්නනවා. මුලදි ධ්‍යානය ගන්න ගොඩාක් ව්‍යාපාර කරන්න ඕනෑ. නමුත් ප්‍රථම ධ්‍යානයෙදිත් අපට විතක්ක විචාර දෙක තියෙනවා. අන්තිමට ගියහම ඒ දෙන්න හරි කලබලකාරයෝ දෙන්නෙක් කරනවා. පස්සේ ඒ දෙන්න අයින් කෙරුවට පස්සේ ඊට වැඩිය ප්‍රණීත වූ ප්‍රීතියට යනවා. ටික වෙලාවකින් ප්‍රීතිය කලබලකාරයෙක් බවට පත් වෙනවා. ඊට පස්සේ ප්‍රීතියත් අයින් කෙරුවට පස්සේ සුඛයට ආවා. හරි ෂෝක්. මනුෂ්‍ය ලෝකේ ලබාගන්න බැරි තරම් උත්තම වූ නිරාමිස සුඛයක්. නමුත් ටික වෙලාවක් යනකොට මේකත් බාධාවක් බවට පත් වෙනවා. අන්තිමට උපේක්ෂාවට පත් වෙනවා.

අන්න ඒ වගේ තමයි, විපස්සනා ධ්‍යාන කියලත් මේකට සමහර වෙලාවට පාවිච්චි කරනවා. විපස්සනා සමාධියේදීත් ඉස්සෙල්ලා බොහෝ විට ඉතාමත්ම දුක්ඛතර අවස්ථාවකට පත් වෙනවා, ඊගාවට සුඛ අවස්ථාවලට පත් වෙනවා. ඒ දෙකම මෙනෙහි කරලා සුඛ දුක්ඛ නැති උපේක්ෂාවට පත් වෙනකොට ඒ යෝගාවචරයා හොඳට දැනගන්න ඕනෑ,

දැන් භාවනාව අර මුල් මුල් කාලේ කරපු දේවලින් ලැබිච්ච ප්‍රතිඵලයක් වශයෙන් චේතනා නෑ, මෙනෙහි කිරීම් නෑ, මෙහෙයවීම් නෑ, ප්‍රයෝග නෑ, ව්‍යාපාර නෑ, ඉන්න පුළුවන්. නමුත් ඒක ඉබේ කෙරෙන දෙයක් කියලා වටිනාකම අඩු නෑ, ලොකු වටිනාකමක් තියෙනවා. ආන්න ඒ වටිනාකමෙන් බොහෝ වේලා ගත කරනවා නම්, ඒ පර්යංකයක් නැගිට්ටට පස්සෙත් පැය ගානක් යනකල් යෝගාවචරයාට දැනෙනවා. ඒක කඩාගන්නෙ නැතුව ආයෙ සක්මනටත් සක්මනෙන් එදිනෙද වැඩවලටත් ආරක්ෂාව තියනවා නම් තේරෙන්න පටන්ගන්නවා පිරිච්ච හිතක, පරිපූර්ණ හිතක ස්වභාවික තැන නම්, මෙන්න මේ චේතනා සංසිඳිච්ච තැනයි කියලා. ඒ සංසිඳීම චේතනාවකින් ගන්නත් බෑ. ප්‍රාර්ථනාවකින් ගන්නත් බෑ. ඒ සඳහා දුක්ඛ වේදනාව පහු කරලා සුඛ වේදනාව ලබාගන්න ඕනෑ. සුඛ වේදනාව පහු කරලා අදුක්ඛමසුඛ වේදනාව ලබාගන්න ඕනෑ. අදුක්ඛම සුඛ වේදනාව ආපුවහම අදුක්ඛම සුඛ වේදනාව කියලා දැනගන්න ඕනෑ.

මෙන්න මේ ක්‍රියාවලිය සිද්ධ වේගෙන යනකොට තේරෙනවා මොනම ආකාරයේ හෝ චේතනාවක් කියලා කියන්නේ පියරූප සාතරූප දෙකට. අපිට සමහර වෙලාවට කන්න මරන්න පවා චේතනා පහළ වෙනවා. ඒ කියන්නේ එතකොට අප්‍රිය අමනාප බවයි පේන්න තියෙන්නේ. නමුත් ප්‍රිය මනාප දේකට සාපේක්ෂකව තමයි අපි කවුරුහරි නසන්න විනාශ කරන්න බලාපොරොත්තු වෙන්නේ. ඒ කියන්නේ අප්‍රිය අමනාප ගති පහළ වෙන්නේ ප්‍රිය මනාප දේට සාපේක්ෂකවයි. ඒක නිසා දුකට ප්‍රධාන හේතුව හැටියට දක්වන්නේ තණ්හාව. ඒ නිසා චේතනාව හැම වෙලාවෙම මගේ දෙයක්, මගේ දරුවෙක්, මම ඇති කරපු දෙයක් කියන හැඟීම නිසා අපි හැම වෙලාවෙම ඒක ආරක්ෂා කරනවා. ඒක පෝෂණය කරනවා. ඒ චේතනාව පහළ වෙන්නෙත් ආන්න ඒ විදියට 'මමයා' ඒකට වශී කරගෙන. ඒ නිසා චේතනාව චේතනාවකින් අයින් කරන්න බෑ. වේදනාවෙන් සංඥාවෙන් ඒ වේදනා සංඥා දෙක කවදාකවත් දැකපු දැක්මට පූර්ණව දැකගන්න පුළුවන් දේවල් නෙවෙයි. ඒවා පිළිබඳව උපේක්ෂකව නැවත නැවතත් ඒ වේදනා විවිධ ආකාරයෙන් පහළ වෙන්න ඇරලා, සංඥා විවිධ ආකාරයෙන් පහළ වෙන්න ඇරලා එකම අරමුණක නැවත නැවතත් යෙදවීමෙන් විතරක් අපට පුළුවන් වෙනවා චේතනාවේ මේ තියෙන වශී කරන ගතිය නැති කරන්න.

ඒක සමහර කෙනෙකුට පේන්න පුළුවන් මේ ජීවිතයේ විචිත්‍රත්වය නැති කරන දෙයක් කියලා. නමුත් මේ චේතනා දකගන්නවා විතර විචිත්‍ර දෙයක් මනුෂ්‍යකුට තවත් නෑ. ඉතාමත්ම බොහෝ රූප ධර්ම ගෙවලා, ඒ තුළින් හොඳටෝම රූප ධර්ම ගෙවීම තුළින් ඇති වෙන, නාම ධර්මවලට ඉඩ දීම තුළින් පමණමයි චේතනාව දකගන්න පුළුවන් වෙන්නෙ. සක්මනේදීත් වම දකුණ වශයෙන් මෙනෙහි කරනකොට අපිට චේතනා බලන්න විදිහක් නෑ. එසේම එසවීම තැබීම වශයෙන් මෙනෙහි කරනකොටත් අපිට චේතනා බලන්න විදිහක් නෑ. එසවීම යැවීම තැබීම කියන විදිහට හොඳට සවිස්තරව විවේකීව බලන්න පුළුවන් වෙනකොට පමණක් චේතනා බලන්න පුළුවන්. පිම්බීම හැකිළීමේදීත් ඒ වාගේම මුලදී සම්පූර්ණ ඒ රූප ක්‍රියාවලිය තමයි බලන්නේ. නමුත් අවසානයේ යම් වෙලාවක ඒ පිම්බීම හැකිළීම මූණට මූණ දලා දිගට පවතින අවස්ථාවේදී කම්මැලිකම එනවා නම්, නිදිමත එනවා නම්, නීරසකම එනවා නම්, අසරණකම එනවා නම්, බය ගති පහළ වෙනවා නම් අන්න කියනවා දැන් නාම ධර්ම දිහාවට හැරෙන්නයි හදන්නෙ කියල.

එතකොට තමන්ට තේරෙනවා මූල කර්මස්ථානයේ නීරසකම නිසා චේතනා පහළ වෙනවා ළඟ තියෙන ගොරෝසු ශබ්දයක් අහන්න, රූපයක් බලන්න, වේදනාවක් බලන්න. එහෙම නැත්නම් නිදි සුව ලබන්න. අන්න ඒ විදිහට චේතනාව දැක්කා නම් අපිට තේරෙනවා අපිට මේ පත් වෙලා තියෙන චිත්තජ, කම්මජ, ඍතුජ, ආහාරජ කියන මේ හේතු ප්‍රත්‍ය හතරම හොඳට තේරුම්ගන්න වෙනවා - මේක මගේ කියලා. ආයෙ ඒකට ප්‍රතික්‍රියා කරන්නවත් පවතින ආණ්ඩුවට දෙස් කියන්නවත් ආකාසෙට දෙස් කියන්නවත් දෙමාපියන්ට දෙස් කියන්නවත් දෙයක් නැහැ. ඒ පුද්ගලයාට එතකොට කාටවක්වත් කියන්න දෙයකුත් නැහැ. උගන්නන්න දේකුත් නැහැ. තමන්ට තියෙන්නේ මේ පත් වෙච්ච දේ පත් වෙච්ච දේ වශයෙන් සතියෙන් හොඳට දකලා ඇත්ත ඇති සැටියෙන් තේරුම්ගැනීමේ වැඩපිළිවෙළ. ඒ නිසා චේතනාව දකගත්තා නම්, සංස්කාර ස්කන්ධයේ තියෙන මේ හැඩගස්වන වැඩපිළිවෙළ දැක්ක නම්, ඒ පුද්ගලයාට කවම කවදක්වත් ආයෙ සංසාරෙ කරකැවෙන්න වෙන්නෙ නෑ. මොකද, සෑම චේතනාවක්ම **පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති.** චේතනා තියන තැන තමයි තණ්හාව උපදින්නේ. චේතනා තියන තැන තමයි තණ්හාව

ලැගගන්නේ. ඒ නිසා චේතනා, චේතනාවකින් දුරු කරන්න බැහැ, ප්‍රතිපදාවකින් තමයි දුරු කරන්න ඕනෑ.

ඒ නිසා අර කලින් කියපු වැදගත් පුරුක් වගේම මේක සංස්කාර ස්කන්ධය වශයෙන් ගත්තොත් හුඟක් වෙලාවට තේරෙනවා. ඒ නිසා සෑම චිත්තක්ෂණයකම මේක ක්‍රියාත්මකයි. නමුත් ඒක අල්ලන්න බෑ. මොකද අරමුණු අතර වෙනස් වීමේ වේගය නිසා. ඒ නිසා අපි හුඟාක් වෙලාවට මේක තේරුම්ගන්නේ පුහුණු පුරුදු කළ එකම අරමුණක සක්මනේ හෝ පර්යංකයේ බොහෝ වේලා ගත කරනකොටයි. එතකොට චේතනා වැඩ කරන හැටි දැකගන්න පුළුවන්.

ඒක නිසා මේ ධර්ම කොට්ඨාශවලිනුත් තමන්ගේ අත්දැකීම් වලිනුත් මේක තව දුරටත් දැකගන්න ලැබේවා! දැකගත්තට පස්සේ නම්, කරන්න තියෙන දේ ගැන බය වෙන්න දෙයක් නෑ. ඉතින් ඒ කෘත්‍ය සිද්ධ කරනවා. ඉතින් ඒක නිසා ඉතාමත්ම ප්‍රයෝග බහුල ඉතාමත්ම වීර්ය අධික, පූර්ව ආරම්භක වීර්යයෙන් පටන් අරගත්තට අවසානෙ ඒ පරිපූර්ණ වීර්යයට යනකොට නම්, කළ යුත්තක් නැහැ, ප්‍රයෝගයක් නැහැ, ව්‍යාපාරයක් නැහැ. නමුත් මේ ව්‍යාපාර නැති තැනක තියන තත්ත්වය චේතනාව සංසිඳිච්ච බවයි කියලා හොඳට දැනගන්න තරම් යෝගාවචරයාට විපස්සනා නුවණක් අවශ්‍ය වෙනවා. එහෙම නැත්නම් අද විපස්සනා ලෝකෙ හුඟදෙනෙක් මෙතෙන්ට ගිහිල්ලා අන්ද මන්ද වෙලා ඉන්නවා. මොකද? මේ ප්‍රශ්නය අහන්න තේරෙන්නෙත් නෑ. ප්‍රශ්නෙ අහපුවහම මේ අවුල් සහගත හිස් සහිත ගුරුවරු දෙන උත්තර නිසා අර පුද්ගලයා හුඟාක් වෙලාවට පටලැවෙනවා. ඒ නිසා මෙතන බරපතළ සන්නිවේදන ප්‍රශ්නයක් තියෙනවා.

ඒ නිසා මේ ධර්ම කොට්ඨාශත් අරගෙන, විවේකීව තමන්ගේ මේ චිත්තවේගී භාවනා හැඟීම නැවත නැවතත් කරමින් ඒක අපිටම වර්තමාන වශයෙන් දැකගන්න ලැබේවා කියන ප්‍රාර්ථනය ඇති කරගෙන මේ ජීවිතයෙන් ලබාගත යුතු ඒ ශාන්ත සුන්දර තත්ත්වයට යන්න මේ ධර්ම කොට්ඨාශයත් තමතමන්ගේ අත්දැකීමත් හේතු වේවා! වාසනා වේවා! කියන ප්‍රාර්ථනාවෙන් යුක්තව අදට නියමිත ධර්ම කොට්ඨාශය මෙතෙකින් සමාප්ත කරනවා.

# 81 | තණ්හා මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජතිඃ කත්ථ නිවිසමානා නිවිසති.**

**රූපතණ්හා ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. නේවාසික අනිකුත් උපාසක මහත්වරුත් සම්බන්ධ කරගෙන මහා සතිපට්ඨාන සූත්‍රයත් ඉදිරිපත් කරගෙන පවත්වාගෙන එනු ලබන ධර්ම දේශනා මාලාවේ අද මේ අපි රැස් වෙන්නේ 81 වෙනි වතාවටයි. මේ වෙනකොට අපි මූලික සතිපට්ඨාන ක්‍රම තුන හමාර කරලා අවසාන ධම්මානුපස්සනා සතිපට්ඨානයට ඇවිත් ඉන්නේ. එයිනුත් දැන් සච්ච පබ්බයේ දෙවෙනි සමුදය සත්‍යය, නැත්නම් දුක්ඛ ආර්ය සත්‍යය පහු කරගෙන සමුදය ආර්ය සත්‍යය ඉදිරිපත් කරගෙන එහි විස්තරයටයි එළඹිලා තියෙන්නේ.

දුක්ඛ ආර්ය සත්‍යය විග්‍රහය දීර්ඝ වශයෙන් විස්තර වෙන සතිපට්ඨාන සූත්‍රයේ අනිකුත් බොහෝ සූත්‍රවල තැන් තැන්වල කොටස් වශයෙන් සඳහන් වන දේවල් එක දිගට රේඛීය සම්බන්ධතාවකින් ඉදිරිපත් කරලා තියනවා බොහෝමත්ම තාර්කික ස්වරූපයකින්.

තේරුම්ගැනීමේ පහසු ස්වභාවයකින්. නමුත් ඒකෙන් අදහස් වෙන්නේ නෑ මේවා ඉතාම ලේසියෙන් තේරුම්ගන්න පුළුවන් කොටස් කියලා. නමුත් යම් කිසි කෙනෙක් තේරුම්ගන්ට උත්සාහ කරනවා නම් මේ ජීවිතයේදීම මේක සාක්ෂාත් කරගන්ට ඕනෑ කියලා, අනිකුත් සූත්‍රවලට වඩා විස්තරාත්මකව ක්‍රමික රේඛීය විස්තරයක් මෙහිදී අපට හමු වෙනවා. නමුත් ඒක විස්තර කැමති කෙනා විසින් ඊට අදාළ අනෙකුත් සූත්‍ර මාර්ගයෙන් මේ එක එක පුරුක එළිය වට්ටාගන්න ඕනෑ.

භාවනා ජීවිතයකට කොහොමද මේක සම්බන්ධ වෙන්නේ, නැත්නම් සිල්වන්ත ජීවිතයකට කොහොමද සම්බන්ධ වෙන්නේ, සමාධිමත් ජීවිතයකට කොහොමද සම්බන්ධ වෙන්නේ ආදී වශයෙන් විවිධ පැතිවලට විහිදී යන හැටි අනිකුත් සූත්‍රවල සඳහන්. මේ සමුදය සත්‍ය පර්වයේ, නැත්නම් සමුදය සත්‍යය විග්‍රහ කරන මේ පුරුකේ සෑම තැනකදීම **සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති කත්ථ නිවිසමානා නිවිසති.** මේකෙන් තමයි මේ මාතෘකාවට බැසගැනීම සිද්ධ කරන්නේ. ඒක ධෘව පදයක් වශයෙන් ධෘව ප්‍රත්‍යයක් වශයෙන් නැවත නැවතත් ඉදිරිපත් කරමින්, ඒ ඉදිරිපත් කරන ප්‍රශ්න වාරයක් පාසා තෘෂ්ණාව ඇති වෙන්න පුළුවන් බව සඳහන් කරනවා. වෙන විදියකට කියනවා නම්, හැමෝටම වැටහුණා හෝ නොවැටහුණා හෝ වේවා, සර්වඥතා ඥානයට වැටහෙන ක්‍රමික පිළිවෙළකට එක එක පදය ගානේ පියවර ගානේ විස්තර කරගෙන යනවා හරියට ක්‍රම ක්‍රමයෙන් මහා මුහුද ගැඹුරු වෙන්නා සේ.

අපි ගිය සතියේ ඉදිරිපත් කරගත්තේ අවසාන වතාවට මේ චේතනා කියන පදය. මේක සංචේතනා වශයෙන් සඳහන් කරනවා. නැත්නම් **සංඛත, අභිසංඛත, අභිසංචෙතයිත** කියන පද සමාන පද වශයෙන් සඳහන් කරනවා. ඒක නිසා අපි ඒක කෙළින්ම සම්බන්ධ කළේ පංච උපදාන ස්කන්ධවල සංස්කාර ස්කන්ධයට. අභිධර්මයේ චෛතසික බෙදලා දක්වන ක්‍රමයටත් ඒ ආචාර්යවරු පවා පිළි අරගන්නවා චෛතසික සාකල්‍යයෙන්ම 52 ක් තියනවා නම්, සඤ්ඤා වේදනා කියන චෛතසික දෙක ඇරුණාම අනෙකුත් සියලුම චෛතසික වැටෙන්නේ සංස්කාර ස්කන්ධයට. එයින් ප්‍රධාන ආසන්න උත්සන්න චෛතසිකය තමයි චේතනාව. මේක කරන්නෙ මොකක්ද? ප්‍රයෝග කරනවා. සංවිධාන

කරනවා. මෙහෙයවනවා. මෙන්න මේ මෙහෙයවීම තමයි අපි පුද්ගල වශයෙන් ගත්තොත් අපේ චරිතය වශයෙන් අපි හඳුනාගන්නේ, ඒ පුද්ගලයාට මෙන්න මේ විධියේ සංවිධාන ශක්තියක් තියනවා, මෙන්න මේ විධියේ මෙහෙයවීමක් තියනවා කියල.

නමුත් මේ මෙහෙයවීම කවමදාවකවත් නිවනට නම් නෙමෙයි. හැමදාම මෙහෙයවීම පවතින තාක් කල් මෙහෙයවන්නේ සංසාරයටමයි. ඒක නිසා චේතනා චෛතසිකය ගැන ඉගෙනගන්නකොට තමා පිළිබඳව ස්වයං විවේචන පූර්වකව මේ සාන්දෘෂ්ටික ධර්මය අකාලිකවම අපිට මේ ජීවිතයෙම සාක්ෂාත් කිරීමේ අදහසින් ගත්තොත්, චේතනාව අපට සුභ පැත්තෙන් හොඳ පැත්තෙන් ප්‍රගතිශීලී පැත්තෙන් ගන්න පුළුවන්. එහෙම නැති කෙනෙකුට ධර්මය කොච්චර හදාරුවත් ඒක ගැන හිත යොදලා කටයුතු කළත් චේතනා චෛතසිකය තාමත් වංචනිකව ක්‍රියාත්මක වෙන්න පුළුවන්, මේ ධර්මයත් සංසාරය වඩන්න. මෙතනදී කියනවා සංසාරය වැඩෙන අනෙකුත් සංස්කාරයක් විධියට ධර්මයත් ගන්න පුළුවන්. මේක හරියට සර්පයෙකුගේ අල්ලනවා නම් බෙල්ලෙන් අල්ලෙන්ටයි කියලා කියනවා. නැත්නම් සතා කනවා.

ආන්න ඒ තත්ත්වය පැත්තෙන් බලනකොට චේතනාව වංචනික වශයෙන් වැඩ කරන ආකාරයත් ඍජුව මධ්‍යම ප්‍රතිපදාවට වැටෙන විධියට වැඩ කරන ආකාරයත් ගත්තාම අර කලින් කියපු විධියට ඒක දර්ශනයටත් සම්බන්ධ වෙනවා. සීලෙටත් සම්බන්‍ධ වෙනවා. සමාධියටත් සම්බන්‍ධ වෙනවා. අනෙකුත් ධර්ම එක්ක, අනිකුත් ශාස්තෘවරුන්ගේ එක එක ධර්ම කොටස් එක්ක සම්බන්ධ කරනකොටත් වැටහෙනවා කොච්චර නම් ගැඹුරක්, කොච්චර නම් සංකීර්ණ භාවයක් ඇති වෙනවාද, ඒ වගේම වැරදියට ගත්තොත් කොච්චර නම් නොමග යනසුලු ගතියකුත් ඇති වෙනවාද, ඒ වගේම හරියට මේක අවබෝධ කිරීමෙන් ඉබේම වැටහෙන තත්ත්වයකුත් ඇති වෙනවාද කියලා.

ඒකෙදි අපි ගිය සතියේ මතු කරගත්තේ යම්ම පාපතර දුක්ඛදායක යම් කටයුත්තකට අපි සම්බන්ධ වෙනවා නම්, මම සම්බන්ධ වෙනවා නම් එතනදී චේතනා විශාල කෘත්‍යයක් ඉෂ්ට කරනවා. මෙහෙයවීම, යෙදවීම, සංවිධානය කරවීම, විශාල වශයෙන් කරන නිසා විශාල

ගොරෝසු කර්ම රාශියක් රැස් කරනවා, **චෙතනාහං භික්ඛවෙ කම්මං වදාමි** කියන මූලික සමීකරණයට අනුව. නමුත් ඒ පුද්ගලයා ඒ බව දැන හෝ නැත්නම් ගුරුවරුන්ගේ සත්පුරුෂයන්ගේ ඇසුර නිසා මීට වඩා හොඳයි කුසල පක්ෂය, පාප පැත්ත කලබල පැත්ත අමතක කරලා කුසල පැත්තෙ මොනම දේක හෝ දක්ෂකම උපදවාගන්නවා නම්, ඒ අකුසල පැත්තෙන් මිදිලා දක්ෂ පැත්තට යන්ට යනකොට ඒ පුද්ගලයා දුක පැත්තේ ඉඳලා ක්‍රමයෙන් සුබ පැත්තට එනවා. කළු පැත්තේ ඉඳලා ක්‍රමයෙන් සුදු පැත්තට එනවා. එනකොට ඒ චේතනාවල සංහිඳියාවක් ඇති වෙනවා. අර තරම්ම **කලහ විවාද තුවං තුවං පෙසුඤ්ඤං** ආදී විධියට කලහ විවාද කරන, අනුන්ට තෝ තෝ කියලා බනින්ට වෙන තත්ත්ව අමතක වෙලා ටිකක් චේතනා තාම වැඩ කරනවා. නමුත් චේතනාවල අරිට වැඩිය හික්මීමක් අඩු වීමක් සංහිඳියාවක් සිද්ධ වෙනවා.

මේ තමයි ඒ පුද්ගලයාට මෙලොව වශයෙන් අත්දකින්නට හම්බ වෙන ලොකුම ශාන්තිය. හිතේ අවිප්පටිසාර භාවය ඇති වෙනවා. සමාධිය පැත්තට නැඹුරුවක් ඇති වෙනවා. ආන්න ඒ දුක පව අකුසලය අමතක කරලා සුබ සැප කුසල පැත්තට යනකොට චේතනාවල, නැත්නම් සංස්කාර කිරීමේ සංස්කරණය කිරීමේ අඩු භාවය ඉස්සර වෙලාම වැටහෙන්නේ තමන්ටයි. මේ අතරමැද අකුසලයෙන් කුසලයට, පාපයෙන් පිනට, කළු පැත්තෙන් සුදු පැත්තට, දුක පැත්තෙන් සුබ පැත්තට යන්ට සෑම මනුෂ්‍යයෙක් තුළම ලොකුම අවශ්‍යතාවක් තියෙනවා. මේක තමයි සදාචාරය කියල ගන්නේ. ආගම කියල ගන්නේ. හැදියාව කියලා ගන්නේ. අධ්‍යාත්මය කියල ගන්නේ. කොයි එකටත් බොහොමදෙනෙක් අතර හොඳින් නරක වෙන් කරගැනීම සම්බන්ව ලොකු උවමනාවක් තියනවා.

ඇත්තටම ඒක නොවෙයි සර්වඥයන් වහන්සේ ලෝකයට පහළ වීමේ පරමාර්ථය. ඒක නොවෙයි සර්වඥයන් වහන්සේ ලෝකයට පැමිණිලා කරන්න බලාපොරොත්තු වෙච්ච ප්‍රධාන වැඩේ. උන්වහන්සේ බලාපොරොත්තු වුණේ සැප අතහැරලා, සැප දුක දෙකම නැති සුබ දුක්ඛ පැත්තට තියන ගැඹුර පෙන්නලා දෙන්ටයි. නැත්නම් හොඳින් නරක වෙන් කර දැනීමට වඩා, හොඳින් වඩා හොඳ තේරුම්ගන්ටයි. මොකද, මේක පුළුවන් වෙන්නේ මනුෂ්‍යයාට විතරයි. මොනම සතෙකුටවත් මේක

තේරෙන්නේ නෑ. සහජාසයෙන් එන ගතිය තමයි සතා ගාව තියෙන්නේ. කවදාවත් වයස එක්කවත් පුහුණුවක් එක්කවත් ඒ සහජාසයේ වර්ධනයක් සතුන් තුළ වෙන්නෙ නෑ. වුණාට ඒක නිවන් දකින මට්ටමට කවදාවත්ම ගන්ට බෑ. මනුෂ්‍යයා තුළ තියනවා හොඳ නරක දෙක වෙන් කර ගැනීමේ හැකියාව කියන මේ බාලාංශ පන්තියේ පාඩම තේරුම්ගත්තට පස්සේ හොඳින් වඩා හොඳ තේරුම්ගැනීම. මේකට කියන්නේ සුඛයට පස්සේ අදුක්ඛමසුඛ, සුඛ දුක දෙක නැති තැනට පත් වෙනකොට, විශේෂයෙන්ම අනික් චෛතසිකවලට වඩා පුදුමාකාර සංහිඳියාවක් චේතනාවල ඇති වෙනවා.

එතෙනදි තමයි අර "සුම්මා ඉරි" කියන කථාව එන්නෙ. එතකොට අර මුලින් වගේ තදබල කලහ විවාද වාද පටලැවිලි ඇත්තෙත් නෑ. තමන්ගේ කාය සංස්කාර වචී සංස්කාර මනෝ සංස්කාරවල ලොකු ලොකු සංකරතා ලොකු ලොකු සංකීර්ණතා ලොකු ලොකු විෂමතා ඇත්තෙත් නෑ. යම් විදියකට හික්මීමක් ඇති වෙලා සුඛ දුක්ඛ දෙකම අතහැරලා උපේක්ෂාවට යනකොට ලෞකික වශයෙන් විස්තර කරල දෙන්න පුළුවන්, සමාජමය වශයෙන් දකගන්න පුළුවන්, ඒ වගේම තමන්ට වචනයෙන් විස්තර කරන්න පුළුවන් ලොකු හැදියාවක් ඒ අදුක්ඛමසුඛයට උපේක්ෂාවට යනකොට සිද්ධ වෙනවා. චේතනාවල විශාල සංහිඳියාවක් සිද්ධ වෙනවා. මෙන්න මේක තමයි අද විස්තර කළ යුතුව තියෙන්නේ.

මම ප්‍රධාන වශයෙන් පිළිගන්නවා නිස්සරණ වනය තියෙන්නෙ ඔන්න ඔතනයි කියල. හොඳ නරක දෙක තේරුම්කරලා දීම අපේ යුතුකම වශයෙන් භාරගන්න වෙනවා. නමුත් ඒක නෙවෙයි අපේ ප්‍රධාන අත්‍යන්ත කෘත්‍යය. අපිට තියෙන්නෙ හොඳින් වඩා හොඳ වෙන් කරගන්නයි. එතකොට වැඩේ තමන් ළඟට එනවා. එතකොට වැඩේ වර්තමාන මොහොතට එනවා. එතකොට වැඩේ මෙතනදීම වෙනවා. මෙතැනදී වෙන්නෙ නැත්නම් කවදකවත් ඕක වෙන්නෙ නෑ. දැන් වෙන්නෙ නැත්නම් කවමදකවත් වෙන්නෙ නෑ. මා තුළ වෙන්නෙ නැත්නම් කවුරුත් තුළ වෙන්නෙ නෑ. අන්න ඒ විදියට මම දැන් මෙතනදී ශුද්ධිය ලබන්නට ඕනෑ මොකෙන්ද? අනවශ්‍ය චේතනාවලින්, අනවශ්‍ය සංස්කාරවලින්, අනවශ්‍ය සංස්කරණය කිරීම්වලින්. මේක අර විධියට

සැප දුක, නැත්නම් පව් පින් දෙකවත් හඳුනාගෙන නැති කෙනාට හිතාගන්න අමාරුයි. පව් පින් දෙක හඳුනාගත්ත කෙනා හොඳින් වඩා හොඳ තේරුම්ගැනීමේදී **උජු** වෙලා මදි **සූජු** වෙනකොට අන්න චේතනා පිළිබඳව ලොකු වගකීමක් තමන්ට ඇති කරගන්ඩ වෙනවා. නමුත් ඒ චේතනා පිළිබඳව අඩු කරන්නට හෝ උපේක්ෂා මට්ටමට ගන්නට හෝ ප්‍රාර්ථනා පමණින් සිද්ධ වෙන්නේ නෑ. ලෝකෙ සඳහන් කරන පින්කම්වලින් කොරන්ඩත් බෑ ඔය වැඩේ. ඒක කරන්ඩ නම් සතිපට්ඨාන සූත්‍රයේ සඳහන් වෙන විධියට ඒ සඳහා ඇත්තා වූ තාක්ෂණික, ඍජු රේඛාමය හෝ මොනම ක්‍රමයකට පෙන්නන මේ ක්‍රියා පටිපාටිය හොඳට තේරුම් අරගෙන, සම්‍යක් දෘෂ්ටියෙන් හොඳට තේරුම් අරගෙන ඒ අනුව කටයුතු කරන්න ඕනෑ.

යෝගාවචරයෙක් විපස්සනාව දිගේ දියුණු වේගන යනකොට මේ පුද්ගලයා පුදුම තාලෙට එහා පැත්තට මෙහා පැත්තට අඹරලා බැදලා කරලා කපල කොටලා සුද්ධ කරන ආකාරය දිහා බලනකොට ඉතාමත්ම අමාරුයි කාටත් පොදු එක ක්‍රමයක් කියලා දෙන්ට. මුලදී පවින් පින වෙන් කරනකොට නරකින් හොඳ වෙන් කරනකොට කළුවෙන් සුදු වෙන් කරනකොට විශාල ශක්ති ප්‍රමාණයක් වැය කරන්න ඕනෑ. ඒ මොකද, මේ නොසන්ඩාල නන්නත්තාර වෙලා තියෙන මේ චේතනා සියල්ලම ගොනුවක් ඇති කරගන්න ඕනැ. ඒක මහා විශාල යාන්ත්‍රණයක්. ඊට පස්සෙ කුසලයෙන් අධිකුසලයට, ශීල අධිශීල, චිත්ත අධිචිත්ත, පඤ්ඤ, අධිපඤ්ඤ, උජු සූජු සුපටිපන්න උජුපටිපන්න ආදී වශයෙන් විශාල වූ සමාන්තර ගුණ රාශියක් පෙන්වනවා මේ ශාසනයට බැසගත්ත ඇත්තන්ට. අන්න එතනදී මේ වැඩ පිළිවෙළේදී අර තරම්ම තදබල වීර්යයක් හෝ ඉතාම දත්මිටිකන කිහිල්ලෙන් දඩිය දන වීර්යයක් අවශ්‍ය කරන්නේ නෑ. එතකොට අවශ්‍යව තියෙන්නේ අර ඇති කරගත්තා වූ කළු පැත්තෙන් සුදු පැත්තට ගත්ත දේ දිගට පැවැත්වීම සඳහා යම් ප්‍රමාණයක වීර්යයක්.

මේ දේ පුහුණු වුණාට පස්සේ මේ පුද්ගලයා සැප දුක් දෙක නැති තැනට යන්ඩ නං එක විධියකට අර මෙතෙක් කරපු දැඩි වීර්ය සම්පූර්ණයෙන්ම බහා තබලා, වෙච්ච දේ වෙන දේ පිළිබඳව නිශ්ශබ්දව බලා ඉන්න මට්ටමට, ඇඟිලි නොගැසීමේ අනුන්ගේ කුණු කන්දල්වලට

ඇඟිලි නොගැසීමේ ප්‍රතිපත්තියක්, නැත්නම් සුද්ධ කරන්ඩ හෝ අවුල් කරන්ඩ හෝ නොගොහින් මොනවත් නොකර සිටීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කරන්න වෙනවා. ඒක හරියට අර කළු සුදු වෙන් කරන වෙලාවේදී හැම දේටම ඇඟිලි ගහමින් හැම එකම අවුස්සමින් විශාල ශක්ති ප්‍රමාණයක් වැය කරනවාට හාත්පසින්ම විරුද්ධයි. මේ අවසාන පරිච්ඡේදයට යනකොට ඒ පුද්ගලයාට තියෙන්නේ මේ සිද්ධිය දිහා ඇත්ත ඇති සැටියට ඒ දිහා බලා සිටිමෙන්ම සිද්ධියෙන් විමුක්තියක් ලබන ගතියක්.

ඒ නිසා සෝතාපත්ති මාර්ග ඤාණය පිළිබඳව ආස්‍රව ධර්ම කැපීමේදී සබ්බාසව සූත්‍රයේ සඳහන් කරන්නේ **දස්සනා පහතබ්බා** - දැකීමෙන්ම මේක ප්‍රහාණය කළ යුතුයි. නමුත් සෝතාපත්ති මාර්ගයට පිවිසෙනකොට මුලදි නීවරණ ධර්ම අයින් කරලා අරමුණේ ස්වභාව ලක්ෂණ මතු කරගන්න වෙලාවෙදි, ඊගාවට අරමුණ තුළින් මහාභූත ධර්ම, නැත්නම් ඒ ධර්ම කොට්ඨාශ සන්තති වශයෙන් මතු කරගන්නකොට, අවසානයේදී ඒ සියල්ලම ත්‍රිලක්ෂණ වශයෙන් ගෙවා දමලා අරමුණෙන් සම්පූර්ණ විමුක්ත වෙනකොට, ඒ අවස්ථා තුනේ යෙදවුම, ප්‍රයොග, ඒ තුනේ ඇත්තා වූ මෙහෙයවීම් කටයුතුවල ප්‍රධාන පරිණාමයක් ඇති වෙනවා. ඒක සමහර වෙලාවට යෝගාවචරයට එක පර්‍යංකයේදී අරමුණ විෂයෙහි දක්වන ආකල්පවල, මුලදී ඉතාමත්ම සටන් කරලා ලබාගන්නා භූමිය ඊගාවට ආරක්ෂා කරලා අන්තිමේදී ඒක පිළිබඳව උපේක්ෂකව ඒක දිහා හොඳට බලා සිටීමෙන් මේ ත්‍රිලක්‍ෂණය මතු කරගැනීමේ වැඩපිළිවෙළ තර්ක ඥානයෙන්ම නම් කවදකවත් කරන්න බෑ. ඒ වාගේම ගුරුවරයට නම් කවමදවත් කරලා දෙන්ඩ බෑ. ඇදහිල්ලෙන් කරන්ඩත් බෑ. නිකං ඉඳලා කරන්ඩත් බෑ. අමුතුම ජාතියක මේ ජීවිතයේම නිවන් දකිනවා කියන විදියේ ලොකු යෙදවුමක් ඇති කෙනෙකුට විතරක් කරලා කරලා කරලා කරලා මෙන්න මෙහෙමයි මේ වෙලාවේදී කළ යුත්තේ කියන අදහස ඇති කරගන්ට පුළුවන්.

ඒක නිසා සූත්‍ර පිටකයේ ඉතාමත් කලාතුරකින් තමයි ඒ මුල් අවධියේ යෝගාවචරයාටත් අවසාන අවධියේ යෝගාවචරයාටත් පොදුවෙ ගැළපෙන උපදෙස් පන්තියක් දීලා තියන්නෙ. මේක ගැටගහන්ඩ දෝ තමයි අටුවාවත් පසු පස්සේ ඇති වෙච්චි කොටසුත් මේ සියල්ලටම

හරියන්න එක කෝකටත් තෛලයක් හදන්න පටන්ගත්තා. එතකොට පැටලෙනව. මොකද ආරම්භක යොගාවචරයාට දෙන උපදෙසුත් අවසානයේ මාර්ග ඥානයට කිට්ටු කරන්නා වූ යොගාවචරයාට දෙන උපදෙසුත් අතර ලොකු වෙනසක් තියෙනවා. සමහර වෙලාවට කළු සුදු වෙනසක් තියෙනවා.

ආන්න ඒ නිසා ප්‍රධාන වශයෙන් මම බලාපොරොත්තු වෙනවා අද කථා කරන්ඩ චෛතසික දෙකක් අරගෙන. එකක් තමයි වීර්ය චෛතසිකය, අනිත් එක සතිය කියන චෛතසිකය. මේ චේතනාවල කළු සුදු වෙන් කරගන්නා අවස්ථාවේ චේතනාවලුත්, කළුවට වඩා කළුවලින් සුදුව තෝරාගෙන සුදුවටත් වඩා කළු සුදු දෙකම නැති උපේක්‍ෂා වේදනාවට යන හැටිත් එයින් ගැලවෙන හැටිත් බලනකොට කළු සුදු වෙන් කරන අවස්ථාවේදී අපිට සතිය කොහොමද වැටහෙන්නෙ? කොහොමද එයට ක්‍රියා කළ යුත්තේ? වීර්යය සම්බන්ධයෙන් කොහොමද අපි ක්‍රියා කළ යුත්තේ? ඊගාවට මේ දෙකෙන් සුදු පැත්තට හරි පැත්තට වැටුණට පස්සේ ඒක බොහෝ කාලයක් පවත්වාගැනීම සඳහා කොහොමද වීර්යය ක්‍රියාත්මක වෙන්ඩ ඕනෑ, කොහොමද සතිය ක්‍රියාත්මක වෙන්න ඕනෑ, අවසානයේ මේ දෙකම අයින් කරලා දලා කළු සුදු දෙකම නැති උපේක්‍ෂක වේදනාවට පත් වුණාට පස්සේ ඒ තුළින් ත්‍රිලක්‍ෂණය මතු කරන යෝගවචරයා කොහොමද සතිය පිහිටුවන්න ඕනෑ, කොහොමද සතිය ක්‍රියාත්මක කරන්නේ, කොහොමද වීර්යය ක්‍රියාත්මක කරන්නේ කියන එක බොහෝම ප්‍රසිද්ධ ග්‍රන්ථාරූඪ ධර්මවලින් හොඳට පෙන්වලා දෙන්න පුළුවන්.

අපි දන්නවා සතිය ආරම්භක අවස්ථාවේදී, නැත්නම් භාවනා යෝගාවචරයෙක් විපස්සනාවකට පෙළඹෙන වේලාවේදී ඒ යෝගවචරයාට මූල කර්මස්ථානයක් දෙනවා. පර්යංකයේ ඉන්නකොට ආශ්වාස ප්‍රශ්වාසය හෝ පිම්බීම හැකිළීම හෝ වෙන යම් කායගතාසති අරමුණක් දෙනවා. සක්මන් කරනකොට වම් පියවර දකුණු පියවර වශයෙන් තමන් චේතනා පූර්වකව කරන වැඩේ අල්ලගන්ඩ උත්සාහ කරනවා. එදිනෙද වැඩ කරනකොට යනකොට එනකොට කනකොට බොනකොට ඒ කරන සෑම දේකදීම සතිය පිහිටුවන්න උත්සාහ කරන්න කිව්වාම ගෙදරදොරේ අඹුදරුවන් රකිමින් හෝ රැකීරක්‍ෂා ව්‍යාපාර

ගොවිතැන් කටයුතු කටයුතු කරමින් හෝ ගෙදර සුමේ කටයුතු කරමින් ඉන්න කෙනෙකුට කවමදවත් හිතාගන්න බෑ මේ තුන්ඉරියව්වේ සතිය පවත්වන්න පුළුවන් වෙයි කියලාවත්. ඒක පවා සැක කරනවා. ඒ තරම්ම අසතියෙන් අමනසිකාරයෙන් තමයි එදිනෙද වැඩ කරන්නේ. එහෙම ඇත්තෝ තමයි අද රජ කරන්නෙ ලෝකෙ. එහෙම ඇත්තෝ තමයි ප්‍රධාන විනිශ්චයකාරයෝ වෙලා තියෙන්නේ. එහෙම ඇත්තෝ තමයි යුක්තිය පසිඳ ලන්නේ.

නමුත් යෝගාවචරය බෑ කියන මේ කටයුත්තට ගුරු පරපුර දැකලා හෝ සත්පුරුෂයන් දැකලා හෝ බුදුරජාණන් වහන්සේගේ අධිෂ්ඨාන ශක්තිය නිසා හෝ උපනිශ්‍රය සම්පත්තියක් නිසා හෝ බැසගත්තාට පස්සේ, අර ලේනා මුහුද හිඳින්න ගන්න ප්‍රයත්නය වාගේ විශාල ප්‍රයත්නයක් ගන්න වෙනවා. ඒ ප්‍රයත්නය මම සකච්ඡා කරන්න බලාපොරොත්තු වන අනික් චෛතසිකයත් එක්ක බොහෝම සම්බන්ධයි. මොකක්ද? වීර්ය චෛතසිකයත් එක්ක. ඒ පුද්ගලයට සිද්ධ වෙනවා සීලයක පිහිටන්න. සීලයක පිහිටනකොට මෙතෙක් පුරුද්දට හෝ අවශ්‍යතාව සලකලා සතුන් මැරුවා නම්, වෙන කවුරුවත් කිව්ව නිසා නෙවෙයි, දඩයක් නිසා නෙවෙයි, රජුන් දැකපු නිසා නෙවෙයි, හොරෙන් නෙවෙයි - සතුන් නොමරමියි කියන ආකල්පයට එන්න වෙනවා. මම සතුන් මැරීම සම්පූර්ණයෙන් පාලනය කරනවා කියන හික්මීම ගන්න වෙනවා. හොරකම් කිරීම ගැන හිතන්න වෙනවා. කාමයේ වරදවා හැසිරීම ගැන හිතන්න වෙනවා. බොරු කේලම් හිස් වචන පරුෂ වචන තමයි හුඟක්ම අමාරුම දේ යෝගාවචරයාට තේරුම් කරගන්ඩ. අනිත් ගමන මත් ද්‍රව්‍යවලින් වැළකීම.

ඊට පස්සේ මුළු ජීවන රටාවම ආජීවයම තමන්ට පිරිසිදු කරගන්ට වෙනවා. මේක බොහොම බරපතළ වැඩක්. මේ දේ කරන අතර, තමන් මෙතෙක් කල් පුහුණු පුරුදු කරමින් හිටපු මුදල් ඉපයීමේ වැඩපිළිවෙළ, ඥාතීන් සමඟ අල්ලාප සල්ලාප පැවැත්වීම සම්පූර්ණයෙන්ම කපා දැමීමයි, මේ සීලයක පිහිටීමයි කියල කිව්වහම විශාලම දුෂ්කරම අවස්ථාව තමයි මේවා පිළිබඳව සතිය අවුළුවගන්න වැඩේ. තමන්ගේ ජීවිතේට සම්බන්ධ කරගත්න වැඩේ ඉතාමත්ම දුෂ්කරයි. බොහෝදෙනා බෑ කියලා කියන තරමට යනවා. මේ නිසා ඒ වෙලාවේදී යෝගාවචරයාට හුඟක් සිතුවිලි

වශයෙන් හෝ වචන වශයෙන් හෝ ක්‍රියා වශයෙන් හෝ කාය සංඛාර, වචී සංඛාර, මනෝ සංඛාරවල පැහැදිලි පරිණාමයක් ලොකුම පිපිරීමක් සිද්ධ වෙනවා. මේ සඳහා විශාල ශක්ති ප්‍රමාණයක් අවශ්‍යයි. ඒකට කියනවා ආරම්භ ධාතු කියල. වැඩේ පටන්ගන්න අවශ්‍ය කරන ශක්තිය. සතිය පිහිටුවීමට පටන් අරගන්න ශක්තිය. කරන්න බෑ කියල හිතෙන තරමේ සතියක් පිහිටුවීමට ගන්න ශක්තිය.

මේකට මට උපදෙස් දීපු ගුරුවරයෙක් දීපු උපමාව තමයි හඳට යන්න පිටත් කරපු රොකට් යන්ත්‍රයක් - පොළවේ දැඩි ආකර්ෂණ ශක්තියට බැඳිලා තියන රොකට් යන්ත්‍රය පොළවෙ ආකර්ෂණ ශක්තියෙන් පොඩ්ඩක් මෑත් කරගැනීම සඳහා දවන ඉන්ධන ප්‍රමාණය මුළු ගමනටම යන ඉන්ධන ප්‍රමානයෙන් සියයට අසූවක් විතර වෙනවා. මහ පොළව දෙදරවාගෙන පුපුරුවාගෙන, මනුෂ්‍යයෙක් ළඟ ඉන්ඩ බැරුව සම්පූර්ණ ස්වයංක්‍රියවම සිදු විය යුතු මහා පිපිරීමකින් තමයි මේ විශාල රොකට් යන්ත්‍රය මහ පොළවෙන් සැතපුම් හයක් විතර උඩට උස්සන්නේ. ඒක සඳහා අඩි එකසියගානක් විතර උස ඒ යන්ත්‍රය අඩි 80 ක් 90 ක්ම පිච්චිලා දැවිලා යනවා. ඒ තරමටම ඉන්ධන ප්‍රමාණයක් දවනවා එතෙනදී මහ පොළවේ ආකර්ෂණ ශක්තියෙන් කඩන්න.

අන්න ඒ වගේ තමයි අසතියෙන් හිටපු නන්නන්තාරව හිටපු හිතට යන්තම් සතිය හඳුන්වා දීලා, කාමයේ තියෙන ආකර්ෂණ ශක්තියෙන් කඩාගෙන ආධ්‍යාත්මික පැත්තට යන්ඩ විශාල පිපිරීමක් සිද්ධ වෙනවා. මේක වීර්‍ය පැත්තෙන් බලනකොට ආරම්භ ධාතු කියල සඳහන් කරනවා. සතියෙ මේ කොටස ඉතාමත්ම වෙහෙසකරයි. ඊට පස්සේ මේ පුද්ගලයා සම්පූර්ණ ජීවන රටාව වෙනස් කරලා සීලයක පිහිටලා අරමුණක හිත පිහිටුවන්න ගියපුවහම ඒ කාර්යය හරියට දුවන අශ්වයක් උඩ අළු පුහුල් ගෙඩියක් තියන්ඩ හදනවා වගෙයි. මොනම තාලෙකටවත් එක වර පිම්බීම් හැකිළීම් දෙකතුනක හිත හිටින්නේ නෑ. ආශ්වාස ප්‍රශ්වාස දෙකතුනක හිත හිටින්නේ නෑ. විනාඩි පහක දහයක කය තැන්පත් කරලා තියා ඉන්න බෑ. හැම වෙලාවෙම මේක එහාට දඟලනවා, මෙහාට දඟලනවා. ඉතින් මේ යෝගාවචරයා එතනදි මහ විශාල සටනක යෙදෙන්නේ. සාමාන්‍ය ලෝකයාත් මේකට බොහෝම උපහාසාත්මකව

සලකනවා. කරන්ඩ බැරි වැඩ කරලා නිකන් පිස්සු හදාගන්න හදනව කියලා.

නමුත් යෝගාවචරයා ධර්ම සාකච්ඡා නිසා හෝ ධර්ම දේශනා නිසා හෝ සත්පුරුෂ ආශ්‍රය නිසා හෝ කවදාහරි තේරුම් අරගන්නවා මෙතනට මේ වියදම මේ කැප කිරීම මේ ආයෝජනය නොකර අපිට කවදාකවත් ඇතුළතට ගමනක් ආධ්‍යාත්මික දියුණුවක් වෙන්නේ නෑ. විශාල කැප කිරීමක් කරන්න ඕනෑ. ඒ මොකද, මේ වෙලාවේදී දුකෙන් සැප වෙන් කරන, පවෙන් පින වෙන් කරන අවස්ථාවේදී විශාල චේතනා රාශියක් එක්ක සටන් කරන්ඩ වෙනවා. ඇත්තටම බාහිර සතුරෙක් එක්ක සටන් කරල බේරෙන්න නම් පුළුවන් අද කාලේ තියෙන ආයුධත් එක්කයි තාක්ෂණයත් එක්කයි. නමුත් මේ චේතනා මෙතෙක් කල් අපිම පෝෂණය කළ දේවල්. අපිම හිතාගෙන හිටපු හොඳ මත, අපිම හිතාගෙන හිටපු හොඳ මතාන්තර, අපිම හිතාගෙන හිටපු හොඳ සංකල්ප. නමුත් තමන්ට සතිය පිහිටුවනකොට තේරෙන්ඩ පටන් අරගන්නවා මෙතෙක් කිරි දීල තියෙන්නේ පෝෂණය කරල තියෙන්නේ විශාල විෂ ඝෝර සර්ප කොට්ඨාශයකට. මේ සත්ත්ව කොට්ඨාශය දකින්නත් සතිය අවශ්‍යයි. ඒ සඳහා සීලයක පිහිටන්නට ඕනෑ. මේ සාමාන්‍ය විධිය නම් නන්නත්තාර සිතුවිලි නතර කරන්ඩ වෙනවා. අන්න ඒ වෙලාවේදී යෝගාවචරයාට ලොකුම ලොකු පරිණාමයකට පෞරුෂත්වයේ ලොකු වෙනසකට රුචි අරුචිකම්වල ලොකු වෙනසකට පත් වෙන්නට වෙනවා. මේක පැවිද්දත් එක්කම නම් සිද්ධ වෙන්නේ, මේකේ සාර්ථක ප්‍රතිඵල නොලැබුණොත් පැවිද්දෙන් අවුරුදු දෙක තුන යනකොට සිවුරු අරින තරමට වෙන්න ඉඩ තියනවා.

ඒ නිසා අද තියනවා ඊට වැඩිය වෙනත් ප්‍රයෝගයක් - ගිහිව ඉඳගෙනත් මේ දේ කරන්න පුළුවන්. අපි කෙටි කාලෙකට භාවනා මධ්‍යස්ථානයකට ගිහිල්ලා ගිහි සම්බන්ධතා සම්පූර්ණයෙන්ම අමතක කරලා සීලයක පිහිටලා, උදේ හවස දවසේ පැය 24 න් භාගයකට වැඩිය කාලයක් සතිය පිහිටුවීමේ වැඩපිළිවෙළට ගත කරන්න ගියහම විශාල පරිවර්තනයක් හිතේ චේතනාවල මතිමතාන්තරවල සිද්ධ වෙනවා. අපි හිතමු යෝගාවචරයාගේ මේ ප්‍රයත්නය සාර්ථක වෙනවයි කියලා. සාර්ථක යෝගාවචරයෙක් නම් පර්යංකයේදී එක දිගට හුස්ම රැළි 4 ක් 5 ක් වත්

දැකගන්නට පුළුවන්. පිම්බීම හැකිළීම වාර 4 ක් 5 ක් දැකගන්න පුළුවන්. සක්මනේදී මේ කොනේ ඉඳලා එහා කොනට යනකල් පියවර මනින්ඩ පුළුවන්. පිණ්ඩපාතේ යනකොට හෝ ප්‍රධාන වැඩක් කරනකොට එහි සතිය පිහිටුවන්න පුළුවන්.

තැනින් තැනින් සතිය පිහිටුවන මට්ටම ආවට පස්සේ මහා සුළි සුළං වතුරකට කුණාටුවකට අහු වෙච්ච මනුෂ්‍යයෙක් යම්තම් ඔළුව නහය උස්සගත්ත වගේ පුංචි ශාන්තියක් එන්ට පටන්ගන්නවා. නමුත් සටන තාම දිගටම තියනවා. මුළු කඳම තාම තියෙන්නේ තෙරක් නොපෙනෙන වතුරේ. අන්න ඒ මට්ටමට ගියාට පස්සේ මේ යම්තම් ඇති කරගත්තා වූ සතිය එක දිගට පවත්වන්න නම් චේතනා සම්පූර්ණයෙන්ම නතර වෙන්න වෙනවා. මොනම චේතනාවක් ආවත් ඒක සතිය කඩනවා. මොනම චේතනාවක් ආවත් ඒක වීර්යය බාල කරනවා.

චේතනාව අපි එක පැත්තකට දනවා සංස්කාර වශයෙන්. ඒ සංස්කාර සංඛාර කියලා ගත්තට පස්සේ, සංස්කාර කිව්වම සිංහල සංස්කෘතිය පැත්තට බරයි. සංඛාර කිව්වම පාලියට බරයි. මේක තුන් ආකාරයකට තමයි කැඩෙන්නේ - කාය සංඛාර, වචී සංඛාර, මනො සංඛාර. කාය සංඛාරයට තමයි අපි භාවනාවේ හිත යොදන්නේ. කාය සංස්කාර කියන්නේ මොනවාද? ආශ්වාස ප්‍රශ්වාස දෙක. මේකට හිත යන්ඩ නම් වචී සංඛාර මනො සංඛාර තනිකර බාධාවක් වෙනවා. වචී සංස්කාර කියල කියන්නේ විතක්ක විචාර. අරමුණු රාශියක් දිගේ විවිධ අරමුණුවලට හිත නංවමින් සැණකෙළි පවත්වන එක තමයි නුපුහුණු හිතේ පුහුදුන් හිතේ හැටි. අන්න ඒ වචී සංස්කාරවල පවතින විතක්ක විචාර අරමුණටම මූල කර්මස්ථානයටම නැංවීම, මහ කුළු හරකෙක් අල්ලගෙන ගමට ගෙනාව වගේ. ඒකාගෙ කුළු ගතියට වනචර ගතියට සම්පූර්ණයෙන්ම ඔළමොළ දඩබ්බර ගති පානවා.

ඊගාවට සඤ්ඤා චේතනා දෙකත් පැහැදිලිවම බාහිර ලෝකයාගේ කටොලු කතාත් එක්ක තමන් තුළ ඇති වෙන්නා වූ ඔළමොට්ටළ අදහසුත් එක්ක, අර හැදෙන සතිය වැඩෙන වීර්යය පුදුම විධියට කඩලා බිඳලා දනවා කිරි බිම්මල් නැටි කඩන්නා වගේ. අල කොළ ලන්දක් කැති ගහලා දනවා වගේ. මේ නිසා යෝගාවචරයාට විශාල වශයෙන් සත්පුරුෂ ආශ්‍රය

අවශ්‍යයි. ධර්මයේම යෙදෙන්න වෙනවා. තමන් කරන සතිය තමන් වඩන වීර්යය අත්‍යවශ්‍ය බව තේරුම්ගන්ඩ වෙනවා. තේරුම්ගනිමින් අර ඇති කරගත්තා වූ, යාන්තම් ඇති කරගත්තා වූ සතිය දිගට පවත්වන්ඩ ලොකු වීර්යයක් අවශ්‍යයි. නමුත් ඒක අර මුල්ම වීර්යය තරම් බරපතළ නෑ සතිය දියුණු වෙනකොට. හැබැයි ඒකට ඥාණය මුසු වෙන්න ඕනැ. සතියේ මේ පරිණාමය දැනගෙන සිටීම මෙතැනදී බොහෝම වැදගත්. මේ කාලයේ හැටියට උපමාවක් දක්වතොත් වාහනයක ආරම්භයේදී පළමු ගියරයේදී හැතැප්මකට ඉන්ධන දහනය අධිකයි. ඉදිරි ගියර්වලදී හැතැප්මකට ඉන්ධන දහනය එන්න එන්න අඩු වෙනවා.

ඒ අතරම අනෙකුත් විවිධ අරමුණු බාධක අතර සතිය පවත්වන්නත් එන්න එන්න පහසු වෙනවා. ඒ කියන්නේ සීයට සීයක්ම නෙවෙයි. අතරමැද සිතිවිලි එනවා. වේදනාත් දැනෙනවා. සද්දත් ඇහෙනවා. නමුත් යෝගාවචරයා දන්නවා ඒ වේදනා, සිතිවිලි, සද්ද කියන ඒවා නන්නත්තාර වීම්, වල්මත් වීම්. මම නැවත නැවතත් අරමුණේ හිත පිහිටවන්නට ඕනැ කියලා ප්‍රයත්න කරනකොට යම් වෙලාවක ඇති වෙනවා තත්ත්වයක්, අරමුණෙත් හිත හිටිනවා. ඒ ඉන්නා අතරමැද ප්‍රබලව හෝ දුබලව වේගයෙන් සිතිවිලි පහළ වෙනවා. ප්‍රබල හෝ දුබල හෝ කාය වේදනා මතු වෙනවා. සද්ද ඇහෙනවා. නමුත් යෝගාවචරයා යම් වේලාවක හොඳ සිහි බුද්ධියෙන් කල්පනා කරලා බැලුවොත් මේ කලබල කන්කරච්චල් මැද්දේ තාමත් මූල කර්මස්ථානය තියෙනවා. මේ අවස්ථාව අද කර්මස්ථානාචාර්යවරුන්ට විග්‍රහ කරල දෙන්න පුළුවන් තත්ත්වය ඉතාම අඩුයි. විශේෂයෙන් මං කතා කරන්නේ විපස්සනා යෝගාවචරයෙක් ගැන.

මෙන්න මෙතැනදී ඒ යෝගාවචරයා නා නා විදියට මේ ප්‍රශ්නය අහනවා. මට සද්දයක් ඇහෙනවා. මම ඒ සද්දය විෂයෙහි මෙනෙහි කරන්න ඕනෑද? නැත්ද? ඒ මොකද, සමථ භාවනාවේදී කියන්නේ මෙනෙහි කිරීමක් අවශ්‍ය නෑ. ඔබ නැවතත් මූල කර්මස්ථානයට සිත යොදවන්න. විපස්සනා භාවනාවේදී කියන්නේ මූල කර්මස්ථානයට සද්දය බාධාවක් වෙලා ප්‍රකටව ප්‍රබලව එනවා නම් මෙනෙහි කරන්ඩ. එහෙම ප්‍රකටව එන්නෙ නැත්නම් මූල කර්මස්ථානය දිගේම පවත්වාගෙන යන්න. සිතිවිලි විෂයෙහිත් වේදනා විෂයෙහිත් මෙච්චරයි. මෙන්න මේ

අවස්ථාවෙ තමයි යෝගාවචරයාට ඉදිරිපත් කරගත්තා වූ මූල කර්මස්ථානය බොහෝ කොට පැවැත්වීම, පග්ගහිත වීරිය කියලා කියන, අතට ගත්ත දේ දිගට පවත්වා ගෙන යාමේ විශාල ඥානාන්විත වීර්යයත් මුසු සතියත් මුසු වැඩපිළිවෙළක් අවශ්‍ය වෙන්නේ.

මෙතනදී බොහෝදෙනා බොහෝ වැරදි කරනවා. නමුත් මේවා දඬුවම් කළ යුතු සිවිල් අපරාධ නෙවෙයි. බොහෝ වෙලාවට මූල කර්මස්ථානය පවතිද්දී එන සද්ද දිගේ කල්පනා කරල හිතට කනගාටු ගන්නවා. හිත කැඩුණාදෝ, භාවනාව කැඩුණාදෝ, සතිය කැඩුණාදෝ, සමාධිය කැඩුණාදෝ? මූල කර්මස්ථානය පවතිද්දීම වේදනා මතු වෙනවා. වේදනා එන එක හොඳ නෑ. වේදනාව මට එන්ඩ එන්ඩ වැඩි වෙනවා. දැන් සතියත් අඩු වෙලා මගේ සමාධියත් අඩු වෙලා කියලා චේතනා කරන්ඩ පටන්ගන්නවා. සංස්කාර ඇති කරන්න පටන්ගන්නවා. ඒ මොකද, දැන් මේ වෙලාවේදී චේතනා සංස්කාරවල විෂ මැරීගෙන එන වෙලාව. යෝගවචරයා අභීත හිතක් ඇති කරගන්ට ඕනෑ. යෝගාවචරයා පෙරදැක්මක් ඇති කරගන්ට ඕනෑ. තැනින් තැනින් මතු කරගත්තා වූ මූල කර්මස්ථානය ප්‍රකටව හෝ ප්‍රබලව හෝ හැම වෙලාවෙම තියෙන අවස්ථාවක් නම්, හිතන්ට ඕනෑ මේක සතියේ වර්ධනයක්, මේක සමාධියේ වර්ධනයක්, මේක චේතනාවල දුබල වීමක් කියලා.

ඒක නිසා සඳහන් කරනවා පරිපන්ථ ධර්මයක් වශයෙන් **අතීතානුධාවනං චිත්තං වික්ඛෙපානුපතිතං සමාධිස්ස පරිපන්ථො** - යම් වේලාවක අරමුණ හිතේ පවතිද්දීම අතීතය සම්බන්ධ සිතුවිල්ලක් ආවා නම් එතන අරමුණෙන් හිත ගැලවුණා. අතීත සිද්ධියක් ඉදිරිපත් වුණා. හිත පස්චාත්තාපෙට වැටුණා. සමාධිය කැඩුණා. නමුත් මේ මුළු සංසිද්ධියම සතියට අල්ලන්ඩ පුළුවන්. සතිය දන්නවා මූල කර්මස්ථානය වශයෙන් මම නාසිකාග්‍රයේ හෝ උදරයේ හිත තියාගෙන හිටියේ. ඒ වෙලාවේදී මගේ හිත අතීතයට ගියා. අතීතයට ගිය නිසා මට වැරදුණා කියලා පශ්චත්තාපයක් ආවා. එතකොට සමාධිය හෙල්ලුණා. නමුත් සතිය තියනවා. මෙන්න මේ සතියට කියනවා සති බලය කියලා. **පමාදෙ අකම්පියට්ඨෙන සතිබලං.** ඉස්සර වෙලා තිබුණේ ඍජු සතිය. දැන් සතිය නැති බව, සමාධිය නැති බව දැනගන්නා සතිය, සති බලය වශයෙන් සඳහන් කරලා තියනවා පටිසම්භිද මාර්ගයේ. ඒ නිසා සතිය බලයක්

බවට පත් වීගෙන එනකොට ඒ සතියම අසතියෙන් ඉන්න අවස්ථා පිළිබඳව යම් කිසි සංඥාවක් ඇති කරන්න පටන්ගන්නවා.

මෙන්න මේකට ආධාර කරන යෝගාවචරයො ඉතාමත්ම අල්පයි. හුඟක් වෙලාවට යෝගාවරයා මේක ගැන කනගාටු වෙනවා. කනගාටු වෙන්ඩ වෙන්ඩ චේතනා වැඩෙනවා. කනගාටු වෙන්ඩ වෙන්ඩ සංස්කාර වැඩෙනවා. දුක වැඩෙනවා. මෙතනදී සතුටු වෙනවා නම්, මේකෙ සාමන්‍යයෙන් තිබුණ සතිය සති බලයක් බවට දැන් පත් වෙන්ඩයි, සතියේ අධිකාරිය පිහිටුවන්ඩයි දැන් හදන්නේ, ඒ නිසා සතිය තියන තැනයි නැති තැනයි පිළිබඳ සම්පූර්ණ සමීක්ෂණයක් කරනවා, ශක්‍යතා වාර්තාවක් අරගෙනයි තියෙන්නේ කියලා දැනගත්තා නම් ඒ යෝගාවචරයාට දැන් අල්ලතැහැකි. කොහොමද? උදේ නැගිටපු වෙලාවේ ඉඳලා හැන්දෑ වෙනකල් මම සතිමත්ව ඉන්නවා. මේ මේ වෙලාවේදී සතිය නැති බව දන්නවා. පර්යංකයේදීත් අධිෂ්ඨාන කරනවා මගේ හිත ආනාපානයේම පවතීවා කියලා. නමුත් තමන් දන්නවා මේ වෙලාවෙදී සිතුවිලි තිබුණා, මේ වෙලාවෙදී වේදනා තිබුණා, මේ වෙලාවෙදී සද්ද තිබුණා. ඒ සද්ද වේදනා හිතුවිලි පිළිබඳව පසුතැවිලි වෙන්ඩ ගත්තොත් නම් සතිය දුර්වල වෙනවා. අරමුණ අතරමං වෙනවා. චේතනා පහළ වෙනවා. සංස්කාර රැස් වෙනවා.

ඒ වෙනුවට, නෑ මේක ලොකු ජයග්‍රහණයක්, දැන් සතිය මට අහු වෙන්න පටන්ගත්තා, ඒ නිසා මට මාව විවේචනය කරන ගතිය නෙමෙයි අවශ්‍ය කරල තියෙන්නේ. මේ සතිය තනියම නැගිටින්න ගන්න උත්සාහයක්ය, ඒ නිසා මම මේක පිළිබඳව පූර්ණ සහයෝගය දෙන්ට ඕනෑ කියන එකට තමා **පග්ගහිත විරිය** කියල කියන්නෙ. ඒ කියන්නේ ගත්ත දේ බිම නොතබා බිම නොදමා දිගටෝම ගෙනියන වීර්යය. මේකට අඛණ්ඩ සතිය කියලයි සතිය ගැන කථා කරනකොට කියන්නේ. ඉස්සර තිබුණෙ කැඩිකැඩී යන සතිය. දැන් අඛණ්ඩ සතිය ආවට පස්සේ සතියේ ඉන්නෙ නැති වෙලාවක පවා ප්‍රමාදයට වැටිලා. නමුත් කම්පා වෙන්නේ නෑ. **පමාදෙ අකම්පියධේන සතිබලං** අන්න එතෙන්ට යනකොට සතිය දෙකට කඩලා ඉගෙනගන්න වෙනවා. නැත්නම් අප්‍රමාදය දෙකට කඩලා ඉගෙනගන්ට වෙන්නේ **කාරාපක අප්පමාදය** හා **කාරක අප්පමාදය** කියල.

කාරාපක අප්‍රමාදය කියල කියන්නේ, මගේ හිත අරමුණේ නෑ. දැන් සිතිවිලිවලය කියලා යන්තම් දැනීමක් එනවා. නිකං ඇඟට දැනෙන්න ගන්නවා - මගේ භාවනාව වෙනස් වෙලා, නන්නත්තාර වෙලා, වල්මත් වෙලා. ඒ ඇති වෙන කාරාපක අප්පමාදය වහාම කාරක අප්පමාදයට ඉඩ දෙනවා, එහෙනම් සතිය පිහිටුවා ගන්ඩ කියලා. අන්න සතිය පිහිටුවීමට මූල කර්මස්ථානය හැරමිටියක් වගේ ළං කරගන්නවා. ආධාර කරගන්නවා. නැත්නම් වේදනාවක් එනවා. වේදනාව හොඳටෝම බලවත්ව ප්‍රකාශ වෙන්ට පටන්ගන්නවා. එතකොට යෝගාවචරයා එහාට මෙහාට තතනනවා මූල කර්මස්ථානයේම ඉන්නවාද, වේදනාවට යනවාද? මේ දැන් වේදනාව ගණන් නොගෙන මූල කර්මස්ථානයේම හිටියොත් මෙතන කොර වෙලා මොකක් හරි අනීපයක් වෙයිද? අංසභාගෙවත් හැදෙයිද? ඔහොම හොඳ නෑ නේද? ආදී වශයෙන් දිගට දිගට යන්ඩ ගත්තාම මේ ක්‍රියාවලිය සතියට තේරෙනවා. දැන් මේ සතා කාමයට පැනලා. නැත්නම් නන්නත්තාර වෙලා. අන්න ඒකට කියනවා කාරාපක අප්පමාදය කියලා. ඒත් එක්කම කාරක අප්පමාදය එනවා, එන්න එහෙනම් මෙන්න මේකයි කළ යුත්තේ කියල. එහෙම නම් වේදනාව ප්‍රකට නම්, වේදනාව කෙරෙහි කෙළින්ම සතිය පිහිටුවලා කොතනද මේ වේදනාව තියෙන්නේ, කොහොමද මේ වේදනාව තියෙන්නේ කියලා හඳුනනවා. එහෙම නැත්නම් වේදනාව පැත්තක තිබියදී මූල කර්මස්ථානය දිගේ යනවා.

අන්න ඒ තත්ත්වයට ආවට පස්සේ ඒ යෝගාවචරයාට නියම උපදේශය බණ මාර්ගයෙනුත් ඕනෑ. ධර්ම සාකච්ඡා මාර්ගයෙනුත් ඕනෑ. ආදර්ශයෙනුත් ඕනෑ. උපදෙස් දීලා තමන් ඒක ක්‍රියාත්මක කරන්ඩ ගත්තොත් ඒ යෝගාවචරයා මුලින් සතිය පිහිටුවාගන්නා කාලයේ ඇති කරපු සතියට වඩා තලතුනා බවකට එනවා. ඒක හරියට හේන කපලා ගිනි බිඳලා කටුවැට ගහගෙන හේන් කොටන කාලේ ඒ කරන ශක්තියට වඩා යෙදවුමට වඩා, හේන රකින කාලේ ගොවිය ටිකක් පහසුවෙන් ඉඳගෙනයි කරන්නේ. නමුත් හැම වෙලාවෙම හේනෙ ඉන්ඩ ඕනෑ. මොකද, හැදීගෙන එන ළපළු කන්ඩ පළිබෝධකාරක සත්තු කැමතියි. ඒ සත්තුන්ට ඇහේ කටු අනිනවා වාගේ තමයි ඒ අලුත් වැල් දකිනකොට. ඉතින් ඒ නිසා ගොවියා ළඟ ඉන්න ඕනෑ. නමුත් අර තරමටම ගිනි

බිඳගෙන නටන්න දඟලන්න දෙයක් නෑ. මේක සම්බන්ධව අද හුඟාක් යෝගාවචරයෝ වල්මත් වෙලා ඉන්නේ මෙන්න මෙතන. විශේෂයෙන්ම සතිපට්ඨානයේ. මේක හුඟදෙනෙක් සියයට හැටක විතර ප්‍රමාණයක් මේක පිළිබඳව තමන්ටම සාප කරගන්නවා. තමන්ටම දෙස් දීගන්නවා. තමන්ටම මන්ද උත්සාහ කරමින් චේතනා වඩනවා. සංස්කාර කරනවා. ඉතාමත්ම සුළු පිරිසක් මේක හොඳ තත්ත්වයක්, මේ තත්ත්වය යටතේදී සතිය වැඩෙන්න නම්, හැකි සංඥුව ගන්ඩ ඕනෑ. මං මෙතෙක් ආපු නිසා ඉදිරියටම ගියා. අරමුණු රාශියක් මතු වෙනවා. මතු වුණාට කමක් නෑ. මූල කර්මස්ථානය තියෙනවා නම් ඒක මධ්‍යම ප්‍රතිපදාව. ඒක දිගේම ඉදිරියට යන්න ඕනැ.

මේ ප්‍රයත්නය කරගෙන යනකොට අපිට කියන්න පුළුවන් මේ අවස්ථාව මධ්‍යම ප්‍රතිපදාව කියලා. අත්ථකිලමතානුයෝගයකුත් නැහැ මෙතන, කාමසුඛල්ලිකානුයෝගයකුත් නැහැ. තවම ප්‍රයත්නය තියෙනවා. යොමු වෙන්නෙම උපේක්ෂාවටමයි. අනිවාර්යයෙන්ම උපේක්ෂාවටයි යන්නේ. මොකද, යෝගාවචරයා පුළුවන් තරම් මූල කර්මස්ථානයමයි බලන්නේ. අනිත් දේවල් ඇවිල්ලා හොඳටෝම ආලාපාළු කෙරුවොත් කරදර කන්කරච්චල් කෙරුවොත් විතරක් මූල කර්මස්ථානය ඇදගෙන බිම වට්ටගත්තොත් විතරක් බලනවා. නැත්නම් මූල කර්මස්ථානයම කරගෙන යනකොට බාහිරෙන් එන ලෝක ධර්ම, අෂ්ටලෝක ධර්ම විෂයෙහි පුදුමාකාර උපේක්ෂාවක් එන්න පටන් ගන්නකොට චේතනා කොච්චර දුර්වල වෙනවද කියනවා නම්, උපේක්ෂාව කොච්චර වැඩි වෙනවාද කියනවා නම්, යෝගාවචරයා මේ ගැන කලින් උපදෙස් ලබලා නැත්නම් හිත නින්දට වැටෙන පමණමයි. භාවනාව ඉතාමත්ම ඒකාකාර බවකට වැටෙනවා. පාළු ගතියකට ගියා නීරස ගතියකට ගියයි කියලා චෝදනා එනවා. ඒ මොකද, මෙතෙක් කල් තිබුණේ විශාල සටනක්. දැන් තියෙන්නේ ඒ සටන බොහෝම ඈතක ඉඳලා යන්ත්‍රෝපකරණ මාර්ගයෙන් හෝ සේවකයෙක් මාර්ගයෙන් හෝ කරගන්නව වගේ වැඩපිළිවෙළක්.

අන්න එතෙන්ට යනකොට චේතනාවල හා සංස්කාර ධර්මවල, නැත්නම් තමන් මේක අනන ගතිය මේකට ඇඟිලි ගහන ගතිය කොච්චර ඈතට වෙලා යනවද කියනවා නම්, ඒක විග්‍රහ කරන්න පුළුවන් වෙන්නේ

"පරතො" කියන වචනයෙන්. දැන් තමන්ට පේන්නෙ පිම්බීම හැකිළීම හෝ ආනාපනය කියන මූල කර්මස්ථානය අනුන්ගෙ දෙයක් වාගෙ. ඔහේ තියෙනවා. කොච්චර වෙලා බලා හිටියත් තියෙනවා. එක්කෝ ඒක ප්‍රකටව තියෙනවා එක්කො අප්‍රකටව තියෙනවා. එක්කො ප්‍රියව තියෙනවා එක්කො අප්‍රියව තියෙනවා. එක්කො දුරව තියනවා එක්කො ළඟව තියෙනවා. එක්කො ඖළාරිකව තියෙනවා එක්කො සියුම්ව තියෙනවා. නමුත් කොහොමහරි තියනවා.

ඒ නිසා මේක දිගේම බලා ඉන්නකොට "දෙවේලේ දකින කුකුළාගෙ කරමලා - මෙවේලේ පෙනේ සක සේම සුදු වෙලා" වගේ මූල කර්මස්ථානය පවා පුදුමාකාර උපේක්ෂාවක් ඇති කරන්නට පටන්ගන්නවා. මෙතනදී චේතනාවල අඩු වීම සංස්කාර ධර්මවල අඩු වීම නිසා යෝගාවචරයාට එන කුසීතකමට නිබ්බිද ප්‍රමාණයට ඥානය මුසු කෙරුවේ නැත්නම් මේ සසර ගමන කල්පගානක් කල් අල්ලන්න ඉඩ තියනවා. මේක ලොකු ශාන්තියක්, මේක හොඳක් කියලා මෙන්න මෙතනදී තමයි සමාධියත් විපස්සනාවත් දෙක අතර ප්‍රධාන වශයෙන් සැලකිලිමත් වෙන්න ඕනෑ. විශේෂයෙන්ම මේ විධියට අරමුණු ස්ථිරව පවතිනකොට සමහර විටක ඉතාමත්ම ඇල් මැරිච්ච සීතල ගතියකට පත් වෙලා හිත සීතල වෙලා, ඒක සැප විඳින ගතියකට ගිහිල්ලා ලෙඩ වෙච්ච සතෙක් වගේ මුල්ලකට හේත්තු වෙලා එහෙමම පිරිහෙන්නත් ඉඩ තියනවා. එහෙම නැත්නම් ඔය සමාධිය ඉතාමත්ම හුඟක් වෙලා පවත්වන්න හිත ඇදෙන විධියට විදර්ශනා උපක්ලේශ ප්‍රකට වෙන්න ඉඩ තියෙනවා. ඒ නිසා සමාධියමයි උතුම්, සමාධියම අගේ කරන කෙනෙක් කියල කිව්වොත් ඔන්න ඔතනදී ඔය උපක්‍රම දෙකටම අහු වෙනවා.

නමුත් ඒ සමාධිය ගන්ඩ ඕනෑ මොකටද? යථාභූත ඥාන දර්ශනයට. ඒ ඥාන දර්ශනය ගන්ඩ නම් අපි දැනගන්න ඕනෑ උපේක්ෂාවට යනකොට නින්දට වැටෙන්න දෙන්නෙත් නැතිව අධිකව ඇති වෙන්නා වූ ආලෝක ඕභාසවලට මත් වෙලා ඒක ගැන රස විඳ විඳ ඉන්නෙත් නැතිව, අර දුර්වල වෙලා තියෙන හේබාලා තියන විස මැරිලා තියෙන අරමුණමම අරමුණු කරන සතිය අරගන්ඩ. ඒක බොහෝමත්ම අමාරුයි. ඒ මොකද, ඉස්සර තිබුණේ යෝගාවචරයාට අරමුණු ඉදිරිපත් කරගැනීමේ දුෂ්කරතාව. දැන් තියෙන්නේ අරමුණ නිතරම පෙනිලා උඹ නොදකිං

කියන තත්ත්වෙ. නොදකිං නොපතන් තියන තත්ත්වෙ. ඒකයි මං කීවේ අර මුලින් මුලින් අරමුණ ළං කරනකොට යෝගාවචරයා අරමුණ කෙරෙහි දක්වන ආකල්පයත් මේ අවස්ථාවේදි දක්වන ආකල්පයත් අතර හාත්පසින්ම කළු සුදු වෙනසක් පේනවා තර්කයට. ඒ වුණාට විපස්නාවේ බලව විපස්සනාවට ගියාට පස්සේ අරමුණ එහෙමම තියෙද්දි යෝගාවචරයාට හොඳට පේනවා චේතනා නෑ. ප්‍රයෝග නෑ. ප්‍රයත්න නෑ. භාවනා කිරීමෙන් ලැබෙන්නට ඕනෑ මූලික ප්‍රතිඵල ලැබිලා තියනවා. දැන් තියෙන්නේ නොසැලී පැයගණන් මේ අරමුණම දිහාම, ගිනිකණා වැටිච්ච සතෙක් පන්නන්නෙ නැතිව ඒ සතාට පනින්න දෙන්නෙ නැතිව බලාගෙනම ඉන්නවා වාගේ මධ්‍යම ප්‍රතිපදාවෙන් යුක්තව ඒ දිහාම බලා ඉන්ඩයි; ඒ සඳහා යෝගාවචරයාට පැහැදිලිව සම්මා සංකප්ප තියෙන්ට ඕනෑ. පැහැදිලිවම විපස්සනාව කියන එක හඳුන්වල දීලා තියෙන්ට ඕනෑ. එහෙම නැත්නම් මේ මට්ටම පනින්නම අමාරුයි. යෝගාවචරයා තමන්ටම දෙස්දීගන්නට පටන්ගන්නවා. සාප කරගන්නට පටන්ගන්නවා. මොකක්ද මේ කරන්නේ, තේරුමක් ඇති වැඩක් නෙමෙයි මේක, මේක හරියට මහ මුහුදේ මැදක අතරමං වෙලත් හිතන්න හදනවා වගේ ගොඩ එන්න. කාන්තාරෙක අතරමං වුණා වගෙයි.

මේ වෙලාවට යෝගාවචරයාට මෙතෙක් එන්ඩ උදව් උපකාර කළ මූල කර්මස්ථානය ඉතාමත්ම උපේක්ෂකව පෙනුණත් එයින් හිත මෑත් නොකරගෙන දිගට යන්න නම් චේතනාව පිළිබඳව ප්‍රධානම අවබෝධයක් අවශ්‍යයි. චේතනාව කියන්නෙ ප්‍රයත්නයක්. මෙහෙයවීමක්, ප්‍රයෝගයක්. චේතනා, ප්‍රයත්න ප්‍රයෝග නතර වෙලා අරමුණු ඉස්සරහම තියෙනවා නම් ඒකට ප්‍රේම කරන්න ඕනෑ. ඒක අදහන්න ඕනෑ. ඒකයි අල්ලගන්න ඕනෑ. ඒක දිගේම තමයි නිරෝධය තියෙන්නේ. ඒක දිගේම තමයි විපස්සනාව කෙළවර තියෙන්නේ. ඒක නිසා මේ හැම දේටම කර්මාන්ත බහුලව ගත කරන කෙනාට කම්මාරාමතා කියන එක්කෙනාට මෙතෙන්ට ගියාට පස්සේ හරි පාළු ගතියක් එපා වෙච්ච ගතියක් එන්ට ඉඩ තියෙනවා. නැත්නම් භස්සාරාමතාව. මේක කාට කාටත් කියකියා ඉන්ඩ කථා කරන්ඩ සම්ඵප්‍රලාපවලට යට වෙච්ච එක්කෙනාට වචී සංස්කාර මාර්ගයෙන් මේක පිරිහෙන්න ඉඩ තියෙනවා. නිද්දරාමතාව තියන කෙනා වහාම නින්දට වැටෙනවා. බොහෝම ඉක්මනට නින්දට

වැටෙනවා. සතිය නැත්නම්, විශේෂයෙන්ම මෙනෙහි කිරීම නැත්නම්, සක්මන් කිරීම නැත්නම් මේ අවස්ථාවේදී නින්දට වැටෙනවා. විශාල කාල නාස්තියක් සිදු වෙනවා.

ඊළඟට සංසග්ගාරාමතා. දකින්ට නැත්නම් ෆොටෝ එකක්වත් ගෙනල්ලා බලන්ට ඇත්නම්, අහන්ඩ නැත්නම් සද්දෙවත් ගෙනල්ල බලාගන්ට ඇත්නම්, එහෙම නැත්නම් කාගෙන්වත් පණිවිඩයක්වත් ලබාගන්න ඇත්නම් වශයෙන් සංසග්ගය පිළිබඳව අදහස් තියන කෙනාට මේ ඒකාකාරීව පවතින මූල කර්මස්ථානයේ විශාල අකමැති ස්වරූපයක් නිර්වින්දන ස්වරූපයක් ඇති වෙනවා. මේ විධියට මොනම දෙයකින් හෝ, අවසාන වශයෙන් පපංචරාමතාව ඇත්නම්, මේ මොකද වුණේ හරිගිහිල්ලාද? මට වැරදුණාද? සතිය නැති වෙලාද? ආදී වශයෙන් ප්‍රපංච කරන්නට පටන් අරගත්තොත් ඒ සෑම තැනක්ම ඒ පුද්ගලයාට බොරු වළක් වගේ පත් වෙනවා. තමන් කෙරෙහි තමන්ටම විශ්වාසය නැති වෙනවා. ප්‍රධාන වශයෙන්ම චේතනා නැති වීම ප්‍රයත්න නැති වීම ප්‍රයෝග නැති වීම මෙහෙයවීම නැති වීම අදහගන්ඩ බැරි නම්, සෑම කරන දෙයක්ම ප්‍රයත්නයක් බවට පත් වෙනවා. ඒක ඒකාන්තයෙන්ම දුකට හේතු වෙනවා.

ඒ නිසා සතියෙ අවසාන කෙළවර සතිය වේපුල්ල භාවයට ගියාම, නැත්නම් වීර්යයේ පරිපූර්ණ භාවයට ගියාම, ජය කණුව දකිමින් ජය කණුවට අවසාන ඉරියව්වෙන් වෙහෙසවන ප්‍රයෝග කරන තරඟකාරයෙක් වාගේ ඒක කෙරෙහි සාදරයෙන් ඒකට යනවා නම් බොහොම ඉක්මනට වැඩේ කරගන්න පුළුවන්. නමුත් චේතනා නිසා සංකල්ප නිසා මේ වෙලාවේදී ඒ නිකං බලාගෙන ඉන්න ගතිය ඉතාමත්ම දුෂ්කරයි යෝගාවචරයාට. මේ සඳහා නිතරම කමටහන් සුද්ධ කරන්න ඕනැ. නිතර ධර්ම සාකච්ඡා කරන්න ඕනැ. නිතරම ධර්ම දේශනාවලත් නිබ්බාන පටිසංයුක්ත දේශනාවලත් තියන, බුදුරජාණන් වහන්සේ පෙන්වන්නට හදන උපේක්ෂාවේ තියෙන වටිනාකම තේරුම්ගන්ට ඕනැ. උපේක්ෂාව කියල කියන්නේ අඥාන උපේක්ෂාවක් නෙමෙයි. ඕනැ දෙයක් වෙච්චාවෙ කියලා කරබගෙන ඉන්න එකක් නෙමෙයි.

මූලිකව පොළොවෙන් උස්සගත්ත අර රොකට් යන්තරේ විශාල ශක්තියක් යොදලා පොළවෙන් හැතැප්ම හයකට උස්සගත්තට පස්සේ ඒක කරකැවිකැවී ඉන්නකොට තමයි අපි දෙවෙනි රොකට් එකක් පත්තු කරලා ඕක හඳට විදින්නෙ. එතකොට එන්ඩ එන්ඩ එන්ඩ පොළවේ ආකර්ෂණ ශක්තියෙන් අයින් වෙලා හඳ පැත්තට ගියාට පස්සේ ඉබේම හඳ දිහාට ඇදල ගන්න ගතියක් එනවා. ඉතින් පොළව පිළිබඳව ලොකු ආදරයක් කැමැත්තක් තිබුණ කෙනෙකුට නම් මහා වියෝවක් ඇති වෙනවා. නමුත් හඳ දිහාවට ඇදෙන්න පටන්ගන්නවා. පොළව පැත්තටම ඇදෙන කෙනෙකුට නම් මේක ඈතට ඈතට යනවා, නෑදෑයින් නැති වෙනවා, කතාබතා කරගන්න බැරි වෙනවා, දකින්න බැරි වෙනවා. අර කියන සමුල්ලාපන ආදී සංසර්ග පවත්වන්න නැති වෙනකොට, හඳ ගැන බලාපොරොත්තුවක් ඇති කෙනෙකුට නම් සැපයක් ඇති වෙනවා. ඒ වගේම තමයි ලෞකික පැත්ත අමතක කරලා ලෝකෝත්තර දිහාවට යන කෙනෙකුට නම් උපේක්ෂාව එනකොටම ඒකේ ගම්භීරත්වයක් වැටහෙනවා. අඛණ්ඩ සතියක් එනකොටම ගම්භීරත්වයක් වැටහෙනවා. පරිපූර්ණ වීර්යයක් එනකොටම ගම්භීරත්වයක් වැටහෙනවා. විශේෂයෙන්ම චේතනා නතර වෙලා ප්‍රයත්න නතර වෙලා ප්‍රයෝග නතර වෙලා ඉබේම වැඩේ සිද්ධ වෙනකොට ඒ මට්ටමට යන්ඩ නම් ලොකු තලතුනාකමක් අවශ්‍යයි. ආන්න ඒ තලතුනාකමයි අද විපස්සනා ලෝකයේ හුඟක්ම අඩු. ඒ තලතුනාකම වැඩක් නෑ පටන්ගන්න වෙලාවට. පටන්ගන්න වෙලාවේදී ලොකු කර්මාන්ත ශාලා ගතියක් අවශ්‍ය කරනව. ලොකු ප්‍රයත්නයක් ඕනැ. නමුත් අවශ්‍ය තැනට එනකොට ඒ සංහිදියාව ගැනීම, ගුරුවරයෙක් නැතිව බැරි තරම්. නමුත් එහෙමමත් නෙමෙයි.

විශේෂයෙන් මේ සම්බන්ධයෙන් කියන්ට ඕනෑ, මෙනෙහි කිරීමේදී ප්‍රධාන මට්ටම් තුනක් තියෙනවා. මූලික මට්ටමේ සතියට, දෙවෙනි මට්ටමේ සතියට සහ තුන්වන මට්ටමේ සතියට. නැත්නම් වීර්යයේ දක්වන අවස්ථා තුනට. එහෙම නැත්නම් චේතනාව සම්බන්ධව අවස්ථා තුනට. අපි මුලින්ම මේක පිළිබඳව වචන ස්වල්පයක් කියනවා නම්, මුලින්ම ආශ්වාස ප්‍රශ්වාසය හෝ පිම්බීම හැකිළීම හෝ වෙන් වෙන් වශයෙන් වෙනස් කරමින් වෙන් වෙන් වශයෙන් ලක්ෂණ දකගන්නවා. ඇතුල් වන වෙලාවෙ ඇතුල් වීම වශයෙන් මෙනෙහි කරනවා. පිට වන

වෙලාවෙ පිට වීමක් වශයෙන් මෙනෙහි කරපුවහම ඇතුල් වීම පිට වීම කියන්නෙ සම්පූර්ණයෙන්ම ප්‍රතිපක්ෂක දෙකක්. පිම්බීම හැකිළීම සම්පූර්ණ ප්‍රතිපක්ෂක ක්‍රියාවලී දෙකක්.

මෙන්න මේ විධියට මේ දෙක අතර තියන සටහන් ආකාර ස්වභාව ලක්ෂණ පිළිබඳව හොඳ පරිචයක් ඇති වුණා නම්, සමීප වුණා නම්, ඒ යෝගාවචරයාට පේන්ට පටන් අරගන්නවා පිම්බෙන අවස්ථාව හා හැකිළෙන අවස්ථාව අතර වෙනසක් නැති මට්ටමක්. ආශ්වාස හුළඟෙ සහ ප්‍රශ්වාස හුළඟෙ හුළං විතරයි, ඇතුල් වීම පිට වීම අතර වෙනස නැති වෙනවා. නමුත් සතිය නැති වෙලා නෙවෙයි. සමාධිය නැති වෙලා නෙවෙයි. භාවනාව කැඩිලා නෙවෙයි. ආන්න එතෙනට එන වෙලාව, නැත්නම් ඒ පරිවර්තනය වෙන එක යෝගාවචරයා හොඳ දවල් එළියෙන් දකගන්න ඕනෑ. ඔන්න ඔතනදී පිම්බීම හැකිළීම අතර වෙනස ගැන කියනවා නම්, කරගෙන කරගෙන යනකොට විශේෂයෙන්ම භාවනාවේ යම් පරිචයක් ඇති ඇත්තන්ට මෙන්න මෙතෙන්ට ආවට පස්සේ දෙකම ඉතාම වේග වුණාට පස්සේ පිම්බීම හැකිළීම අතර වෙනස නැති වෙනවා. එතකොට අරමුණයි හිතයි අතර වෙනසත් නැති වෙනවා. මේක හරියට කරකවල අතහැරිය වගේ වැඩක්. කොට්ට උරයක් අනිත් පැත්ත හැරෙව්වා වගේ වැඩක්. විශාල පාලනයකින් තොරව සිදු වනවා වගේ වැඩක්.

මෙන්න මේක හොඳට දකගත්තේ නැත්නම් මේ සිද්ධියම හත්අට වතාවක් කරමින් යෝගවචරයා වෙහෙසට පත් වෙනවා. පළවෙනි වතාවෙම හොඳට මේක දනගෙන කෙරුවා නම්, ආන්න අර විදියට පිම්බීම හැකිළීම දෙක අතර වෙනස, ඇතුල් වීම පිට වීම අතර වෙනස, අරමුණ සහ හිත අතර වෙනස නැති වුණාට පස්සෙ මෙනෙහි කිරීම දිගින් දිගට පැවැත්වීම සඳහා යෝගාවචරයා දනෙනවා දනෙනවා කියලා මෙනෙහි කරන්න පටන්ගන්නවා. එහෙම දනෙනවා දනෙනවා කියලා දිගටම මෙනෙහි කරගෙන යනකොට ආයිත් සැරයක් ටික වෙලාවක් ගියාට පස්සේ විශාල සුළි සුළඟකට පස්සෙ ඇති වන සංහිඳියාව වගේ හොඳට උතුරපු බත් හැළියක් හැතපෙන්නා වගේ තත්ත්වය සංසිඳුණාට පස්සේ අර නැති වෙච්ච පිම්බීම හැකිළීම නැවතත් යාන්තමින් පේන්න පටන්ගන්නවා. නැති වෙච්ච ආනාපානයෙත් සංඥව ලාංඡනය පේන්න

පටන්ගන්නවා. යෝගාවචරයා අන්න ඒක ඇත තියන පහන් කණුවක් ප්‍රයෝජනයට ගන්න නාවිකයෙක් වගේ, ඒක අරමුණ සලකුණු කරගත්තොත් දිගටම අර දැනීම් නොදැනීම් වශයෙන් යන එක වරින් වර මෙනෙහි කරමින්, ඒ කියන්නේ ප්‍රයත්න ප්‍රයෝග නතර කරලා භාවනාවටම මේ පැත්තට ඇදෙන්න ඇරල, නමුත් හොඳ අවබෝධයකින් ඒ දෙසට යනවා.

මෙන්න මේ විධියට එකම අරමුණක් දිගේ සිත පවත්වන විට මේ මෙනෙහි කිරීමේ යන්තරය, විතක්කය අවශ්‍ය වෙලාවට වාහනේක ගියර් එක වගේ මාරු කළේ නැත්නම් කවදක්වත් මෙනෙහි කිරීම භාවනාව ඉදිරියට ගෙනියන්නේ නෑ. ඒක නිසා ප්‍රසිද්ධ ඇත්තෝ ප්‍රසිද්ධියේ සඳහන් කරනවා වේදනාව ආපුවම වේදනාව වේදනාව කියලා මෙනෙහි කරලා කොහොමද ඕක නැති කරන්නේ, සද්දයක් ආපුවම සද්දයක් සද්දයක් කියලා කොහොමද ඒක නැති කරන්නේ කියලා අර තුන් අවස්ථාවම එකට දලා බෙහෙත් කරන්ඩ හදලා, ව්‍යාකරණ දන්නෙ නැති මිනිහා භාෂාවට බය වෙන්නා වගේ, අතීසාරකාරයා බත්වලට බය වෙන්නා වගේ මේ මෙනෙහි කිරීමට බයයි. ඒ නිසා ඒක දෙනකොට ඒක දැනගෙන කන්ඩ ඕනෑ. ඒකෙ ප්‍රමාණය දැනගෙන යන්තරය දැනගෙන වැඩ කරනවා නම් වැඩගන්න පුළුවන්. එහෙම නැතුව ඔක්කොම හැම වෙලාවෙම මුල ඉඳලා අග දක්වාම පිම්බීම හැකිළීම මෙනෙහි කරන්ඩ හෝ ඇතුල් වීම පිට ම මෙනෙහි කරන්ඩ බෑ. ඒ අවස්ථාවෙ එන එන හැටියට මෙනෙහි කිරීමේ යන්තරය, නැත්නම් සතිය පිහිටුවීමේ යන්තරය, එහෙම නැත්නම් වීර්යය ඉදිරිපත් කිරීමේ යන්තරය තාක්ෂණිකව යොදවන්ට ඕනෑ. ඒ යොදවනකොට චේතනාව පිළිබඳව පැහැදිලි අවබෝධයක් ඇති වෙනවා.

අපි මේ පිම්බීම හැකිළීම වෙනුවට රූපයක් ගත්තොත් ඒක මීටත් වැඩිය විග්‍රහයි. ඒ මොකද, රූපයක් දකිනකොටම ඉතාමත්ම ආධුනික යෝගාවචරයා රූපයක් රූපයක් කියලා මෙනෙහි කරනවා. ඒක ස්ත්‍රියක් පුරුෂ රූපයක් ගහක් ගලක් මොකක්හරි වෙන්න පුළුවන්. ටික වේලාවක් යනකොට ඒ පුද්ගලයාට වැටහෙන්නට පටන් අරගන්නවා රූප බාහිරයේ මොන මොන ආකාර තිබුණත් මේ වැඩේ සිද්ධ වෙන්නේ ඇහේ විතරමයි. කනේ නෙමෙයි නාසයේ නෙවෙයි දිවේ නෙවෙයි ශරීරයේ නෙමෙයි හිතේ නෙමෙයි. රූප විෂය අදාළ වෙන්නේ ඇහැටයි. චක්ඛු

ප්‍රසාදයටයි. එතකොට ඒ පුද්ගලයා දකිනවා දකිනවා කියලා මෙනෙහි කරනවා. අර බාහිරව තිබුණ රූපය වෙනුවට, අජ්ඣත්තව දකිනවා දකිනවා කියලා මෙනෙහි කරන්න පටන්ගන්නව. මෙහෙම ටික වේලාවක් යනකොට පේනවා, ඇහෙන් රූපයක් දැකලා හිතේ ඇති වන චේතනා සංකල්පන සුළි සුළඟ, කනට සද්දයක් වැදීම නිසා ඇති වෙන කලබල කන්කරච්චල් චේතනා, නාසයට සුවඳ වැදීම නිසා කයට පහස වැදීම නිසා දිවට රස ලැබීම නිසා ඇති වෙන කලබල යන මේ සියල්ලේම සමානකමක් තියෙන්නේ අවුල් කරන එකමයි. කලවම් කරන එකමයි. ඒ නිසා ඇහෙන් එන සංඥවත් කම්පනයක් මාර්ගයෙන් තමයි එන්නේ. කනින් ආවත් කම්පනයක් මාර්ගයෙන් තමයි එන්නේ. නාසයෙන් ආවත් දිවෙන් ආවත් කයෙන් ආවත් හිතෙන් ආවත් කම්පනයක් මාර්ගයෙන් පමණයි වෙන්නේ. එතකොට අපි දැනෙනවා දැනෙනවා කියලා මෙනෙහි කරනවා. එතකොට විඤ්ඤාණයට ශක්තියක් ඇති වෙනවා අනින්ද්‍රිය පටිබද්ධ භාවයට පත් වෙන්න.

අනින්ද්‍රියපටිබද්ධ භාවයට පත් වෙනකොට ඕන්න චේතනා ඔක්කොම පච වෙලා යනවා. ඔන්න චේතනා ඔක්කොම විරංජනය වෙලා යනවා. එතකොට යෝගාවචරයා තනි වෙච්ච පාළු වෙච්ච ගතියකට පත් වෙනවා. ඉබේ භාවනාව වෙනවා. ඉතින් ඒ වෙලාවේ ආයෙත් සැරයක් රූප දකිනකොට වගේ රූප රූප මෙනෙහි කරන්ඩ පටන්ගත්තොත් එතන අවුලකට පත් වෙනවා. ඒක මහා විලෝපනයක් වෙනවා. ඒ නිසා ඒ වෙලාවේ මෙනෙහි කිරීම නම් වැරදියි තමයි. මෙනෙහි කරනවා නම් දැනෙනවා දැනෙනවා කියලා මෙනෙහි කරනවා. අර අනින්ද්‍රියපටිබද්ධ විඤ්ඤාණයට හොඳට චේතනාවලින් පරිබාහිරව ස්වරූපය ඇති කරලා දෙනවා. ආන්න එතෙන්ට යන්ට තරමට දක්ෂ වෙන්ඩ නම්, යෝගාවචරයා ප්‍රථම මාර්ග ඥනය ද්විතීය මාර්ග ඥනය කියන එව්වා ඉක්මවූවාට පස්සෙ නම් පුළුවන් වෙනවා මෙනෙහි කිරීම කෙරෙන්න ඕනෑ මෙහෙමයි කියලා අවබෝධ කරගන්න. එතකල්ම ගුරුවරයෙක් අවශ්‍යයි.

නමුත් **උග්ඝටිතඤ්ඤ, විපචිතඤ්ඤ** වගේ පුද්ගලයින්ට බණ අහනකොටම මාතෘකාව කියනකොටම තේරෙනවා, හේනක ගිනි බිඳින කාලය තරම් හේන රකින්ඩ ශක්තියක් අවශ්‍ය නෑ. ඊටත් වැඩිය අඩු

ශක්තියක් තමයි අවශ්‍ය කරන්නේ ඊට පස්සෙ කටයුතුවලට. ඒ විදියට නමුත් ඒකට හම්බ වෙන ප්‍රතිඵල නම් හිතුවටත් වඩා වැඩියි. හේන් කොටන ගොවියා ඒක දන්නව. ඒ වගේම තමයි පර්යංකයක් පටන්ගන්නකොට හැමදම අලුතෙන් භාවනා කරන කෙනෙක් කියල පටන්ගත්තොත් මුලදී ලොකු ශක්තියක් ඇතිවයි යෝගාවචරයා බහින්නේ පර්යංකයකට - මොකද, හොඳට සක්මන් කරලා වතුර ටිකක් බීලා කැහැල කරලා. එතකොට ඒ ශක්තියෙන් ගියාට පස්සෙ ටික වේලාවක් යනකොට යෝගාවචරයාට යාදෙන ගතියකට එනවා නම්, අච්චර ශක්ති වැය කිරීමකින් තොරව චේතනා නැතුව මෙහෙයවීම් තොරව පර්යංකය පවත්වාගන්නට පුළුවන් තත්ත්වයකට එනවා. එතකොට නින්දට වැටෙන්න දුන්නොත් මහ විශාල විනාශයක්. **දුල්ලභා ඛණසම්පත්ති තස්‍ස විවෙකො විපත්ති.** එතකොට ඒ විශාල සංවේග ඥාන පිහිටුවාගන්න වෙනවා, දැන් බොහොම දුෂ්කර දුර්ලභ ක්ෂණයක් ලැබිලයි තියෙන්නේ. මේ වෙලාවේ නින්දට වැටෙන්න දෙන්න නරකයි. සැක සංකා උපදවාගන්න නරකයි. චේතනා පහළ කරන්න නරකයි. චේතනාවලින් තොරව අචේතනිකව, නැත්නම් ඉන්ද්‍රියපටිබද්ධ විඥානයකින් තොරව - ඒකට හොඳම වචනය මම නම් පාවිච්චි කරන්න කැමති 'අපණ්ණකව' කියන වචනය. නමුත් අටුවාව ඒකට පෙන්නන්නේ 'අවිරුද්ධව' කියලා. ඒකත් ගැළපෙනවා - යන්ඩ අරින එකයි.

අන්න එතකොට ඊගාවට සතිපට්ඨානයේ සඳහන් කරන විධියට **සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්‍ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්‍ථ නිවිසමානා නිවිසති** කියන එකේ ඊගාව මට්ටම තියෙන්නේ **රූපතණ්හා ලොකෙ පියරූපං සාතරූපං, එත්‍ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්‍ථ නිවිසමානා නිවිසති.** මෙන්න මේ විධියට අරමුණක් ගැටෙන වෙලාවේ මූල කර්මස්ථානයේ හෝ සක්මනේ හෝ එදිනෙදා වැඩවලදී ඒ අරමුණ විෂයෙහි චේතනා අලුතෙන් පහළ නොවෙන තාක් සතියත් වීර්යයත් කටයුතු කළොත් මේ **වෙදනා පච්චයා තණ්හා** වෙනුවට **වෙදනා පච්චයා පඤ්ඤා** පහළ වෙනවා. දැන් මේ සඳහන් කරල තියෙන්නේ වේදනා තිබුණා, චේතනා තිබුණා, ඒ වේදනා චේතනා නිසා දැන් තෘෂ්ණාව පහළ වුණා. ඒක ඒකාන්තයෙන්ම තණ්හාවම තමයි. අපි මේ කථා කරන්නේ දෙවෙනි සමුදය සත්‍යය පිළිබඳවයි. **එත්‍ථෙසා තණ්හා** කියලමයි පටන්

අරගන්නේ. රූප තණ්හාවෙන් තමයි ඉවර වෙන්නේ. ඒ කියන්නේ මේ කොහෙදෝ යන කුණු කන්දලයක් නිසා සතරමහා භූතයන් නිසා කොහෙදෝ නැති තෘෂ්ණාවක් පහළ වෙලා තියෙනවා.

ආන්න ඒක පහළ නොවෙන්න නම් වේදනා මට්ටමේදී චේතනා මට්ටමේදීම ඒක ඇති හැටිය දැකීමේ කියන කටයුත්තට දම්මට පස්සෙ අපි මිරිඟුවක් දැකලා වතුර කියලා හිතාගන්න හැටි, පඹයෙක් දැකලා මිනිහෙක් කියලා හිතාගන්න හැටි ආදී වශයෙන් සාමාන්‍ය භාවිත අභාවිත පුද්ගලයන් වශයෙන් ලෝකය, චේතනා පූර්වකව හොඳයි නරකයි, හතුරයි මිතුරයි, ඇතුළයි පිටතයි, සුදුයි කළුයි ආදී වශයෙන් තියන සේරම මායිම් සේරම බන්ධන කඩලා යන්න පටන්ගන්නවා. විශේෂයෙන්ම චේතනා අඩු වීගෙන යනකොට අපි ළඟ තිබුණ **කලහ විවාද තුවං තුවං පේසුඤ්ඤං** වාගේ කියන දේවල් සම්පූර්ණයෙන්ම අඩු වෙලා භාවනා කරන්න ඉඳගත්ත ගල් බමුණෙක් වගේ ඉන්නවා ලෝකේ මොන දේ වුණත් මොන සාධාරණය අසාධාරණය වුණත්. කොටින්ම කියනවා නම් හොඳ නරක දෙකක් නෑ.

මෙන්න මේක තමයි අද ආගමිකත්වය තුළින් කුලගැති භාවය ඇති ඇත්තන්ට දරාගන්න බැරි වෙලා තියෙන්නේ. ඒගොල්ලෝ හිතනවා හොඳ නරක දෙකත් අරගෙනම නිවන් යන්න. ඕක හලන්න වෙනකොට චේතනා පහළ කරගෙන ඒක තබාගන්න එක ඒ ඇත්තන්ට හොඳයි නිවනට වඩා. ඒකත් එපා, චේතනාත් එපා, තෘෂ්ණාවත් එපා, ඇත්ත ඇති හැටියට දකින්ට ඕනෑ කියලා බලන්ට නම් පර්යංකයේදි ඔය වැඩේ කරන්න බෑ. පර්යංකයට යන්න ඉස්සර වෙලාම සම්‍යක් දෘෂ්ටිය තියෙන්න ඕනෑ. ඒ සම්‍යක් දෘෂ්ටිය අනුව තමයි, අවස්ථාවට ආවට පස්සෙ - හරි, දන් යන විදියට බලනකොට තදබල චේතනා පහළ වෙන්නෙ නෑ. නමුත් අරමුණේ හිත තියනවා. අරමුණ එන්න එන්න කල්ප ගානකින් හරි කමක් නැහැ ගෙවන්න පුළුවන්, මං මේක ගෙවනවා කියලා අර ප්‍රයෝග අතහැරලා, ලස්සන වචනයක් පාවිච්චි කරනවා පාලියේ **පයොග පටිප්පස්සම්භන** කියල. තමන් මෙතෙක් කල් යොදවපු සෑම යෙදවුමක්ම නතර කරගන්නවා. උපේක්ෂාව පිහිටුවාගන්නවා.

මෙතනදී මේ සිද්ධ වෙන්නේ ඇත්තටම සෞන්දර්ය පැත්ත යටපත් කරමින් තර්කය අනුව හොඳ නරක මතු කරගත්ත අපේ ආගමික ජීවිතයේ දැන් ඒ හොඳ නරකත් යටපත් කරමින් සත්‍යය මතු වෙනවා. ත්‍රිලක්ෂණය මතු වෙනවා. ඒ ත්‍රිලක්ෂණය මතු වෙන්නේ සුභ සුඛ අත්ත වශයෙන් නෙමෙයි. අනිත්‍ය වශයෙන් දුක වශයෙන් අසුභ වශයෙන් අනාත්ම වශයෙන්. එතකොට තමයි කම්මැළිකම පහළ වෙන්නෙ. එතකොට තමයි නිබ්බිදව පහළ වෙන්නේ. ඉතින් යම් කිසි වෙලාවකට නිවනෙන් මෙපිට බලාපොරොත්තු වෙන කෙනෙක් නම් ඉතින් අර සමාධියෙන් හම්බ වෙච්ච දිට්ඨධම්ම සුඛය නිවනටත් එහා කල්පනා කරමින් කථා කරමින් හන්දියක් හන්දියක් ගානේ බණ කියමින් ඇවිදින්ට පටන්ගන්නවා. නමුත් කාලය නාස්ති වෙන බවක් සත්‍යයට පිටුපාන බවක්, අර 'සුම්ම ඉරි' නැත්නම් අපණ්ණක ප්‍රතිපත්තියෙන් බැහැර යන ගතියක්, අවුස්සන ගතියක්, කුප්පන ගතියක් මේකෙ තියෙනවා කියලා තේරුම්ගන්න අමාරුයි.

ඒ නිසා අපි, නැත්නම් මම නැවතත් කියනව 'මම' වශයෙන් නිවනම බලාපොරොත්තු වෙනවා නම් මේ චේතනාවල සංසිඳීම, මෙහෙයවීම්වල සංසිඳීම, ප්‍රයෝගවල සංසිඳීම එනකොට මූල කර්මස්ථානයේ මූණට මූණ දලා ඉන්ඩ පුළුවන් ගතිය තියෙනවා නම් තමන් ආරක්ෂා සහිතයි. මධ්‍යම ප්‍රතිපදාවෙයි ඉන්නෙ. මේ වෙලාවෙදී ඒක සමීප වුණත් මිහිරිව පෙනුණත් ඒකට ඇදහිල්ල උපදවාගෙන දිගට යන්ඩ නම් චේතනා පිළිබඳව සෑහෙන අවබෝධයක් අවශ්‍යයි යෝගාවචරයාට. නොවුණොත් මේ යන දෙතිස්කුණප කුණු කන්දල් මත රාගය හා තෘෂ්ණාව පහළ වෙන්ඩ පුළුවන්. කලහ විවාද පහළ වෙන්ඩ පුළුවන්. වාද විවාද පහළ වෙන්ඩ පුළුවන්. යම් වෙලාවක මේක ඉක්මවලා, වාද විවාද ඉක්මවලා චේතනා රහිතව යෝගාවචරයා ටිකකට හෝ මූල කර්මස්ථානයේ ඇදහිල්ලට ගියා නම්, ඒ යෝගාවචරයා වහාම තේරුම් අරගන්නවා ලොකු ශාන්තියක්. මහා කන්දක් උඩට නැගලා ඈත පෙනෙද්දි හොඳ වාතාශ්‍රය ලැබෙද්දි ගමෙන් එන දුම් ගඳ ගමෙන් එන සද්ද නැතිව විවේක වෙන්ඩ පුළුවන් ගතියක් දැනෙනවා.

මේ වෙලාවේදී ප්‍රයෝග නතර කරලා දර්ශනයෙන්ම දැකීමෙන්ම මේක ප්‍රහාණය කරන්ට ඕනෑ කියන එක තමයි පළවෙනි මාර්ග ඥානයේ

සිදු වෙන කථාව. ඒක නිසා මතක තියාගන්න ඕනෑ භාවනාවේදී යොදවන යෙදවුම්වල තමන්ම විනිශ්චය කළ යුතු අවස්ථා අඩුම ගානේ දෙකක් තුනක් තියෙනවා සතිය පැත්තෙන් බැලුවත්, සමාධිය පැත්තෙන් බැලුවත්, වීර්ය පැත්තෙන් බැලුවත්, චේතනා පැත්තෙන් බැලුවත්. ආන්න ඒක පිළිබඳව අවදි වෙන්න නම් පර්යංකය පුරාම යෝගාවචරයා එළඹ සිටි සිහිය යොනිසොමනසිකාරය ක්‍රියාත්මක කරන්න ඕනෑ. මේකටයි මේ දීර්ඝ වශයෙන් කරුණු ඉදිරිපත් කරන්නෙ. එහෙම නැතිව පටලැවිල්ලක් ඇති කරන්ඩවත් වාදයක් ඇති කරගන්ඩවත් නෙවෙයි. නමුත් මේ මට්ටම්වලට පත් වුණ කෙනාට නම් මේ කාරණා ඇහෙනකොට තේරෙනවා මේන් මෙතන මම සෘජු කරගන්ඩ ඕනෑ කියලා. ඒ මොකද, තමන්ගෙම අත්දැකීම් සාක්ෂි නිසා.

ඉතින් මේ තොරතුරුත් එකතු වෙලා ඒ සෘජු කරගැනීමේ වැඩපිළිවෙළ, දෘෂ්ටිය සෘජු කරගැනීම තව තවත් සිද්ධ වෙනවා නම් අපි අර්ථවත් වෙලාවක් ගත කළා වෙනවා. එසේම මේ වෙලාව අර්ථවත් වේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරන්ට බලාපොරොත්තු වෙනවා.

# 82 | විතර්ක මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති.**

**රූපවිතක්කො ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අද අපි මේ ආරම්භයක් ලබාගන්න බලාපොරොත්තු වෙන්නේ සතිපට්ඨාන මහා සූත්‍ර දේශනාව අනුව පවත්වාගෙන එන ධර්ම දේශනා මාලාවේ 82 වැනි අංකයටයි. ඒ අනුව අපි කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව කියන මුල් අනුපස්සනා තුන පියමං කරලා දැන් මේ ඉන්නේ ධම්මානුපස්සනා කොටසේ. එයිනුත් චතුසච්චපබ්බයේ, සච්චපබ්බයෙ. එයිනුත් දුක්ඛ සත්‍යය හමාර කරලා දැන් මේ ඉන්නේ සමුදය සත්‍යය කොටසේ, දුකට හේතු දක්වන තැන. මහා සතිපට්ඨාන සූත්‍රයේ දුක ඇති වීමට හේතු දැක්වීම, සූත්‍ර පිටකයෙ අන්තර්ගත අනෙකුත් තැන්තැන්වල විසිරී පවතින කරුණු රාශියක් ඉතාමත්ම ලස්සනට පෙළගස්සල තියෙනවා. බොහෝ දුරට අංග සම්පූර්ණ ගතියක් පේනවා.

ඒ වුණත් අනිකුත් සූත්‍ර එක්ක බලනකොට ඒ ඒ සූත්‍රවල සමහර කොටස් විශේෂණය කරලා තියනවා. තැන්තැන්වල එකිනෙක ඉක්මවා යෑම් තියනවා. මේකම ආදර්ශය කියල ගන්න අමාරුයි. සතිපට්ඨාන

සූත්‍රයේ එච්චරයේ ගොනුවක් සමලෝචනයක් වාගේ තමයි ඉදිරිපත් වෙලා තියෙන්නේ. අපි මේ සමුදය සත්‍යය කියන කොටස ගත්තත් ඒ කොටසෙත් මේ වෙනකොට සති හතඅටක් විතර ගත කරලා තියෙනවා, ධර්ම දේශනා හතඅටක් අපි සම්බන්ධ කරගෙන තියෙනවා තෘෂ්ණාව ඇති කිරීමේ ස්ථාන වශයෙන්. නම් වශයෙන් සඳහන් කරනවා නම් ඇහැ, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රිය හයට සම්බන්ධ කරගෙන හයවාරයක් හැම සාක්ෂියක්ම, හැම සාධකයක්ම හයවාරයක් නැවත නැවත පුනරුක්ති කරමිනුයි සර්වඥයන් වහන්සේ සමුදය සත්‍යය පිළිබඳ විස්තරය ගෙනියන්නේ.

ඒක නිසා **රූපං ලොකෙ පියරූපං සාතරූපං** විදියට, ඇහැ කියන ද්වාරයෙන් පටන් අරගන්නවා නම් ඒකට අරමුණු වෙන බාහිර රූපය, වර්ණ රූපය ප්‍රිය මනාප මිහිරියාවක් ඇති දෙයක්. එතැනත් තෘෂ්ණාව ඇති වෙන්ඩ පුළුවන්. ඊගාවට ඒ රූපය ඇවිල්ලා කිතිකැවෙන වදින පහසක් දෙන චක්ඛු විඤ්ඤාණය, අපි කියන ඇහේ ඔපය, චක්ඛු ප්‍රසාදය, ඒකත් තණ්හාව ඇති වෙන්න පුළුවන් තැනක්. ඒකත් මනුෂ්‍යයාට ප්‍රිය මනාප දෙයක්. මිහිරි දෙයක්. එතැනත් තෘෂ්ණාව ඇති වෙනවා. ඒ දෙක එකතු වීම නිසා ඇති වෙනවා නම් චක්ඛුසම්ඵස්සයක්, ඒකත් මනුෂ්‍යයාට ප්‍රියයි. මමයි දැක්කේ, මම දැක්ක මල, ඒ මල දැකපු හොඳට පේන ඇහැ. ඒ නිසා මගේ පෙනීම හොඳයි කියලා එතකොටත් එතැන ඒ හොඳ පෙනීමට ආසා කරනවා. මනාප කරනවා. එතැනත් තෘෂ්ණාව ඇති වෙන්න පුළුවන්.

මේ ඇහැත් **චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං. තිණ්ණං සංගති ඵස්සො** කියන විදියට ස්පර්ශයත් ඒ ස්පර්ශයෙන් පස්සේ පහළ වෙන වේදනාව, සංඥාව, සංචේතනාව ආදී වශයෙන් මේ සෑම ක්‍රියාවලියකම, මේ සෑම පුරුකක්ම "මගේ" ගතියක් එනවා. මම දුටු මල, නැත්නම් ඒ මල දුටු මගේ ඇහැ, ඒ දෙක හොඳට සම්බන්ධ කරලා පෙනිච්ච මගේ හොඳ ස්පර්ශය, ඒ ස්පර්ශය නිසා මට පහළ වෙච්ච වේදනාව, ඒ වේදනාව නිසා මට පහළ වෙච්ච සංඥාව, සංඥාව නිසා සංචේතනාව, තෘෂ්ණාව ආදී වශයෙන් ඒ වැඩපිළිවෙළ සම්පූර්ණයෙන්ම දැන් මමායනයකට ලක් කරලා මම කරපු දෙයක්, මගේ කරපු දෙයක් වශයෙන් පත් කරගෙන එනවා. නමුත් සර්වඥයන් වහන්සේ වගේ කෙනෙකුට හැර මේ යාන්ත්‍රණය අඳුරෙන් එළියට ගෙනැල්ලා මේ

වැඩපිළිවෙළ දක්වන්න පුළුවන් ශක්තියක් ඇත්තෙ නෑ. ඒ නිසා මේක පිළිබඳව පූර්ණ අවබෝධයක්, ඒ පිළිබඳව සර්වඥතා ඥානයක් යෝගාවචරයාගෙන් බලාපොරොත්තු වෙන්නෙ නෑ. යෝගාවචරයාට අවශ්‍යත් නෑ. නමුත් ධර්ම රසය පිණිස දැනගෙන සිටියොත් මෙතෙක් වෙලා බාහිර ලෝකේ ඇත්ත හොයමින්, නැත්නම් තෘෂ්ණාව හොයමින්, තෘෂ්ණාවේ විමුක්තිය හොයමින් ගත කරපු කෙනාට මේ සියල්ලටම හේතු තමා තුළයි කියලා දැනගන්න සුතමය වශයෙන් මේක පදනමක් සලසනවා. ඒ නිසා මේකේ සුතමය රසයක් තියෙනවා. ධර්ම රසයක් තියෙනවා.

නමුත් අපි අද මේ එළියට ගන්න හදන විතක්කයට එනකොට බළලා මල්ලෙන් එළියට පනිනවා. යෝගාවචරයාට අදාළ වෙන්න පටන්ගන්නවා. ගොරෝසුකම වැඩි වෙන්න පටන් අරගන්නවා. නැත්නම් හොඳට භාවනාව යනකොට සමාධිය හොඳට තහවුරු වෙනකොට යාන්තමට තේරෙන්න පටන් අරගන්නවා සර්වඥයන් වහන්සේ මේ ඉතාමත්ම ගැඹුරු දේ විස්තර කරගෙන ආවට, මෙන්න මෙතෙන්ට එනකොට විතර වගේ තමයි තමන්ට තේරෙන්න පටන්ගන්නේ කියලා. ඒත් මම පැහැදිලිවම ප්‍රකාශ කරනවා හොඳ විපස්සනා යෝගාවචරයෙක් තමා පිළිබඳව ස්වයං විවේචනයක් ඇතුව, මෙලොව වශයෙන්ම නිවන් දකින්න ඕනෑ, මේ සියල්ලම ඇති වෙන්නේ ඇතුළෙන්, නිවනත් ලබාගන්න තියෙන්නේ ඇතුළෙන්මයි කියන ලොකු ආත්ම විශ්වාසයක් ඇතිව මේ නාඩගම, මෙහි පවතින හිස් බව, පුස් බව, බොල් බව, කෝම්බය පමණක් පවතින බව දැකගන්න කැමතියි. ඒක ආත්ම නිෂේධනයකට හෝ ඉච්ඡා භංගත්වයකට හෝ පත් කරගෙන මානසික අසහනයට නොපැමිණෙන, හොඳ මානසික ශක්තියක් ඇති යෝගාවචරයාට මේ විතක්ක අවස්ථාවෙදී මේ වැඩපිළිවෙළේ යම් ප්‍රත්‍යක්ෂ දැනුමක් එනවා. නැත්නම් අතගාලා බලන්න පුළුවන් ශක්තියක් ඇති වෙනවා. නමුත් මේ විතක්ක මට්ටමෙත් වැඩේ යන්නේ පරියුට්ඨාන මට්ටමෙන්. ඒ කියන්නේ තාම සම්පූර්ණ කායික වශයෙන් හෝ වාචසික වශයෙන් ක්‍රියාව සිද්ධ වෙලා නෑ. පාපයක් හෝ පිනක් හෝ සිද්ධ වෙලා නෑ. නමුත් සිද්ධ වෙන්න අවශ්‍ය ශක්තිය ඇතුළෙ කසකැවෙන හැටි, ඇතුළෙ ජවකැවෙන හැටි මේ විතක්ක මට්ටමේදි දැකගන්න පුළුවන්.

ඒ වුණත් සීලයෙන් තොරව, මේ ජීවිතය වශයෙන් නිවන් දකිනවා කියන අදහසින් තොරව විතක්කය දක්වීම පිස්සු වැටෙන්න කෙටිම

ක්‍රමය. ඒක දක්වලා දුන්නට පස්සේ හරියට පසුබිම වශයෙන් සීලයක නොපිහිටාත්, සර්වඥතා ඥානය ලැබුවා වූ උත්තමයෙකුගෙ ධර්මයක්ය මේක, ජීවිත පරිත්‍යාගයෙන් කළ යුත්තක්ය මේක, කියන හැඟීමකින් බහින කෙනාට නම් රෝගය අහු වෙන්න පටන්ගන්නවා. නමුත් සමහර අයට මේක පිළිකාවක් බව දැනගන්නකොට, මේක ඒඩ්ස් රෝගයක් බව දැනගන්නකොට, මේක සුව කරන්න බැරි දෙයක් බව දැනගන්නකොට ඒ රෝග ලක්ෂණ දැනගැනීම නිසාම පපුව පැළිලා මැරෙන්න ඉඩ තියෙනවා. දරන්න බෑ මේක. අමාරුයි. ඒ තරමටම විතක්ක මට්ටමට ගියාට පස්සේ මේකෙ තියෙන කරකවලා අඹරවලා දක්වන ගතිය, නැත්නම් අපිම අමාරුවේ වැටෙන හැටි, අවශ්‍යතාවෙන්ම අපේ හැකියාවලින්ම වැඩිවැඩියෙන් දුක්වලට පත් වෙන හැටි මේ විතක්කය පිළිබඳව විස්තරයේදී බොහෝම විචිත්‍රව බුදුරජාණන් වහන්සේ පෙන්නලා තියෙනවා. අවුරුදු දෙදහස්පන්සිය හතළිස් ගානක් මේ ධර්මය අපි දක්වා මේ විදියට සජීවීව පැවතීමම අපේ ලොකු වාසනාවක් කියලා හිතෙනවා, සෞඛ්‍ය සම්පන්න මනසට.

එහෙම නැති කෙනෙකුට නම් හිතෙනවා, මේවා ගැඹුරු ධර්ම, ඔච්ච ඕනෑ නෑ, ඔච්චර දේවල් අවශ්‍ය කරනවද නිවන් දකින්න කියල, බඩේ අජීර්ණ හැදිච්ච මනුස්සයාට ආහාර දකිනකොට ටිකක් අපුලක් හිතෙන්නා වගේ ධර්ම කොට්ඨාශ දකිනකොට හිතෙනවා මේක අවශ්‍ය නෑ කියලා. නමුත් නියම හොයන කෙනාට නම් හොඳටෝම ලොකු සතුටක් ඇති වෙනවා. මෙච්චර කල් බල්ලෙක් තමන්ගෙ වලිගෙ හපාගන්න රවුමෙ කැරකි කැරකී ඉන්නවා වගේ, මේ හපාගන්න හදන්නේ තමන්ගේම වලිගයයි කියල තේරුම්ගත්ත දවසට ඒක හුදු හාස්‍යයක් බවට පත් වෙනවා. මේක මිරිඟුවක් බවට පත් වෙනවා. අන්න ඒ බවට, වටවළල්ලේ යන අපේ සිතිවිලි රාශියට හොඳ කදිම උත්තරයක් මේ විතක්කය පිළිබඳ විස්තරයට හොඳට සාවධානව ඇහුන්කම් දීගෙන ඉන්නකොට සිද්ධ වෙනවා. ඒක සම්බන්ධව අපි අද කාලය ගන්ඩයි යන්නේ - විතක්කය කියන එක මොකක්ද කියල.

අපි මීට ඉස්සෙල්ල **රූපසඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං** කියන පරිච්ඡේදය පහු කළා. ඒකෙත් මම මතක් කරනවා, ඒ විදියටම සද්දසඤ්චේතනාවත් ගන්න ඕනෑ. ගන්ධසඤ්චේතනාවත්

රසසඤ්චේතනාවත් ඵොට්ඨබ්බසඤ්චේතනාවත් මනෝසඤ්චේතනාවත් ධම්මසඤ්චේතනාවත් ගන්න ඕනෑ. නමුත් ධර්ම දේශනාව කෙටියෙන් කරගෙන යන්න ඕනැ නිසා මුලින් සඳහන් කළ රූප කියන පදය විතරයි මාතෘකා කරන්නේ. ඒක මේ සූත්‍රය විකෘත කිරීමට ගන්න උත්සාහයක් නොවෙයි, ඒක අහන ඇත්තන්ගෙ යුතුකමට බාර දෙනවා. චේතනාව ගැන කතා කරනකොට අපි සඳහන් කළා, චේතනාව කරන්නේ අරමුණ විෂයෙහි සම්ප්‍රයුක්ත ධර්ම ගොනු කිරීමයි. ඒක හරියට විශාල වඩු පට්ටලයක ඉන්න ප්‍රධාන වඩු ශිෂ්‍යයා අනෙකුත් පුහුණු වන ඇත්තනුත් යොමු කරමින් තමනුත් වඩු වැඩ කරමිනුත් අනික් අය මෙහෙයවනවා වගේ. මුළු වඩු පට්ටලයෙම සුපරීක්ෂකයා වශයෙන් කටයුතු කරන ගමන් එයත් උදේ ඉඳලා හැන්දෑ වෙනකල් වැඩ.

ඒ වගේම තමයි මේ චෛතසික වශයෙන් පනස්දෙකකට කඩලා වෙන් කරන තැන සංඥා වේදනා කියන දෙක සංඥා ස්කන්ධයයි වේදනා ස්කන්ධයයි වශයෙන් අයින් කරපුවාම සම්පූර්ණ සංස්කාර ස්කන්ධයට 50 ක් චෛතසික දලයි පෙන්නන්නේ. අන්න ඒ චෛතසික පනහේ ප්‍රධානියා වෙන්නේ චේතනාව. යම් වෙලාවකට චේතනාව විනිශ්චයක් කළා නම් අනිත් සේරම චෛතසික ඒ පැත්තට යොමු වෙනවා. ගොනු වෙලා චේතනා කරන මෙහෙයවීම අනුව ගමන් කරනවා. ඒ නිසා **චෙතනාහං භික්ඛවෙ කම්මං වදාමි.** යමෙක් යම් චේතනාවක් ඇති කළා නම් ඒකමයි කර්මය වෙන්නේ, ඒකට අපි වග කියන්න ඕනෑ. මොකද? චේතනාව මුල් වුණොත් අනෙකුත් සම්ප්‍රයුක්ත ධර්ම සියල්ලක්ම ඒ දිහාවට නතු වෙනවා. ඒක නිසා චේතනාවෙදී තමයි අපි දන්න හෝ නොදන්න මේ අහක යන සර්පයා ඔඩොක්කුවේ දාගන්නෙ. ලෝකයේ නාමරූප පද්ධතිය දිගට සිද්ධ වෙනවා. ඒ සිද්ධ වෙන එකේම ස්වයංක්‍රිය කොටසක් තමයි මා තුළත් සිද්ධ වෙන්නේ. නමුත් මම හිතනවා ඒ බාහිර නාම රූප පද්ධතිය වෙනයි, මෙතන මමෙක් ඉන්නවා, මම යමක් කළ යුතුයි, මම විසින් කැපී පෙනිය යුතුයි, මම වෙන්ව සිටගත යුතුයි ආදී වශයෙන් මේ නාමරූප පද්ධතියේ කොටසක් බාහිර වසයට දානවා. කොටසක් ඇතුළතට දාගෙන, ඇතුළත මම, ඇතුළත චේතනාව තියෙනවා, ඇතුළත අදහස් තියෙනවා, ඇතුළත සැලසුම් තියෙනවා, ක්‍රියාත්මක කළ යුතු දේවල් තියෙනවායි කියලා මම මේ සැලසුම්

ක්‍රියාත්මක කරන්න මේ මේ විදියේ චේතනා පහළ කළ යුතුයි, මේ මේ විදිහට ප්‍රයෝග ඥන කළ යුතුයි, මේ මේ විදිහට වෙහෙසිය යුතුයි කියලත් ප්‍රයෝග කරන ගතිය මේ දෙකට බෙදීම නිසයි ඇති වෙන්නේ.

එන්න ඒ ඇති වෙච්ච තකතිරුකම, වැරදි බෙදීම, ඔළමොට්ටලකම රජයන තැන තමයි, මම විසින් මේ ලෝකයේ තියෙන නාමරූප මේ මේ ආකාරයට වෙනස් කරන්න ඕනැයි කියලා පෘථග් භාවයට, පෘථග්ජන භාවය වශයෙන් දෙකට බෙදගත්ත එක, අරක මම මෙහෙයවන්නට ඕනෑ කියලා ගන්න දැඩි චේතනාව තමයි කර්මය බවට පත් වෙන්නේ. අනෙකුත් සියලුම චෛතසික නතු කරගැනීමේ හැකියාව ආයුහන රසය, චේතනා කියන චෛතසිකයේ තියෙනවා. ඒ නිසා චේතනාව යම් තැනකට මෙහෙයුවා නම් ඒකෙ වගකීම තමන් ගන්න ඕනැ. ඉතින් මෙතෙන්දි කීපවතාවක්ම මතක් කළ විදිහට, යටිපහු වෙන්න දෙන්නෙ නැතුව කාරණාවක් මතක තියාගන්න වෙනවා අපේ ඉදිරිය විග්‍රහය පිණිස. ඒ මොකද? චේතනා පහළ කිරීමේ අවශ්‍යතාවක් මතු වෙන්නේ මොකද? මේ දකින දේ සම්පූර්ණයෙන් දැකීමේත් අහන දේ සම්පූර්ණයෙන් ඇහීමේත් ශක්තියක් මනුස්සයාට නැති නිසයි. යමක ගඳ බැලුවොත් එක චිත්තක්ෂණයක, සම්පූර්ණයෙන් ඒ දේ ගඳ බලලා ඉවර කරන්න බෑ මනුෂ්‍ය ඉන්ද්‍රියට. රස බැලුවට පූර්ණ රසය ලබන්න පළවැනි චිත්තක්ෂණයේ බෑ. ස්පර්ශය කළාට පූර්ණ චිත්‍රය ගන්න අපේ ස්පර්ශ යාන්ත්‍රණය සුදුසු මදි. කල්පනා කළාට එක චිත්ත ක්ෂණයකදි ලෝකය තේරුම්ගන්න අපේ කල්පනා ශක්තිය මදි.

ඒ නිසා අපිට එකම දේ නැවත නැවත කරන්න වෙනවා. පළමුවැනි දැක්ම හැමදම හිඟමයි, හැමදම අතෘප්තිකරමයි, හැමදම කෝම්බයක්මයි. බොරුවක් නම් තියෙනවාමයි. පුස්සක් නම් තියෙනවාමයි. එහෙම නමුත් මමයෙක් ඇති වුණාට පස්සේ මමයා කැමති නෑ දැකපු දේ අඩුවක් තියල දැක්කා කියල හිතන්න. අහපු දේ මට සම්පූර්ණයෙන්ම නෑහුණායි කියලා කියන්න අපිට ලැජ්ජාවක් තියෙනවා. රස බලපු දේ මට සම්පූර්ණයෙන්ම එක මොහොතින්ම රස බලාගන්න බැරි වුණා කියල කියන්න අපිට ලැජ්ජාවක් තියෙනවා. ගඳ බලපු දේ මට සම්පූර්ණයෙන්ම විඳගන්න ලැබුණෙ නැති බව පිළිගන්න අපි ලෑස්ති නෑ. අතගාපු දේ සම්පූර්ණයෙන්ම පහස ලැබුවෙ නෑ කියල පිළිගන්න අපි

ලැස්ති නෑ. ඒ නිසා අර රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශය විෂයෙහි නොලැබිච්චි අත්දැකීම, අඩුව, ලැබිච්චි අත්දැකීම සම්පූර්ණ කිරීමේ ගතියකුත් එක්කයි මමයා වේදිකාවට ඉදිරිපත් වෙන්නේ. මෙන්න මේ අතින් දන කොටස තමයි අපි සංඥා ස්කන්ධය වශයෙන් ගන්නේ. වඩුවෝ නැවත හඳුනාගැනීම සඳහා ලකුණු තියාගන්නවා ලී කැල්ලෙ. ඒ වාගේම තමයි අපේ ජීවිතේ මෙතෙක් හම්බ වෙච්ච සෑම වස්තුවක් පිළිබඳ නාමරූපයක්ම සංඥාවකින් කෙලෙසලයි තියෙන්නේ. අපි එයාට නමක් තියලයි තියෙන්නෙ. ලකුණක් තියලයි තියෙන්නෙ. අපි ඇත්තටම පළමුවැනි සැරේ දකිනකොටවත් පූර්ණව දැකීමක් කරල නෑ. නමුත් ඒ අඩු, අර්ධ, පාළු, බොල්, හිස් දැක්ම යම් කිසි ලකුණක් එක්කමයි තියෙන්නෙ. අන්න ඒ ලකුණම දෙවැනි සැරේ දකිනවා මිසක්කා අර දැකපු දැක්ම සම්පූර්ණ කිරීමේ කුසලතාවක් හැම පෘථග්ජනයෙක් තුළම නෑ. ඒක නිසා චේතනාව කරන්නේ මොකක්ද? අර අඩු කොටස සම්පූර්ණ කරනවා.

දුටුගැමුණු රජ්ජුරුවෝ අවසාන මොහොතට පත් වෙනකොට ස්වර්ණමාලී මහා සෑයේ සියල්ල කරල ඉවර කරන්න බැරි වුණා. නමුත් අවසාන ඉල්ලීම වුණේ මොකක්ද? මට මගේ අවසාන මොහොතෙ පණ යන වෙලාවේ ස්වර්ණමාලී සෑය දැක දැක යන්න ඕනෑ. එතකොට රජකමට ඇවිල්ල තියෙන්නෙ පුංචි කාලේ නම් යුද්ධ කරපු තිස්ස කුමාරයා තමයි. එයා කළේ මොකක්ද? ජීවිතක්ෂයට අවසාන මොහොතට පත් වෙමින් හිටිය දුටුගැමුණු රජතුමාට සුදු රෙදිවලින් ඉතුරු කොටස සම්පූර්ණ කරලා පූර්ණ චෛත්‍යයක් පෙන්නුවා, මරණ මොහොතේ සිත නරක් නොකරගෙන පූර්ණ දේ දකින්න. මේ කුමාරයා, රජ වෙන්න හිටිය තිස්ස කුමාරයා කරපු වැඩේම තමයි මේ සංස්කාර ස්කන්ධය කරන්නෙත්. නොදැක්ක නොදැනුණ අඩුපාඩු සියල්ලම පිළියම් කරලා චෛත්‍යයක් අපිට පෙන්නනවා. මේකට අපි කියනවා සංස්කාර කියල. සකස් කිරීම් අරඇඳීම් සකැසීම් රාශියක් කරලා තමයි අපි දැක්කයි කියලා හිතාගන්නෙ. දැක්කෙ නැතුවයි කියලා කියන්න බෑ මෙතන. දැකලා තියෙනවා. නමුත් දැකීම අඩුපාඩු සහිතයි. දැකීම තෘප්තිකර නෙවෙයි. නැවත නැවත බැලීමට අපිට ආසාව ඇති වෙන්නේ තෘප්තිකර භාවය නැති නිසයි. නමුත් හිත ඇතුළේ යාන්ත්‍රණයක් තියෙනවා ඒ අඩුව පූර්ණ

කරලා ගන්න ගතියක්. ඒ මොකද? මැරෙන වෙලාවෙදි හරි නෑ නේ, චෛත්‍යය අඩුපාඩු තියනව දැක්කොත් හරි නෑ නේ. ඒ නිසා සුදු රෙද්දකින් වහලා සුදු පිරියම් කළා වගේ පෙන්නල තියෙනවා තව පොඩ්ඩකින් දුටුගැමුණු රජ්ජුරුවෝ සුව සේ මරණයට පත් වෙන්න.

ඔන්න ඔය වගේ වැඩ පිළිවෙළක් හැම චිත්තක්ෂණයකම, හැම අහන වාරයක් පාසාම දකින වාරයක් පාසාම අප තුළ සිද්ධ වෙනවා. අන්න ඒ සඳහා කරන මේ සකැසීම මේ වගෙයිඃ රූප ලාවණ්‍ය ස්ථාන තියෙන්නෙ දැන් ඔය හන්දියක් හන්දියක් ගානෙ. නළු නිළියන්ගේ අඩුපාඩු සම්පූර්ණ කරලා පොටි ගාලා කපලා පාට කරලා චිත්‍රපටිවල කැමරාවට මූණ දෙන්න හදන එකටත් අපි කියන්නේ සංස්කරණය කියලා තමයි. අන්න ඒ සංස්කරණ කෘත්‍යයත් මේ චේතනාවත් බොහෝ විට **අභිසඞ්ඛරොති අභිසඞ්ඛෙචතයති** කියලා සමාන පද වශයෙන් පෙන්නනවා. ඒ විදියට අපි චේතනාවක් ඇති කළා නම්, ඒ චේතනාව කරන්නේ අපි දැකපු දේ අංග සම්පූර්ණ නැති නිසයි. අංග සම්පූර්ණ බවට මතු කර දැක්වීමටයි චේතනාවක් ක්‍රියාත්මක වෙන්නේ. චේතනාව කරන මෙන්න මේ කෘත්‍යය වශයෙන් බාගෙට දැකපු දේ සම්පූර්ණ දෙයක් කියලා කියන්න අතින් දන කොටස ඇත්ත කියල පෙන්නන්න එදා සිට මැරෙන මොහොත දක්වාම අපි උත්සාහ කරනවා, රහත් නොවුණොත්. ඒක හරි වෙහෙසකර වැඩක්. කොටින්ම කියනව නං, අර වෙලාවේ බැරි වෙලාවත් දුටුගැමුණු රජ්ජුරුවෝ මියැදෙන්නේ නැතුව පණ ආවා නම්, තිස්ස කුමාරයාට සිද්ද වෙනවා ඒ සුදු රෙද්ද අයින් කරන්නේ නැතුව ඒක යටින් කොහොම හරි රිංගලා ගිහිල්ලා ගඩොල් බැඳලා කපරාරු කරලා සුදු හුණු තියල ඒ වැඩේ කරන්න. හොඳ වෙලාවට ඉතිහාසයේ සඳහන් කරලා තියෙන විදිහට දුටුගැමුණු රජතුමාගේ අභාවය සිදු වුණා. ඒ නිසා අර සුදු රෙද්ද ගලවන්නත් ගලවලා චෛත්‍යය ඉවර කරන්නත් පුළුවන් වුණා.

නමුත් අපේ වැඩපිළිවෙළ යන්නේ වෙනස් විදිහටයි. ඒ මොහොතේ එහෙම හැදුවට මැරෙන්නෙ නෑ. අර සකස් කරපු එක සකස් කිරීමක් නොවේ, සත්‍යයක් කියලා පෙන්වීමට පුදුමාකාර සටනක්, පුංචි දරුවාට නැති සටනක් වැඩිහිටියන්ට තියෙන්නෙ. මොකද, වැඩිහිටියන්ගේ චේතනා වැඩියි. අනුන් වෙනුවෙන් සකස් කිරීම් වැඩියි.

මේ සකස් කිරීම් සත්‍යයක්, මං මේ කෙරුවේ හේතු සහිතවයි කියලා පෙන්නන්ඩ ගොඩක් රණ්ඩු කරනවා. මේක සර්වඥයන් වහන්සේ පවා පිළිගන්නවා, ඇත්තටම ඒක සම්පූර්ණම අසත්‍යයක් නෙවෙයි. ඒ උදවිය යමක් දැකලා තියෙනවා. දැකපු දේ අඩුයි. ඒ නිසා සටන් කරන්න පුළුවන් හේතු කරුණු දක්වන්න පුළුවන් මම මේ ප්‍රත්‍යක්ෂයෙන් කතා කරන්නේ. මම දැක්කා. ඒ නිසා බොරුයි කියන්නත් බෑ. සම්පූර්ණයෙන් දැක්කෙ නෑ. කොටසක් සංස්කරණය කරලා තියෙන්නේ. කොටසක් මවා පාලා තියෙන්නේ. අන්න ඒ මවා පාපු කොටස ඇත්තයි කියලා පෙන්නන්නයි මෙයා උත්සාහ කරන්නේ. මේ ඇත්තට දැකපු එක මං මේ දැකලයි කියන්නේ කියලා බ්‍රහ්මජාල සූත්‍රයේ සෑම දෘෂ්ටියක්ම විස්තර කරනකොට සර්වඥයන් වහන්සේ කියනවා **තදපි ඵස්සපච්චයා.**

මේ අනුව ශාස්වත දෘෂ්ටිය ගන්න ඇත්තෝ ශාස්වත දෘෂ්ටිය කියන්නෙ අතගාල නැතුව දැකලා නැතුව කල්පනා නොකරලාම කියන එකක් නෙවෙයි. ආවට ගියාට කියන එකක් නෙවෙයි. ඒගොල්ලො සෑහෙන දුරට අධ්‍යයනය කරලා තියෙනවා. 75% ක් විතර වගේ, 50% ඉක්මවලා වගේ කාරණා දක්වන්න ඇත්තම කියනවා. නමුත් බර හරියක් බොරු, බර හරියක් මායාව, බර හරියක් පිටින් කරපු ආලේපන. අන්න ඒ ආලේපන ගැන කතා කරනකොට ඒ කට්ටිය කියනවා, නෑ මම ඇත්ත බලලා කියන්නෙ. නමුත් සර්වඥයන් වහන්සේ පෙන්නන්න හදන්නේ ඒක සංස්කරණය කරපු කොටස. ඒක පුද්ගලයාගේ දුක පිණිස හේතු වෙනවා. ඒක ඔප්පු කරන්න ජීවිත කාලෙම රණ්ඩු කරනවා වාද කරනවා. වැඩ කරගෙන යනවා.

චේතනාවේ තියෙන මේ අඩුව මකා ලීමේ ඌන පූරණ ශක්තිය නිසා චේතනාවක් පහළ කරපු තැන ඉඳලාම පුද්ගලයාට සිද්ධ වෙනවා ඒක ඔප්පු කරන්න. එතකොට කර්ම රාශියක් රැස් වෙනවා. ඒ නිසා යම් කිසි සිද්ධියකට චේතනා අඩු නම් කර්ම රැස් වීම අඩුයි. අපිට හරි පහසුවක් තියෙනවා. මේ නිසා අපි මේ වෙලාවේ බණ කියකියා හිටියට ලෝකයේ වෙන තැන්වල විශාල භයානක අසාධාරණකම්, දුක් කම්කටුලු කරදර සිද්ධ වෙනවා. අපිට කිසිම ප්‍රශ්නයක් නෑ. ඒ මොකද, අපේ චේතනා ඒ පැත්තට මෙහෙයවීමක් නෑ. බැරි වෙලාවත් ඒක මෙතන වුණා නම්, අපි හිතනවා ඒකට චේතනා අපි පහළ කළ යුතුයි, යාකළ

යුතුයි කියලා. වේගයෙන් එතැනට දුවලා ගිහිල්ලා වැඩ කරලා අනාගන්නවා. ඒ කරලා ඉවර වෙලා, අර අහක යන දේ තමන්ගේ ඔඩොක්කුවෙ දාගෙන කනවා කනවා කියලා දඟලන්න පටන් අරගන්නවා.

ඉතින් මේ නිසා චේතනා ඉතාමත්ම බලවත්ව ක්‍රියාත්මක වෙනවා නම් කර්ම බලවත්ව රැස් වෙනවා හොඳ හෝ නරක. ඒකට දීර්ඝ සංසාරයක් වාසනා ලබනවා. චේතනා අඩු වෙන්න අඩු වෙන්න කර්ම රැස් වීමේ වේගය අඩු වෙනවා. ඒ මොහොතෙත් වෙහෙස අඩු ගතිය දැනෙනවා. කර්ම වෙහෙස අඩුයි. ඒ වගේම ඵල විපාක පිළිබඳව අපේ තදබල ඇදීමකුත් නෑ. මේ විදිහට චේතනා ඇති කරපු නිසා ඒක රූප චේතනා, එහෙම නැත්නම් ධර්මයේ සඳහන් වෙන්නේ **රූපසඤ්චේතනා. රූපසඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං. සද්දසඤ්චේතනා ලොකෙ...** ඒ නිසා සද්ද රූපයක් අහන හැම චිත්තක්ෂණයකම අපි ඒකට කැලි පුරුද්දන ගතියක් තියෙනවා. යාන්තං අපි සිංහලෙන් කතා කරනකොට මේකට කියන්නේ සුද දකිනව කියලයි.

මේක හොඳට දකින්න පුළුවන් සක්මන් කරනකොටයි. සක්මනේ හොඳට වම වශයෙන් දකුණ වශයෙන් සක්මන් කරගෙන යනකොට, විශේෂයෙන්ම සක්මන කෙළවරට ගිහිල්ලා අපි හිටගෙන ඉන්න වෙලාවෙදී යමෙක් යනවා. සතෙක් එහෙ මෙහෙ වෙනවා, ගහකින් කොළයක් වැටෙනකොට අපි සුද දකිනවා. අපි මේකට සිංහලෙන් කියන්නේ සුද දකිනවායි කියලා. සුද දකිනකොටම අර පයේ තිබුණා වූ අවධානය, මනසිකාරය ඇහැට වැටෙනවා. ඇහැට පනිනවා. නමුත් අපිට ඒ ඇහැට පැනලා සුද දැක්කට ඒක ස්ත්‍රියාවක්ද පුරුෂයෙක්ද, ඉහළ සිට පහළට ගියාද වමේ සිට දකුණට ගියාද කියන විස්තර තාම හිතේ සටහන් වෙලා නෑ. අපි දැක්කේ යන්තම් හොල්මන විතරයි. ඊට පස්සේ අපි චේතනාව මෙහෙයවන්න ඕනෑ මේකා සතෙක්ද දන්නෙ නෑ, හතුරෙක්ද දන්නෙ නෑ, මොකක්ද දන්නෙ නෑ. ඒක නිසා දැන් සක්මනේ හිත කඩලා හෝ කමක් නෑ ඇහැට යොමු කරවන්නට ඕනෑ කියලා යොමු නොකළොත් සුද පමණයි. අපට ඒක පිළිබඳ මතකය හොඳට හිටින්නේ නෑ.

ඒක පිළිබඳව අංග ප්‍රත්‍යංග වශයෙන් දකින්න නම්, විස්තර සාක්ෂි දෙන්න නම් අපි ඒකට හිත දෙවැනි වතාවට තුන්වැනි වතාවට හතරවැනි

වතාවට කියන විදියට චිත්තක්ෂණ රාශියක් නැවත නැවත යොදවලා තමයි අර සුද දැකපු එක මස් පුරෝලා සායම් ගාලා මේක ස්ත්‍රියාවක්, මේක පුරුෂයෙක්, මේක සුභ දෙයක්, මේක යාළුවා, මේක තරහකාරයා කියලා අර විස්තර සේරම එන්නෙ පළමුවැනි චිත්තක්ෂණයේ දැක්මේ නෙවෙයි. පළමුවැනි චිත්තක්ෂණයේ දැක්ම ඒ නිසා වැඩි කල් හිටින්නේ නෑ. බොහොම ඉක්මනට අමතක වෙලා යනවා. ඒවා අනන්තවත් අප තුළ සිද්ධ වෙනවා. නමුත් ඒවා අපේ මතකයට යන්නෙ නෑ. අපේ මතකයට යන්නේ නැවතත් හිත ඒකට යොදවලා, ඒක දිහාම බලලා අංග ප්‍රත්‍යංග වශයෙන් දැක්කට පස්සෙයි. ඒකටයි චේතනාව කියලා කියන්නේ. ආන්න ඒ දකින දේවල් හොඳට හිතේ මතක හිටිනවා. එතකොට අපි අරමුණෙන් සම්පූර්ණයෙන් හිත කැඩිලා සක්මන් කරනවා නෙවෙයි. එතකොට බලනවා. නමුත් දන්නෙත් නෑ. ආන්න එතකොට, සක්මන් කරගෙන හිටිය නම් මතු නොවෙන්න තිබ්බ තණ්හාවක්, දැන් මේ ඇහැ විෂයෙහි සිත මෙහෙයවීම නිසා පහළ වෙන්න ඉඩ තියෙනවා. ඒක නිසා ද්වේෂයක් පවා පහළ වෙන්න ඉඩ තියෙනවා. එහෙම නැත්නම් අන්දමන්ද භාවයක් හෝ පහළ වෙන්න ඉඩ තියෙනවා.

ඒ නිසා ඒ චේතනාවට පස්සේ **රූපතණ්හා ලොකෙ පියරූපං සාතරූපං.** ඊට පස්සේ හිතෙනවා මේ සක්මනින් පොඩ්ඩක් බැහැර වෙලා මේ ආපු එක්කෙනාත් එක්ක පොඩ්ඩක් කතා කරන්න ඇත්නම්, එහෙම නැත්නම් මොකද මේ අවේලාවෙ ආවේ කියලා බනින්න ඇත්නම්, එහෙම නැත්නම් හොඳට පිටිපස්සෙන් ගිහිල්ලා කව්ද කියලා අග මුල සුල මුල හොයන්න ඇත්නම් ආදී වශයෙන් දිගට වැඩපිළිවෙළක් යනවා. කර්මය දිගට රැස් වෙනවා. රැස් වෙන තාක් දුරට තණ්හාව හෝ ද්වේෂය හෝ කෙලෙස් පහළ වෙන්න පටන්ගන්නවා.

මෙන්න මීට පස්සේ තමයි අපේ මාතෘකාව එන්නේ - විතක්කය. ඊට පස්සේ අරමුණට - නැවත නැවතත් ඒ ආපු අතුරු අරමුණට හෝ මෙතෙක් කර කර හිටපු සක්මනට හෝ නැවත හිත නැංවීමක් කරන්න වෙනවා, කෙරෙනවා. මොකද? චිත්තක්ෂණයක් චිත්තක්ෂණයක් පාසා ජවනිකා වෙනස් වෙනවා. ඒ ජවනිකා වෙනස් වෙනකොට අර තණ්හාව විසින් චේතනාව විසින් මෙහෙයවන පැත්ත අනුවයි ඊගාව විතර්කය තීන්දු වෙන්නේ. ඉතින් අපි කියනවා අපේ භාවනාව කැඩුවේ එතැනින්

ළඟින් ගිය ස්ත්‍රියාවක් කියලා. නැත්නම් එතන ළඟ හිටිය බල්ලෙක් බිරුවා, එහෙම නැත්නම් එතැන ළඟ භූමි කම්පාවක් සිදු වුණා, මොකක්හරි කියලා, අර පිටින් ආපු අරමුණ දඩමීමා කරගෙන අපි කියනවා අපිට සක්මන කරගෙන යන්න ලැබුණේ නෑ. ඒ මොකද බාහිරෙන් ආපු දෙයක්. ඉතින් ඒකට විතක්කය ඇදිලා යන එක සාධාරණයි. ඒ නිසා මේ විතක්කය බාහිර කාරණාවක්. මෙතැන භාවනාවට සුදුසු නෑ. නැත්නම් මේ පුද්ගලයා අකුසල් කරගත්තා මගේ භාවනාව කඩලා.

මේක තමයි මේ භාවනාව පටන් අරගන්නකොට අසාර්ථක යෝගාවචරයාගේ තර්ක ක්‍රමය. යම් විතක්කයක් පහළ කළා නම් ඒ විතර්කය බාහිර හේතුවක් නිසයි කියලායි කියන්නේ. අපි ඒක නිසා භාවනා කමටහන් සුද්ද කරනකොට මූල කර්මස්ථානය සහ බාහිර අරමුණු කියලයි දෙකට කඩන්නෙ. බාහිර අරමුණ හැමදම බාධකයක් විදිහට තමයි යෝගාවචරයා දකින්නේ. මොකද, ඔහු අභ්‍යන්තර අරමුණක් මූල කර්මස්ථානයක් තෝරාගෙන තියෙනවා. ඒක අපි කතා කර කර හිටපු තැන සක්මන. සක්මන තමයි කර්මස්ථානය. කර්මස්ථානයට හිත යොදගෙන ඉන්නකොට ඇහැට රූපයක් මතු වුණා. අපි ඒකට කියන්නේ බාහිර අරමුණ. ඉතින් ඒක නිසා අපි හිතන්නේ මේ විතක්ක පහළ වුණේ බාහිර අරමුණ නිසා. ඒ නිසා විතක්ක බාහිර හේතුවක්.

මෙන්න මේකට හාත්පසින්ම වෙනස් ධර්මයේ පෙන්වන විග්‍රහය. සර්වඥයන් වහන්සේ පෙන්නන්නෙ ඉතාමත්ම මායාකාරයකුගේ ඇස්බැන්දුම්කාරයෙක්ගේ වැඩපිළිවෙළක් මෙතන සිද්ධ වෙන්නේ. ඒ නිසායි මං සඳහන් කළේ ඒක සර්වඥ විෂයක්. නමුත් සර්වඥයන් වහන්සේ අනුකම්පාවෙන් පුළුවන් තරම් කාරණා ඉදිරිපත් කරලා තියෙනවා. හොඳට සතියෙන් සමාධියෙන් යුක්තව භාවනා කරන සක්මන් කරන යෝගාවචරයාට ඒ වෙලාවෙදී හරියට මේ ධර්මය පහළ වුණොත් මේ සර්වඥතා ඥානය පෙන්නන්නට හදන දෙය දැකගන්න පුළුවන් බව සර්වඥයන් වහන්සේ අදහනවා.

ප්‍රශ්න ඇසීමක ස්වභාවයෙන් සුචිලෝම යක්ෂයා ආලවක යක්ෂයා ආදී අය සර්වඥයන් වහන්සේගෙන් අහනවා, **රාගො ච දෙසො**

ච **කුතොනිදානො.** රාග ද්වේෂ කියන දෙක කොහෙන්ද, නැත්නම් මොකක් නිධානය කරගෙනද, මොකක් නිසාද හට අරගෙන තියෙන්නෙ කියලා. ඒ වාගේම අහනවා **අරතී රතී** මේ කියන දේවල් කොහෙන්ද උපදින්නේ, **මනොවිතක්කා,** මනෝ විතක්ක කොහෙද උපදින්නෙ, **කුමාරකා ධඞ්කමිවොස්සජන්ති** කියලා. ඒක හරියට අටුවාව පෙන්නන්නෙ මේ කැරකි කැරකි එතෙනටම වැටෙනවා කියන අදහසක් තියෙන්නේ. අටුවාව කියනවා පුංචි දරුවෝ සෙල්ලම් කරනකොට කපුටෙක් අල්ලගෙන ඒකගෙ කකුලේ නූලක් බැඳලා, ඉගිලෙන්න ඇරලා පස්සේ ගස්සපුවහම ඊට පස්සේ ඉගිලාගන්න බැරුව වැටෙනවා ආයෙත් එතැනටම. අන්න ඒ වගේ අදහසක් පෙන්වනවා **කුමාරකා ධඞ්කමිවොස්සජන්ති** කියන පදය අනුව.

නමුත් මට හිතෙන්නේ මේ **ධඞ්ක** කියන පදයේ හරි ලේසියි තෝරන්න, ඕස්ට්‍රේලියාවේ පාවිච්චි කරන බූමරංගයත් එක්ක. බූමරංගය දමලා ගැහුවට, මොකෙක්වත් ඒක වැදුණේ නැත්තම් ඒක මුලින් තමන් ඉන්න තැනට වැටෙනවා. ආන්න ඒ වගේ තමයි ඒ කලින් කියාපු තාලෙට අපි රූපයක් දකිනවා. නැත්තම් අර කියාපු තාලෙට අපි සුද දකිනවා. මේ සුද දැක්කාට අපිට අදහසක් ගන්න බෑ. ස්ත්‍රියාවක්ද පුරුෂයෙක්ද කියලා තාම අපේ හිතේ නෑ. අංග ප්‍රත්‍යංග දැක්කෙ නෑ. ආන්න ඒ තත්ත්වෙදී දෙවැනි සැරේ බලනවාත් එක්කම අපි තරහවකින් බලනවා සමහර විට මේ භාවනා කරන වෙලාවෙ ඇවිල්ලා එක්කෙනෙක් කරදර කරනවා. එහෙම නැත්නම් තමන් ප්‍රිය මනාප කෙනෙක් ආව නම්, භාවනාවත් නතර කරලා මෙයා හම්බ වෙන්න ඕනැ ආදී වශයෙන් අපේ හිතේ සංඥා රාශියක් ඇතිව තමයි අපි දෙවැනි සැරේ තුන්වැනි සැරේ ඒ අරමුණට තමන් හිටපු සක්මනෙන් අරමුණෙන් හිත කඩල, හිත මෙහෙයවන්නෙ.

ආන්න ඒ මෙහෙයවනකොට නැවත නැවතත් අපි රූපය දිහා බලන්න බලන්න අපේ පරණ මතකයෙන් ආපු සංඥාවලින් ආපු රාශියක් කරුණු මේකට වැක්කෙරෙන්න පටන්ගන්නවා. බැරි වෙලාවක්වත් අපි හොඳට භාවනා කරන වෙලාවේ මේ මනුස්සයා කරදර කරනවා කියන අදහසින් බලනකොට ඇත්තටම අපිට කලින් මොකක් හරි කෙනෙහිලි කරපු මනුස්සයෙක් දැක්කා නම්, අපිට පේන්න තියෙන්නේ පැහැදිලිවම මේ මනුස්සයා සැලසුම් කරලා මගේ සමාධිය කඩන්න මෙතෙන්ට ආවා.

ඒක නිසා මෙයාට එක්කො පාඩමක් උගන්නන්න ඕනෑ, නැත්නම් ලොකු හාමුදුරුවන්ට කියන්න ඕනෑ, නැත්නම් ධර්ම සාකච්ඡාවේදී හරි මෙයාව මතු කරලා දෙන්න ඕනෑ කියලා විශාල වශයෙන් අපිට විතක්ක පහළ වෙන්න පටන්ගන්නවා. ඒ විතක්කය ඇත්තටම සක්මන් කර කර ඉන්නකොට සුද දැකීම කියන ප්‍රත්‍යක්ෂය පදනම් කරගෙන තමයි තියෙන්නේ. නමුත් මේ නරක මිනිහෙක්ය කියලා හිතාගෙන ඒ අදහසින් බැලුවා නම් ඒකට සාක්ෂි වෙන විතර්ක රාශි වශයෙන් පහළ වෙන්න පටන් අරගන්නවා. ඒ මොකද? තමන්ට කලින් අදහසක් තිබුණා, මේ මනුස්සයා තමන්ට කෙනෙහිලිකමක් කරලා තිබුණා. නැත්නම් භාවනාවට උනන්දු නැති, භාවනාව ගැන සලකන්නේ නැති කෙනෙක් කියන හැඟීම තිබුණා නම්, දිගින් දිගට දිගින් දිගට පහළ වෙන සෑම විතර්කයකදීම අපි ඒකම සාක්ෂි කරන්නයි ඒකම තහවුරු කරන්නයි කටයුතු කරන්නේ. ඒක නිසා මේ මනුස්සයා දඩමීමා කරගත්තට අපේ හිතේ තිබුණු ක්ලේශයක්ම තමයි විතක්ක වශයෙන් පැනනගින්නේ.

මේ සෑම වෙලාවකදීම පේන දෙයක් තමයි පුරුකෙන් පුරුක බාහිර හේතුවක් තමයි හොයන්නේ මේකට මුල් වුණායි කියලා. අන්තිමට ගිහිල්ලා කිසිම සම්බන්ධයක් නැති බඩ මහත මුස්ලිම් මනුස්සයෙක් පහසුව පිණිස මරලා සියල්ලෝම සතුටුදායක තත්ත්වයකට පත් වෙනවා නඩු තීන්දුව බොහොම උත්කෘෂ්ටයි කියලා. ඒ වගේම තමයි අපේ තියෙන චේතනා පිළිබඳව අපිට අවබෝධයක් නැති නිසා, අපේ සංඥාවල් විසින් මේ වණ කරන අවුල් කරන තත්ත්වය පිළිබඳව අපිට හැඟීමක් නැති නිසා අපිට පහළ වෙන විතර්ක අර ළඟින් ගිය මනුස්සයා නිසයි කියලා අපි පුළුවන් තරම් බාහිරව ආරෝපණයකට පෙළඹෙනවා. පෙළඹිලා ඒ මදිවට ඒ මනුස්සයාට දෙස් කියනවා. ඒ මනුස්සයා උසාවියට කැඳවලා වැරදිකාරයා කරනවා. කරල හිතනවා තමන් ශ්‍රේෂ්ඨ භාවනාකාරයෙක් කියලා. තද කුහකකමක් මේ කරන්නේ.

නමුත් බුදුරජාණන් වහන්සේ සඳහන් කරනවා මේක **අත්තසම්භූතයි**. මේක උඹෙන්මයි හටගත්තෙ. මේකට හේතුව මොකද? කල් ඇතුවමත් තිබිලා තියෙනවා මේ මනුස්සයා පිළිබඳව වැරදි අදහසක්; එහෙම නැත්නම් මූලික වශයෙන් මූල කර්මස්ථානයෙන් ගැලවිලා සමාධිය කැඩීම නිසා හෝ ඇතුළෙන් හටගත්තා වූ මේ විතර්කය බාහිර

කෙනෙකුට ඒත්තු ගැන්වීම හේත්තු කරවීම තමයි මේ ලෝකෙ තියෙන සම්ප්‍රදය වෙලා තියෙන්න. මේ ලෝකෙ තියෙන සභ්‍යත්වය වෙලා තියෙන්නෙ. මේ වෙනුවට යෝගාවචරයාට සිදු වෙනවා මේක තමන් තුළින් හටගත්ත හැටි දකින්න. නැත්නම් හොයා බැලීම මුලට ගෙනියන්න. බාහිරයට ගෙනියනවාට වඩා තමන් දිහාවට යොදවන්න වෙනවා. මෙන්න මේකයි යෝනිසෝමනසිකාරය කියල කියන්නෙ. අයෝනිසෝමනසිකාරය කියල කියන්නෙ බාහිර හේතුවකට හේත්තු කරලා කැකිල්ලෙ රජ්ජුරුවන්ගෙ තීන්දුවක් දීලා වගේ සියල්ලෝම සතුටින් සමාදනයෙන් නාඩගම හමාර කරනවා.

මේ රූපය, මේ චක්ඛුවිඤ්ඤාණය, මේ ස්පර්ශය, මේ වේදනාව, මේ සංඥාව, මේ චේතනාව, මේ තණ්හාව, මේ සියල්ලම තමන් තුළ කෙලෙස් හරිත භාවය නිසා හටගත්ත දෙයක්; ඒ හටගැනීම නිසාම පහළ වෙන සෑම විතක්කයක්ම, අර තමන් මවාගත්ත දේ ඔප්පු කිරීමට සාක්කි වීම පිණිස පහළ වෙනවා; මේ විතක්ක අර දැකපු දේ සම්පූර්ණයෙන්ම වසා ලනවා. දැකපු දේ සම්පූර්ණයෙන්ම වැරදි චිත්‍රයක් ඇති කරන්න පුළුවන් වෙනවා. යෝනිසෝමනසිකාරය කියල කියන්නෙ මෙන්න මේ තත්ත්වය දැනගැනීමයි. යෝනිසෝමනසිකාරය නැතිනම් ඊට පස්සේ ඒ පුද්ගලයා ඕනැ තැනකට ගිහිල්ලා දිවුරනවා. අර තමන් හිතාගත්ත දේ සත්‍යය කරලා, ප්‍රත්‍යක්ෂය අසරණ කරලා, සාක්කි දීලා නඩු දිනවන්නත් ඉඩ තියෙනවා. මේක නම් ප්‍රශ්නයක් ඇත්තෙ නෑ ලෝකෙ දිගටම මේක යන්න ඕනැ. නඩුකාරයන්ටත් වැඩ තියෙන්න ඕනැ. නීතිඥයන්ටත් වැඩ තියෙන්න ඕනැ. නමුත් මේ පුද්ගලයා පෘථග්ජන භාවය දිගට රකිනවා. ඒ කරලා මම දිනුවායි කියලත් හිතනවා.

සර්වඥයන් වහන්සේ මේ වැඩපිළිවෙළට තමයි යෝනිසෝමනසිකාරය කියන කණ්ණාඩිය අල්ලලා පෙන්නන්නෙ. මේ වැඩපිළිවෙළ වෙන්නේ නෑ එක චිත්තක්ෂණයක. බොහෝම දුර දිග ගිය වැඩපිළිවෙළක්. අඩුම ගානේ දකින වේලාවේදී මම මේ දකිනවා කියන එකවත් මෙනෙහි කරන්න පුළුවන්කම තිබුණා නම්, කවදාකවත් කැලේ ඉන්න මුවා වෙනුවට ගෙදර තියෙන මුව හමට තඩි ගහනවා වගේ, කාටහරි හේත්තු කරලා මේ විතක්ක විචාර පහළ කරල, නඩු ඇති කරගෙන **තුවං තුවං පෙසුඤ්ඤං** කියන විදියට තෝ තෝ කියමින් බොරු

නඩු පටලවාගන්න කිසි දුරක යන්නෙ නෑ, කර්ම රැස් වෙන්නේ නෑ, සංසාරයේ පටලැවිල්ලක් වෙන්නේ නෑ.

ඒ නිසා සක්මන් කරමින් ඉන්නකොට අපිට දැකීමක් ඇති වුණා නම්, අපි දැන් හිත පවතින්නේ දකින සංසිද්ධියේ, දැකීමේ බව වහාම මෙනෙහි කරනවා නම්, දැකීම විෂයෙහි මේ තරම් විශාල පටලැවිල්ලක් කරගෙන අනුන්ට දෙස් පවරලා විතක්ක රාශි පහළ කරගනිමින් අරමුණින් පිට යන්න වෙන්නෙ නෑ. එහෙම නැත්නම් ඇත්ත ඇති හැටිය දකිනවා වෙනුවට තමන්ට ඕනැ දෙයක් දැකලා ඒ අනුව නඩු කියන්න යන මේ කුහකකම අපි තුළ වැඩි දුර යන්නේ නෑ. මේ නිසා සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා යම් කිසි කෙනෙකුට පුළුවන් වෙනවා නම් මේ විතර්කය කියන එක ඒකාන්තයෙන්ම **අත්තසම්භූත සොභජ** දෙයක් බව, ඇතුළතින්ම හටගත්ත, තමා ගැන ආත්ම ස්නේහයෙන් පටන්ගන්න දෙයක් කියලා දැනගන්න, ඒ පුද්ගලයා ඊට පස්සේ ඒ බොරුව ඒ විහිළුව අතාරින්න පටන්ගන්නවා. අනුන්ට වෙස් මවන, අනුන්ට පටබැඳි නම් දෙන, අනුන්ට වැරදි පටවන, තමන් ශුද්ධවන්ත වෙන, තමන්ගේ පැවැත්ම සහතික කරන්න හදන මේ වැඩපිළිවෙළ ඒකාන්තයෙන්ම ඇතුළතින් හටගන්න දෙයක් කියලා දැනගන්න එකයි, දන්වන්න උත්සාහ කරන එකයි තමා, මේ විතක්කය කියන චෛතසිකය පිළිබඳව මෙච්චර ධර්ම දේශනා කිරීමෙන් බලාපොරොත්තු වෙන ප්‍රායෝගික අර්ථය.

ඒක නිසා විතර්කය පහළ වෙන්නේ නෑ ගහෙන් ගෙඩි එන්නා වාගෙ එක සැරේට. මේක පහළ වෙන්න නම් ඇහැට රූපයක් වැටෙන්න ඕනැ. ඒ වෙලාවේදී අනිකුත් ඉන්ද්‍රිය වෙනුවට ඇහේම හිත පහළ වෙන්න ඕනැ. ඒ ස්පර්ශය ලබන්න ඕනැ. ඊට පස්සේ ඒකෙන් වේදනාවක්, වින්දනයක් ලබන්නම වෙනවා. ඒ වින්දනය මතට,දැනගත්තත් නොදැනගත්තත් පරණ පුරුදු සංඥා රාශියක් වැගිරෙන ගතිය පෘථග්ජනයාගේ හැටි බව අපි මතක තියාගන්න ඕනැ. මේ සංඥාවලින් තමයි අර අසම්පූර්ණ දැක්ම - සුද දැක්කා වගේ කියන එක - මම සාමාන්‍යයෙන් ගන්න නිදර්ශනය තමයි නරියෝ රිලව් හෙම එලවන්න, බල්ලො එලවන්න, සත්තු එලවන්න හේන්වල හදලා තියෙන පඹයා. ඒ පඹයා දැකපු සතා හිතාගෙන ඉන්නෙ මේ මනුස්සයෙක් කියලා. ඉතින් ඒ

නිසා දෙවෙනි තුන්වෙනි සැරේ බලන්නවත් ඉන්නේ නෑ ඌ හැරිලා දුවනවා. බැලුවත් පේන්නෙම මනුස්සයෙක් වාගෙ තමයි.

අන්න ඒ වගේ තමයි අපිත් යම් කිසි දෙයක් දකිනකොටම අර පඹයා දැකලා මිනිහෙක් කියලා රැවටෙන නරි හිවල්ලු වාගේ අපි දකින්නෙ අපිට ඕනැ දේ. එතැන තියෙන්නෙ පිදුරුවලින් හදපු පඹයෙක්. නමුත් එතැනදී ඒ දේ දැක්කට පස්සේ මනුස්සයෙක්මයි. නැත්නම් පාර හරහා කෝටුවක් වැටිලා තියෙනවා. මඳ අන්ධකාරෙ ගමන් කරන කෙනාට සර්පයෙක් වශයෙන් පේනවා. ඉතින් ඒ මනුස්සයා දුවනවා. නැවත නැවත කවුරු පෙන්නන්න හැදුවත් ඒ මනුස්සයා කියන්නේ "ළං වෙන්න එපා, කිට්ටු වෙන්න එපා, ඔය සර්පයෙක්". ඉතින් ඊට පස්සේ ඒ මනුස්සයාට කෝටුව සර්පයා නෙවෙයි කියලා කොහොමටක්වත් කියන්න බෑ. හේතුව මොකද? තමන් තුළ තියෙන කුප්පන ගතිය, කිපෙනසුලු ගතිය. ඒ මදිවට ඒ වෙලාවෙදී ඇති කරගත්ත නරක සංඥාව, ආයෙ ඒක මකන්න අමාරුයි. ඒ මොකද? සංඥාව අස්ථිර දෙයක්, වෙනස් වනසුලු දෙයක්. නමුත් පෘථග්ජනයා සෑම දේම ගන්නෙ ස්ථිර වශයෙන්මයි. නිත්‍ය සංඥාවෙන්මයි ගන්නෙ. ඉතින් ඒ මනුස්සයාට එතැනට ගිහිල්ලා පෙන්නුවත් හරියන්නේ නෑ. බෙලි ගෙඩියක් තල් අත්තට වැටිච්ච සිද්ධියෙ අර සිංහයා හාවාට ආයෙමත් ආපහු ගිහිල්ලා පෙන්නුවා වගේ තමයි.

බුදුරජාණන් වහන්සේ කරන්නේ මේ සිංහයාගෙ වැඩේ. කැලේ කඩාගෙන දුවනකොට කොහෙද බොල කියලා ආපහු මුලට ගෙනියන්න හදන එකයි. ඒ නිසා සංඥා ඇති වෙනකොටම අපිට ඒ පිළිබඳව අවදි වෙන්න පුළුවන් නම්, මේ සූත්‍රයේ **එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසති** කියන විදියට අපි අපේ මතකය කියලා හිතාගෙන ඉන්න, අපේ දැනුම සම්භාරය කියලා හිතාගෙන ඉන්න මේ කුණුකන්දල් ගොඩ තෘෂ්ණා උල්පතක්, තෘෂ්ණා ආකරයක්, සංසාරයට බඳින තැනක්ය කියලා තේරුම්ගන්න නම් සංඥාව තෘෂ්ණා උල්පතක් බව තේරුම්ගන්න ඕනැ. මේ සංඥාව නිසා කරන්න දෙයක් නෑ, ඊගාවට චේතනා පහළ කරනවාමයි. පූර්ණ වශයෙන් දැක්කෙත් නෑ. ඒ වෙනුවට මේ හොල්මනක් හිතේ තියාගෙන ඉන්නවා. ඒ නිසා ඒකට සම්බන්ධ වෙලා අපි චේතනා පහළ කරනවා. චේතනා නිසා තණ්හාව

පහළ වෙනවා. ඊට පස්සේ ඒ පහළ කරගත්ත චේතනානුකූලව දිගට විතක්ක කරනවා.

මේ විතක්කය අපි කලින් සඳහන් කළා බළලා මල්ලෙන් එළියට පනින්නා වගේ. විතර්කයක් ආවට පස්සෙ අපිට තියෙන වාසිය තමයි ඒ එකම විතර්කයේ ඒ සංසිද්ධියට සම්බන්ධ කරලා නැවත නැවත පහළ වෙන්න ගන්නවා. අන්න එතකොට යෝගාවචරයා මේ හිතුවිල්ලක් ආවය, අතීතයට දිව්වාය, අනාගතයට දිව්වාය කියලා අල්ලගන්න පුළුවන් තැනකට එනවා. ඔතෙන්ට එනකල් නැවත නැවත විතක්ක පහළ වෙන තැනට එනකල් චිත්ත වීථිය දුවන්නෙ ඉතාමත්ම වේගයෙන්. සමහර වෙලාවට එක ජවනිකාවට එක චිත්තක්ෂණයයි. නමුත් මේ විතක්කවල තියෙනවා ගතියක්, නැවත නැවත පහළ වෙනවා. ආන්න ඒ පහළ වෙනකොට ඒක දිගේම වෙච්ච තැන දක්වා, අර හාවට බෙලි ගෙඩිය වැටිච්ච තැන දක්වා කැලේ ඉන්න සේරම සත්තු අඬගහගෙන එතැනට යනකල් හැම සතෙක්ම යන්නේ පිටිපස්සට යන්නා වගේ. බයෙන් බයෙන් යන්නේ ඒ පැත්තෙ අහස පෙරළෙනවා. දැන් මේ සිංහයා කිව්වට ගියාට අහස පෙරළුණොත් මොකද වෙන්නේ? ඒ නිසා අඩිය ඉස්සරහට තිබ්බට මොකද, පස්සෙන් පස්සට තමයි යන්නේ.

ඒ වගේ තමයි සර්වඥයන් වහන්සේ කොච්චර කිව්වත් කොච්චර දේශනා කළත් මේ සංඥව, මේ චේතනාව, මේ විතක්ක ඇතුළෙන් හටගත්ත දෙයක් කියලා, අපිට පේන්නේ නම් නෑ. මේ පිටින්මයි ඇති වෙලා තියෙන්නේ. සර්වඥයන් වහන්සේ කිව්ව නිසා බයෙන් බයෙන් බයෙන් බයෙන් යන ගතියක් තියෙනවා. ඒක නිසා භාවනා කරනකොට හිතිවිලි පහළ වුණාට සති සම්පජඤ්ඤ කියන දෙක, වෙන විදියකට කියනවා නම් සතිය සමාධිය දෙක දුර්වල නම් හිතිවිලි පේන්නේ විශාල කන්දක් වාගේ. මහා භයානක දෙයක් වාගේ. නමුත් දන්නෙ නෑ මේ තමන්ගෙම හෙවණැල්ලමයි. තමන් ඇති කරගත්ත එකක්මයි. පොල්ලට ලොකු වළං තියෙනවද කුඹලාට? වළංකාරයාට සුමානෙක වැඩ පොලුකාරයට වරුවයි යන්නේ. ඒ වගේම මේ හිතිවිලි කියන්නේ සම්පූර්ණ අත්ත සම්භූතයක් කියලා දන්නවා නම්, මේ හිතිවිලි නිසයි අරමුණ වෙස් ගැන්වෙන්නේ, ඒ හිතිවිලිවලට අපි වග කියන්න ඕනෑ; එහෙම නැත්නම් ඔහේ ආපුදෙන් ඔහේ ගියාවයි.

ඒ තියෙද්දී තමන් මූල කර්මස්ථානය මෙනෙහි කරන්න පුළුවන් නම්, හිතිවිලි ඉබේම දුර්වර්ණ වෙලා පැත්තකට යනවා. ඒකට නම් ඒ සිතිවිල්ලත් නැත්නම් අපි මේ මෙතනදි හිතිවිල්ල කියන වචනෙට ගන්න විතක්කයත් ඇතුළතින්ම හටගත්ත දෙයක්. තමන්ම බෝ කරගත්තු දරුවෙක්. එහෙම නම් එයා එනකොට මෙහෙමයි, පවතිනකොට මෙහෙමයි, නැති වෙනකොට මෙහෙමයි කියලා ඒක දිහා බැලුවට ඒකෙ ධර්මයෙන් අධර්මයකට පත් වීමක් වෙන්නේ නෑ. ධම්මානුපස්සනාවක්මයි වෙන්නේ. අන්න එතකොට පුළුවන් වෙනවා මේ විතක්ක කියලා කියන්නේ ඒ තරම් භයානක දෙයක් නෙවෙයි. එතැන ගැම්ම තියනවා, ඊට ඉස්සෙල්ලා ආපු චෛතසික රාශියේදීම ඇති වෙච්ච මෝහය එතැනදී කුළුගැන්විලා තියෙන නිසා. නමුත් මෙතැනදී තමයි එළියට එන්න හදන්නේ.

විතක්කය ආපුවාම මේකට තමයි දසමාර සේනාවල් කියන්නෙ. **කාමා තෙ පඨමා සෙනා, දුතියා අරති වුච්චති; තතියා ඛුප්පිපාසා තෙ...** ආදී වශයෙන් දසමාර සේනාවල් විදියට මේ සිතුවිල්ල, මේ විතක්ක තමයි පහළ වෙන්නේ. ඉතින් අපි මාර සේනාවල් සොයන්න රණ්ඩු කරන්න මෙහෙ බළ සේනා හදනවා. මෙච්චර මාර සේනාවක් හැදිලා තියෙන්නේ මේ වැරදියට ගත්ත රූපසංඥාව, වැරදියට ගත්ත චක්ඛු විඤ්ඤාණය පිළිබඳ හැඟීම, ස්පර්ශය, සංඥාව, චේතනාව, තණ්හාව, විතක්ක ආදී වශයෙන් මේ වැඩපිළිවෙළ නිසයි කියලා දකින තාක් කල් කවදාකවත් මොනම සීලයකින්වත් මොනම සමාධියකින්වත් එතෙර වෙන්න බෑ.

මෙන්න මේක දැක්කා නම්, කොටින්ම හිතාගත්තා නම් මේක තමන්ම ඇති කරගත්තු දෙයක්, ඕකට බය වෙලා දුවන්න දුවන්න ඕකත් අරගෙනමයි දුවන්නෙ. ඒ නිසා මේකට මුහුණ දෙන්න ඕනෑ කියලා පටන්ගත්තොත්, එතැන ඉඳලාම ඔහුට තේරෙන්න වෙනවා ඇතුළෙන් හටගත්ත දේ දිහා තමන්ම බලන්නේ නැතුව කාටවක්වත් මේක වෙනස් කරන්න බෑ. ඒ දේ දිහා බැලුවා නම් තමන්ට තේරෙනවා මේ ආකල්ප නිසා සත්‍යය කොච්චර විකෘත වෙලාද කියලා. ඒ නිසා නැවත නැවතත් සත්‍යය දකින්න මේක ආකල්පයක් කියන හැඟීමෙන් බලන්න නම්, පුදුමාකාර සතියක් අඛණ්ඩ සතියක් දිගට පවත්වන්න ඕනෑ. දිගට සතිය පවත්වනකොට යම් මොහොතක තමන්ට තේරෙනවා නම් මේක දිහා

මම බැලුවේම වපර ඇහින්මයි, නැත්නම් මට පෙනුණේම වපර ඇහෙන්මයි. ඔන්න දැන් ඒක පිළිබඳව ස්වභාවය පේනවා කියන තැනට ආවොත් අන්න එදාට බුදුන් දකිනවා. දහම දකිනවා. එදාට අකාලිකයි.

ඒ චිත්තක්ෂණයේදීම ඔහුට වෙනස සිද්ධ වෙනවා. එතැනට එනකල් ඔහු අවුරුදුගණන් භාවනා කරල තියෙන්න ඉඩ තිබුණත්, නමුත් කිසිම වෙනසක් ඇති වුණේ නෑ. ඒ නිසා බොහෝම කනගාටුවෙන් බොහෝම ඒකාකාරීකමින් බොහෝම එපාකමින් දකින්නෙ. නමුත් කවදා හෝ මේ අරමුණ කියන අපි පිම්බීම හැකිළීම ගනිමු. ආනාපානය ගනිමු. එහෙම නැත්නම් සක්මනේ යනකොට වම දකුණ වශයෙන් ගනිමු. ඒ දකින අරමුණේ පවතිනකොට ශබ්ද ඇහෙනවා, විතක්ක පහළ වෙනවා, වේදනා එනවා. මේ සෑම දෙයක් දිහාම, ඒවා ධර්ම, මේ වාගේ පාඩමක් තියෙනවා, මේවා කවදා හෝ මම මුල මැද අග වශයෙන් දැකලා ඉක්මවන්න ඕනෑ, මේවා කොටින්ම මම ඇති කරගත්ත දේවල්, ඒ නිසා මේක මගේම දරුවෙක්, මේක මම ඉක්මවන්න ඕනෑ කියන හැඟීමෙන් බැලුවොත් යකා ඔය කියන තරම්ම කළු පාට නෑ.

නමුත් මේ වෙනකොට තමන් ඇති කරගත්ත මේක බලාගෙන හිටියොත් මට පිස්සු හැදෙයිදෝ, මගේ අත පය කොර වෙයිදෝ, මට අංශභාගය එයිදෝ, එහෙම කරල හොඳ නෑ නේද ආදී වශයෙන් තමන්ගේ සම්ප්‍රදායානුකූලව එන දැනුමෙන් ඇති වෙන ඒ එක එක යෝජනාවලට ඉඩ දෙන්න ගත්තොත් අපිට ඇත්ත දර්ශනය ඇත්ත දැකීමේ අවස්ථාව නැති වෙලා මේ විතක්කය දිගින් දිගටම දිගින් දිගටම අපිව මෝහනයට පත් කරනවා. බුද්ධ දේශනාවේ මේ පිළිබඳව බොහෝම ලස්සන උපමා ඉදිරිපත් කරලා තියෙනවා. එකක් තමයි නුග ගහ ඉහළට වැඩුණට පස්සේ ඒකෙ අතු හුඟාක් වෙලාවට හරස් අතට දුවන්නෙ. නුගය අඹ ඇටයකටත් වඩා පුංචි ඇටයකින් පැළ වෙන්නේ. කඳ උඩට ගිහිල්ලා හරහට අතු විහිදිලා, අක්කර කාල හමාර වැසෙන තරමට අතු පතර විහිදිලා වැඩෙනවා. වැඩුණට පස්සේ අර පුංචි කඳ මදි වෙනවා, මහා ගහ දරන්න. ඒ වගේම මේ අතු දරන්න. ඊට පස්සේ අත්තෙ කෙළවරින් අරළු බහිනවා. ඉතින් ඒක සොයාගෙන යන්නේ සිනෙහ තමයි, තෙතමනය තමයි. ඒ අරළුව බිම ඉඳලා උඩට නෙවෙයි වැඩෙන්නේ උඩ ඉඳලා බිමටයි. අන්තිමට මොකද වෙන්නෙ? අර බිම ඉඳලා උඩට වැඩිච්ච ප්‍රධාන කඳ

සම්පූර්ණයෙන්ම වහගෙන, ඒක කොහෙද තිබුණෙ කියලා හොයන්න බැරි තරම් අරළුවෙන්, අරළු කඳෙන් නුග ගහ වැහිල යනවා.

තව උපමාවක් තියනවා. ගසක හැදෙන පිළිලයක් ඉතාම පුංචියට පටන් අරගෙන ඒ ගහේ ඕජාවම විඳලා ඒ ගහම මරලා දන හැටි. එහෙම නැත්නම් තවත් එකක් පෙන්නනවා උණ බට වාගේ තචසාරංව කියලා කියනවා - පොත්තෙ හරය තියෙන ගස්වල මල් පිපීමෙන් ඒ ගහ විනාශ වෙන්නා සේ තමන්ම තමන් නසාගන්නා හැටි. මේකට තමයි පෘථග්ජන භාවය කියලා කියන්නේ. මේක තමයි පෘථග්ජනයාගේ වැඩේ.

ඒ වගේම තමයි සෑම සංසිද්ධියකදීම ඇත්ත වශයෙන්ම දැකීමක් වෙනවා. ප්‍රත්‍යක්ෂයක් තියෙනවා. නමුත් ඒ ප්‍රත්‍යක්ෂයට හාත්පසව තමන් දැක්කායි කියල හිතාගන්න අරළු කඳෙන් අර මුල් කඳ වැහුණට පස්සේ අපි පහළ සිට ඉහළට යන දේකට කඳ කිව්වට දැන් ඉහළ සිට පහළට යන දේකටයි කඳ කියන්න වෙලා තියෙන්නේ. අන්න ඒ වගේ අපි හිතාගත්ත දෙයක් තමයි දැකලා තියෙන්නේ. ඒකයි අපි කියන්නේ හිත ගිය තැන ආදර රජ මාලිගාව සෑදේ. උණහපුලුවාට උගේ දරුවා මැණිකක් වාගේ. ඒක නෑයි කියන්න බෑ. ඒ නිසා කවදකවත් උසාවියකදීවත් ඒ බව ඔප්පු කරන්න හදන්නේ නෑ. නමුත් බුදුරජාණන් වහන්සේ ඊට ගැඹුරකට යනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේක හැමදම පෘථග්ජන සන්තානයේ දැකීමක් පාසා සිදු වෙනවාමයි. ඇහීමක් පාසා සිදු වෙනවාමයි. නමුත් ඇහැ බොහෝමත් මායාකාරියි, යුහුසුලුයි. කන ඉතාමත්ම මායාකාරී දෙවැනියට. දෙවැනි වෙන්නෙ ඇහැට විතරයි. ඊගාවට නාසය, ඊගාවට දිව, ඊගාවට කය.

ඒ නිසා වැඩේ පටන්ගන්න නම්, බොරු අල්ලන්න නම්, ඇස්බැන්දුම පිළිබඳව හරි දැක්ම ලබන්න නම් ලාවට වැඩේ සිද්ද වෙන්න, හෙම්හිට වැඩේ සිද්ද වෙන්න කයෙන් පටන්ගන්නෙයි කියල කියනවා. ආශ්වාස ප්‍රශ්වාස දෙකට හිත දන්න. පිම්බීම හැකිළීම දෙකට හිත දන්න. පටන්ගන්නකොට පළවෙනිම චිත්තක්ෂණයෙ, එහෙම නැත්නම් පළවෙනිම හිත යොදන වෙලාවෙදී අපිට පිම්බීමෙන් හැකිළීම කළු සුදු වෙනසක් දකිනවා. එහෙම දැක්කේ නැත්නම් ඒ මනුස්සයාට ප්‍රකෘති මනසක් නෑ. ඒ තරම්ම මේ දෙක ප්‍රතිපක්ෂ ධර්ම දෙකක්. ආන්න ඒ

වෙලාවෙදී අපි අඩුම තරමින් හිත මෙහෙයවනකොට පිම්බීමේ සටහන හෝ හැකිළීමේ සටහන දැකගන්න පුළුවන්. නැත්නම් ඒ කියන්නේ දැකලා නෑ. දකිනවා නම් ඉස්සෙල්ලාම දකින්නේ ඒ සටහන. ඒක හරියට මයිනහමක් අදින්නා වාගේ මයිනහමක් අකුළන්නා වාගේ. බැලුමක් පිම්බෙන්නා වාගේ බැලුමක් හැකිළිලා යන්නා සේ. දෙරක් අරින්නා සේ දෙරක් වහන්නා සේ. ඉස්සරහට යන්නා සේ පස්සට යන්නා සේ කියලා හාත්පස වෙනස් ස්වරූප සටහන් දෙකක් තමයි අපි දකින්නෙ.

ඒකෙන් අපිට කියන්න පුළුවන්ද අපි දැක්කායි කියල? එහෙම නම් අපිට ඒ පළමුවැනි සැරේ දකිනකොටම යථාභූත ඥාන දර්ශනය පහළ වෙලා අපිට ත්‍රිලක්ෂණ අවබෝධය පහළ වෙයි. නමුත් එහෙම වෙන්නේ නෑ. සර්වඥයන් වහන්සේ දේශනා කරනවා මේක ලක්ෂවාරයක් බලන්න. බලනකොට මොකද වෙන්නේ? ඒ පළමුවැනි සැරේ දකින සටහන දෙවැනි සැරේ දකිනකොට වෙනස් ආකාරයකට පත් වෙලා. බැලුම එන්න එන්න එන්න එන්න පිම්බෙන ප්‍රදේශය අඩු වෙන්න පටන්ගන්නවා. දෙර ඇරෙන වැහෙන ප්‍රදේශය අඩු වෙනවා, නැත්නම් වැඩි වෙනවා, නැත්නම් ප්‍රිය වෙනවා, නැත්නම් අමනාප වෙනවා, මනාප වෙනවා නානාප්‍ර විධියට අර සටහන දෙවැනි තුන්වැනි චිත්ත වීථිවලට යනකොට ආකාරයක් බවට පත් වෙනවා. එහෙම නැත්නම් එක පාරක් නිශ්චල ඡායාවකින් ගත්ත රූප සටහනක් වගේ නෙවෙයි වීඩියෝ කැමරාවකින් බැලුවාම වගේ ඒ සටහන් චිත්තක්ෂණයක් චිත්තක්ෂණයක් පාසා වෙනස් වෙන ආකාර දැකගන්න පුළුවන්.

ඒ නිසා යෝගාවචරයා වැඩි වෙලාවක් දැක්කා නම්, අරමුණේ සටහන විතරක් නෙවෙයි ආකාරත් දකිනවා. මේ ආකාර එකක් නෙවෙයි දෙකක් නෙවෙයි තුනක් නෙවෙයි කෙළකෝටි වාරයක් තියෙනවා. මේ සෑම දෙයක්ම පූර්ණ දැක්මකට අවශ්‍යයි. ඒ කියන්නෙ පළමුවැනි දර්ශනයේදී අපි දකින්නෙ වට ඉරි රේඛාව පමණයි. ඊට පස්සේ තමයි මේකට අපි මස් පුරවලා හැඩ තල නිල බලාගන්නෙ. මේ දකිනකොට තමන්ට තේරෙනවා දැන් තමයි ඔන්න පිම්බීම දකින්නේ. ඔන්න ඕක වේගෙන යනකොට පුදුමාකාර වෙනසක් ඇති වෙනවා, අර කලින් දැකපු පිම්බීම සහ හැකිළීම අතර තිබුණ වෙනස, ආශ්වාස ප්‍රශ්වාස දෙක අතර වෙනස, වම සහ දකුණ අතර වෙනස එන්න එන්න අඩු වෙන්න පටන්

අරගන්නවා. විස්තර බොහෝ වෙන්න වෙන්න දෙක අතර වෙනස අඩු වෙන්න පටන්ගන්නවා.

මේක යෝගාවචරයාට අහු වෙන්නේ නෑ. වෙනස අඩු වෙනකොට යෝගාවචරයාට පේන්නේ අරමුණ නොපෙනී ගියා, අරමුණ නොදැනී ගියා. ඒ මොකද, හොඳ වෙනසක් තිබුණා මුලදී. නමුත් එක එක චිත්තක්ෂණය චිත්තක්ෂණය පේන ඒ ස්වාභාවික ලක්ෂණ, අත්‍යන්ත ලක්ෂණ, ප්‍රත්‍යක්ෂ ලක්ෂණ පේන්න පටන්ගන්කොට අර සම්මුතිය වශයෙන් තිබුණු ඇතුල් වීමේ පිට වීමේ වෙනස නැති වෙලා යනවා. පිම්බීම හා හැකිළීම අතර වෙනස නැති වෙලා යනවා. මේ වුණත් තාම අරමුණ දැක්කායි කියලා කියන්න බෑ. ඒ කියන්නේ ලක්ෂ වාරයක් දැකලා, අරමුණේ සෑම ආකාරම දැකලා, දිගට යන්න යන්න යන්න යෝගාවචරයාට මොකද වෙන්නේ? එක්කෝ නින්දට වැටුණා වාගේ පේනවා. නැත්නම් භාවනාව එපා වුණා වාගේ පේනවා. නැත්නම් මට කියාගන්න දෙයක් නෑ වගේ හිතෙනවා. නැත්නම් සතිය නැති වුණා වගේ හිතෙනවා, සමාධිය නැති වුණා වගේ හිතෙනවා. ඒ මොකද? තමන් හිතාගෙන හිටියේ අර කලින් දැකපු ඇති වීම නැති වීම අතර වෙනස, පිම්බීම හැකිළීම් දෙක අතර වෙනස හැමදම සත්‍යයක්, නිත්‍ය සංඥාවක් කියලා.

නමුත් නැවත නැවත බලනකොට බලනකොට කලින් දැකපු ඒ ආකල්ප වෙනස් වෙන්න පටන්ගන්නවා. කලින් ආකල්ප බොරුමත් නෙවෙයි. නමුත් ඒක පලුවක් විතරයි. සම්පූර්ණ චිත්‍රය දකිනකොට ඒ ඒ මොහොතේ වෙනස් වෙන දේවල් බලනකොට මේ ඇතුල් වීම පිට වීම කියන දේවල් බොරු, පුස්, ප්‍රඥප්ති විතරයි. ඒ තුළ ඇති වෙන්නා වූ කම්පන චංචල ගති, ඇදීම් තෙරපීම් ගති, වැගිරෙන පිඬු කරන ගති ආදී ආශ්වාස ප්‍රශ්වාස වේවා, පිම්බීම හැකිළීම වේවා, ඒකට යනකොටයි ඔන්න පේන්න පටන්ගන්නෙ, දැන් නෙ පේන්නෙ, දැන් නෙ දකින්නේ. එතකොට ආකල්ප කරන්න දෙයක් නෑ. චේතනා කරන්න දෙයක් නෑ. මේ ඇත්ත ඇති හැටිය දකිනවා. එතකොට යෝගාවචරයාට ඇස් ඇරලා බලන්න වෙනවා. ඇත්තටම මම හුස්ම ගන්නවද, බඩ පිම්බෙනවද හැකිළෙනවද, නැත්නම් මම ඉන්නවද, කඳේ උඩ කෑල්ල නැද්ද, පහත කෑල්ල දිය වෙලාද? පුදුමාකාර විදිහට අර කලින් තිබුණු මම සංඥාව දිය වෙන්නයි බොළඳ වෙන්නයි බොඳ වෙන්නයි පටන්ගන්නවා.

මේක මානසික අසහන තියෙන කෙනෙකුට නම්, මට ඇදුම හැදෙයි කියලා හිතාගෙන ඉන්න කෙනෙකුට නම්, පිටගැස්ම තියෙනවා කියල හිතාගෙන ඉන්න කෙනෙකුට නම් භයානක රෝග තත්ත්වයක්. අංශභාගෙට යයිද කියන්න බෑ නෙ, කොර වෙයිද කියන්න බෑ නෙ. මිනීපෙට්ටියෙ ලස්සනට මිනිය තියෙන්නෙ එපායැ, මේ වෙලාවේදී මැරිල ගියොත් එහෙම හොඳ නෑ නේ. ඉතින් භාවනාවේදී පේන ආකල්ප කෝක වෙතත් භාවනා කරන්න ඉස්සෙල්ලා ගත්ත ආකල්ප රැකීම සඳහා අනේ අර යෝගාවචරයා නැගිටලා සළුව ගසා දලා නැගිටල යනවා. මොකද? වැඩක් නෑ භාවනා කරලා මොනවක්වත් පේන්නේ නෑ. මෙන්න මේ තත්ත්වයවත් ඉක්මවන්නෙ නැත්නම්, සටහන් දැකලා ආකාරත් දැකලා ඒ මතුමත්තේ ස්වභාව ලක්ෂණවලින් හිත පිරෙනකල් ගියෙ නැත්නම් තාම හිත විපස්සනාවටවත් වැටිලා නෑ.

සම්පූර්ණ විපස්සනාවට වැටුණා නම් ඒ යෝගාවචරයාට කොච්චර වෙලා ඉඳගෙන හිටියද ඉඳගෙනද ඉන්නේ හිටගෙනද ඉන්නේ මොනවක්වත් දෙයක් නෑ, ඒ බලන අරමුණේ අත්‍යන්ත ලක්ෂණ පේන්න පටන්ගන්නවා. එතකොට අන්න අර මුලින් තිබුණ ආකල්ප, විතක්ක වෙනස් වෙන්න පටන් අරගන්නවා. අරමුණටමයි හිත යන්නේ. යනකොට යනකොට අරමුණම පේනවා. නමුත් එපා වෙනවා. ඒකාකාරී බවකට පත් වෙනවා. එතකොට අර කලින් තිබුණ නෙ සංඥවක් අපි ගාව - ආශ්වාස ප්‍රශ්වාස නැත්නම් මැරෙයි, පිම්බීම හැකිළීම දෙක නැත්නම් පණ යයි, ආන්න ඒ සංඥවල් සේරම බොඳ වෙන්න පටන්ගන්නවා. චේතනා සම්පූර්ණයෙන්ම අඩු වෙන්න පටන් අරගන්නවා. ආයෙ අරක පිළිබඳව තෘෂ්ණාවක් ඇති කරගන්න දෙයක් ඇත්තෙම නෑ. මොකෝ තෘෂ්ණාව කෙරුවත් හුස්ම ගන්නවා නැතත් ගන්නවා. තරහ වුණත් කෙරෙනවා නැතත් කෙරෙනවා. දිගටම යන්න පටන් අරගන්නකොට තමයි අපේම ආකල්ප පිළිබඳව අපිට නැවත සලකා බලන්න පුළුවන් තත්ත්වයක් එන්නෙ. එතකොට තමයි විපස්සනාව පටන්ගන්නේ.

ආන්න ඒ විපස්සනාව පටන්ගන්න නම් අපි හිතාගන්න ඕනෑ පළවැනියෙන්ම ආකල්ප තිබීමත් වැදගත්. නමුත් මේ ආකල්ප වෙනස් වෙන්න පුළුවන් බව මුලින්ම තේරුම් අරගෙන තියෙන්න ඕනෑ. තේරුම්ගත්තෙ නැත්නම් කවදකවත් ආකල්පවලට බැඳෙන බැඳිල්ලෙන්

ගැලවෙන්න බැරි වෙනවා. ඒක හරියට අර මුලින් උඩට ගිය නුග කඳ උඩින් පල්ලෙහාට ආපු අරළුවලින් වැහිලා, කඳ තිබුණු තැන හොයාගන්න බැරි වුණා වගේ අපිට ප්‍රත්‍යක්ෂය අමතක වෙලා අපට ආපු හිතුවිලිවලින් සම්පූර්ණයෙන්ම මේ අරමුණ පිළිබඳව වැරදි අදහස් දෙන්න පුළුවන්.

එහෙම නැත්නම් අපි කොච්චරක් මේක වර්ණ ගන්නනවාද, අපේ අතින් දපු කැලි කමටහන් සුද්ද කරනකොට කියනවාද, එහෙම නැත්නම් කෙනෙකුට දැක්කා කියල කියනවද කිව්වොත් ඒකට හොඳ රාජ උපමා කතාවක් පෙන්වලා තියෙනවා - අපේ හිටපු ඤාණානන්ද ස්වාමීන් වහන්සේ මතු කරපු එකක්. කුමාරවරු තුන්දෙනෙක් එක රජ කුලේ ඉපදිලා පිය මහ රජ්ජුරුවෝ කියනවා නුඹලා තුන්දෙනා ශිල්ප ඉගෙනගෙන එන්න ඕනෑ, නැත්නම් රජකම කරන්න බෑ. පස්සේ දේවීන් වහන්සේ තුන්දෙනාටම බත්මුලකුයි රන්මසු දහකුයි දෙනවා. තුන්දෙනා කැලයකට ගිහිල්ලා කියනවා, අපි ශිල්පයක් ඉගෙනගෙන ආවට පස්සෙ නැවතත් මෙතෙන්ට ඇවිල්ල සාකච්ඡා කරමු කියලා, කැලේ තුන්පැත්තට යනවා. තුන්පැත්තට ගියාම එක කුමාරයෙකුට හම්බ වෙනවා ඍෂින් වහන්සේ කෙනෙක්. ඒ ඍෂින් වහන්සේ කැලේ අවුරුදු කෝටිගානක් ඉඳලා තියනවා. එයා කියනවා "මම මොනවක්වත් වැඩිය දන්නෙ නෑ. මම එක ශිල්පයයි දන්නෙ. දන්නෙ මොකක්ද? ඕනැ කුණු වෙච්ච සතෙක්ගේ විසිරිලා ගිය ඇට කැල්ලක් ගෙනාවොත් මට සම්පූර්ණ ඇටසැකිල්ල මැවීමේ ශක්තිය තියෙනවා". ඉතින් අර කුමාරයා ඒ ශාස්ත්‍රය ඉගෙනගන්නවා. මොනම ඇට කැල්ලක් හරි ගෙනාවොත් එයාට පුළුවන් ඒ ඇට කැල්ල මාර්ගයෙන් සම්පූර්ණ ඇටසැකිල්ල මවන්න.

ඊළඟ කුමාරයා ගිය තැන ඍෂින් වහන්සේ කෙනෙක් හම්බ වෙනවා, නැත්නම් දිසාපාමොක් කෙනෙක්. එයා කියනවා "මට සම්පූර්ණ ඇටසැකිල්ලක් පූර්ණව තියෙනවා නම්, මස් පුරවන්න පුළුවන් සතාගෙ ප්‍රකෘතියට. සම්පූර්ණ පණ තියෙන ගානට වගේ කුණ සම්පූර්ණ හදලා දෙන්න පුළුවන්. හැබැයි ඇටසැකිල්ල සම්පූර්ණව තියෙන්න ඕනැ". ඉතින් ඒ කුමාරයා කරන්නේ ඒ වගේ මෑතකදී මැරිලා කුණු වෙච්ච තැන්වල ඇටසැකිලි ගෙනල්ල අරයා ළඟට ගෙනිහිල්ලා ඒ ශාස්ත්‍රය ඉගෙනගන්නවා සම්පූර්ණ ඇටසැකිල්ල තියෙනවා නම් සතා මවන හැටි.

තුන්වැනි එක්කෙනා සෘෂින් වහන්සේ කෙනෙක් ළඟට ගියාට පස්සේ කියනවා "සතෙක්ගේ ශරීරය සම්පූර්ණව තියනවා නම්, මට සතාට පණ පොවන්න පුළුවන්. හැබැයි ඇටසැකිලිවල අඩුපාඩුවත් තියනවා නම්, මස්වල අඩුපාඩුවක් තියෙනවා නම් බෑ" යි කියලා. තුන්වැනි කුමාරයා ඒක ඉගෙනගන්නවා.

කාලය ඉවර වෙලා තුන්දෙනා ආපහු කැලේ මැදදී හම්බ වෙනවා. හම්බ වුණාට පස්සෙ තුන්දෙනා පාරට්ටු ගානවා "මට පුළුවන් ඕනෑ ඇට කැල්ලක් ගෙනාවොත් ඇටසැකිල්ල මවන්න". අනිත් එක්කෙනා කියනවා "ඒක නම් මොකක්ද? ඒක නෙවෙයි වැඩේ තියෙන්නේ. උඹ ඇටසැකිල්ලක් මැව්වොත් මට පුළුවන් මස් දලා හම දලා වහලා දෙන්න". අනිත් එක්කෙනා කියනවා "උඹලා තුන්දෙනාටම වැඩිය වැදගත් ශාස්ත්‍රයක් මම ඉගෙනගත්ත. එවැනි ශරීරයක් තිබුණොත් මට පුළුවන් පණපොවන්න" කියලා. ඉතින් තුන්දෙනාම යුහුසුලු වෙනවා මේ වැඩ පෙන්නන්න. බාලම එක්කෙනා ගිහිල්ලා ළඟ තිබුණු ඇට කැල්ලක් ගෙනල්ලා බලනකොට ඒක විශාල සතෙක්ගේ ඇටසැකිල්ල. ඒක මෙයා මවනවා. දෙවැනි එක්කෙනා වැඩි වෙලා යන්න ඉස්සෙල්ලා ඒකාට මස් හම පුරවපුවහම හොඳ ව්‍යාඝ්‍රයෙක්. තුන්වෙනි එක්කෙනා ඉක්මනටම පණ පොවනවා. පණ පොවපු ගමන් ව්‍යාඝ්‍රයා පැනලා තුන්දෙනාම කාලා දානවා. ඒ තරම් පණ තියෙනවා.

ආන්න ඒ වගේ තමයි පුංචි ඇට කැල්ලක් තිබ්බොත් අපිට ඇති ඒකෙන් ව්‍යාඝ්‍රයෙක් හදාගෙන, අන්තිමට ඒකා කෑවට පස්සේ තමයි බැඳගෙන දුවන්නේ ව්‍යාඝ්‍රයෙක් කනවෝ, ව්‍යාඝ්‍රයෙක් කනවෝ, ව්‍යාඝ්‍රයෙක් කනවෝ කියලා. ඔක්කොම බලනකොට තමන්ම මවාගත්ත දේ. මේකට ප්‍රධාන වශයෙන්ම බළලා එළියට එන අවස්ථාව තමයි විතක්ක මට්ටම. ඒක නිසා යමක් පිළිබඳව අපිට නැවත නැවතත් නැවත නැවතත් ඒක පිළිබඳව අදහස් පහළ වෙනවා නම්, අපි හිතාගන්න ඕනෑ මේක කර්මානුරූපව අපිට සම්බන්ධ දෙයක්. ඒක නිසා අපි මුල වශයෙන් මැද වශයෙන් අග වශයෙන් මේක බලාගෙන හිටියොත් අපිට දැකගන්න පුළුවන් වෙනවා මේක කාගෙවත් කොඩිවිනයක්වත් දෙවියන් වහන්සේ මවපු දෙයක්වත් අපි හිතාගෙන ඉන්න විදියේ කවුරුහරි අපිට දීපු වදයක්වත් නෙවෙයි, අපිම බදාගත්ත දෙයක්. මේක තේරුම්ගත්ත දවසට

තේරෙනවා නිවන් දකින්න පුළුවන්. මාර්ග ඵල ඥාන ලබන්න පුළුවන්. බුදුරජාණන් වහන්සේ සර්වඥමයි. ධර්මය ධර්මයමයි. මේ ටික තේරෙන්න නම් තමන්ගේම විතක්කවලට බලපාන තමන්ගේ ආකල්ප නැවත නැවතත් විවේචනාත්මකව බලන්න වෙනවා. මේ විතක්ක කියලා කියන්නේ ඇතුළතින්ම හටගන්න දෙයක්, ඇතුළෙම විනාශ කරන දෙයක්, බාහිරයට හේත්තු කරලා අපේ ආකල්ප මුසපත් කරවන, අපේ ආකල්ප නොමග යවන දෙයක්ය කියලා දැනගන්න නම් අපිට පැහැදිලිවම යෝනිසෝමනසිකාරය ඇති කරන්න වෙනවා. මුලට හිත යොදන්න වෙනවා.

මේක ඉතාමත්ම අම්හිරිකර ගතියක්. අපි හිතනවා නම් දැන් අපි තැනකට ඇවිල්ල ඉන්නවායි කියලා, ඒක නිසා අපි තැනකට ඇවිල්ල නෑ. අපි දැන් කරල තියෙන්නෙ තිබුණු දේත් අනාගෙන තියෙනවා. මොකද හේතුව? පුංචි කාලේ අපිට මේ තරම් කුහකකම තිබුණෙ නෑ. පුංචි කාලේ අපිට මීට වැඩිය පොඩි දේවල් තියෙද්දී අපි හරි සතුටින් හිටියා. ඒ නිසා අපි ලොකු වෙනකොට, දැනුම ලබනකොට, තර්ක ඥාන පහළ කරනකොට කරලා තියෙන්නේ මෙන්න මේ වගේ ආකල්ප රාශියක් පොදි බැඳගෙන තියෙන එකයි. මේ දේ තියෙන තාක් කල් ප්‍රත්‍යක්ෂය හැමදාම කලවම් වෙනවා. මාත්තු වෙනවා. ප්‍රත්‍යක්ෂය ප්‍රත්‍යක්ෂය වශයෙන් දැකගන්න අපිට දෙන්නෙම නෑ. සංකල්ප පුදුම විදියට කරදර කරනවා. අපේ කුහක ගති, ඊර්ෂ්‍යා ගති, මාන්න ගති, ගුණමකු ගති, චපල ගති, සාඨෙය්‍ය ගති බොහෝ විට මතු වෙනවා. මේකෙ භයානකකම තමයි යම්ම වෙලාවක වෙන කෙනෙක් එහෙම පෙන්නුවොත් මේක, අපි අනිවාර්යයෙන් ඔහුට විරුද්ධව නඩු දනවා අපිට අපහාස කළා කියලා. අපේ මානව අයිතිවාසිකම් බින්දා කියලා.

ඒ නිසා බුදුරජාණන් වහන්සේ කන්නාඩිය අතටම දෙනවා. අතට දීලා කියනවා මම එහෙම කිව්වා නෙවෙයි හොඳට භාවනා කරලා අරමුණේ සටහන් බලන්න. ආකාර බලන්න. ස්වභාව ලක්ෂණ බලන්න. බලනකොට ඔබට තේරෙයි ඔබ දකින දකින අරමුණ තමන්ට ඕනැ තාලෙට හදාගෙන කාල තියෙන්නෙ මෙතෙක් කල්. කන්න ඕනැවට කබරගොයා තලගොයා කරගෙන. මේ බව දකින්න නම් මේ මෝඩ තකතිරු වැඩපිළිවෙළේ මුලට යන්න වෙනවා. මෙන්න මේකට තමයි

යෝනිසෝමනසිකාරය කියල කියන්නෙ. අපි හැමදම පටන්ගන්නකොට සැහෙන්න වැඩේ අවුල් වෙලා වියවුල් වෙලා. ඒකට කිසිම ප්‍රශ්නයක් නෑ අපි දන්නවා නම්, තේරුම්ගන්නවා නම් අපි ඉන්නේ අවුලක, අපි පෘථග්ජනයි කියලා.

ඒ නිසා බුදුරජාණන් වහන්සේ සඳහන් කරනවා මේ විතක්ක අත්ත සම්භූත බව දන්නවා නම් ඒ පුද්ගලයා කවදකවත් මේකට තව බැඳෙන්නෙ නෑ, ඔහු ඊට පස්සේ පුනර්භවයකට යන්නේ නෑ. ඒක නිසා විතක්ක පිළිබඳ පාඩම වහා ප්‍රතිඵල ගෙන දෙනවා. ඒ විතරක් නෙවෙයි ඒක අපි අනුන් කෙරෙහි තියෙන සම්බන්ධතාව සම්පූර්ණයෙන්ම කපල දලා අපි ඇතුළතට පුදුම විදිහට විවෘත කරනවා. ඒ විවෘත කරන්න ඕනැ පරීක්ෂණයට අවශ්‍ය සාධක සියල්ලම අපි ළඟ තියෙනවා. ඒකයි මනුෂ්‍යත්වය කියන්නෙ. ඒකයි පංචවොකාර භවය කියන්නෙ මේක කවදකවත් තිරිසනෙකුට හිතාගන්න බෑ. දෙවියකුටවත් හිතාගන්න බෑ මනුස්ස ලෝකෙදි අහල තිබුණේ නැත්නම්. කිසිම මනුෂ්‍යයෙකුට හිතාගන්න බෑ සර්වඥයන් වහන්සේ පහළ නොවුණා නම්. ඉතින් අපි සතුටු වෙන්න ඕනැ අපේ මේ යුගය වෙනකලුත් මේවා ඉතුරු වෙලා තිබුණා. අපි මේ කරගෙන යන්නෙත් ඒක තේරුම්ගන්නයි. ඒක නිසා යම්ම වෙලාවක අපිට අපේම අඩුපාඩුකම් පේනවා නම්, අපේම දුර්වලකම් පේනවා නම් ඒකට තමයි භාවනාව කියන්නේ. ඒක නිසා වේදනාව කියලා කියන්නේ භාවනාවේදී ලොකු සිරි දෙව්දුවක්. බාහිර කරදර, ශබ්ද, සිතුවිලි එනවා නම් ඒ සියල්ලක්ම අපි පෝෂණයට ලක් කරගන්න ඕනෑ. ඒ සදහා අපි අනිවාර්යයෙන්ම විතක්ක පිළිබඳව මේ මූලික යාන්ත්‍රණය දනගෙන තියෙන්න ඕනැ.

අපිට මීට වැඩිය කාලය ගන්න බෑ අද. අපි බලමු අනිත් දවසෙත් මේ පිළිබඳව අවශ්‍ය අමතර තොරතුරු ළං කරගෙන මෙතෙක් ගෙනාපු භාවනා සහ බණ වැඩපිළිවෙළේ ඉතුරු කොටසිනුත් ආලෝකය වට්ටලා අපේ භාවනා වේගය, අපේ භාවනා අධිෂ්ඨානය, අපේ භාවනා උනන්දුව, කුසලච්ඡන්දය වඩාගෙන, සතිපට්ඨාන සූත්‍ර දේශනාව පිළිබඳව බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙන ආනිසංස මෙලොව වශයෙන් සාක්ෂාත් කරගන්න අපිට ශක්තිය, ධෛර්යය, බලය ලැබේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතෙකින් සමාප්ත කරනවා.

# 83 | විතර්ක මුල් වී තණ්හාව පහළ වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජතිඃ කත්ථ නිවිසමානා නිවිසති.**

**රූපවිතක්කො ලොකෙ පියරූපං සාතරූපං, එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමානා නිවිසතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝ රත්නයෙන් අවසරයි. නේවාසික උපාසක මහත්වරුත් සම්බන්ධ කරගෙන සතිපට්ඨාන මහා සූත්‍රය ඉදිරියෙන් තියාගෙන මේ පවත්වාගෙන යන ධර්ම දේශනා මාලාවේ අද අපි පිවිසුම ලබන්නේ අසූතුන්වෙනි පැයටයි. අසූතුන්වෙනි ධර්ම දේශනාවටයි. මේ තාක් ගත කළ කාලයෙදි - අවුරුද්දකටත් වැඩියි - අපි කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, කියන අනුපස්සනා කොටස් පියමන් කරමින් දැන් මේ ධම්මානුපස්සනාවේ, එයිනුත් පර්ව කිහිපයක් පහු කරලා දැන් ඉන්නේ සච්ච පර්වයෙහි චතුරාර්ය සත්‍යය විස්තර කරන අවස්ථාවේ. එයින් පළවෙනි සත්‍යය වන දුක්ඛ සත්‍යය අපි හමාර කළා. දැන් අද අපි නිමාව දකින්න හදන්නේ සමුදය සත්‍යයටයි.

ඉතින් මේක සමුදයක් වෙන හැටි - අපි දන්නවා දුකට හේතුව, නැත්නම් සමුදය කාරණාව වෙන්නේ තණ්හාව බව. **සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති** - මේක තමයි මේ පර්වයේදී ධෘව පදය වශයෙන් බුදු හාමුදුරුවෝ සඳහන් කරන්නේ. සර්වඥයන් වහන්සේ තෘෂ්ණාව පහළ වීමට හේතු වන බොහෝ කරුණු එක එකක් වෙන වෙනම උද්දේසයට නැංවීම සඳහා, වෙන වෙනම සජ්ඣායනා කිරීම සඳහා, වෙන වෙනම ගෙන හැර දැක්වීම සඳහා මේ ධෘව පදය පාවිච්චි කරනවා. **සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති: කත්ථ නිවිසමානා නිවිසති**. ඒ මේ තෘෂ්ණා තොමෝ කොතනක උපදින්නේ උපදීද කොතනක ලැගගන්නේ ලැගගනීද?

මේ ධෘව පදය සර්වඥයන් වහන්සේ ප්‍රයෝජනය සලකලා ඊගාව සත්‍යය වන නිරෝධ සත්‍යයටත් මේ හා සමාන ක්‍රමයකටම පාවිච්චි කරනවා. **සා ඛො පනෙසා භික්ඛවෙ, තණ්හා කත්ථ පහීයමානා පහීයති, කත්ථ නිරුජ්ඣමානා නිරුජ්ඣති** .දුරු වන්නේ නම් කොතන දුරු වන්නේද කියලා අහනවා. සර්වඥතා ඥානයේ තියෙන විචිත්‍රත්වය තමයි තෘෂ්ණාව පහළ වීමට දක්වන හේතු කරුණු රාශියම ඒ ඒ තැනට නැවත අවධානය යොමු කරමින් ඒ ඒ තැනම නිරෝධ සත්‍යය පහළ වන බව පෙන්වලා දීලා තියෙනවා. ඒක නිසා සමුදය සත්‍යයටත් නිරෝධ සත්‍යයටත් පදනම් වෙන්නේ එකම පදනම. නමුත් සාමාන්‍ය ලෝකයාගේ දර්ශනය අනුව සමුදය සත්‍යයයි නිරෝධ සත්‍යයයි අහසට පොළොව වගේ වෙනස්. නමුත් දෙකම පැන නගින්නේ එකම පදනමකින්. "මානෙල් සුවඳමය - කුඩමසු පිළී ගඳමය - දෙකට මුල දියමය - හොඳට නරකට දෙකට කටමය" කියනවා වගේ නෙළුමටත් පිළී ගඳ ගහන මත්ස්‍යයාටත් දෙකටම මුල් වෙන්නේ විලම වාගේ මේ කාරණා ටිකම තමයි සමුදය සත්‍යයටත් නිරෝධ සත්‍යයටත් සම්බන්ධ වෙන්නෙ. නමුත් මේ කාරණා ටික මේ දෙකටම සම්බන්ධ වන බව තිබියේවා! එකකටවත් සම්බන්ධ වන බව තේරුම් කරගැනීම, විනිශ්චය කරගැනීම, පිළිගැනීම ඉතාමත්ම දුෂ්කරයි. ඒක හොඳටම පැහැදිලි වෙනවා සතිපට්ඨානයෙත් ධම්මානුපස්සනාවේ. ඒක කිච්චහම ගැඹුරක්. ඒ ගැඹුරෙත් එදිනෙද

බණවලට සම්බන්ධ කරගන්නේ නැති ඉතාමත්ම ගැඹුරකට යනවා මේ සමුදය සත්‍ය විග්‍රහය.

අපි කෙටියෙන් මතක් කරගත්තොත් අලුතෙන් ආපු කෙනෙකුට හඳුන්වා දීමක් වශයෙන් සහ අහලා පුරුදු ඇත්තන්ට මතක් කිරීමක් වශයෙන්, තෘෂ්ණාව හටගන්න තැන් ඇහැ රූපය චක්ඛු විඤ්ඤාණය ඵස්සය වේදනා සංචේතනා විතක්ක විචාර වශයෙන් සඳහන් වෙනවා. අද අපි මේ මාතෘකා කළේ මෙන්න මේ කියන අවසාන පුරුක **රූපවිතක්කො ලොකෙ පියරූපං සාතරූපං** මේ රූප මත, නැත්නම් ඇහැට රූපයක් වැටීමෙන් සිදු වෙන දැකීම නම් වූ සංසිද්ධියේදී ඇහැය, බාහිර රූපයය, එයින් පහළ වෙන්නා වූ චක්ඛු විඤ්ඤාණයය යන තුනේ එකතු වීම නිසා ඇති වෙන්නා වූ ස්පර්ශයය එනිසා ඇති වෙන්නා වූ වේදනාවය සංඥාවය චේතනාවය විතක්කය කියන කාරණා අපි එකිනෙකක් දැන් විග්‍රහ කරමින් ආවා.

අද අපට තියෙන්නේ විචාරය ගැන කතා කරන්නයි. මේ විදිහට මේ කාරණා ටික නිරෝධයටත් සමාන වන බව, නිරෝධයටත් පදනම් වන බව, නිරෝධයටත් පාදක වන බවයි මම මුලින්ම සඳහන් කළේ. නමුත් අපි ඒක අද විග්‍රහ කරන්න බලාපොරොත්තු වෙන්නේ නෑ, මොකද අපිට ඒකට වෙනමම කාලයක් ගන්න තියෙන නිසා. අද අපි සාකච්ඡා කරන්න බලාපොරොත්තු වෙන්නේ ඇහැත් රූපයත් චක්ඛු විඤ්ඤාණයත් නිසා පහළ වෙන, සමහර තැන්වල සඳහන් කරන්නා වූ සබ්බචිත්ත සාධාරණ වශයෙන් අනිවාර්යයෙන්ම චිත්ත වීථියකට සම්බන්ධ වෙන්නා වූ චෛතසික ටික වටවළල්ලෙ කැරකිලා අග කොන පේන්න පටන්ගන්නවා කියන එක. ඇත්තටම විතක්කවලට යනකොටම කොන පේන්න පටන්ගන්නවා. විචාරයට යනකොට ඒක තවත් පැහැදිලි වෙනවා.

ඒක අපේ ත්‍රිපිටකයෙහි සඳහන් වෙනත් තැනකට සමාන කරපු නිදර්ශනයක් වශයෙන් පෙන්නනවා, මහාමේරු පර්වතය මුල කාල සර්පයා සම්පූර්ණ දරණයක් ගහගෙන ඉන්නවා. මහාමේරු පර්වතයේ දිග නිසා ඌට සම්පූර්ණ දරණය ගහන්න බෑ, ඌ සම්පූර්ණ වටවළල්ලේ ගියහම වලිගෙට ටිකක් පේන දුරින් තමන්ගේ ඔළුව හිටිනවා. රවුම

කැරකිලා එහා පැත්තේ වලිගය කෙළවර බලන්න පුළුවන් තරමට වැටෙනවා. ආන්න එහෙම වෙච්චාහම ඒ කාල සර්පයා තමන් ඉස්සරහයින් පේන්න තියෙන වලිගය අල්ලන්ට ඉස්සරහට ඇදෙන්ට ඇදෙන්ට වලිගයත් ඇදෙනවා. සාමාන්‍යයෙන් ඊටත් වැඩිය ප්‍රකට නිදර්ශනයක් තමයි බල්ලෙක් වලිගය අල්ලගන්න වටේ කැරකීම. මෙන්න මේ වගේ කාල සර්පයා සම්පූර්ණ වැඩේට දිග නැති වුණාට, සම්පූර්ණ මහාමේරු පර්වතය වට කරන්න දිග නැති වුණාට ඌ වෙළාගත්තහම ඒකෙ කෙළවර දැකගන්න පුළුවන්. දැකගත්තාහම ඌ ඒක අනුන්ගෙ වලිගයක් කියලා හිතාගෙන ගිලදමන්ට අල්ලගෙන ගොදුරක් කරගන්ට එළවනවා. එළවන්ට එළවන්ට ඒ හා සමාන වේගෙන් අර වලිගේ ඇදිලා යනවා. මොකද, උගෙම වලිගේ තමයි මේ එහා පැත්තෙන් කරකැවිලා ඇවිල්ලා පේන්නේ.

අන්න ඒ වගේ තමයි මේ ඇහැ රූපය වගේ දෙයකින් පටන් අරගෙන අපි මොකකට හරි ඒකෙ අසතියෙන් අමනසිකාරයෙන් කටයුතු කළහම අවසානයේ ඒ ඇති වෙච්චි දැකීම මත විතක්ක විචාර යන දෙකම එකතු කරලා තවත් මේ වැඩේ පළල් වෙච්චහම ඒකට කියනවා ප්‍රපංච කරනවා කියලා - පපංච කියන පාලි වචනය. එතෙන්ට ගියාට පස්සේ අපි ඒක හතුරෙක් කරගෙන ඒක කපලා කොටලා මරන්න අපිට සිතුවිලි වැඩියි. අපිට දවල් හීන පේනවා වැඩියි. අපි හීනෙන් බය වෙනවා වැඩියි. අපිට මේ මේ විතර්ක, මේ මම කාම චරිතයක් වෙලා තියෙනවා. මම ද්වේෂ චරිතයක් වෙලා තියෙනවා කියලා එව්වා නැති කරන්න අපි ආයුධ ගන්නවා. මේ අපිම ඇති කරගත්ත සර්පයාගේ කෙළවර. නමුත් අපිට දැන් පේන්නේ හතුරෙක් වාගේ. නැති කළ යුත්තක් වාගේ. බාහිරින් පැමිණිච්ච දෙයක් වාගේ. උපක්‍රමවලින් වෙන් කළ යුත්තක් වාගේ. නමුත් සර්වඥයන් වහන්සේ ඔළුවේ පටන් ක්‍රමයෙන් අතගාගෙන අතගාගෙන ඇවිල්ලා පෙන්නනවා ඔය අල්ලන්න හදන්නේ උඹේම වලිගේ. ඕක අල්ලගත්තට ගිල්ලට කවදාකවත් ප්‍රශ්න ඉවරයක් වෙන්නේ නෑ. මේ වලිගෙ තමන්ගේම බව තේරුම්ගන්න එක මනුෂ්‍ය පරිණාමයේ උත්කෘෂ්ටම අංගය. අපිට මතු වන බය ගෙනදෙනසුලු ඒ විතක්ක විචාර, නැත්නම් අතෝරක් නැතිව එන සිතුවිලි රාශිය, නැත්තම් හීනෙන් බය වෙන ගතිය, නැත්නම් කුකුස් සැක කටයුතු කුකුස්, නැත්තම් තව

කෙනෙක් එක්ක කතා කරන්න ගියහම ඒ මනුෂ්‍යයත් එක්ක ඇති වෙන වාද විවාද **කථංකථී** භාව **තුවංතුවං පෙසුඤ්ඤං** ආදී වශයෙන් අනුන් එක්ක පටලැවෙන ගතිය සිල්ලටම හේතුව තමන්මයි.

විපස්සනාවෙන් තොරව මේකට යන්න පුළුවන් කියලා හිතනවා නම් ඒක දවල් හීනයක්. පටිච්ච සමුප්පාදයෙන් තොරව මේක අල්ලගන්න පුළුවන් කියලා හිතනවා නම් ඒක වෙන්ඩ පුළුවන් දෙයක් නෙවෙයි. සත්‍යාවබෝධයකින් තොරව මේක කරන්න පුළුවන් කියලා කියනවා නම් කවදාකවත් වෙන්න බෑ. භාවනාවකින් සතියෙන් සම්පජඤ්ඤයෙන් තොරව මේක වෙන්න පුළුවන් කියනවා නම් වෙන්න බෑ. ඒ වගේම මේ වගේ ධර්ම දේශනා ධර්ම සාකච්ඡාවලින් පිරිසිදු වෙන්නෙ නැතිව මේක කරන්න පුළුවන් කියනවා නම් කවදාකවත් වෙන්න බෑ. ඒ නිසා මේ පිළිබඳව නැවත නැවත බණ ඇසිය යුතුයි. නැවත නැවතත් සාකච්ඡා කළ යුතුයි. තමන්ම දකින දකින වාරේ අහන අහන වාරේ ගඳ සුවඳ බලන වාරේ දිවට රස වැටෙන වාරේ කයට පිම්බීම හැකිළීම ආනාපානය සක්මන් කරන වාරයක් පාසා හිතට සිතුවිල්ලක් එන වාරයක් පාසා අපි නැවත නැවතත් සතිය සම්පඤ්ඤය පිහිටුවනවා නම්, ඒත් බොහෝ කාලයක් පුහුණුවකින් අනුපූර්ව ක්‍රමයට දවසක අපිට තේරුම්ගන්න පුළුවන් වෙනවා, මේ අපේම වලිගය පිටයි අපි ඉඳගෙන ඉන්නේ. ඒකයි මේ රිදෙන්නේ. පොඩ්ඩක් නැගිටලා වාඩි උනහම වේදනාව අඩු වෙනවා.

ඒ වගේ තමයි අරමුණක් හිතට එනවත් එක්කම ඒක සම්පූර්ණ මෝරලා හැඩ වෙනස් වෙලා ඒක සතුරෙක් වාගේ පේන මට්ටමට එන්න ඉස්සර වෙලා මුලට මුලට මුලට ඒ චිත්ත වීථිය දිගේම සතිය සම්පජඤ්ඤය ක්‍රමයෙන් විහිදුවන්න පුළුවන් නම් ඒක හරිම ලොකුම විහිළුව තමයි ලෝකේ තියෙන. ලොකුම හාස්‍යය බවට පත් වෙනවා. කොහොමද මේ අපිම ඇති කරගත්ත දේ අපිව කා දමන්නේ. අපිම ඇති කරගත්ත දේවල් අපිට වද කරන්නේ. මේකට වටිනා නිදර්ශන තුනක් අපි එදත් මතු කරගත්තා. සර්වඥයන් වහන්සේ පෙන්වලා දීලා තියෙනවා නුග ගහෙන් පහළ වෙන අරළුව ඒ නුග කඳම වසා හෙළලා අවසානයේ මහ කඳ සේ පෙනී සිටින්නා සේ. නැත්නම් ගසක හැදෙන පිළිලයක් ඉතාම පුංචියට පටන් අරගෙන ඒ ගහේ ඔජාවම විඳලා ඒ ගහම මරලා දන හැටි. එහෙම නැත්තම් තවත් එකක් පෙන්නනවා උණ බට වාගේ

**තචසාරංව** කියලා කියනවා - පොත්තෙ හරය තියෙන ගස්වල මල් පිපීමෙන් ඒ ගහ විනාශ වෙන්නා සේ. තමන්ම තමන් නසාගන්නා හැටි. මේකට තමයි පෘථග්ජන භාවය කියලා කියන්නේ. මේක තමයි පෘථග්ජනයාගේ වැඩේ.

ඒක නිසා පෘථග්ජනයා හරිම විචිත්‍ර සතෙක්. පුදුමාකාර විචිත්‍ර වැඩ කරන්නේ. මේ තමන්ම කරපු වැරැද්දට තමන්ම නඩු කියනවා. විශාල ලෝකයක් පටලවාගන්නවා. සර්වඥයන් වහන්සේ ඒ පුද්ගලයට මූණට කණ්ණාඩිය අල්ලනවා - මෙන්න මේකෙ මුල, මෙන්න මේකේ මැද, මෙන්න මේකෙ අග. දැන් අර කාල සර්පයා වගේ තමන්ගේම වල්ගය ගිලගන්ට පස්සේ එළවන එක පිළිබඳව සතිමත් වෙන්ඩ, නුවණ මෙහෙයවන්ඩ, සම්පජඤ්ඤය මෙහෙයවන්ඩ, යෝනිසෝමනසිකාරය මෙහෙයවන්ඩ, මනසිකාරය මෙහෙයවන්ඩ කියන එකයි මේ විපස්සනා ආරාධනාව.

ඉතින් මේකෙදි අපි සමුදය සත්‍ය විස්තරය - ඇහැත් රූපයත් චක්ඛු විඤ්ඤාණයත් ස්පර්ශයත් ඊගාවට පහළ වෙන වේදනාවත් සංඥවත් චේතනාවත් විතක්කයත් විචාරයත්. ඔය කියන කාරණාවල මේ චේතනා චෛතසිකයත් විතක්කය කියන ගිය පාර සඳහන් කරපු චෛතසිකයත් මනසිකාරය කියන චෛතසිකයත් බොහෝ විට අභිධර්ම ක්‍රමයට ඉගෙනගන්නකොට හෝ භාවනා කරනකොට සමානාර්ථ හෝ සමානව යන ගතියක් තියෙනවා. නමුත් කෘත්‍ය තුනක් මේ තුනේ තියෙන්නෙ. ඒක අද අපි කරන ධර්ම සාකච්ඡාවට සමහර වෙලාවට ආලෝකයක් දෙයි. අපි මෙයින් ඉස්සර වෙලාම පහළ වෙන චේතනාව හඳුන්වන්නේ අරමුණකට සියලු චෛතසික ගොනු කරගෙන මෙහෙයවන ගතිය. චෛතසික තියෙන්නේ එක එක පැතිවල නන්නත්තාර වෙලා. විසිරිලා. ඒ සියලු චෛතසික ගොනු කරගෙන පන්තියක ඉන්න මොනිටර් කෙනෙක් වාගේ, වඩු පන්තියක ඉන්න ප්‍රධාන ජෝෂ්ඨ වඩුවා වගේ, තමනුත් වැඩේ යෙදෙන ගමන් ඒ පිරිස ගොනු කරගෙන මූලික කෘත්‍යයට මෙහෙයවන ගතිය, ප්‍රයෝග කරන ගතිය, ප්‍රයත්න කරන ගතිය, මෙහෙයවීම තමයි චේතනාව කියන්නෙ.

අපි මේක සමාජයේ දේවල්වලට සම්බන්ධ කරගෙන කියනවා **චෙතනාහං භික්ඛවෙ කම්මං වදාමි** කියලා මේක තමයි කර්මය කියන්නෙ. මෙතෙන්දි තමයි අපි මේ වැඩේ වගකීම භාරගන්නෙ. එතකොට විතක්කය කියන එක අපි හඳුන්වන්නේ අරමුණට හිත නැංවීම කියලා. **අභිනිරොපනලක්ඛණො** .අරමුණට හිත නංවනවා. නැවත නැවත නංවනවා. චේතනාවත් කර්මයත් කියනකොට ඒ දෙකේ අර්ථ දෙක තේරුම්ගැනීමේ පරස්පරයක් තිබෙනවා වාගේ, විතක්කය කියනකොට ආනාපානසති භාවනාවේ ප්‍රථම ධ්‍යානය සඳහා නැත්නම් ද්‍විතිය ධ්‍යානය සඳහා භාවනා කරන යෝගාවචරයාට විතක්කය වශයෙන් අපි හඳුන්වන්නේ ආනාපාන අරමුණට නැවත නැවත හිත නැංවීම. ඒක හරි. විතක්කය භාවනාවේ හොඳ පැත්ත. ඒ තියෙද්දි කාම අරමුණකටම හිත නැවත නැවත නගිනවා නම් අපි කියනවා ඒකට කාම විතක්කය කියලා. නැත්නම් රාග විතක්ක දෝස විතක්ක මෝහ විතක්ක කියලා එතන කරන්නේත් අරමුණට හිත නංවන එකයි. නමුත් ඒ අරමුණ අපි අභිමත අරමුණ නෙමෙයි. අභිමත වේවා අනභිමත වේවා අරමුණට හිත නැංවීම විතක්කයයි.

මනසිකාරය - මෙහෙයවීම. මේකත් හරියට යුද හමුදාවක ප්‍රධාන අණ දෙන නිලධාරියෙක් වාගේ මෙන්න මෙතෙන්ටයි අපි සටන් මෙහෙයවන්ට ඕනැයි කීවහම එක එක සොල්දාදුවා කීවොත් මෙතෙන්ට ගැහුවොත් අපිට දිනන්න පුළුවන් මම මෙතෙන්ට යන්නම් ඕගොල්ලෝ අරෙහෙට යන්න. එච්චා බෑ. ඒ ප්‍රධාන අණ දෙන නිලධාරියා අණ දුන්නට පස්සේ ආයෙ තර්ක විතර්ක කෙරිල්ලක් නෑ අනිවාර්යයෙන්ම ඒකට යන්න වෙනවා. නැත්නම් අශ්වයෝ කීපදෙනෙක් ඉන්න අශ්ව රථයක රථාචාර්යවරයා වගේ ඒ අශ්වයෝ සියල්ලම මෙහෙයවන ගතිය මනසිකාරයෙ තියෙනවා. ඒ නිසා විතක්කයෙනුත් කරන්නේ ප්‍රයෝග කරනවා ප්‍රයත්න කරනවා. මූල කර්මස්ථානයකට හෝ මොකක් හරි අරමුණකට හිත මෙහෙයවනවා. මනසිකාරය විධානය දෙනවා, විතක්කය අරමුණට හිත නංවනවා.

ඒ නිසා තමන් භාවනා කරනකොට සමථ භාවනාවක් කරලා විදර්ශනාවක් කරනවා නම් හොඳට මේ තුන පැහැදිලිව පේනවා. එහෙම නැති වුණත් තේරුම්ගත යුතුයි. නැත්නම් මේ තුනම සමානව ගත්තොත්

අපිට පටිච්ච සමුප්පාදය වාගේ ගැඹුරු තැනකට යාගන්න බැරි වෙනවා. ඒකයි මේ කල් වේලා ඇතිවම විතක්කය කියන්නේ මේකයි, විචාරය කියන්නේ මේකයි, මනසිකාරය කියන්නේ මේකයි කියලා පහදගන්න ඕනෑ. බුරුමේ හිටපු ටීකාචාර්යයන් වහන්සේ නමක් මේක බොහෝදෙනා එකතු වෙලා පදින හබල් ඔරුවකට සමාන කරලා තියෙනවා. හබල්කාරයෝ ඔක්කෝම එකතු වෙලා හබල් ගහමින් ඉදිරියට මෙහෙයවනවා ඔරුව. එතකොට හබල්කරුවන් සියල්ලම තමන්ගේ වශයේ පවත්වමින් තමනුත් හබලක් ගාමින් ප්‍රධාන කොට හබල්කරුවන් මෙහෙයවන්නා සේ චේතනාව සඳහන් කරනවා. මේක තමයි කර්මය වෙන්නෙ. කරන වැඩේ. ඊගාවට මනසිකාරය කියලා කියන්නේ අවර පෙත්ත වාගේ. අවර පෙත්තෙන් තමයි ඔරුව යන දිහාව එහාට මෙහාට හරවන්නේ. ඒක තියෙන්නෙ පිටිපස්සේ. ඊට පස්සේ ඔරු හිස, ඇණිය විතක්කය වාගෙ. ඒක තමයි ගිහිල්ලා අරමුණට වදින්නේ. අවර පෙත්තෙන් හරවලා දුන්නට පස්සේ චේතනාවෙන් මෙහෙයෙව්වාට පස්සේ විතක්කයට නැංවීම කරනවා ඔරු හිස. ආන්න ඔය වගේ වැඩ පිළිවෙළක් මෙතන තියෙන්නෙ. මේක සමුදය ඇති වීම සම්බන්ධයෙන් ඉතාමත්ම වැදගත් වෙනවා.

ඒ වාගේම මම නැවතත් ගිය ධර්ම දේශනාවේදී වගේ මූලිකවම කාරණාවකට සාවධානව අවධානය යොමු කරන්න කැමතියි. ඒ මොකක්ද? ඇහැ කියන චක්ඛු ප්‍රසාදය කියන රූපයත් ඒකට අරමුණු වන රූපයත් කියන දෙකම රූප ධර්ම වශයෙන් ගණන්ගන්න බව පිරිස දනටම දන්න ප්‍රසිද්ධ කාරණාවක්. ඊගාවට තමයි මේ දෙන්න අතර විවාහය සිද්ධ කරන කපුකම සිද්ධ කරන මැදිහත්කරුවා වශයෙන් විඤ්ඤාණය ඉදිරිපත් වෙන්නෙ. පෘථග්ජනයා තුළ පවතින්නා වූ විඤ්ඤාණය පුදුමාකාරව මම මේ සඳහන් කරපු කපුකමට සමාන වැඩපිළිවෙළක් කරනවා. ඒ මොකද, විඤ්ඤාණයට කවමදකවත් අනුන්ගෙ කුණු කන්දලයක් ඇවිස්සීමක් හැර තමා වශයෙන් තනිවම ප්‍රකාශ වෙන්න බැහැ. විඤ්ඤාණය ප්‍රකාශ වෙන්න නම්, පිළිබිඹු වෙන්න නම් විඤ්ඤාණය නොවන වෙන අරමුණක් තියෙන්න ඕනැ. විඤ්ඤාණයට විඤ්ඤාණය අරමුණු කරන්න බැහැ. ඒක රහසක්. මේ විඤ්ඤාණය ප්‍රකාශ

වෙන්ට, විඤ්ඤාණය තියෙන බව දැනගන්න, වෙන අරමුණක් විඤ්ඤාණයෙන් වෙන් කරන්න, නාමරූපය පාර්ශ්ව කරුවෙක් වෙනවා.

ගස් ගල්වලට හෙම වෙනස් කර දැකගැනීමේ හැකියාවක් නෑ. එතකොට අපි කියනවා අවිඤ්ඤාණිකයි කියල. සවිඤ්ඤාණක නම් පමණයි තමන්ට භාවනාවක්වත් කරගන්න පුළුවන් වෙන්නෙ. මේක ප්‍රසිද්ධ රහසක් භාවනා ලෝකයේ. නමුත් විඤ්ඤාණයට විඤ්ඤාණය අරමුණු වෙන්නේ නෑ. අටුවාවේ සඳහන් කරනවා ඇඟිලි තුඩකින් ඇඟිලි තුඩ අල්ලන්න බෑ. හොඳට කැපෙන කඩුවෙන් ඒ කඩුවේ මුවහත කපන්න බෑ. ලෝකේ තියෙන ඉතාමත්ම සන දියමන්තිය ඒ දියමන්තියෙන්ම කපන්න බෑ. ඒකට ඒක අරමුණු වෙන්නෙ නෑ. මේ විඤ්ඤාණය නමුත් අරමුණු වුණා හෝ වේවා නොවුණා හෝ වේවා ක්‍රියා නොකරන වෙලාවකුත් නෑ. ඒක ක්‍රියාවකට පත් වෙන්න ප්‍රකාශ බවට පත් වෙන්න නම්, විඤ්ඤාණය නොවෙන්නා වූ මොනවා හරි බාහිර අරමුණක් තියෙන්න ඕනෑ.

ඇහැ තියෙන්ට ඕනෑ. රූපය තියෙන්න ඕනෑ. ඇහැ තිබුණට රූප නැත්තම් විඤ්ඤාණයට ප්‍රකාශ භාවයට පත් වෙන්න බෑ. රූප තිබුණට ඇහැ නැත්නම් විඤ්ඤාණයට ඇවිල්ලා මේ ඇහේ විඤ්ඤාණය මේ රූපය කියලා වෙන් කරන්න බෑ. ඒක නිසා විඤ්ඤාණය සාමාන්‍යයෙන් අපේ සමාජයේ ඉන්න කපුවෙක් වාගේ. දැන් කාලේ හැටියට කියන්න පුළුවන් ජන මාධ්‍ය ශිල්පියෙක් වාගේ. කොහෙහරි කුණු කන්දලයක් ඇවිස්සෙන්ඩ ඕනෑ මනුෂ්‍යයාට කීයක්හරි හම්බ වෙන්න. හොඳ දේම වෙන්ඩ ඕනැ නෑ. නරක වෙන්ඩ වෙන්ඩ ජන මාධ්‍යයට ලාභය වැඩියි. ඒ වගේම තමයි එකිනෙකාට තමා වශයෙන් සහකාර සහකාරියන් හොයාගන්ඩ බැරි සමාජයේ කපුවන්ට වැඩ වැඩියි. මේ නිසා විඤ්ඤාණයට විඤ්ඤාණය අරමුණු වෙන්නෙත් නැත, වෙන වස්තුවකින් තොරව විඤ්ඤාණයට පැන නගින්නත් බැරිය කියන කාරණා දෙක තේරුම්ගත්තොත් තේරෙනවා විඤ්ඤාණය කියලා කියන්නෙ මොන තරම් හිස් පුස් දෙයක්ද කියලා. නැත්තම් ශූන්‍ය දෙයක්ද කියලා.

නමුත් මේක පහත්ම තත්ත්වයක් නෙමෙයි. ඒ මොකද, යම් වෙලාවක විඤ්ඤාණයට විඤ්ඤාණය අරමුණු වෙන්ට වුණා නම්, හිස් හිත

හිස් හිතින් දැක්ක නම් ඒක බුදු හිතක් තමයි. ඒක නිසා හැම වෙලාවෙම අපේ හිත බුදු වෙන්න පුළුවන් තත්ත්වයේ තියෙනවා. අපි හිතනවා මේ හිස් හිතට වෙන දෙයකින් ගැටීමක් නැතුව ප්‍රකාශ වෙන්න බැරි නිසා මොනවාහරි ගැටලු තියෙනවා නම් හොඳයි කියලා. අපිට හිත දිගට පවතින්ඩත් එපායැ. පණ රැකෙන්නත් එපායැ. ගහක් ගලක් වගේ මැරිලා යයි කියලා ඇහැට රූප පෙන්නන්ඩ ඕනෑ. කනට ශබ්ද අස්සන්ඩ ඕනෑ. නහයට දිවට කයට, හිතට හිත හෝ මොනවාහරි දෙයක් අරමුණු කරමින් තමයි ගත කරන්නෙ.

මේක නැති වෙලාව තමයි ගැඹුරු නින්ද කියලා කියන්නේ. එතෙන්දි උන්නා මළා දන්නෙ නෑ. විඤ්ඤාණයේ තියෙන මේ ගතියට පුදුමාකාර විසන්තුවක් එකතු වෙනවා. ඒ මොකක්ද, විඤ්ඤාණය අවදි වෙන්ට විඤ්ඤාණය ප්‍රකාශ වෙන්ට බාහිර වස්තුවක් අවශ්‍ය වගේම ඒ බාහිර වස්තුව සාකල්‍යයෙන් දැකගැනීමේ කිසිම හැකියාවක් විඤ්ඤාණයට නෑ. විඤ්ඤාණය දකින්නේ ඒකෙ පැතිකඩක් පමණයි. නමුත් විඤ්ඤාණය මම අසවල් දේ දැක්කාය, මම අසවල් දේ ඇසුවාය, මම අසවල් දේ රස බැලුවාය, ගඳ බැලුවාය, අතගාලා බැලුවාය, හිතලා බැලුවාය කියලා කියනකොට දැකපු දේ සම්පූර්ණ එකක් බවට මවලයි පෙන්වන්නෙ. අහපු එක සම්පූර්ණ එකක් බවට මවලයි පෙන්වන්නේ. අඩුව අතින් දනවා දුටුගැමුණු රජ්ජුරුවන්ගෙ අභාවය අවස්ථාවෙදි තිස්ස කුමාරයො සුදු රෙදිවලින් චෛත්‍යය හදලා පෙන්නුවා වාගේ. මෙන්න මේ අතින් දන එකට කියනවා විඤ්ඤත්තිය කියලා. විඤ්ඤාණය විසින් මවන පුම්බන පෙන්වන දේ. අංග සම්පූර්ණ කරන ඌන පූරණය. මේක තනිකරම තමන් කලින් සිතාගෙන හිටපු තමන්ගෙ රුචි මනාපකම් අනුව දගන්න දේ.

මේක සාමාන්‍යයෙන් කපුවො කරන්නේ කොහොමද? කුමාරිකාවගෙ පැත්තේ යම් යම් කුලේ අඩුපාඩුකමක් ධනයෙ අඩුපාඩුකමක් චරිතේ අඩුපාඩුකමක් ලස්සනේ අඩුපාඩුකමක් තියෙනවා නම්, ඒවා සම්පූර්ණයෙන්ම වහලා, ඒ මදිවට දෙගුණ කරලා ගිහිල්ලා තමයි කුමාරයාගේ පැත්තට විස්තරේ කියන්නේ. හැබැයි කපුවා දන්නවා. එහෙම නැත්නම් කපුකමක් වෙන්නේ නෑ. ඒ වගේම කුමාරයාගේ පැත්තේ ඒ වගේ අඩුපාඩුකම් තියෙනවා නම් කුමාරිගේ පැත්තට ඇවිත්ලත් කියන්නෙ ඒවා ඔක්කෝම සම්පූර්ණ කරලා. නැත්නම්

මොකටදෑ කපුවෝ. ඒ නිසා විවාහය සම්පූර්ණ වෙනකල් කපුවා කරන්නේ අර පැත්තේ අඩුපාඩු මේ පැත්තට මකලා කියනවා මේ පැත්තේ අඩුපාඩු අර පැත්තට මකලා කියනවා. විවාහය සම්පූර්ණ වෙච්චහම කපුවාට හෙණ දහතරයි බොරු දෙකක් කියලා ගැටගැහුවට. හැබැයි ගැටගැහුවට පස්සේ කපුවා මාරු. ඒ දෙන්නා බේරගන්න ඕනෑ.

ආන්න ඒ වගේ තමයි විඤ්ඤාණය ඒ චිත්තක්ෂණයේ තමන් දකින දේ, තමන්ට පෙනී සිටින්න විදිහක් නැත්නම් මොකකහරි ගැටෙන්න වෙනවා. ගැටිච්ච දේ වෙන් කරල හඳුනන්න ඕනෑ. ඒ හඳුනාගත්තු දේ අඩුපාඩුයි කියන්න විඤ්ඤාණය කැමති නෑ. එහෙම නැත්නම් මම මේ කරන්න හදන කපුකමේ අඩුපාඩුකම් තියෙනවා කියලා කියන්න මොන කපුවෙක්වත් කැමති නෑ. ඉතින් ඒ කපුවා අරවා සම්පූර්ණ කරලා කතා කරන එක දෙපාර්ශ්වයම දන්නවා. මෙයා කපුවෙක් බව දන්නවා. මේකම තමයි ජන මාධ්‍ය කරන්නෙත්. ඊට පස්සේ ඉතින් එතෙන්ට යනකල් නම් කපුවා තමයි ප්‍රධාන. මොකද, කපුවට මඟුල් නැත්නම් කපුකමත් නෑ. තුල්ල කුමාරිකාවන් නැත්නම් දීග දෙන්නට කුමාර කුමාරිකාවො නැත්නම් කපුකමත් නෑ.

ඒ වගේ තමයි මොනවා හෝ මේ ලෝකයේ ඌනයි අතිත්තයි තුච්ඡයි. කවමදකවත් අපේ ඇහැට පූර්ණ චිත්‍රයක් දකින්න බෑ. පුළුවන් නම් මනුෂ්‍ය ඇහැක් නෙමෙයි. කවමදකවත් මොනම දෙයක්වත් සම්පූර්ණයෙන් අහන්න බෑ. එහෙම අහන්න පුළුවන් නම් මනුෂ්‍ය හිතක් නෙවෙයි, මනුෂ්‍ය කනක් නෙමෙයි. නාසය දිව ශරීරයත් එහෙමයි. මේ නිසා තමයි අපි ලත් ද පටන් මැරෙනකල්ම රූප බැලීමේ අතෘප්තිකරව ගත කරන්නේ. මොකද දකින එකම චිත්තක්ෂණයකවත් අපි පූර්ණ චිත්‍රය දකින්නෙ නෑ. විඤ්ඤාණය මේ අඩු ටික වහනවා. වැහුවට මොකද, දෙවැනි සැරේ බලනකොට ඊට වැඩියේ වෙනස්. මොකද අර විඤ්ඤාණයේ බොරුව පේනව. තුන්වෙනි සැරේ බලනකොට ඊට වැඩිය වෙනස්, හතරවෙනි සැරේ බලනකොට ඊටත් වැඩිය වෙනස්.

මේකට අපි කියනවා, ඉස්සෙල්ලාම දකිනකොට අපි සටහන දකිනවා. තව බොහෝ වෙලා එකම චිත්‍රය ඒ ඒ අරමුණම නැවත නැවත දැඩි වීර්යයකින් ලොකු කුසලච්ඡන්දයකින් බලනකොට, බුදු

හාමුදුරුවො පෙන්වපු මේ විඤ්ඤාණයේ බොරුව මම අල්ලගන්ට ඕනෑ, මේ මායාකාරයාගේ බොරුව ඇස් බැන්දුම අල්ලන්ට ඕනෑ කියලා ඒ ආනාපානයම ඒ පිම්බීම හැකිළීමම ඒ වමම ඒ දකුණම ඒ විදිහටම නැවත නැවතත් බලනකොට ඒ සටහනට වැඩියෙන් ආකාර පේන්න පටන්ගන්නවා. සටහන් කොච්චරදෝ තියෙනවා. නමුත් පළවෙනි සැරේ පෙනෙන්නේ එක සටහනයි. දෙවැනි සැරේ බලනකොට තව සටහනක්. තුන්වැනි සැරේ බලනකොට තව සටහනක්. හතරවෙනි සැරේ බලනකොට තව ආකාරයක්. සටහන් ආකාර සම්පූර්ණම බලාගෙන යනකොට අරමුණේ සටහන් ආකාරවල සන්තෘප්තියක් පිරීමක් පිරිච්චි භාවයක් ඇති වෙනකොට ස්වභාව ලක්ෂණ පෙන්වන්න පටන්ගන්නවා. ස්වභාව ලක්ෂණ දකිනකොට පේනවා සටහන කියන්නෙ මොන තරම් බොළඳ දෙයක්ද මොන තරම් ලාමක බාලාංශ දෙයක්ද? නමුත් අපි පළවෙනියටම දැක්කේ සටහන පමණමයි. ඒ සටහනම නැවත නැවත බලබලා ඉන්නකොට සටහන ඒ දැකීම තුළින්ම ප්‍රතික්ෂේප වෙනවා. අවලංගු කාසියක් බවට පත් වෙනවා. ස්වභාව ලක්ෂණ මතු වෙන්න පටන්ගන්නවා.

මේ නිසා එකම අරමුණ නැවත නැවත බලන්න කියලා කියන්නේ අපිට පළවෙනි සැරේ දෙවැනි සැරේ තුන්වෙනි සැරේ විඤ්ඤාණය විසින් අපිට පෙන්වන දේ හුඟාක් සායම් බොරු තියෙන නිසයි. චෛත්‍යයක පැත්තක් සුදු රෙදි දල චෛත්‍යයක් වගේ හදලා තියෙනවා. බුරුම ඉතිහාසයේ තියෙනවා කතාවක් -තායිලන්ත රටත් බුරුම රටත් දෙන්නා එකතු වෙලා මායිම් දෙකේ රංඩු කරගන්ඩ හදනකොට එදා රාත්‍රියේ ඒගොල්ලන්ට කල්පනා වෙලා තියෙනවා අපි දෙගොල්ලම බෞද්ධයෝ. මේ රටරාජ්‍ය අල්ලන්න මෙහෙම යුද්ධ ප්‍රකාශ කරන එක සටන් කරන එක හොඳ නෑ, ඒ නිසා අපි ධාර්මික ක්‍රමයකට අපේ ජයග්‍රහණය මෙනෙහි කරමු, ශක්තිය බලමු කියලා. ඊට පස්සේ කියලා තියෙනවා අපි දෙගොල්ල ලොකුම චෛත්‍ය දෙකක් හදමු. පළවෙනියට චෛත්‍යය හදපු එක්කෙනාට අනික් රට යටත් වෙන්න ඕනෑ. ඉතින් අර තායි මනුෂ්‍යයෝ කරපු දේ විශාල පිරිස් එකතු කරලා ගඩොල් පස් එකතු කරලා සිමෙන්ති වැලි එකතු කරලා විශාල ජාතික ව්‍යාපාරයක් පටන් අරගත්තා. බුරුම කාරයෝ කෙරුවේ මොකද්ද - උණ ගස් ටිකක් අරගෙන ගිහිල්ලා උණ

ගහෙන් රාමුව ගැහුවා චෛත්‍යය විදිහට. ගහලා සුදු රෙදි බැන්ද. බැඳලා බලනකොට දවස් දෙකෙන් පූර්ණ චෛත්‍යයක් හදලා කොත තියලාත් ඉවරයි. රට දිනුම්.

ආන්න ඒ වගේ වැඩක් තමයි විඤ්ඤාණය කරන්නේ. හැම වෙලාවෙම හිතට අවශ්‍ය ඕනැ දේ, දිනුමට අවශ්‍ය කරන දේ ඕනැ තරම් මැවීමේ ශක්තිය තියනවා, හරියට ඇස් බැන්දුම්කාරයෙක් යමක් මවලා පෙන්නන්නා වගේ. ඒ නිසාම බුදුරජාණන් වහන්සේ මේක දැනගෙන විපස්සනාවට සම්බන්ධ කරනකොට භාවනාවට සම්බන්ධ කරනකොට එකම අරමුණ දහස්වර බලන්ඩෙයි කියලා කියනවා. බලනකොට විඤ්ඤාණයේ තියෙන්නෙ කොච්චර මායාකාරී ස්වරූපයක්ද කියනවා නම්, කවදකවත්ම දෙසැරයක් එක විදිහට දකින්න බෑ. නමුත් කම්මැලි යෝගාවචරයා කියනවා මම විනාඩි 10 ක් ආනාපානය දැක්කා මොනවත් වෙනස් වුණේ නෑ, මම පිම්බීම හැකිළීම එක විදිහටම මෙච්චර වෙලා දැක්කා, මොනවත් වෙනස් වුණේ නෑ කියලා. ඒ මොකද, විඤ්ඤාණයට සාක්කිකාරයො වෙන්ඩ හදනවා. විඤ්ඤාණය පෙන්වන්න හදන්නේම මේක ස්ථිර දෙයක්, සුභ දෙයක්, ආත්මීය දෙයක්, සුඛ දෙයක් කියලා. මේ කම්මැලියා, විඤ්ඤාණය නැවත නැවත මතු වෙනකොට තර්ක කරනවා වෙනුවට විමසනවා වෙනුවට හරස් ප්‍රශ්න අහලා ප්‍රශ්න කරනවා වෙනුවට විඤ්ඤාණය දෙන දේම භාරගන්න කෙනා, කියනවා විනාඩි 10 ක් 15 ක් මගෙ හිත අරමුණේ තිබ්බා. මේක ඉතින් අපරාධ දඬුවමක් නෙමෙයි. ඒ මොකද, ඒ පුද්ගලයා තුළ තියෙන සුභ සංඥාවම තමයි මතු වෙන්නේ. විඤ්ඤාණයාගේ බොරුව අල්ලන්ඩ නම් ඔය විඤ්ඤාණය දෙන ලුණු කාලා බෑ. එහෙම නැත්නම් කපුවා කියන සේරම අහගෙන ඉඳලම බෑ. තමනුත් ගිහිල්ලා ඔත්තු බලන්ඩ ඕනෑ.

ඒක තමයි බුදුරජාණන් වහන්සේ අපිට දීපු උපමාව **ආසෙවති භාවෙති බහුලීකරොති** ඒ අරමුණ ආශ්‍රය කරන්න. භාවිත කරන්න. බහුලීකත කරන්න. ඒ අතරමැද කපුවා ඉන්නවා. ගනුදෙනුවලට ඒක හොඳයි. නමුත් තමන් වග කියන්න ඕනැ. තමන් වග කියනකොට කපුවා මවන්න හදන චිත්‍රය නෙමෙයි හම්බ වෙන්නෙ. ආන්න ඒ විදිහට විඤ්ඤාණයේම යම් කිසි කොටසක් අතින් දන ගතියක් තියෙනවා. මේ අතින් දන්නේ තමන්ට රුචි තමන්ට මනාප තමන්ගේම ඕනෑ කරන දේ.

මෙන්න මේකෙන් තමයි ස්පර්ශය පහළ වෙන්නේ. ස්පර්ශය පහළ වෙන්ට නම් රූපත් ඇහැත් විතරක් තිබිලා බෑ. විඤ්ඤාණයේ තුනෙන් එකක කෘත්‍යයක් තියෙනවා. ඒ තුනෙන් එකේ කෘත්‍යය අනුව විඤ්ඤාණය හැම වෙලාවෙම මේ විදිහේ ප්‍රෝඩාවක් කරන්නේ. මේ විදිහේ ඇස් බැන්දුමකින් මේ විදිහේ මායාවකින් අපි දකින අහන රස බලන ගඳ බලන ස්පර්ශ කරන සිතන සෑම දෙයක්ම කෙලෙසිලා තියෙන්නේ. මේකයි පෘථග්ජනකම කියලා කියන්නේ. ඒකයි එකම දේ දෙන්නෙක් බැලුවොත් දෙකක්. එකම දේ දෙපාරක් බැලුවොත් දෙකක්.

මේක පිළිගන්න කැමති වෙන්නෙ විපස්සනා යෝගාවචරයා විතරයි. ඒක නිසා බෝධිරාජ සූත්‍රයේ කියනවා පංච ප්‍රධානියාංගවල යමෙකුට උදය වය පිළිබඳව ප්‍රඥාව තියෙනවා නම් එයා මහණ කමට සුදුසුයි. භාවනාවට සුදුසුයි. එහෙම නැතිව මේක එකමයි සුභ යයි සුඛ යයි සඤ්ඤාව ඇති කෙනාට ඔහොම නෙමෙයි කොහොම කෙරුවක්වත් ඒ පුද්ගලයා හරියට කපුවගේ පැත්ත ගත්ත මනුෂ්‍යයා වගේ විඤ්ඤාණයෙ පැත්ත ගත්තොත් ඒ පුද්ගලයට ඕනෑම දෙයක් ඇත්ත නැත්ත කරන්න පුළුවන්. ස්ත්‍රියාව පුරුෂයෙක් කරන්න පුළුවන්. හිතාගෙන දැක්කයි කියන්න පුළුවන්. මේක අනිවාර්යයෙන්ම විපස්සනා යෝගාවචරයා හද පත්ලේ තැන්පත් කරගන්ට ඕනෑ, මේ පෙන්වන දේ දකින දේ අහන දේ බොරුයි කියන්නෙත් නෑ ඇත්තයි කියන්නෙත් නෑ. මොකද බොරු නෙමෙයි. යම් කිසි ප්‍රදේශයක ඒකෙත් ස්පර්ශයක් තියෙනවා. ඒකත් ස්පර්ශයෙන් පටන්ගත්ත හින්ද සර්වඥයන් වහන්සේ පෙන්වන්නේ ඒකත් ස්පර්ශයෙන් පටන් අරගෙන නොතියෙනවා නෙවෙයි. නමුත් කවදාකවත් ස්පර්ශය සියයට සියයක් එන්නෙ නෑ. කවදාකවත් විඤ්ඤාණය සියයට සියයක් දකින්නෙ නෑ. මේ නිසා විඤ්ඤාණයට ලොකු වේදිකා සැරසිලි රාශියක් හදන්න වෙනවා. වෙස් ගැන්නිලි රාශියක් කරන්න වෙනවා. සංස්කරණ රාශියක් කරන්න වෙනවා. අතින් දැමිලි රාශියක් කරන්න වෙනවා. ආන්න ඒ රාශිය කරන්න තමයි පිටිපස්සේ තියෙන සබ්බ චිත්ත සාධාරණ ටික උදව් කරන්නෙ. ඉතින් අපි ස්පර්ශය ලැබුවට පස්සේ මගේම ස්පර්ශය කිව්වට අපි හිතන්න ඕනෑ ඒකෙන් තුනෙන් එකකට විඤ්ඤාණය කටයුතු කරලා දැන් කෙලෙසලා.

මේ ස්පර්ශ කරන දේ තමයි විඳින්නෙ. ඒක නිසා අපි වින්දනය ලැබුවට පස්සේ සුඛ දුක්ඛ අදුක්ඛම සුඛ වශයෙන්, මේ තත්ත්වය දුක්ඛදයක නම්, ස්පර්ශය ලබපු දේ අපි මෙනෙහි කළාම දුක්ඛදයක නම් විශාල චේතනා රාශියක් පහළ වෙනවා. ඒක සුඛදයක නම් ඊට වැඩිය අඩු චේතනා රාශියක් පහළ වෙනවා. අදුක්ඛමසුඛ නම් ඊටත් අඩු චේතනා රාශියක් පහළ වෙනවා. වෙන විදිහකට කියනවා නම්, දුක්ඛදයක නම් වඩාත්ම ප්‍රයත්න කරනවා. ඉස්පාසුවක් නෑ විඳින්න බෑ දරන්න බෑ. ඒ නිසා වහා ප්‍රයත්න කරනවා. වේදනාට්ඨයි. සුඛ තත්ත්වයට ආවට පස්සේ අපිට ටිකක් එහෙ මෙහෙ කල්පනා කරන්න පුළුවන් තදබල වෙහෙසක් නෑ. ඒ තරම් ප්‍රයත්න නෑ. අදුක්ඛමසුඛයට යනකොට ප්‍රයත්න නැති නිසා කොච්චර දුරට යනවද කියනව නම් නින්දටත් වැටෙනව. ඒ නිසා ස්පර්ශ කෙරුවට පස්සෙ වේදනා. වේදනාවට පස්සේ සංඥාව එකතු වෙනවා. මේ දකින සංඥාව ඇත්ත දේ නෙමෙයි විඤ්ඤාණය මවා පාන දේමයි. වෙන විදිහකට කියනවා නම් **මිගපොතකානං පුරිසාති උප්පන්නසඤ්ඤා විය**. හේන්වල හදලා තියෙන තණවලින් පිදුරුවලින් හදපු පුරුෂයෙක් පඹයෙක් දකින මුව පොව්වා මේ මනුෂ්‍යයෙක් කියලා දැකල මනුෂ්‍යයෙක් කියලා සංඥාව ගත්තා නම් ඌ නැවත නැවතත් දකින්නේ ඒක මනුෂ්‍යයෙක් විදිහටම තමයි. කපුටෙක් ඒ රූකඩයක් දැකපුවාම කපුටා දකින්නේ ඒක නැවත නැවතත් අර කියන මනුෂ්‍ය ලීලාවෙන්ම තමයි.

ඒ වගේම තමයි යම් කිසි කෙනෙක් හතුරුයි කියලා අපේ හිතට වැටුණා නම්, මොනම මොන ජාතියෙන් අපිට තොරතුරු අලුතෙන් ලැබුණත් අර සතුරු සංඥාව වැරදි සංඥාව, නැත්නම් මිතුරු සංඥාව ප්‍රිය සංඥාව කවදාකවත් දුරු වෙන්නෙ නෑ. ඒ පුද්ගලයා කොච්චරදෝ නැවත දකිනවා. නමුත් එන සෑම තොරතුරක්ම අර විදිහට විඤ්ඤාණයේ පාට කිරීමට අහු වෙලා සංඥාව කියන අතේ තියෙන කරුණු ටික ඒකට දාලා මේ විදිහට පදනම් කරලා තමයි දකින්නෙ. ඒ පුද්ගලයා ඒ ගත්ත සංඥාව අනුන්ට කියනකල් පුදුමාකාර වෙහෙසකට පත් වෙනවා. ඒ මොකද, මේ බොරුවක් මෙතන වැඩ කරන නිසා. දැක්කේ සත්‍යය නම්, එන්ඩ එන්ඩ නිශ්ශබ්ද වෙනවා. ඕනෑ කෙනෙක් විකල්පවලින් විතක්කවලින් විචාරවලින් චේතනාවලින් පරිබාහිරව එකම දේ ලක්ෂවාරයක් දැක්ක නම්, ඒ මනුෂ්‍යයා එන්ඩ එන්ඩ එන්ඩ නිශ්ශබ්ද වෙනවා.

නමුත් යම් වෙලාවක ඒ පුද්ගලයා අතින් දපු කොටසක් තියෙනවා නම්, සංඥවට අහු වුණා නම් ඒ තාක් දුරට ඒ පුද්ගලයා තව කෙනෙකුට ඒක ඔප්පු කර දීමේ ඉක්මනින්ම කියා දීමේ ඒක ඒත්තු ගැන්වීමේ විශාල ප්‍රයත්නයක යෙදෙනවා. ඒ නිසා භාවනා අරමුණෙත් අපේ සංඥව ටික ටික ටික ටික අඩු වේගෙන එනකොට යෝගාවචරයින්ගේ විපස්සනා ඥන වැඩෙනවා නම් ඒ පුද්ගලයා එන්ඩ එන්ඩ එන්ඩ නිශ්ශබ්ද පුද්ගලයෙක් බවට පත් වෙනවා. සංඥවේ පටලැවිල්ලේ, එහෙම නැත්නම් මවා පෑමේ, කාට හරි ඒත්තුගැන්වීමේ, අධික අවශ්‍යතාව එනවා නම්, මතක තියාගන්ට ඕනෑ මේ නැත්තක් ඇත්තක් කරන්න තියෙන අවශ්‍යතාව තමයි. ඒක නිසා සංඥ මට්ටමට යනකොට නම් මේක භාවනා ලෝකෙ හොඳම විහිළු සහිත අවස්ථාවක්. හැබැයි කවදකවත් මේ විහිළුව පිට කෙනෙක් සම්බන්ධ කරලා නම් කරන්න යන්න එපා. භයානකයි. මොකද, ඒ පුද්ගලයත් එක්ක තරහ වෙන්ඩ තියෙන ලේසිම ක්‍රමය තමයි ඔබ ඔය කියන දේ අසම්පූර්ණයි ඔබ ඔය කියන දේ බොරුව සහිතයි ඔබ ඔය කියන දේ සංඥව සහිතයි කියන එක .අන්න ඒක විතර ඒ පුද්ගලයාගෙ ආත්මය නසන්න තව එකක් ඇත්තෙ නෑ.

නමුත් අපිට පුළුවන් භාවනා කරනකොට මෙතුවාක් කල් අපි දකපු පිම්බීම පිළිබඳ සංඥව, හැකිළීම පිළිබඳ සංඥව, ආශ්වාසය පිළිබඳ සංඥව, ප්‍රශ්වාසය පිළිබඳ සංඥව, වම තබනකොට තියෙන සංඥව, දකුණ තබනකොට සංඥව, යනකොට තියෙන සංඥව, එනකොට තියෙන සංඥව, කනකොට තියෙන සංඥව, බොනකොට තියෙන සංඥව, සිවුරු අඳිනකොට සංඥව, වැසිකිළි කරනකොට තියෙන සංඥව, කැසිකිළි කරනකොට තියෙන සංඥව, නිශ්ශබ්දව ඉන්නකොට තියෙන සංඥව, වම බලනකොට සංඥව, පෙර බලනකොට සංඥව, යනකොට සංඥව, එනකොට සංඥව වශයෙන් ඒ සෑම සංඥවක්ම කවදකවත් නැති එකක් විදිහට අලුතෙන් බැලුවොත්, මෙතෙක් කල් අපි ඒකාන්තයෙන්ම ඇත්ත දක්කා, වෙච්ච සිද්ධිය සත්‍ය සිද්ධි කියලා කිව්වට, බලනකොට සම්පූර්ණ වෙනස් අදහසක් ඇති කරගන්න පුළුවන් අලුත් නව තොරතුරු පද්ධතියක් තියෙනවා. ඒ නිසා සංඥ ස්කන්ධය මිරිඟුවක් සේ දකින්ඩෙයි කියලා කියනවා. මිරිඟුව මොකද කරන්නේ? අන්තිමම දරුණු ඉඩෝරෙදි ජලස්කන්ධයක් මවලා පෙන්වනවා. ඒ තරමටම කළු සුදු වෙනසක්

තියෙන්නෙ. නමුත් ජලස්කන්ධයට රැවටෙන ඇත්තො කොච්චරදෝ ඉන්නවා. දුවන්ඩ දුවන්ඩ දුවන්ඩ තමන්ගේ ඇගේ තියෙන දඩිය ටිකත් දලා තවත් වේලිලා නහිනවා. ඒක තමා **මරීචිකූපමා සඤ්ඤා** කියන්නෙ.

සංඥුවට පස්සේ තමයි චේතනාව එන්නේ, බලන්ඩකො මොන තරම් භයානකද කියලා. සංඥුවට පස්සේ සංචේතනා. මේ චේතනාව ගන්නේ අර මෙතුවාක් කල් තමන් ඔප්පු කරන්ට ඉදිරිපත් කරගෙන ආපු අර අතින් දගත්තු ටික සත්‍ය කරලා පෙන්නන්ට සුඛ කරලා පෙන්නන්ට සුභ කරලා පෙන්නන්ට නිත්‍ය කරලා පෙන්නන්ට නොකරන ප්‍රෝඩාකමක් නෑ, නොකරන ජඩකමක් නෑ. මේක දේශපාලනයක් විතරක් නෙමෙයි අභ්‍යන්තර දේශපාලනයක්. අපිම අපි රවට්ටන හැටි. දකිද්දිම චේතනාවක් අවශ්‍ය නෑ. සියල්ල සතුටින් සියල්ල ඇත්ත හැටියට සියල්ල සත්‍ය තත්ත්වයෙන් පේනවා. මොකද, ලෝකයේ අඩුවක් නෑර ලුණු ඕනැ කරන්නේ නෑ. ඒකට කටගැස්මක් ඕනැ නෑ. ලෝකය දුවනවා. අපි චේතනා කෙරුවත් නැතත් නැගෙනහිරින් ඉර නගිනවා. බටහිරින් ඉර බහිනවා. අපි හිතනවා මම නැත්නම් බෑ. මේ වෙලාවෙදි මේක මෙහෙම මෙහෙයවන්ඩ ඕනැ, මෙහෙම ප්‍රයෝග කරන්න ඕනැ, මෙහෙම චේතනා කරන්ට ඕනැ කියලා අපි ප්‍රධාන වශයෙන් වැඩිම පෘථග්ජනකම ඇති එක්කෙනා වැඩියෙන්ම චේතනා පහළ කරනවා. නමුත් පහු වෙනකොට පහු වෙනකොට අපිට චේතනා ගැන කතා කරනකොට වගේ අපණ්ණක ප්‍රතිපත්තියට වැටෙනවා. ලෝකයේ අෂ්ටලෝක ධර්මයක් තියනවා, ඒකට කම්පා වෙන්ට වෙන්ට චේතනා වැඩි වෙනවා. කර්ම රැස් වෙනවා. දීර්ඝ සංසාරෙකට වාසනා ලබනවා.

නමුත් එක චිත්තක්ෂණයක් ඉවසනවා නම් **ඛන්ති පරමං තපො තිතික්ඛා** කියන විදිහට එක චිත්තක්ෂණයක් ඉවසනවා නම් අපට තේරෙනවා, අපි පෙන්වන්න හදන්නේ මවා පාන්න හදන්නේ ඔප්පු කරන්න හදන්නේ අනුන් මෙහෙයවන්න හදන්නේ සත්‍ය දේට වඩා මොන තරම් බොරු දේකටද? සත්‍ය දේ ඔප්පු කරන්න දෙයක් නෑ. සත්‍ය දේ මගෙත් නෙමෙයි. සත්‍ය දේට සිංහල බුද්ධාගමකුත් නෑ. සත්‍ය දේට කාලෙකුත් නෑ. සත්‍ය දේට දේශයකුත් නෑ. වායෝ ධාතුවේ තියෙන කම්පන චංචල ගතියට කවුරුත් මුක්කු ගහන්ඩ ඕනැ නෑ. ඒ තමයි ඒකෙ ස්වභාවය, ධර්මතාව. පඨවි ධාතුවේ තියෙන කක්ඛල ලක්ෂණයට

කවුරුත් මොනවත් එකතු කරන්න ඕනැ නෑ. එකතු කෙරුවොත් වෙන්නෙ සංස්කාර තමයි. චේතනා තමයි. කර්ම තමයි. අපිට අවශ්‍ය වෙලා තියෙන්නේ ඇත්ත ඇති සැටියෙන් දකින එකයි. චේතනාව ඔප්පු කරලා පෙන්වන්ඩ හදන්නේ විඤ්ඤාණ මට්ටමේම තමන් මේකට එකතු කරපු කටගැස්මමයි. අර චෛත්‍යය පිටින් ඇදපු රෙදි ටික ඇත්ත සිමෙන්තියෙන් හදලා කපරාරු කරපු එකක් කියලා පෙන්වන්ඩයි මේ චේතනාව දුවන්නෙ. ඒ නිසා කර්ම රැස් වෙනවද කියලා මෙතනදි අහන්ඩ දෙයක් නෑ. අනාකූලව ගලා බහින මේ ප්‍රවාහය ඇතුළට බැහැලා කලඹලා කම්පන කෙරුවට පස්සේ තමනුත් තෙමෙනවා. ප්‍රවාහයත් ව්‍යකූල වෙනවා.

මෙන්න මේක තමයි පෘථග්ජන ගතිය. ඒකයි සර්වඥයන් වහන්සේ බාගෙට හිනා වෙලා බලාගෙන ඉන්නේ. චේතනාව නැති වුණොත් මිනිහෙක් නෑ. නායකත්වයක් නෑ. හැසිරවීමක් නෑ. ප්‍රයත්නයක් නෑ. හුඟදෙනෙක් හිතනවා අචේතනික, නැත්නම් අපණ්ණක ප්‍රතිපදව කියන එක ප්‍රතිගාමී වැඩක් කියලා. අභිවෘද්ධිය කැමති නැති වැඩක් කියලා. මොකද යමක් නොකර සිටීමේ අකිරියවාදී වැඩ පිළිවෙළකට යන්න හදනවා. නමුත් මෙතන පැහැදිලිවම මතක තියාගන්න ඕනෑ ථෙරවාදයේ පැහැදිලිවම අමතක වෙච්චි යට ගිය මැකිච්චි කොටස. මේකෙදි ප්‍රත්‍යක්ෂ කරන්න පුළුවන්, ස්පර්ශ කළ යුතු කොටසක් නැතුවා නොවෙයි. භයානකකම තියෙන්නෙ ඒක නෙමෙයි. ඒක සම්පූර්ණ කිරීම සඳහා අතින් දාපු කොටස ඔප්පු කරන්ට මේ චේතනා පහළ කිරීමේ ඇති ගතිය නිසා චේතනාව තමන් විසින් එකතු කරගත්ත දෙයක්. ඒක ඔප්පු කරලා පෙන්වන්ඩයි මෙච්චර මේ සංස්කරණය කරන්නෙ. චේතනාවට කියනව සංස්කාර කියල.

මේ පද්ධතියෙ සංස්කාරවල තියෙන ප්‍රධානම ලක්ෂණය තමයි, චෛතසිකය තමයි චේතනාව. ඒකෙන් කරන්නෙ මොකක්ද? මේක වේදිකා සැරසිලි දාලා ඔප දාලා පලිප්පුවේ දාලා මේක හරි, මේක හොඳ එක කියලා පෙන්නීමයි. මීපැණි විකුණනකොටත් විකුණන්නෙ පිරිසිදු මීපැණි කියලා. මීමැස්සෙකුට ඇහුණොත් හෙම වහ කාලා නහිනවා. පිරිසිදු කරන්න දෙයක් නෑ මීපැණි කියන්නේ පිරිසිදු ජාතියක් තමයි. මේකට පැණි වෙනුවට අතින් කොකෝ පැණි දාපු නිසයි පිරිසිදු මීපැණි

කියලා එයාට බෝඩ් එකක් ගහන්න වෙන්නේ. පිරිසිදු එළකිරි කියන්න දෙයක් නෑ එළකිරි පිරිසිදු තමයි. නමුත් ඒකට ඇල් වතුර වක්කරන නිසයි මේකට පිරිසිදු එළකිරි කියලා බෝඩ් එකක් ගහන්ඩ වෙන්නෙ. ඒ නිසා යමක් කවුරුහරි හුවා දක්වන්ට හදනවා නම් මතක තියාගන්ඩ ඕනෑ අනිවාර්යයෙන්ම ඒකේ මොකක් හරි අතින් දුපු කොටසක් තියෙනවා. සංස්කරණය කරන ලද කොටසක් තියෙනවා. නියම දේට කිසීම වෙළඳ ප්‍රචාරයක් අවශ්‍ය නෑ. කපුවොත් ඕනෑ නෑ.

ඒ නිසා දුක්ඛ වේදනාවට පස්සෙ සුඛ වේදනාවට ඇවිල්ලා සුඛ වේදනාවෙන් අදුක්ඛමසුඛ වේදනාවට යනකොට මේ චේතනාව ඇණහිටිනවා. චේතනාව එතන එතන නතර වෙනවා. ඕන්න එතකොට ඒ භාවනා කරන කෙනාට හරී පාළුයි. හරීයට නින්දට වැටෙනවා. හරහට යනවා තමන්ගෙ ඉරියව්ව. ඒ මොකද, අර චේතනාවෙන් කරන කුප්පන ගතිය සංස්කරණය කරන ගතිය කටගැස්මක් දෙන ගතිය මනුෂ්‍යයාගෙ හිත අවුස්සන ගතිය එතන නෑ. එන්න ඒ නිසාමයි බණකින් මේක අහලා දැනගන්ට ඕනෑ. භාවනාවේදී යම් වෙලාවක අරමුණ ඒකාකාර වෙනවා නම්, ඒක නීරස ගතියකට පත් වෙනවා නම්, සිද්ධි බහුල නැති තත්ත්වයකට පත් වෙනවා නම් කාරණාව තේරුම් අරගන්ට ඕනෑ එතකොට දුක්ඛ වේදනාව ගිහිල්ලා අරමුණ මූණට මූණ දලා තියෙනවා. අරමුණ නීරසයි. අරමුණ ඒකාකාරී. මොකද මෙතන චේතනාව නෑ. මේකෙ අලුතෙන් පෙන්නන්න දෙයක් නෑ. පිරිසිදු මීපැණි කියලා ගහන්න දෙයක් නෑ. පිරිසිදුව තමයි මීවදේ තියෙන්නේ.

මේ තත්ත්වයට යනකොට අනුන් තමන්ට කරන දෙයක් විතරක් නෙමෙයි, තමන් තමන්ටත් වංචා කරගන්නවා. මෙතෙන්දි නිබ්බිදවට වැටෙනවා හිත. වින්දනය නැතිව යනවා. මෙන්න මේ චේතනාවේ රෝග ලක්ෂණයක් තමයි විතක්කය කියලා කියන්නෙ. යමක් චේතනා කරනවා නම්, මෙහෙයවනවා නම්, ප්‍රයත්න කරනවා නම්, ඒකටම හිත නංවමින් ඒක පිළිබඳව ආකල්ප විකල්ප දැක්වීම තමයි විතක්ක කියලා කියන්නෙ. ඒ බැඳගත්ත බෙරේ ගහන එක තමයි විචාරය කියලා කියන්නෙ. බෙරේ බැඳගන්න එක විතක්කය. විචාරය කියලා කියන්නෙ බැඳගත්ත බෙරේ ගහන එකයි. මලකට බඹරෙක් ඇවිල්ලා වැටෙන එක විතක්කය. බඹරා ඒ රොන් පිට ඇවිදිමින් ඇවිදිමින් රොන් එකතු කරන එක විචාරය.

සණ්ඨාරයකට ගෙඩියෙන් ගහන එක විතක්කය. ගහන සණ්ඨාරයේ ශබ්දය හ්ම්...ම්....ම්...ම්... ගාලා දෝංකාර දෙන එක විචාරය. එතකොට විචාරය කියලා කියන්නේ අර විතක්කයෙන් කරපු දේ නැවත නැවතත් දහස්වර කරමින් ඒකටම හිත මෙහෙයවමින් එයටම හිත මෙහෙයවීමයි. අරක අතගගා සම්බාහනය කරමින් බලන එක තමයි විචාරය කියලා කියන්නෙ.

මේ විතක්ක විචාර දෙකට ආවට පස්සේ ඒ පුද්ගලයා තුළින් විඤ්ඤාණයෙදි කරගත්ත අතින් දන ගතිය, සඤ්ඤාවේදි කරන පරණ සඤ්ඤා එකතු කරලා හොඳ නරක වශයෙන් කළු සුදු වශයෙන් බෙදන ගතිය, ඊගාවට සංචේතනා වශයෙන් කරන දේවල් එළියට වැගිරෙන්න පටන්ගන්නවා. විතක්කයෙදි ඇත්තටම එළියට වැගිරෙන්නෙම නෑ. පරිවුට්ඨාන මට්ටමේ තියෙන්නෙ. කාම විතක්ක ව්‍යාපාද විතක්ක විහිංසා විතක්ක වගේ හිතේ නගිනවා. විචාරයට යන කොට මේක පුපුරන්න කිට්ටු වෙනවා. පුපුරු ගහනවා ඉන්න බෑ. මේ විතක්ක විචාර දෙකේ හොඳි ගලන වෙලාව තමයි, සැරව ගලන වෙලාව තමයි වචනය කියලා කියන්නෙ. වචී සංඛාර කියලා කියන්නේ විතක්ක විචාරවලට. ඒ මට්ටමට එනකොට ඒ පුද්ගලයාට දුන් දරන්ඩ බෑ. කියන්ඩම ඕනෑ පෙන්වන්ඩම ඕනෑ මෙතන අසාධාරණයක් තියෙනවා, මෙතන මගෙ පැත්ත හරි, මෙයාගේ පැත්ත හරි කියලා. මොකද, අර තමන් අතින් දගත්ත කොටස දූන් නිෂ්ප්‍රභා වෙන්ඩ කිට්ටු නම් ඒ පුද්ගලයා ඒකට සාක්කි දීලා ඒක මතු කරන්න උත්සාහ කරනවා. විතක්ක විචාර දෙකේ මේ වැඩපිළිවෙළ නිසා අද ජන මාධ්‍යයේ මුල මැද අග හොයාගන්න බැරි තරම් අවුල් වෙලා තියෙනවා. සත්‍ය අසත්‍ය දෙක කෝකද කියලා හිතාගන්න බැරි වෙලා තියෙනවා. මේ අපේ ඇතුළෙ තියෙන විතක්ක විචාරවල ව්‍යසනයම තමයි. වියවුලම තමයි.

මෙන්න මේක දකින්ඩ නම්, විතක්ක විචාර කියන දෙක ඒකාන්තයෙන්ම තමන්ම ඇති කරගත්ත දෙයක් බව තේරුම්ගන්නට නම්, ඇත්ත වශයෙන්ම සුතමය වශයෙන් අහලා තියෙන්ට ඕනෑ. සාකච්ඡා වශයෙන් සාකච්ඡා කරලා තියෙන්ට ඕනෑ. කැකිල්ලෙ රජ්ජුරුවන්ගෙ නඩු තීන්දුව අපි එද ඉදිරිපත් කරගත්තා. හදිස්සියෙ මනුෂ්‍යයාගේ ගෙයක් පැත්තකට ඇල වෙලා කඩා වැටුණට පස්සේ ඒ මනුෂ්‍යයා රජ්ජුරුවන්ට චෝදනා කරනවා ගේ හදපු කුඹලා වැරදි කෙරුවයි කියලා. ඇත්ත.

රජ්ජුරුවො කුඹලට මරණ දඬුවම නියම කරනවා. කුඹලා කියනවා ඇත්තටම මම මේ මැටි අනන වෙලාවේ ගත්ත කළේ කට ඇද වෙලා. ඒ නිසා වත්කරන්න ඕනැ ප්‍රමාණයට වැඩියෙ වතුර වැක්කෙරුණා. මැටි කඳ බුරුල් වුණා වැඩියි. ඒ නිසා ගේ හදනකොට මැටි බරකමටයි කඩාගෙන හැළුණේ. ඒ නිසා කළේ හදපු මිනිහගෙයි වැරැද්ද තියෙන්නේ. දේවයන් වහන්ස, කරුණාකරලා මම ඒ වැරැද්ද ඇත්ත බව පිළිගන්නවා. මම නෙමෙයි වැරදිකාරයා. ඊට පස්සෙ කුඹලා අල්ලගන්නවා. එහෙම එහෙම දිගින් දිගට දිගින් දිගට කටයුතු කරගෙන කරගෙන ගියහම අන්තිමට බලනකොට එක්කෙනෙක්වත් වැරදිකාරයා නෙමෙයි. අර අහක ඉන්න බඩ මහත තම්බි කෙනෙක් ඉදිරිපත් කරගන්නවා. මොකද, මගුල් ඇතාට පාගලා මරන්න අමාරුයි අන්තිමට අහු වෙච්ච වැරදිකාරයා. ඉතින් නඩුවෙ සියල්ල සාධාරණයි. ඔක්කොම හරි. අහක යන මනුෂ්‍යයෙක් මරලා දානවා. හැම කෙනෙක්ම හේතු දක්වන්නේ මොකක්ද? බාහිර හේතුවක් නිසයි මේක වුණේ.

ඒ නිසා විතක්ක විචාරවලට යනකොට අපි ළඟ පුදුමාකාර විදිහට මේක අනුන්ට හේත්තු කරන්ඩ හදනවා. මොකද දූන් තුවාලෙන් පැහැවලා සැරව එන වෙලාව. වරක් සූචිලෝම යක්ෂයා බුදුරජාණන් වහන්සේගෙන් අහනවා එක එක **රාගො ච දොසො ච කුතොනිදානො** - මේ ඇති වෙන රාග විතක්ක විචාර දෝෂ විතක්ක විචාර කොහෙන්ද හටගන්නෙ? **අරතී රතී ලොමහංසො කුතොජා** - අපි තුළ ඇති වෙනවා භාවනා රතිය, අනික් දේවල්වලට අරතිය. නැත්නම් අනිත් දේවල්වලට ඇති රතිය, භාවනා අරතිය. මේ වගේ දේවල්. නැතිනම් ලෝමහංසය. ලෝමහංස වෙනවා කියන්නේ ඇගේ මයිල් කෙළින් හිටිනවයි කියන එක. ඍජු වෙලා තියෙනවා. මේක කොහෙන්ද එන්නෙ? ඒ වගේම අහනවා **කුතො සමුට්ඨාය මනොවිතක්කා** - හිතට පහළ වෙන විතක්කවල පටන්ගැන්ම කොහෙද? **කුමාරකා ධඞ්කමිවොස්සජන්ති** - කුමාරිකාවන් සෙල්ලම් කරනකොට කැරකිලා ආපහු එන වංකය වාගේ මේ නිදන කොහෙ තිබුණත් මේක අපි ගාවට කැරකිලා එනව නම්, වධ හිංසා පමුණුවනව නම් මේකෙ හටගැන්ම කොහෙද?

සාධාරණ ප්‍රශ්නයක් යක්ෂයා අහනවා. ඒ මොකද, රාග ද්වේෂය පිළිබඳව අපි හුඟාක් වෙලාවට හිතන්නේ රාගජනක අරමුණු නිසා රාගය

එනවය, දෝෂජනක අරමුණු නිසා ද්වේෂය එනවය, මේ ලොමු දැහැගන්නේ අපිට ඕනෑකමකට නෙමෙයි. අපිට ලොමු දැහැගැන්වෙන්න ඕනැකමක් නෑ. මේ අසවලා කරපු දේ නිසයි ලොමු දැහැගැන්වෙන්නේ. එහෙම නැත්නම් අපිට භාවනා රතිය භාවනා අරතිය එන්නේ කට්ටිය භාවනා කරන්නෙ නැති නිසා. නැත්නම් වැස්ස වහින්නෙ නැති නිසා. දඩිය දන නිසා. නානාප්‍ර විදිහට භාවනා රතිය අරතිය අපි විස්තර කරනවා. **කුතො සමුට්ඨාය මනොවිතක්කා** - මනෝ විතක්ක ගැන කිව්වහම මෙලෝ මිනිහෙක් කවදාකවත්ම හිතන්නෙ නෑ මේ විතක්කයට හේතුව ඇතුළෙ කියලා. හිතන්නේම ඒ විතක්ක පහළ වුණේ අහවල් කාරණාව නිසා. නමුත් ඒ කොහොම හිතුවත් ඕක කැරකිලා ඇතුළට වදිනවා. ඒක නිසා **කුමාරකා ධඞ්කමිවොස්සජන්ති** කියනවා. මේ වංක කියන පදය අටුවාවෙදි විස්තර කරන්නෙ කපුටෙක් අල්ලගෙන කකුල නූලෙන් බැඳලා ඌ පියාඹන්න හදලා කකුල ගස්සනකොට ඌ ආපහු ඇදගෙන වැටෙන්නා සේ.

මම එදත් කිව්ව වගේ මට හිතුණා මේ වංක කියන පදය හුඟාක් ගැළපෙනවා භූමරංගයට .මේ වංක කියන පදය පාවිච්චි වෙනවා විනයෙත්. කුඩා නගුලෙන් කෙළින්නා සේ කියලා තමයි එතන අර්ථය දෙන්නේ. බූමරංගය ගියහම ඒක කැරකිලා ආපහු තමන්ගෙ මුලට වැටෙන්නා වගේ රාග ද්වේෂ, ඒ වගේම රති අරති ලෝමහංස මනෝ විතක්ක කියන දේවල් ඇතුළින් හටගන්නේ. සර්වඥයන් වහන්සේ උත්තර දෙනවා,

**රාගො ච දොසො ච ඉතොනිදානා**
**අරතී රතී ලොමහංසො ඉතොජා,**
**ඉතො සමුට්ඨාය මනො විතක්කා**
**කුමාරකා ධඞ්කමිවොස්සජන්ති.**

ඊට පස්සේ බොහෝම ලස්සනට සර්වඥයන් වහන්සේ පෙන්වනවා රාග දෝෂ මෝහ රති අරති ලෝමහංස මනෝ විතක්ක කියන මේ දේවල් **ස්නෙහජා අත්තසම්භූතා** - ඇතුළතින්ම හටගත්ත ඇතුළත සිනේහයෙන්මයි මේවා වැඩෙන්නේ.

ඒ වාගේම **නිග්‍රොධසෙසව ඛන්‍ධජා** - මේ නිග්‍රෝධ කියන ගහේ - ඒ කියන්නෙ නුග ගහේ - අරළු බහින්නා සේ. අරළුව බහින්නේ උඩ ඉඳලා පල්ලෙහට, ඒක ගහේ නිෂ්පාදනයක්. ඇටෙන් කඳ නගින එක ඇටේ නිසා කඳ හැදීමක්. මෙතන වෙලා තියෙන්නේ කඳෙන් අරළු බහින එක. ඒ අරළුව අන්තිමට මුල් කඳ වසා ලන්නා සේ, අර පිටින් ඇති වෙන විතක්ක විචාර එනකොට අපිට මතක නෑ මේ විඤ්ඤාණ මට්ටමේදීම අපි මොනවදෝ මේකට දැම්මා, ඒක ඔප්පු කරන්නයි මේ දඟලන්නේ කියන එක. ඒ වගේම තමයි **පුථු විසත්තා** මේ පෘථග්ජන වූ විසත්ත සත්ත්වයෝ මෙන්න මෙච්චට බැඳෙනවා.

මේක අයින් කරගත්තා නම්, මේ බව දැනගත්තා නම් එතනම එයාට නිවන් සැප ලැබෙනවා. එහෙම නැත්නම් මේ කවුරුත් කරන දෙයක් නෙමෙයි. හැම චිත්ත වීථියකදීම මුල මේ කෙලෙසන ගතියක් - අපිම මේකට මුහුන් දැමිල්ලක් කරනවා. අන්තිමට දැවිල්ල ආවට පස්සේ නම් අපට පේන්නෙ අල්ලපු ගෙදර එක්කෙනා හූනියන් කරලා තියෙනවා. අසවලා මට වෛරකමට තරහකමට මේක කරලා තියෙනවා. ඒක කවුරු හරි ඔප්පු කරන්න හැදුවත් මේ පුද්ගලයා පුදුමකාර වෙහෙසකට පත් වෙනවා. මොකද, අර කලින්ම ගත්තු තමන් එකතු කරගත්ත දේ දැක්කා කියලමයි හිතේ තියෙන්නෙ. ඇහුවා කියලමයි හිතේ තියෙන්නෙ. අහපු දේ අඩු පාඩු තියෙනවා ඒකට මම අතින් දලයි මේ චිත්‍රය මවාගත්තෙ කියන එක දැකගන්ට කැමති නෑ.

ඒක නිසා සර්වඥයන් වහන්සේට මහා බරපතළ තැනකට යෝගාවචරයා භාවනාවෙන් ගෙන්වන්ඩ සිද්ධ වුණා. ඒ අනුව, මේක නිසාම පුළුවන් තරම් ශීලයෙදි දුක්ඛ වේදනා අඩු වන සුඛ වේදනා ගෙන දෙන බරපතළ චේතනා අඩු තැනකට විපස්සනා යෝගාවචරයො ගේන්න සිද්ධ වෙනවා. මොකද, මේකට අහු වෙලා වේග වෙලා වද වෙන වෙලාවෙදි මේ වගේ දැනුමක් අවබෝධ කරගන්න අමාරුයි. ඊට පස්සේ කියාදෙන්න වෙනවා මේ සුඛ තැන ඉඳලා සුඛ දුක්ඛ දෙකම නැති උපේක්ෂාවට යන එක ගැන. උපේක්ෂාවට ගියාම චේතනා පුළුවාන් තරම් අඩුයි. අරමුණට ඔහේ මූණ දගෙන ඉන්න පුළුවන්. බොහෝ වෙලා ඉන්ඩ පුළුවන්. එතකොට තමන්ට තේරෙන්න පටන් අරගන්නවා මේකෙ රසවත් බවක් නෑ. සිද්ධි බහුල භාවයක් නෑ. එතකොට නින්දට වැටෙනවා. යෝගාවචරයා දක්ෂ නම්, විපස්සනා යෝගාවචරයෙක් නම්

තේරුම්ගන්න ඕනැ තදබල දුක තියෙන වෙලාවෙදි අපට චේතනා වැඩපිළිවෙළවල් විතක්ක වැඩපිළිවෙළවල් විඤ්ඤාණ වැඩ පිළිවෙළවල් දකින්න බෑ. ඒක හරියට බලවත්ව වේගෙන් වැඩ කරන විදුලි උත්පාදක යන්ත්‍රයක් වාගේ. එතකොට යන්ත්‍රය අඳුනාගන්න අමාරුයි. යන්ත්‍රය නතර කරන්න ඕනෑ. නතර කරලා හෙමීහිට කරකවනකොට දැනගන්න ඕනැ මේකෙ කෑලි වැඩ කරන්නේ මෙහෙමයි කියලා. අන්න ඒ වගේ දුක්ඛ වේදනාව ප්‍රහාණය කරන්න ඕනැ සුඛ වේදනාවෙන්. සුඛ වේදනාව අදුක්ඛම සුඛ වෙදනාවෙන්. වෙන විදිහකට කියනවා නම් නරක හොඳින් අයින් කරන්න ඕනැ. මේකට නම් දෑතම උස්සලා ඡන්දෙ දෙන්න හුඟදෙනෙක් කැමතියි. නමුත් අවාසනාවට හෝ වාසනාවට සර්වඥයන් වහන්සේ කියනවා මේ හොඳත් අයින් කරන්ට ඕනැ, හොඳ නරක දෙක නැති තැනට යන්න.

ඔතෙන්ට ගියාට පස්සෙ ප්‍රධාන සටන, ආගම සහ ධර්මය අතර සටන, පුද්ගලයාගේ ඇතුළෙ මොළය සහ හෘදය වස්තුව අතර සටන දිගටම පටන්ගන්නවා. හුඟදෙනෙකුට අවශ්‍ය වෙලා තියෙන්නෙ හොඳ වෙන්ඩ. හොඳින් වඩා හොඳ තෝරන්න යනකොට ලෝකය හරියට මොන්ටිසෝරි පංතියක් වාගේ. පුදුමාකාර **කථංකථී** භාව **තුවංතුවං** භාව **පෙසුඤ්ඤ** භාව, මේ 'හොඳ' බේරගන්ට. නමුත් හොඳට වඩා හොඳක් තියෙනවා. ඒකට තමයි වඩා හොඳ කියලා කියන්නෙ. ඒකට තමයි උපේක්ෂාව කියලා කියන්නේ. අන්න එතෙන්ට ගියොත් විතරක් මේ මනෝ විතක්ක ඇති වෙන හැටි, චේතනා පහළ වෙන හැටි, විඤ්ඤාණය අපිට මේ ඇස්බැන්දුම් කරන හැටි, සංඥාව අපට මිරිඟුවක් වශයෙන් පෙනෙන හැටි, රූපය පෙණ පිඬුවක් වගේ වෙන හැටි, සංස්කාර නැත්නම් චේතනා කෙසෙල් කඳක් වාගේ පතුරු ගහන්න පුළුවන් ස්වරූපය හොඳට පේන්න පටන් අරගන්නවා.

මේකට හේතුව තමයි එතකොට මේවා සුඛය සුභය ආත්මය වශයෙන් බදගන්න අල්ලගන්න කෙනෙක් ඇත්තෙ නෑ. ඒ පුද්ගලයට තියෙන්නේ ධර්ම කොටස් වශයෙන් මේවා කපලා කොටලා බලන එකයි. ආන්න ඒ මට්ටමට එනකොට නම් ඒක දකින්ඩ නම් පටිච්ච සමුප්පාදය අත්‍යවශ්‍යයි. එතකොට නම් බුදුහාමුදුරුවො පේනවා. ධර්මය දකිනකොට බුදුන් පේනවා. ඊට පස්සේ තැන් තැන්වලට ගිහිල්ලා වන්දනා කරන්ඩ අවශ්‍යත් නෑ. ඒ හද ඇතුළේ බුද්ධ වන්දනාව සිද්ධ වෙනවා. එතකොට

බුද්ධානුස්සති භාවනාව කියලා අලුතෙන් කරන්න දෙයක් නෑ. ඒකට තමයි බුද්ධානුස්සති භාවනාව කියන්නේ. ආන්න ඔතෙන්ට එනකොට හරියට රණ්ඩු. ඕකට තමයි නිකාය භේදයයි භාවනා ක්‍රමවේදයි. ඒ වගේම නා නා ප්‍රකාර දේවල් මතු වෙලා තියෙන්නේ ඔන්න ඔතන.

ඒ නිසා සර්වඥයන් වහන්සේ ඒ යක්ෂ සේනාධිපතියට දේශනා කරනවා යම් කිසි කෙනෙක් විතක්ක විචාර දිගේ ගිහිල්ලා ප්‍රපංච කරලා තමන්ම තමන්ගේම හිතුවිලි රාශියෙන් මැදි වෙලා වට වෙලා පැටලිලා පඹ ගාලේ පැටලුණා වගේ කියන කතාව යම් කිසි කෙනෙක් ඒ විදිහට දන්නව නම් ඔහු කවදාකවත් ඊට පස්සේ මේ වගේ විතක්ක ඇති කරන්නෙ නෑ. ඒකෙ නිදානය දන්නවා නම් කවදාකවත් ඇති කරන්නේ නෑ. යක්සයට කියනවා උඹ දැනගනින්, මෙන්න මේක තමන්ම ඇති කරගත්ත අවුලක් බව දන්නවා නම් ඒ පුද්ගලයට කවදාකවත් ආයේ එන්නෙ නෑ. ඒ පුද්ගලයා තරණය කරන්න අමාරු මේ දුෂ්කර වූ සංසාරේ තරණය කරනවා. පෙර නොතිබුණු ආයෙ නැවත නූපදින තත්ත්වයකට පත් වෙනව.

ඒකෙ හැබැයි එක චිත්ත වීථියයි වැඩේට තියෙන්නේ. ඒ නිසා කියනවා අකාලිකයි කියලා මේක යම් කොටසක යම් තැනක යම් මොහොතක තේරුම්ගත්ත නම් එතනදිම දුක ඉවරයි. වෙන විදිහකට කියනවා මේකට තදංග නිබ්බුතිය කියලා. එක චිත්තක්ෂණයක හෝ අහන වෙලාවෙදීම මම දැන් අහනවා, නුපුරුදු ශබ්දයක්ද ගැහැනු ශබ්දයක්ද වමෙන්ද දකුණෙන්ද කියන කිසිම අඩුපාඩුවක් නැතිව පූර්ණ කාලීන ඇහීම සිද්ධ වෙනවා නම් ඒ පුද්ගලයා ඒ ශබ්දය නිසා ආයේ කෙලෙස් පහළ කරන්නෙත් නෑ. සංඥා ඇති කරන්නෙත් නෑ. චේතනා කරන්නෙත් නෑ. විතක්ක විචාරත් නෑ. ඇහීම සිද්ධ වෙනවා නම් එතනත් නෑ මෙතනත් නෑ ඒ දෙක අතරත් නෑ. එතන දුකේ කෙළවරයි.

බාහිය දරුචීරියට කීවෙත් ඇහීම ඇහීම මට්ටමෙන් නතර කරන්න. දැකීම දැකීම මට්ටමෙන් නතර කරන්න. ගඳ සුවඳ බැලීම රස බැලීම ස්පර්ශ කිරීම එතනින්ම නතර කරන්න. ඒ පිළිබඳව කතා බහුල භාවයට යන්න එපා. විතක්ක විචාර බාහුල්‍යයට යන්න එපා. ඒක ප්‍රපංච කිරීමක්. ඒක රාග ද්වේෂ මෝහ වැඩීමක්. මේක තමයි සංසාරෙ කියන්නේ. ඒ නිසා **දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති** දැකීම දැකීම පමණින් නතර කරන්න. ඒ වගේම ඇහීම ඇහීම පමණින් නතර කරන්න. ගඳ සුවඳ බැලීම

රස බැලීම එතනින් නතර කරන්න. කල්පනා කෙරිල්ල එතනින් නතර කරන්න. ඒක පුළුවන්. නැත්නම් සර්වඥයන් වහන්සේ මෙහෙම කියන්නේ නෑ. ඒක පැහැදිලිවම ප්‍රකාශ කරලයි තියෙන්නේ. ඒක පුළුවන්. ඒකයි ඔබේ ශික්ෂණය විය යුත්තේ. එහෙම නැතිව තමන් මේකට අලුතෙන් මුහුන් දලා පැහුණට පස්සේ ඒක ඔප්පු කරන්න රට රාජ්‍යවල ගිහිල්ලා ඉවර වෙලා තැන් තැන්වල අනුනුත් පටලවාගෙන මේ කරන දේශනාවට වඩා ඉතාමත්ම වටිනාකමක් තියෙනවා ඇතුළට බණ කියන එක.

මෙන්න මේ විදිහට චිත්ත වීථියක මුලදිම තමන් අනිවාර්යයෙන්ම ඒක කෙලෙසනවා. ඒ දේවල් තමයි අන්තිමට තමන් කෙලෙසන්නේ කියන බව දැනගන්ඩ ඉතාමත්ම මන්දගාමීව චිත්ත වීථිය දුවන්ඩ ඇරලා සති සම්පජඤ්ඤයට ලක් කළහම තමන් කොතනදීද මේකට අහු වෙන්නෙ, තමන් කොතනදීද මේක කෙලෙසන්නෙ, තමන් කොතනදීද මේක අවුල් කරන්නෙ, නැත්තම් සිංහලෙන් කියනවා නම් අනාගන්නෙ? අන්න ඒක දකින එකට තමයි පටිවිපස්සනාව කියලා කියන්නෙ. සිතුවිල්ලක් පහළ වෙච්චි ගමන් ඊගාවට පහළ වෙන සිතුවිල්ලෙන් දැනගන්නවා ඉස්සර වෙලා චිත්ත වීථියෙදි මන් මෙන්න මෙතනදි අනාගත්තා. සමහර වෙලාවට අපි මේකට අහු වෙන්නෙ විතක්ක විචාර මට්ටමේදි. නමුත් හොඳට භාවනාව දියුණු වෙනවා නම් චේතනා මට්ටමේදීම අල්ලන්ඩ පුළුවන්. විතක්ක විචාරවලට එනකොට චේතනාවල සැරව. බැඳගත්ත බෙරේ ගහන වෙලාව විතක්ක විචාර කියන්නෙ. නමුත් ඒකෙ චේතනාව පහළ වෙනකොටම අල්ලන්න පුළුවන්. එතකොට අපිට තේරෙන්න පටන් අරගන්නවා මේකම තමයි මේ ඉස්සරහ භාවනා කරන කෙනාටත් වෙන්නෙ. ඊයෙත් මට වුණේ ඕකයි. සතිය සම්පජඤ්ඤය නොවුණොත් හෙට වෙන්නෙත් ඕකයි.

ඒ නිසා චේතනා පහළ වුණොත් ඒ කියන්නේ අපේ ගඳ ගස්සනවා කියන එක. අපි ඒක අනනවා. අපිට කර්ම රැස් වෙනවා. අපිට සංසාරයක් ලැබෙනවා. චේතනා නැතිව ඒක දකින්ට නම්, ඇත්ත ඇති හැටියට දැකීමට, යථාභූත ඥාන දර්ශනය පහළ වෙන්ට නම් චේතනා මට්ටමටත් කලින් මේ චිත්ත වීථිය දිගට යන්න ඕනෑ. ඒකෙදි තමයි සාමාන්‍ය භාවනා ක්‍රමයට කියන්නෙ දකින චිත්තක්ෂණයේදීම දකින බව මෙනෙහි කරන්න. අහන චිත්තක්ෂණයේදීම අහන බව මෙනෙහි කරන්න. ගඳ සුවද රස බලන වෙලාවක ඒක මෙනෙහි කරන්න. පිම්බීම

හැකිළීම වෙන වෙලාවෙදිම ඒක මෙනෙහි කරන්න. හිතට විතක්ක විචාර පහළ වෙනවා නම් ඒකත් හිතේ කාලයක් තිස්සේ ඇති වෙච්ච ඇබ්බැහියක්. නැත්තම් සූදුවක්. නැත්තම් මතියක් මතයක් ප්‍රමාදයක් මදයක්. ඒක ඒ වුණාට ප්‍රශ්නයක් නෑ. ඒ එක එකක් මෙනෙහි කරන්න. මෙනෙහි කරගෙන කරගෙන යනකොට මේකෙ අඩු වීම වෙන්ඩ පටන්ගන්නවා. ඒ අඩු වීම වෙච්චි දවස වෙනකොට තමන්ට තේරෙන්න පටන්ගන්නවා තණ්හාව උපදින්නෙ ඇහේ රූපය නිසා චක්ඛු විඤ්ඤාණය. එතන ඉඳලා පහළ වෙන සබ්බ චිත්ත සාධාරණ කියන සැම දේම මේක කසකවනවා. කසකවලා අන්තිමට තමන්ට දරාගන්න බැරි මට්ටමට පත් වෙනවා විතක්ක විචාරවලට එනකොට. එතකොට අපි යනවා දෙස්තරලා කේන්දර පේන කියන මනුෂ්‍යයින් ගාවට. නා නා ප්‍රකාර ක්‍රමවේද හොයන්න පටන්ගන්නවා.

ඒ නිසා විපස්සනා යෝගාවචරයට විතරක් කණ්ණාඩිය අතට දීලා පෙන්වනවා මේන්න පටන්ගන්න තැන. ඉතින් මේක ඉතාමත්ම වෙහෙසකර වැඩක්. ඒ මොකද, තමන්ගේම තියන කෙලෙස් තමන්ටම ඒ ඒ චිත්තක්ෂණයෙ ඇති වෙන හැටි පෙන්වනවා. ඒ නිසා මේක පිට කෙනෙක් පෙන්නුවොත් මේක විශාල භයානක දෙයක්. තමන්ටම පෙන්වන්න පුළුවන්. ඒ නිසා ඒ ඒ වෙලාවෙ ඇති වෙන ධර්ම කොටසක් තියෙන්නෙ. පටිච්ච සමුප්පන්න බවත් තමන්ම කෙලෙසෙන බවත් ඇතුළෙන් හටගන්නා බවත් තේරුම්ගන්ඩ නම්, සතිපට්ඨාන සූත්‍රයේ සඳහන් කාරණා මධුපිණ්ඩික, ද්වෙධා විතක්ක, විතක්ක සණ්ඨාන ආදී සූත්‍රවල සඳහන් කාරණාවල ආලෝකයෙන් විස්තර කරගන්ට ඕනැ.

මම හිතන්නෙ නෑ අපිට මීට වැඩියෙ අද කාලය තියෙනවයි කියලා. ඉතින් මං බලාපොරෙත්තු වෙනවා මෙතනින් අපේ ධර්ම සාකච්ඡාව ධර්ම දේශනය නතර කරන්න. මෙයින් අපේ සතිපට්ඨාන සූත්‍රයේ සමුදය සත්‍යය සම්බන්ධව ඉදිරිපත් කරන අවසාන පුරුකත් අපි අද සාකච්ඡා කරගත්තා. අපි කරගන යන වැඩවලට මේකෙ ආලෝකය ලැබිලා අපිටම අපි ධර්ම ආදසයක් වේවා, අපිටම අපි ගුරුවරයෙක් වේවා අපේ චිත්ත වීථියම අපිට නිවන් වීථියක් බවට පත් වේවා කියලා ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරන්න බලාපොරොත්තු වෙනවා.

# ධර්මදේශනා සකස් කිරීමට සහාය දුන් පින්වතුන් හට කරන පුණ්‍යානුමෝදනාව

අප අරණ්‍ය සේනාසනයේ භාවනා වැඩසටහන් සම්බන්ධීකාරක මහත්ම මහත්මීන්ගෙන් මීට ඉහතදී කරන ලද ඉල්ලීමක් අනුව, ආරණ්‍ය සේනාසනයට සම්බන්ධ දයක දයිකා බොහෝ පිරිසක් ධර්ම දේශනා පිටපත් කිරීම, නිවැරදි කිරීම, ටයිප් කිරීම ආදී කටයුතුවලින් අපට උපකාර කළහ. මෙම දේශනා කාණ්ඩය ඉතාම කෙටි කාලයකදී ඔබ අතට පත් වන්නේ ඔවුන් අපට දක්වූ එම කාරුණික සහයෝගයේ ප්‍රතිඵලයක් වශයෙනි. ඉදිරි කාණ්ඩද මෙලෙස ඔබ අතට පත් කිරීම අපගේ අභිලාෂයයි.

ඒ කරන ලද මහඟු කාර්යය වෙනුවෙන් පහත නම් සඳහන් දයක දයිකාවන්ට අපගේ ගෞරවය ප්‍රණාමය පුද කරමු. මෙම නාම ලේඛනය සකැසීමේදී කිසි යම් අතපසු වීමක් සිදු වී ඇතොත් ඒ ගැන අපගේ කනගාටුව ප්‍රකාශ කරන අතරම, එම අතපසු වීම් දන්වා එවන මෙන් ගෞරවයෙන් ඉල්ලා සිටිමු. ඉදිරි කාණ්ඩවලදී ඒවා නිවැරදි කිරීමට අපි බලාපොරොත්තු වෙමු.

- අනුලා ප්‍රේමචන්ද්‍ර සොයුරිය - ඩනෙඩින්, නවසීලන්තය
- අයිරින් සුබසිංහ සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- භාමනී කුමාරසේන සොයුරිය - මහරගම
- පද්මා රත්නායක සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- ඩොරීන් වීරසිංහ සොයුරිය - බත්තරමුල්ල
- තශිකා මහනාම සොයුරිය - අලුබෝමුල්ල
- එම්. මාරසිංහ සොයුරිය - මාලබේ
- උදේනි තිලකරත්න සොයුරිය - නක්කාවත්ත

- මාලනී වික්‍රමාරච්චි සොයුරිය - උදම්මිට
- ලිලන්ගා බාලචන්ද්‍ර සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- මැණික් බස්නායක සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- ගංගා ජයවික්‍රම සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- පද්මා සමරතුංග සොයුරිය - උඩහමුල්ල
- ඩයනා සමරසිංහ සොයුරිය - කෑගල්ල
- නන්දනී වනිගසේකර සොයුරිය - ඕක්ලන්ඩ්, නවසීලන්තය
- අරුණ ලක්මාල් සොයුරා - නවසීලන්තය
- ඉෂංකා සමරවීර සොයුරිය - හෝමාගම
- ලක්මාල් නන්දසිරි සොයුරා - මාබෝදල
- විජෙ අලංකාරගේ සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- විමල් ගමගේ සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- බන්දු ගමගේ සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- චමිලා ජයවර්ධන සොයුරිය - සිඩ්නි, ඕස්ට්‍රේලියාව
- ප්‍රියංකා මොල්ලිගොඩ සොයුරිය - බොරලැස්ගමුව
- නදීෂා දිලිනි සොයුරිය - ඇඹිලිපිටිය
- අනූෂා ගුණරත්න සොයුරිය - කුරුණෑගල
- උදනී හිරන්තිකා සොයුරිය - කැළණිය
- නදීෂා සමරකෝන් සොයුරිය - උලපනේ
- දමිත් අමරකෝන් සොයුරා - බියගම
- ඉසුරු කොඩිතුවක්කු සොයුරිය - රාවතාවත්ත, මොරටුව
- ෂෙහාන් සංජන සොයුරා - මීතිරිගල

- සුනීතා දිසානායක සොයුරිය - කොළඹ
- ගයනි සුමතිපාල සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- මදුෂානී නිමේෂා සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- මදුෂ්කා අලුත්ගේ සොයුරිය - සිඩ්නි, ඕස්ට්‍රේලියාව
- දිලිනි ද අල්විස් සොයුරිය - සිඩ්නි, ඕස්ට්‍රේලියාව
- සුරන්ගනී සමරසිංහ සොයුරිය - බ්‍රිස්බේන්, ඕස්ට්‍රේලියාව
- ධම්මිකා වෙල්ගම සොයුරිය - මැදගොඩ, නාත්තන්ඩිය
- සුනිල් රත්නායක සොයුරා - මැදගොඩ, නාත්තන්ඩිය
- මල්කාන්ති ජයසිංහ සොයුරිය - නුගේගොඩ
- චම්පා කන්නන්ගර සොයුරිය - මහරගම
- දේවිකා මෙන්ඩිස් සොයුරිය - නාවල
- නිලූ දිසානායක සොයුරිය - තලවතුගොඩ
- රෝහිනී හෙට්ටිගේ සොයුරිය - ඕක්ලන්ඩ්, නවසීලන්තය
- අනුරුද්ධ ප්‍රියංකර සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- ඕශානී පෙරේරා සොයුරිය - නුගේගොඩ
- මදරා විමලරත්න සොයුරිය - කැලනිය.
- චතුරිකා කාරියවසම් දුව සහ මනෝහාරී දුව ඇතුළු ටයිප් කිරීමෙහි යෙදුණ කණ්ඩායම
- සමන් සොයුරා සහ කුමුදු සමරනායක සොයුරිය - හෝමාගම, ධර්ම දේශනා ටයිප් කර දී එම දයකත්වය දැරීම වෙනුවෙන්
- චේතක ජයසෝම පුතා ඇතුළු (කොලිටි ප්‍රින්ටර්ස්) සහායක කණ්ඩායම

ඒකායනො අයං, භික්ඛවෙ, මග්ගො සත්තානං විසුද්ධියා,
සොකපරිද්දවානං සමතික්කමාය, දුක්ඛදොමනස්සානං අත්ථඞ්ගමාය,
ඤායස්ස අධිගමාය, නිබ්බානස්ස සච්ඡිකිරියාය,
යදිදං චත්තාරො සතිපට්ඨානා.

ISBN 978-624-5512-29-4




Quality Printers
0114870333